## පිළිගැන්වීම

මා ඇදුරු සීනාදී සිව් කෝරළේ
උප ප්‍රධාන සංඝනායක විනයාචාර්‍ය්‍ය
පණ්ඩිත දරණාගම සුගත පාලාභිධාන
නායක ස්ථවිර පාදයන් වහන්සේට
නමස්කාර පූර්වකව පිදෙන බැති කුසුමකි.

# පෙරවදන

චන්ද්‍රදාස කහඳවආරච්චි මහතාගේ මේ ප්‍රයත්නය සිංහල පාඨකයාට සාමාන්‍යයෙන් කියවීමට නොලැබෙන ආකාරයේ ග්‍රන්ථයක් සම්පාදනය කිරීමක් ලෙස හැඳින්විය හැකිය.

'සිංහල දීපවංශය' නම් මේ කෘතිය පාලි උපවංසයේ පරිවර්තනයක් නොවේ. කතුවරයා පවසන පරිදි මෙය 'පාලි දීපවංසය' ඇසුරුකරමින් එහි එන කිසිදු අදහසකට බාධාවක් නොවන සේ සමහර කරුණු සවිස්තරව ද සමහර කරුණු සංක්ෂිප්තව ද ඉදිරිපත් කර ගනිමින් සම්පාදනය කරන ලද්දකි. මේ අනුව නම් මේ කෘතිය මුල් පාලි දීපවංසයට ඇතුළත් කරුනුවලට අමතර ඇතැම් කරුණු ලැබුවේ පැරණි අටුවා ග්‍රන්ථවලින් විය හැකිය.

කෙසේ වෙතත් මේ පොතෙන් පාලි දීපවංසයේ සංග්‍රහ වන සියලු කරුණු සිංහල පාඨකයාට ලබා ගත හැකි වනසේ මේ කෘතිය සම්පාදිත බව පෙනේ.

මේ රටේ ඈත ඉතිහාසය වාර්තා කෙරෙන වංසකථා දෙකක් අපට තිබීම අන් බොහෝ රටවාසීන්ට නොමැති භාග්‍යයකි. ඒ පොත් දෙක නම් පාලි දීපවංසය හා පාළි මහාවංසයයි. මෙයින් පළමුවැන්න ක්‍රි. ව. සතරවන ශතවර්ෂයේදී පමණ ද අනෙක ඊට අවුරුදු සියයකට දෙකකට පමණ පසුවද රචිත සේ සැලකිය හැකිය. මේ පොත් දෙකේම ඉංග්‍රීසි භාෂාමය පරිවර්තන ඇතත් සිංහල පාඨකයාට ඒ පොත්වලට සමීපවීමට ඇති ඉඩකඩ අල්පය. පාලි මහාවංසයේ සිංහල පරිවර්තනයක් ඇතත් දීපවංසයේ පරිවර්තනයක් නම් අපට නොමැත.

මේ අඩුපාඩු සම්පූර්ණ කිරීමෙන් චන්ද්‍රදාස කහඳවආරච්චි මහතා සිදුකර ඇත්තේ අගනා ශාස්ත්‍රීය මෙන් ම ජාතික සේවාවක්ද ද වෙයි.

මේ සිංහල කෘතිය පාලි දීපවංසයට බොහෝ දුරට සමීප වනබව පෙනේ. එසේ නම් මෙය අගනා සිංහල ග්‍රන්ථයක් වනු නොඅනුමානය.

**මහාචාර්ය ජ්. වී. සුරවීර**
*සංස්කෘතික හා ආගමික කටයුතු පිළිබඳ නියෝජ්‍ය අමාත්‍ය හා ගම්පහ දිස්ත්‍රික් පාර්ලිමේන්තු මන්ත්‍රී.*

| පටුන | පිටුව |
| --- | --- |

**දීපවංශයගැන......**

ලක්දිව වංශ කතා ඉතිහාසයේ පැරණිම වංශ කතාව දීපවංශයයි. එය වංශ කතාවක් සැකසීමේ ප්‍රථම ප්‍රයත්නයද වේ. පෝරාණාචාර්යවරුන් ඈත අතීයේ සිටම අටුවා හා ඓතිහාසිකවෘතාන්ත කටපාඩමින් හා මනෝතලගත භාවයෙන් විකාශනය කරවූ බව ආදිතම වංශ කතාවන් ගෙන් හෙළිවේ. මෙම වංශ කතාවන්හි අන්තර්ගතයන් මනඃ කල්පිතයන් නොව සත්‍යයෙන් පිරුණු ඒවා බව උගතුන් විසින් පිළිගෙන තිබේ. දීපවංශය වැදගත් ඓතිහාසික මූලාශ්‍රයක් වශයෙන් පිළිගත හැක්කේ ඓතිහාසික සත්‍ය තාවයේ තොරතුරු වැදගත් බවින් හා ශාස්ත්‍රීය භාෂා මාධ්‍යයන්ගෙන් සකසා ඇතිහෙයිනි. එසේම දේශිය හා විදේශීය වාර්තාවන් සමගද එහි කරුණු ගැලපේ.

දීපවංශයේ කාලය හා කර්තෘ පිළිබඳ ගැනෙන තොරතුරු මතභේදයට තුඩුදී තිබේ. පුරාවිද්‍යා හා ඓතිහාසික ගවේශකයෝ මේ පිළිබඳව විවිධ අදහස් දක්වති. මේ පිළිබඳව අදහස් දක්වන ඕල්ඩන්බර්ග් මහතා මෙය ක්‍රි. ව: 4 වන සියවසටත් 5 වන සියවසටත් අතර මුල් අවුරුදු 33 තුළ සකසන්නට ඇතැයි අදහස් කරයි. නමුත් ඒ මහතා ව්‍යාකූලත්වයෙන් තොර විකල්පයක් එයට දක්වන බවක් නොපෙනේ. කෙසේ වෙතත් මහාචාර්‍ය ගුණපාල මලලසේකරයෝ එම අදහස ඉවත දමති. ඔහු පෙන්වා දෙන්නේ 4 වන සියවස මුල නොලියූ බවයි. එසේ වුවත් බුද්ධදත්ථාචාරීන් වහන්සේ මේ පිළිබඳව අවස්ථා කීපයක් උපයෝගී කර ගණිමින් අදහස් ගෙන හැර දක්වති. එහෙත් බුදුදත් හිමියන් දක්වන ඇතැම් කරුණු විද්‍යාමාන පෙළ පොත් අන්තර්ගතයන්ට වඩා වෙනස්වනු දක්නට ලැබේ. එම ප්‍රතිවිරෝධතාවයන් කාලනිර්ණ තුළනයේදී එතරම් ප්‍රභේදයකට ලක්නොවේ. සමහරවිට යම් විකල්පිය ලක්‍ෂණ ස්ථාපිතව ඇත්තේ මෙයට බොහෝ කලකට පෙර රචනාකර ඇති නිසා විය හැකිය. මේ හැරුණු විට ධාතුසේන රජතුමා එකල පැවති මිහිදු උත්සවයේ දී දීපවංශය කියවීමට නියෝග කළ බව

මහාවංශයේ දක්නට ලැබේ. මෙයින් පැහැදිළි වන්නේ මෙය සාම්ප්‍රදයිකව මිහිදු උත්සවයේදී හත්ති ගීතිකාවක ආකාරයෙන් ගායනා කරන්නට ඇති බවත් මෙම අර්ථවත් ජාතික ගී රාවය ජනී ප්‍රසාදනය සඳහා පැවති බවත්ය. මෙම ප්‍රසාදනී ගීතය වඩාත් අර්ථවත් වන්නට ඇත්තේ ධාතුසේන රජතුමා සතුරු ආක්‍රමණික යුගයක විසූ නිසා විය හැකිය. තවද මෙයින් තව දුරටත් පැහැදිළිවන්නේ වඩාත්සාහිත්‍යමය අගයකින් හා වර්ණිත සංකල්පය කින් සැදුම් ලත් මහා වංශය මේ වනවිට සැකසී නොතිබු බවයි. මහානාම හිමියන් මහාවංශය ලිවීමට පොළඹවන ලද්දේ මෙම දීපවංශ පාඨයන් වූවාටද සැකයක් නැත. මෙම නිසා ධාතුසේන රජතුමා රාජ්‍ය නියෝගයක් වශයෙන් මෙහි ගාථා ගීතිකා වශයෙන් කියවීමට අණ කරන්නට ඇත.

දීපවංශයේ භාෂා මාධ්‍ය දෙස බැලීමේදී ඉතාම පැරණි භාෂා ලක්‍ෂණ මෙහි තිබෙන බව පෙන්වා දිය හැකිය. අශෝකයන් විසින් කරවන ලද ක්‍රි.පූ.3වන සියවසට අයත් සෙල්ලිපි පාඨවල එන භාෂා ලක්‍ෂණයන් මෙම අන්තර්ගතයේ දක්නට ලැබේ. සමහර විට මාතලේ අළුලෙන් විහාරයේ ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කරන අවදියට ආසන්න අවදියක සිටම අට්ඨකතා අනුව යමින් කිසියම් මහාවිහාරීය යතිවරුන් පිරිසක් මෙය පරම්පරානු ගතව ලේඛණගත කෙරෙමින් පැමිණෙන්නට ඇතැයි සිතීමට පුළුවන. විවිධ රචනා ලක්‍ෂණ මෙහි දක්නට ලැබෙන හෙයින් එය වඩාත් තහවුරුවේ. තවද අටුවාචාරින් වහන්සේලා මතක සටහන්තුළ ත්‍රිපිටකය රැ ගෙන ඒමේදී ඒ ඒ ත්‍රිපිටක ග්‍රන්ථ අවසාන කොටසේ ඓතිහාසික ලේඛණ සංග්‍රහයක සටහන්ද මනෝසංග්‍රහයෙහි පැවැත්වූහ. එම පාඨ ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කරන අවදියේදී මෙම දීපවංශයට ගත් බවද පෙනීයයි. ඒ අනුව එය රචනාවන්නට ඇත්තේ හෙළ භාෂාවෙන් විය හැකිය. එම නිසා ඉපැරණි ඓතිහාසික තොරතුරු මෙහි සංග්‍රහවූවාව සැක නැත. මෙසේ පවත්වාගෙන පැමිණි හෙළදිව් වංශ කතාව යතිවරයන් වහන්සේ නමක් අවසන් කොටස රචනා කරන්නට ඇත. ඒ බව වඩාත් තහවුරු වන්නේ මෙහි භාෂා මාධ්‍යයතුළිනි.

දීපවංශය පිළිබඳ අදහස් දක්වන විල්හෙල්ම් ගෛගර් මහතා ලංකාවේ ජනශ්‍රුතියේ ආරම්භයේ පටන් ක්‍රි. ව. 4 වන සියවස දක්වා

කාලය තෙක්ම ඓතිහාසික කරුණු අඩංගු ලියවිලි විශේෂයක් තිබෙන්නට ඇත. එම ලියවිලිවල අන්තර්ගත කරුණු ඇසුරින් මෙය ගොඩ නැගෙන්නට ඇත. යනුවෙන් ප්‍රකාශ කරයි. මේ අනුව පැහැදිලි වන්නේද හෙළභාෂාවෙන් රචිත හෙළදිව් පුවතක් පැවති බවයි. මුල්යුගයේ ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪවූයේ හෙළ බසින් නිසා මෙයද ඒ අනුවම සැකසුනාට සැකනැත. ආචාර්ය ඔටෝප්‍රැන්ක් මහතා ද මේ පිළිබඳව ප්‍රතිවිරුද්ධ අදහසක් දක්වනු පෙනේ. ඔහු අදහස් කරන්නේ දීපවංශ කතාව බිහිවූයේ විවිධ ආගමික ග්‍රන්ථවලින් හා ජාතක කතාවලින් උපුටාගත් කරුණු ඇසුරින් මීස කලින් පැවති ඓතිහාසික සම්ප්‍රදයක අනුව නොවන බවයි. නමුත් හෙළ අටුවාචාරීන් වහන්සේලා කිසියම් ඓතිහාසික කරුණු රාශිගත කිරීමක් කලාහු වෙතැයි ත්‍රිපිටක ග්‍රන්ථයන්හි අවසන් කොටසෙහි රාජ්‍යානුග්‍රහ හා වෙනත් සාමාජික තොරතුරු සංග්‍රහයක් පවත්වාගෙන පැමිණීමෙන් පෙනී යයි. එසේම මෙම කරුණු සංග්‍රහ කරන ලද්දේ එවකට සමාජයේ ප්‍රබුද්ධයන් වශයෙන් සිටි බුද්ධ යතිවරයන් වහන්සේලා බව නම් සත්‍යකි. ඔවුහු බෞද්ධ දර්ශනය අනුව මැදහත් ප්‍රතිපත්තියක් ගෙනගියාහු වෙති. එහෙත් බ්‍රාහ්මණයන් මෙන් ඔවුහු එක් පක්ෂයක් ගෙන ක්‍රියා නොකළහ. ඉන්දීය ඉතිහාසය සැකසීමේදීද මෙම අන්තර්ගතයන් ප්‍රයෝජනවත් වූයේ එහෙයිනි. ඉතිහාසයේ මතධාරිත්වය වඩාත් අර්ථවත් වන හෙයින් බෞද්ධ පූජ්‍යවරුන් මෙය සංග්‍රහකළ පමණින් එය ආගමික මතයන්සේ සලකා බැහැරලීම ඓතිහාසික මූලාශ්‍රයන්ට කරන නිගරුවක් සේ සිතිය හැකිය. මධ්‍යස්ථ තුලන සම්ප්‍රදය තුළ කරුණු වඩාත් නිවැරදි කරගත හැකිය. එනිසා ඔටෝප්‍රැන්ක් මහතාගේ අදහස් කොතරම් සාවද්‍යය හා නිරවද්‍යය භාවයෙන් යුතුදැයි විමසිය යුතුය.

දීපවංශය බිහිවීමට පෙර අවදියේ පැවති ඓතිහාසික සම්ප්‍රදය ලක්ෂණයන් පරීක්ෂා කිරීමේදී සීමා කථා. චේතිය වංශට්ඨ කතා; මහාචේතිය වංශට්ඨකතා; මහාබෝධිවංශට්ඨකතා ආදී අට්ඨකතාවන් ගැන මහාවංශ ටීකාවේ දැක්වේ. එසේ හෙයින් සටහන්වූ ඔටෝප්‍රැන්ක් මහතාගේ අදහස් තවදුරටත් ඛණ්ඩනය වනු පෙනේ. මෙම ඓතිහාසික වංශට්ඨකතාවන්ගෙන් ආභාෂය ලත් දීපවංශ කතුවරයා මෙම කෘතිය කරන්නට ඇතැයි සිතා ගත හැකි අතර එය ආරම්භ කිරීමෙන් පසු මහාවංශය මෙන් නොව

සීමා සන්ත කාලයන්හිදී ඒ ඒ කතුවරුන් ඒ ඒ යුග කොටස් පූරණය කරන්නට ඇත.

දීපවංශයේ කතුවරයා පිළිබඳවද විවිධ මත ප්‍රකාශයන් ඇත. කෙසේ වෙතත් මෙම එකම ගවේශකයෙකුට හෝ මෙහි නිත්‍ය කතුවරයෙකු පිළිබඳව කරුණු දැනගැනීමටලැබී නැත. මේ පිළිබඳව අදහස් දක්වන ගෛගර් පඬිතුමා පවසන්නේ විශේෂ කතුවරුන් නොමැති අවදියක මෙය සකසන ලද බවය. එසේම මෙය එකම කතුවරයෙකුගේ කෘතියක් නොවන බවත් බහු කර්තෘක කෘතියක් බවත් ඔහු වැඩිදුරටත් පෙන්වා දෙයි. එයට හේතුවශයෙන් භාෂා ශෛලියේ වෙනස්කම් දක්වන අතර පුනරුත් දෝෂ බහුලතාවය ඇත්තේ ඒ නිසාම බවත් පෙන්වා දෙයි. සමහරු දෙනෙකු බහු කර්තෘක කෘතියක් ලෙස දැක්වීම සඳහා මෙහිභාෂාවේ විවිධත්වය දක්වන අතර විවිධ අවස්ථා නිරූපනයන් ගෙන හැර දක්වයි.

දීපවංශය පිළිබඳ අදහස් දක්වන මහාචාර්ය ගුණපාල මලලසේකර මහතා හ්‍යුනෙවිල් මහතාගේ අදහසක් ඉදිරිපත්කරමින් "දීපවංශය ථෙරවාදී භික්ෂුනීන්ගේ වංශ කතාවක් සේ පිළිගත යුතුය. භික්ෂුණීන් පිළිබඳව මහාවංශය කිසිත් ඉදිරිපත් නොකරද්දී දීපවංශය භික්ෂුණීන් පිළිබඳ බොහෝ කරුණු ඉදිරිපත්කර ඇත. එසේම "ගාමිණී" රාජසමයෙහි "සුමණා" නම් භික්ෂුණිය ප්‍රථම යෙන් භික්ෂුණීන්ට වංශකතා ඉගැන්වූ බව මම නිරනුමානයෙන්ම සලකමි" යනුවෙන් දක්වා ඇති අතර මෙසේද දක්වා ඇත. " මෙහිලා භික්ෂුණීන් තම පරම්පරා කතාද සංඝමිත්තා ස්ථවිරාවන් ඇතුළු පිරිස ගෙනෙන ලද සම්ප්‍රදයානු ගත වංශ ප්‍රවෘතීන්ද එයට එක්කලාය. ඉන්දියාවෙන් පැමිණි. "සිවලා" මහාරුහ; යන භික්ෂුණීහු මෙහිම සංස්කරණයකින් පසු දැනට අපසතුව ඇති දරදඬු පාලියෙන් සැකසු ග්‍රන්ථය බවට පත්කළාහුය. පසුව සංඝමිත්තා භික්ෂුණියද සත්හා; සමුද්ධා; යන භික්ෂුණීහුද එයට නොයෙක් කරුණු අන්තර්ගත කළහ. නමුත් මෙම විස්තර මෙහි කර්තෘ පිළිබඳ ස්ථිර නිගමන තැනීමට තරම් වැදගත් නොවේ. නෙවිල් මහතාගේ අදහස මෙහිදී මලලසේකර මහතා ඉදිරිපත් කිරීමෙන් එය අනුමත කරනු පෙනීයයි. එසේ වුවත් දේශීය වංශ කතා, භික්ෂු, භික්ෂුනී මනොභාවයන් හා ප්‍රතිපත්තිමය ක්‍රියා පද්ධතීන් සැලකිල්ලට

නොගෙන මෙවැනි නිගමනයක් කිරීම අපහසුය. හුදු ලියකියවිලි මතුපිට දැක්වෙන ස්වරූපයෙන් පමණක් එවැනි තීරණගැනීම සුදුසුදැයි පරීක්ෂා කර බැලීය යුතුය. දීපවංශ කතුවරයාගේ ආමන්ත්‍රණ පද දෙස බැලීමේදී එය වඩාත් තහවුරු කර ගත හැකිය. මෙහි කතෘ සෙසු ජනයාට හා භික්ෂු භික්ෂුනීන්ට ආමන්ත්‍රණය කරන්නේ 'සුනාතුමෙ' 'මට සවන්දෙව්' යන අවධාරණ පාඨයෙනි. භික්ෂුනී ප්‍රාතිමෝක්ෂ සංකල්පයන් තුළ විනය නීතීන්ට එකහව ක්‍රියා කරන භික්ෂුණියක් නූතන විනය කණ්ඩ කාන්තාවකගේ ආකාරයෙන් භික්ෂු විනයට ප්‍රතිපක්ෂව ක්‍රියා කරතීයි සිතිය නොහැකිය. මෙම භික්ෂුනීහු භික්ෂුනී විනය අකුරටම පිළිපැද්දහුය. නෙවිල් මහතා අපරදිග කාන්තාකල්ප දෙස බලා මෙසේ ප්‍රකාශ කළා වියහැකිය. එහෙත් පෙරදිග භික්ෂුණී ආකල්ප දෙස බලනවිට 'සුනාතුමේ' යන අවධාරණ පාඨය භික්ෂුණියකගේ මුවින් සිව් පිරිස වෙත යොමුවීම සිදු නොවනු ඇත. මෙවැනි නියෝග පාඨ ප්‍රකාශ වන්නේ නායකත්වයේ ප්‍රධාන පෙළේ සිටින භික්ෂුවකගෙන් පමණි. එම නිසා නිත්‍ය වශයෙන්ම මෙම කෘතිය භික්ෂුවකගේ බවට කිසිදු සැකයක් නැත. නෙවිල් මහතාගේ අදහස පරිදි උගත් භික්ෂුණීන් සමාජ පසුතලයේ භික්ෂුනී ක්ෂෙත්‍රයේ විවිධාකාරයෙන් ක්‍රියා කළබව පිළිගත යුත්තකි. එහෙත් භික්ෂු ප්‍රාති මොක්ෂය හා භික්ෂුනී ප්‍රාති මෝක්ෂය මොහොතකට හෝ ඔවුන් අමතක නොකල බව මෙනෙහි කරමින් කිසියම් නිගමනයකට බැසිය යුතුය. ඇරත් විනය නීතීන්ට මහත්සේ ගරුකල බව පෙනීයන දීපවංශ කතු භික්ෂුණියක් නම් මෙවැනි අදහසක් ප්‍රකාශකරතීයි සිතීම කෙසේ හෝ පිළිගත නොහැකිය. මහාවංශ කතුවරයාද මෙවැනි ඉල්ලීමක් කර තිබේ.

සුනාතුමෙ භන්තේ. (ස්වාමීනී මට සවන්දෙන්න)

සුනන්තු භොනෙතා මමඑක වාක්‍යං (පින්වත්නි මගේ එක් වදනකට සවන්දෙව්)

මෙම පාඨයේත් දීපවංශ පාඨයේත් සමානකම පෙනීයනු ඇත. මහාවංශය මහානාම හිමියන් ලියූබව ග්‍රන්ථයේම සඳහන් වන නිසා කර්තෘ පිළිබඳ ගැටළුවක් නැත. එසේ. නම් මෙවන් ප්‍රකාශයක් කරන්නේ භික්ෂුවක්ම බවට නම් කිසිදු සැකයක් ගොඩනොනැගේ. එසේ නම් දීපවංශය භික්ෂුවක් විසින්

රචනාකරන ලද බව මේ අනුව පැහැදිළිව පෙනී යාමෙන් නෙවිල් මහතාගේ අදහස නැවතත් පරීක්ෂාවට ලක්කල යුතුය. එසේම මෙය භික්ෂුණියක් රචනා නොකරන ලද බවත් භික්ෂුවක් විසින්ම රචනා කරන ලද බවත් පෙනීයයි. භික්ෂූනීන්ගේ නම් වැඩි ප්‍රමාණයක් අන් කාලීන වංශකථා වලට වඩා මෙහි ඇතුලත්වීමෙන්ම එය භික්ෂුණියකගේ රචනයක් සේ සිතීම බොළඳ තර්කයක් නොවන්නේ ද? කාන්තාවක් කාන්තාවකගේ පක්ෂය ගැනීම සාමාන්‍ය කාන්තා ගුණයක් වුවද මෙම භික්ෂුණීන් සුවිශේෂ මිනිස් භාවාර්ථයන්ගෙන් හෙබි උපරි මනස්තලගත කාන්තාවන් බවද මෙහිදී අමතක නොකළ යුත්තකි.

දීපවංශයේ බහු කතෘක භාවය පිළිබඳවද තවත් වියත්හු අදහස් දක්වති. එයට සාධක වශයෙන් ඔවුන් ඉදිරිපත් කරන්නේ එම වංශකතාව ආරම්භයේ දක්නට ලැබෙන සමාරම්භක පාඨයන්ය. එහි මෙසේ දැක්වේ.

'මෙහි විස්තරකරනුලබන්නේ බොහෝ දෙනා විසින් අත්‍ය ලංකාරයෙන් වර්ණනා කරන ලද නොයෙක් නොයෙක් මල් අමුණා විසිතුරු කරන ලද මල්මාලාවකට සාමානවූ පරම්පරාගත වංශකතාවයි'

මෙහිදී 'බොහෝ දෙනා විසින් වර්ණනා කරනලද' යන අදහස මතුදැක්වූ මතයට උපයෝගී කරගත් බව පෙනේ. මේ අනුව දීපවංශ කෘතිය ගොඩ නැගීමට පෙර සූත්‍ර; විනය; අභිධර්ම ග්‍රන්ථවල තිබූ ඓතිහාසික කරුණු මෙම ග්‍රන්ථයට අන්තර්ගතවූ බව සිතාගත හැකිය. එහෙත් ඒවා හෙළ අටුවාවල තිබුණ කරුනු බව පෙනේ. හෙළ අටුවා 5 වන සියවසේදී බුද්ධඝෝෂහිමියන් පාලියට නැගීමෙන් පසු විනාශකරන ලද බව පෙනීයයි. එම නිසා මෙම වංශකතාවල හා අටුවාවල තිබූ ඓතිහාසික ප්‍රවනතා ලක්ෂණ හඳුනා ගැනීමට නොහැකිව ඇතත් ඒ පිළිබඳව මෙනෙහි කිරීමේදී එම ඓතිහාසික කරුණු එක්කොට කිසියම් මහාවිහාරික භික්ෂුවක් විසින් මෙය ඒක රාශි කිරීමක් කරන ලදැයි සිතාගත හැකිය. ඒ අනුව බහු කතෘක වුවත් පාලි දීපවංශය එකම කතුවරයෙකු විසින් සංග්‍රහ කරන්ට ඇතැයි සිතිය හැකිය. තවද මුඛ පරම්පරාගත ග්‍රන්ථ කරණයේදී පවා මෙම ඓතිහාසික පදනමද වෙනම පැවැත්වූ බව

ද සිතිය හැකිය. අළුවිහාරයේ ග්‍රන්ථාරූඪකිරීමෙන් පසුව ඇතිවූ හෙළබසින් රචිත දීපවංශයද විවිධ කතුවරුන් විසින් රචනා කෙරෙමින් පවත්වාගෙන පැමිණි බවක්ද දිස්වේ. එය සමාරම්භක ගාථාපාඨ අදහසේ එන 'පරම්පරාගතවංශකතාවයි' යන පාඨයෙන්ද තහවුරුවේ මෙම පරම්පරා ගත වංශ කතාව මහසෙන් යුගයේ විසූ කිසියම් යතිවරයාණ කෙනෙකු විසින් පාලි සංග්‍රහ ගත කෙරිනැයි සිතන්නේ නම් නිවැරදිවිය යුතුය.

දීපවංශය ලිවීමට කුමක් මූලාධාරවී ද යන්නනට අදහස් දක්වන ඔටෝප්‍රැන්ක් පඬිවරයා මෙය බාහිර කිසිවක් ආධාර කොටගෙනහෝ අන්‍ය මූලග්‍රන්ථයන්ගේ ආභාසයක් ඇතිව හෝ නොලියන ලද බව සඳහන් කරයි. ඒ පිළිබඳව තවදුරටත් අදහස් දක්වන ඔහු ජාතක හා බුද්ධවංශාදී බෞද්ධ ග්‍රන්ථයන්ගේ ආභාසය මෙයට ලැබිනැයි යන මතය සම්පූර්ණයෙන් ඉවත් කල නොහැකි වුවද දීපවංශයේ ඇතුලත් කරුණු සහමුලින්ම හෝ ඒවායින් විශාල කොටසක් හෝ එම ග්‍රන්ථයන් ගෙන් උපුටා ගෙන ඇතැයි කීමට කිසිදු සාධකයක් නැති බවද සඳහන් කරයි. අටුවා අන්තර්ගතයන්ගේ ඓතිහාසික පදනම ග්‍රහනය කිරීමේදී ද මෙම අදහසෙහි ඡ්ථාර්ථයක් දක්නට ලැබෙන බව පෙන්වා දිය හැකිය. එසේ වුවද ඕල්ඩන්බර්ග් හා ගෛගර් යන විද්වතුන්ගේ මත සංකලනයක්ද මෙහිදී ඉදිරිපත් කිරීම යෝග්‍යයයි. ඔවුහු මෙසේ දකිති.

'දීපවංශය හා මහාවංශය යන වංශකථාවලට මූලාශ්‍ර වශයෙන් ගැණුනු සිංහලයෙන්ද ලියවී පාලි ග්‍රන්ථයෙන්ද තැනින් තැන මිශ්‍රව පැවති මහාවංශට්ඨකතාවක් පැවති බව පිළිගනී. දීපවංශ; මහාවංශ; වංශත්ථප්පකාසිනී යන ග්‍රන්ථ පරීක්ෂා කිරීමේදී ද පැරණි ඓතිහාසික සම්ප්‍රදයක් පැවති බව පෙනියයි. එය මුලින් සඳහන් කරනලද පරිදි සීමා කතා; චේතියවංශට්ඨකතා; මහාචේතිය වංශට්ඨකතා; මහාබෝධිවංශට්ඨ කතා ගැන වංශත්ථප්පකාසිනියේ අන්තර්ගත වීමෙන්ද පැහැදිළිවේ. මේ අනුව දීපවංශය ඓතිහාසික සම්ප්‍රදයන් කීපයක කරුණු එක්තැන් කිරීමට ගත්උත්සාහයක් බවද සිතිය හැකිය.'.

ඈත අතීතයේ සිට දේශිය ඓතිහාසික සම්ප්‍රදයක් පැවති බව මෙම විද්වතුන් පිළිගන්නා බව පෙනේ. මේ අනුව දිපවංශ කතුවරයා විවිධ තැන්වල තිබූ ඓතිහාසික සිද්ධීන් එක්රැස් කොට තිබූ බව වඩාත් යථාර්ථීය ලක්‍ෂණයන් ගෙන් සමන්විතව ඇත.

තවද දීපවංශය පිළිබඳ අදහස් දක්වන විමල් වරණලෝ මහතා ථෙර, ථෙරී, ගාථාවල ගීතිකා සමහරක් මෙම වංශකතා පබැඳුම්කරුට ධර්මග්‍රන්ථමය හැකියාවන් ලබා ගැනීමට මග පෙන්වීයයි සඳහන් කරයි. එසේම මෙය පෞරාණිකයන්ගේ මුඛපරම්පරාගත ධාරණ සම්ප්‍රදයන් මත සකස් විනැයි පෙන්වා දෙයි. තවදුරටත් කරුණු දක්වන ඒ මහතා ගාථාමය දීපවංශයේ ආකෘතිය පාලි ත්‍රිපිටකයේත් බුද්ධවංශයේත් ඉදිරිපත්වන බවත්, මෙම දෙකම අෂ්ට්‍රුභ් වෘත්තයකින් හා සරළ භාෂා ශෛලියකින් පැබැඳී ඇති බවත්, කලාතුරකින් වෘත්තය වෙනස්වන ආකාරය දක්නට ලැබෙන බවත් මේ පිළිබඳ වෙනත් අදහසක් දක්වන ආචාර්‍ය සිරිමා වික්‍රමසිංහ මහත්මිය දීපවංශයේ වැදගත්කම රැඳී ඇත්තේ එහි ඇතුලත් කරුණුවල නොව වංශකතා කෘතීන් උපයෝගී කොටගත් මූලාශ්‍රයන්ගේ තත්ව පරීක්‍ෂණ ස්වභාවික තොරතුරු මතයයි පැහැදිළි කරන්නීය. මෙයින් අදහස් කරන්නේ දීපවංශයට මූලාධාර වූ යම් කෘති සමූහයක් පැවති බවයි. මෙහි දක්නට ලැබෙන එකම අදහස නැවත ප්‍රකාශ කිරීම හෙවත් පුනරුක් බාහුල්‍යය ඇතිවීමට හේතුව මූලාශ්‍ර අදහස් පිරිසිදු නොකර ගැනීම යයි සමහර විද්වත්හු පවසති. එසේ වූයේ දීපවංශ කතුවරයාගේ නොසැලකිලිමත් භාවය නිසා දැයි පරීක්‍ෂාකර බැලිය යුතුය. එසේ පරීක්‍ෂාවට ලක්කිරීමේදී වඩාත් පාඨක අභිරුචිය දැනවීම සඳහා නැවත ඉදිරිපත් කරන බව පෙනීයයි. කතුවරයා එකම අදහස ඉදිරිපත් කරන බොහෝ අවස්ථාවන්හිදී.

'මම නැවත එය අනුපිළිවලින් ඉදිරිපත් කරමි. යනු වෙන් ප්‍රකාශ කරයි.

බොහෝ විට එවැනි ප්‍රතිභාෂණයන් ඉදිරිපත් කරන්නේ දක්‍ෂ මනෝවිද්‍යාත්මක පදනම් ක්‍රියාවට නැගූ ගුරුවරුන් විසිනි. ප්‍රතිභාෂණයෙන් බුද්ධිකෝෂය පුළුල් කිරීම කතුවරයාගේ මුඛ්‍ය අදහසවූ බව පෙනේ. මේ අනුව දීපවංශ කතුවරයා ලේඛකයෙකු

පමණක් නොව දර්ශනය මනෝවිද්‍යාව හා සමාජවිද්‍යා පදනම් ඉගැන්වීම් ක්ෂේත්‍රයේ පමණක් නොව ලේඛණ කලාව තුළදී ද උපයෝගී කරගත් කතුවරයෙකු ලෙස හැඳින්වීම වඩාත් යෝග්‍යය. ඒ අනුව මොහු දක්ෂ ගුරුවරයෙකු බවද පැහැදිළි වේ. එසේනම් මෙයට පසු වංශකතා කරණයට පිවිසි මහාවංශකරු එසේ නොකළේ ඇයි දැයි ප්‍රශ්නයක් පැනනගිනු ඇත. එහිදී පැහැදිළිවන එක් කරුණක් නම් මහවංශ කතුවරයා විසූ අවදිය දකුණු ඉන්දීය ආක්‍රමණයන්ට මුහුණ දුන් අවදියක් නිසා අධ්‍යාපනයේ යම්යම් ගුණාත්මක පසුතලයන් පිරිහී ගොස් තිබුණි. විද්‍යාත්මක පදනම මුදුනුකරගත් අධ්‍යාපනයක් නැවත ගොඩනැගීමට හැකිවූයේ ක්‍රි. ව. 463න් පසුවය. එනම් ධාතුසේන රජතුමා රාජ්‍ය බලය ගැනීමෙන් පසුවය. එසේ නම් දීපවංශය ලීවායයි සිතියහැකි මහසෙන් අවදියට ආසන්න අවදිය අධ්‍යාපන ක්ෂේත්‍රයේ විවිධ වාදවිවාදයන්ට තුඩුදුන් අවදියක් නිසා මෙවැනි විද්‍යාත්මක ලක්ෂණ ඇතිවීම සුවිශේෂ කරුණකි. එසේ නම් මහාවංශයට වඩා නොදියුණු භාෂා මාධ්‍යයක් දීපවංශයේ ඇතිවූයේ කෙසේදැයි පරීක්ෂා කළ හැකිය. එයට පිළිතුරක් සපයන්නේ නම් මෙකල හෙළභාෂා මාධ්‍යය දියුණු වී තිබුණත් මාගධී භාෂා නිපුණතාවය අඩුවී තිබෙන්නට ඇතැයි සිතා ගැනීම අපහසු නොවේ. මාගධී භාෂා කෞශල්‍යය වඩාත් ඔප්නැන්වී ගියේ ක්‍රි. ව. 5 සියවසින් පසුවය. එනම්. බුද්ධඝෝෂ හිමියන් ලක්දිවට පැමිණීමෙන් පසුවය. කෙසේ වෙතත් දීපවංශ කරු අපරීක්ෂාවෙන් මෙම කෘතිය කළා යයි සිතිය නොහැකිය.

දීපවංශය වීර කාව්‍යක් යයි සමහර විද්වතුන්ගේ අදහස වේ. නමුත් දීපවංශය සැකසී ඇති ස්වරූපය දෙස බලනවිට එය වීරකාව්‍යයක් යයි නිශ්චය කළ හැකිදැයි ප්‍රශ්නයකි. වීරකාව්‍යක් වීමට නම් උපාඛ්‍යාන කීපයක් එක්කොට ගොතනු ලැබූ උද්වේගකර අවස්ථා කීපයක් හෝ එළිදැක්වෙන ආකාරයෙන් නිරූපනය විය යුතුය. නැතහොත් ධර්මෝපදේශයක් ගෙනහැර පාන කතාවස්තුවක් තිබිය යුතුය. ඒ සියල්ලටම වඩා වීරයෙකු නිර්මාණය කළ යුතුය. මෙහි එවැනි ලක්ෂණ දක්නට නොලැබේ. එසේම උද්වේගකර අවස්ථාහෝ වීරත්වය ඔප්නැන්වෙන අවස්ථා දක්නට නොලැබේ. එහෙයින් මෙය වීර කාව්‍යක් සේ සැලකීම අපහසුය. මෙහි ගැබ්ව ඇති මූලික කරුණු අතින් බලනවිට

සංස්කෘතික අංශයෙන් බුදුරජාණන් වහන්සේ හා මිහිඳු මහරහතන් වහන්සේද දේශපාලන හා සංස්කෘතික උභයාර්ථයෙන්ම දේවානම් පියතිස්ස රජු ඉදිරිපත් කළ හැකියි. එහෙත් එහි වීර කාව්‍යමය ගුණයක් තිබේදැයි ප්‍රශ්නයකි. අනෙක් පසින් මෙහි ඓතිහාසික හා කතාවස්තු නිමිත්ත දෙස බලනවිට කාව්‍යමය නිමිත්ත පෙරටුව සිටී. මේ අනුව බලනවිට උක්ත අදහස එළි දැක්විය නොහැක.

දීපවංශය පිළිබඳ වැඩිදුර ගවේෂණයක යෙදෙන විට මෙහි විෂය බද්ධය විශේෂත්වයක් දරයි. ලංකාවේ වංශකතා පිළිබඳව සුවිශේෂ ප්‍රකාෂයක් කරන ආචාර්‍ය නෝමන් මහතා ලංකාවේ වංශකතාවන් හි අනුයුක්තික අන්තර්ගතයන් නිරවද්‍යතාවයෙන් පෙරමුණ ගෙන ඇති බවත් තර්කානුකූල හා යුක්ති ගරුක ලෙස කරුණු ඉදිරිපත් කර ඇති බවත් පෙන්වා දෙයි. මහාචාර්‍ය ගෛගර් මහතාද මෙම අදහස පිළිගනී, ආචාර්‍ය මැක්ස් මුලර් පඩිවරයාද මහාවංශය පිළිබඳව දුන් අර්ථකථනයද මෙය හා පොදු අර්ථකථනයකි. ඔහු මහාවංශය පිළිබඳ කරුණු දක්වමින්

"ලක්වැසි බෞද්ධයන් ඔවුන්ගේ ඓතිහාසික සටහන් බමුණන්ගෙන් හෝ ජෛනයන් ගෙන් ණයට ගෙන නැත"

යනුවෙන් පවසා ඇත. එහෙයින් මෙම වංශකථාස්වාධීන සත්‍ය රාමු, මත ගොඩ නැගුණ ඒවා බව පිළිගෙන තිබීමෙන් ඊ එච් කා ගේ අදහසටද ලන්වන බව පෙනේ. විල්හෙම් ගෛගර් මහතාද මෙම වංශ කතා දෙකම එකක් වශයෙන් ගෙන මෙසේ පවසයි.

"මෙම වංශකතා දෙකම එකක් වශයෙන් ගෙන කල්පනා කරන විට වැදගත් උපකල්පනයට නැගෙන්නේ මෙම කතා අන්තර්ගතයන් පිළිබඳ කිසිදු සැකයක් නැත."

යනුවෙනි. මෙම වංශකතා කතුවරුන් කරුණු ඉදිරිපත් කිරීමේදී අපක්ෂපාතීව හා උපේක්ෂා සහගතව බැඳීමකින් තොරව කරුණු ඉදිරිපත්කර ඇතිබවයි. මෙයින් දීපවංශකතුවරයා වඩාත් උපේක්ෂා සහගතව කරුණු ඉදිරිපත්කර ඇති බව දුටු ගැමුණු පණ්ඩුකාභය චරිතාපදානයන් ගෙනහැර දැක්වූ ආකාරයෙන් පැහැදිළිවේ. තවද ගෛගර් හාප්ලිට් යන දෙදෙනාම මහාවංශයද දීපවංශයේ සංස්කරණයක් ලෙසද දකිති. එය දීපවංශයේ සංස්කරණයක් බව

මහාවංශ කතුවරයාගේ පළමු හැඳින්වීමේ පාඨයෙන්ම පෙනේ. ඔහු එහිදී පැරැන්නන් කියූ දෙය වඩාත් විස්තර සහිතව ජනප්‍රවාදද එකතු කරමින් පවසන බව කියයි. එවකට පැරැන්නන් කියූ වංශකතාව වශයෙන් පැවතියේ දීපවංශයයි. එසේනම් මහාවංශය දීපවංශයේ සංස්කරණයක් ලෙස පිළිගැනීම නිවැරදිය. එසේ වුවත් දීපවංශයේ සමහර අන්තර්ගතයන්ට මහාවංශකරු ජනප්‍රවාද එක්කිරීමට ගොස් විද්‍යාත්මක ඓතිහාසික පදනමට පහරවැදුණු බවක්ද පෙනීයයි. දීපවංශ කතුවරයා.

'සීහබාහු නරින්දෙසො
සීහ මාදින්නවා ඉති
සීහලොතෙන සම්බන්ධො
ආහු සබ්බෙපි සීහලා'

'සිංහබාහු නරේන්ද්‍රයා
සිංහයෙක් බඳු ශක්තිමත් අයෙකි.
ඔහුගෙන් පැවතෙන්නන්ට
සිංහලයෝ යැයි කියති'

යනුවෙන් පෙන්වයි. නමුත් මහාවංශ කතුවරයා වනයේ විසූ තිරිසන්ගත සිංහයෙකු හා සුප්පාදේවිය සම්බන්ධ කිරීමෙන් යථාර්ථය විකෘති කරන ලදී. විද්‍යාත්මක සම්බන්ධතාවය හා සසඳා බලන විට තිරිසන් සතෙකු හා මනුෂ්‍ය ස්ත්‍රියක් සංවාසයේ යෙදීමෙන් ගැබ් ගැනීමෙක් සිදු නොවන බව පිළිගෙන තිබේ. එසේ නම් දීපවංශ කතුවරයා තත්වාකාරයෙන් කරුණු ඉදිරිපත් කිරීමෙන් ජාතික අනන්‍යතාවය හා ඓතිහාසික නිරවද්‍යතාවය රැකගත් බව පෙන්වා දියහැකිය. මේ අනුව විෂය අන්තර්ගතය අතින් දීපවංශය සුවිශේෂ ඓතිහාසික පදනමක් උසුලන බව පෙනේ. මේ හැරුණු විට දීපවංශයේ අන්තර්ගතයන් පිළිබඳව විමසුවහොත් ඓතිහාසික හා විවිධ බෞද්ධ තොරතුරු එළි දැක්වේ. ඒ අනුව දීපවංශ කතුවරයාද මහායාන වාදී උපකල්පනයන්ට අල්ප වශයෙන් නැඹුරුවූ බවක් පෙනීයන්නේ බුදුරජාණන් වහන්සේට හා උන්වහන්සේගේ සර්වඥධාතූන්ට අතිමානුෂිකත්වයක් දීමට යාමෙනි. බුදුරජාණන් වහන්සේගේ මුල් සූත්‍ර හා පරිනිබ්බාන සූත්‍රය දෙස බැලීමේදී ථෙරවාදී බෞද්ධයථාර්තය ඉක්මවා ගිය ආකාරයක් දක්නට ලැබේ. එසේ වුවත් මේ පිළිබඳව අදහස් දක්වන

විමල් චරණලෝ මහතා පෙන්වා දෙන්නේ බුද්ධාගම ඇදහිමක් බවටපත් වෙනත් රටවලද මේ හා සමානට ආශ්චර්යභූත සිද්ධීන් ඇතත් ලංකා වංශකතාකරුවන් ඔවුන් පරයා, සිටින බවයි. එසේ නම් ලංකා වංශකතාකරුවන් පත්ව ඇත්තේ නොවැලැක්විය හැකි සුළු කම්පනයකට පමණි. එසේ වුවත් ඉංදියාව හා ටිබෙට් බෞද්ධ කතා දෙස බලන විට ලංකාවේ ථෙරවාදී භික්ෂූන් වහන්සේලා විශාල නිරවද්‍යතාවයක සිටින බව වසුමිත්‍රගේ "නිකායාව ලම්බන" යෙන් හා ටිබෙට් තෙරනමකගේ "ශාසනවංශක" නම් කෘතියෙන් පෙනීයයි. එහි රහත් තෙරනමක් පිළිබඳව මෙවැනි අදහස් දක්නට ලැබේ.

1. රහත් නමක් විසින් නොදැන පවත්කළහැකිය.
2. රහත්නමක් තමාරහත් වූ බව නොදැන සිටිය හැකිය.
3. රහත් නමකට ධර්මය සම්බන්ධයෙන් සැක ඇතිවිය හැකිය.
4. රහතුන් වහන්සේ නමකට ගුරුවරයාගේ උපකාරයෙන් තොරව රහත් බව ලැබිය නොහැකිය.
5. රහත් නමක් භාවනාවේ යෙදීසිටින අතර "අහෝ දුකකි" යන වචන ප්‍රකාශ කිරීමෙන් තමා කැමති දෙය ලැබිය හැකිය.

ආදී බෞද්ධ යථාර්තය විකෘති කරන අදහස් දක්නට ලැබේ. මෙවැනි විකෘතිතාවයන් ලංකාවේ වංශකතා තුළ දක්නට නොලැබීම විශේෂතාවයකි. ථෙරවාදී සංකල්පීය ලක්ෂණ රකිමින් බෞද්ධ දර්ශනය රැකගැනීමට දරණ ලද ප්‍රයත්නයකි.

මෙහි භාෂාමය සුවිශේෂතාවය තුළ ශාස්ත්‍රීය භාෂා සංකල්පයක් දක්නට ලැබේ. වර්ණිත භාවයෙන් තොර මෙම භාෂා ස්වරූපය නිසා සාහිත්‍ය ක්ෂෙත්‍රයෙන් මිදී ඓතිහාසික ක්ෂෙත්‍රය ආරක්ෂාවී ඇති බව පෙන්වා දියහැකිය. අතික් පසින් මෙහි දක්නට ලැබෙන වාර්තාකරණී ස්වරූපය ද ශාසත්‍රීයත්වය ආරක්ෂා කර තිබේ. එමනිසාද ඓතිහාසික පක්ෂයට වැඩි රැකවරණයක් ලැබී ඇත. ඒ නිසා ඊ. එච්. කාගේ පොදුකරණයට මෙය බොහෝ සෙයින් ලන්ව ඇතැයි සිතීමට අසිරු නොවේ. එසේම මෙහිදී

අටුවාවල ස්වරූපය දැනගත හැකිවීමද තවත් විශේෂතාවයකි. මේ අනුව බලන විට ඓතිහාසික මධ්‍යස්ථ භාවය මෙහි විශේෂයෙන් කැපී පෙනේ.

දීපවංශයේ දක්නට ලැබෙන තවත් වැදගත් කමක් නම් ලංකාවේ භික්ෂුණීන් පිළිබඳව ඓතිහාසික විමර්ෂණයක් එයින් කිරීමට හැකිවීමයි. එය ශාසනික ප්‍රවනතාවය සඳහා මෙන්ම ඓතිහාසික ප්‍රවනතාවය විමසීම සඳහාද ඉතා වැදගත්වේ. දීපවංශයේ 18 වන පරිච්ඡේදය සම්පූර්ණයෙන්ම පාහේ වැය කොට ඇත්තේ භික්ෂුණීන්ගේ ඉතිහාසය ගෙනහැර දැක්වීමටය. ඒ හැරුණු විට වෙනත් පරිචෙඡද වලද භික්ෂුණීන් පිළිබඳ තොරතුරු ඇතුලත්කොට ඇති අතර සංඝමිත්තා මෙහෙණීන් වහන්සේ හා ඇගේ පසු කාලීන ශිෂ්‍ය පරම්පරාවන් පිළිබඳවද එම ස්ථවිරාවන්ගේ සුවිශේෂ කාර්‍ය්‍ය සාධනයන් පිළිබඳවද දක්වා තිබේ. මෙයින් ශාසනික ඓතිහාසිකත්වය මෙන්ම බෞද්ධ දර්ශනයේ යථාර්ථ සාදනයන් පිළිබඳව සොයා ගැනීමට හැකිවී තිබේ. මේ අනුව බලනවිට දීපවංශයේ ශාසනික හා ඓතිහාසික ප්‍රවනතාවයන් උගතුන්ගේ ඉමහත් ප්‍රසාදයට හේතු වී තිබේ.

මෙම පොත ලිවීමට අදහස්කළේ පුරාවිද්‍යාව හා ඉතිහාසය හදරණ බොහෝ දෙනාගේ යහපත උදෙසාය. එසේම විශේෂ වේදී හා සාමාන්‍යවේදී ඉතිහාසය හදරණ බොහෝ දෙනාට මූලාශ්‍රයක් වශයෙන් මෙයින් ඇතිවන ප්‍රයෝජනය ඉමහත් ය. උසස් පෙළ ඉතිහාසය හදරණ ශිෂ්‍යන් මූලාශ්‍ර පරිශිලනය කෙරෙනුයේ ඉතා අල්පවය. එයට හේතුව ඔවුන් පාලි භාෂාව නොදැනීම නිසා මූලාශ්‍රයන් පිළිබඳව පරිශීලනය නොකර වැරදි තීරණවලට එළඹීමයි. මැදහත්ව සිතීමේ මූලික පදනම ඇතිවන්නේ නිවැරදි පරිශීලනය කිරීම මතය. එය සපුරා ගැනීමට මෙයින් ලැබෙන පිටුවහල ඉමහත්ය. ඓතිහාසික නිගමනයක වටිනාකම වැදගත්කම රැඳී පවතින්නේ එහි ඇති මධ්‍යස්ථ බාවය මත බව ඊ එච් කාර් පවසයි. එය සිදුකල හැක්කේ මූලාශ්‍ර නිවැරදිව පරිශිලනය කිරීමෙනි.

මෙම ග්‍රන්ථය සැකසීමට තරම් මා පාලි දැනුමින් පෝෂණය කරන ලද්දේ දෙල්ගොඩ කල්‍යාණි ප්‍රදීප විද්‍යායතන පිරුවන්

කෘත්‍යාධිකාරී හා තත් පිරුවන් විහාරස්ථාධිවාසී සීනාධි සිව්කෝර්රළේ උපප්‍රධාන සංඝනායක පණ්ඩිත දරාණාගම සුගතපාලාභිධාන නායක ස්ථවිර පාදයන් වහන්සේට ගෞරවාභි වන්දනය හිමිවේ මෙහිදී අවශ්‍යය පොත්පත් සපයා දීමෙන් උපකාර කළ වයඹ පළාත් පිරුවන් පරීක්ෂක විද්‍යාමිණ විද්‍යායතන පිරුවන් අධිවාසී ශාස්ත්‍රවේදී පණ්ඩිත ඩිප්ලෝමා ශාස්ත්‍රපති මාරතුගොඩ ධම්මානන්ද ස්ථවිරපාදයන් වහන්සේ සිහිපත් කරමි. මෙම කාර්‍යයේදී ශෝද්‍යපත් පරීක්ෂා කිරීමෙන් උපකාර කළ උස්සාපිටිය සධර්මාලංකාර විද්‍යායතන පිරුවන් කෘත්‍යාධිකාරී හා තත් පිරුවන් අධිවාසි ශාස්ත්‍රවේදී ශාස්ත්‍රපති හඟුරන්කෙත ආනන්ද ස්ථවිරයන් වහන්සේට ද ගෞරව ප්‍රනාමය හිමිවේ.

මෙම ග්‍රන්ථයට පෙර වදනක් සපයා දුන් අප ඇදුරු සංස්කෘතික හා ආගමික කටයුතු පිළිබඳ නියෝජ්‍ය අමාත්‍යය මහාචාර්‍ය ඒ. වී. සුරවීර වියතාණන්ට මම මාගේ ගෞරවය පුදකරමි. එසේම තත් නි. අමාත්‍ය පෞද්ගලික ලේකම් ශාස්ත්‍රපති බොබී ජී. බොතේජු මහතාට ද මාගේ ස්තුතිය පිරි නැමේ. මෙහි පිටකවරය මූර්ති ශිල්පී මාරතුගොඩ එම්. ජී. පියතිස්සයන්ගේ ය. ඔහු විද්‍යාමිණ විද්‍යායතනයෙහි දීප්තිමත් ශිෂයයෙකි. ඔහුගේ තෙළිතුඩ ප්‍රතිරාවයදසත පැතිරේවා. තවද මෙම කටයුත්ත් දී ආචාර්‍ය කොටගම සරණ තිස්ස හිමියන්ද මහනුවර සත්‍යෝදය අධ්‍යක්ෂක මණ්ඩලයේ ශාස්ත්‍රවේදී ලලිත් අබේසිංහ මහතාද සහයෝගය දැක්වින. එසේම සැම අවස්ථාවකදීම මට සහාය දුන් මා සහායිකා චන්ද්‍රා කුමාරි හාමි දැක්වූ සහාය අපමණය.

නව ලේඛක පරපුරේ දිරිමතාණන් වූ එස්. ගොඩගේ මහත්මා මෙම ග්‍රන්ථය ප්‍රකාශ කිරීමෙහි ලා මහත් සුහදතාවයෙන් පිළිගන්නා ලදී. එතුමාට හා එතුමාගේ කාර්‍ය මණ්ඩලයට මගේ ගෞරව පූර්වක ස්තුතිය මෙයින් පිරිනැමේ.

**චන්ද්‍රදාස කහඳවආරච්චි**
සුධර්මාලංකාර පිරුවන් විද්‍යායතනය
උස්සාපිටිය.

# දීපවංශයේ සඳහන් වන සිංහල රජවරු

| රජුගේ නම | පාලන වර්ෂය බු:ව: | ක්‍රි. පූ. | වෙනත් සිදුවීම්. |
|---|---|---|---|
| විජය රජතුමා | 1 | 543 | රජකලේ තම්මැන්නාව කීවද මහාත්ථි අසල විය හැකිය. විජය යක්ෂ ගෝත්‍රික රාජ්‍ය ක්‍රමය මත රජවූ බව පෙනේ. ක්‍රි. පූ. 483 රජවූ බව සමහර ඉතිහාසඥයන් පෙන්වා දෙයි. මෙකල මගධයේ අජාසත් රජකල බව පෙනේ. සමහරු බිම්බිසාර ක්‍රි. පූ. 560 රජවූ බව කියන අතර ක්‍රි. පූ. 545 රජවූ බවද කියති. |
| පණ්ඩුවාසුදේව රජතුමා | 39 | 504 | ක්‍රි. පූ. 503-504 උපතිස්ස බ්‍රහ්මණයා රාජ්‍ය මෙහෙයවූ බව වංශ කථා කියයි. මොහු රාජ්‍ය මෙහෙයවන ලද්දේ උපතිස්සගාමයේ සිටය. පණ්ඩුවාසුදේව පැමිණ උපතිස්සගාමයේ සිට රාජ්‍ය මෙහෙයවීය. මෙකල පර්ශියාවේ ඩේරියස්ගේ පුත් සර්සීස් රජකරන ලදී. ඉංදියාවේ පීතෘඝාතක රජ පරපුර සිටිබව පෙනේ. |
| අභය රජතුමා | 70 | 474 | මොහු අවු:20 රජ කිරීමෙන් පසු සහෝදරයන්ගේ තර්ජන නිසා ඉවත් වූ බවත් එයින් පසු තිස්ස ඇතුළු පිරිස රජවූ බවත් පෙනේ. මෙකල ඉංදියාවට පර්සියන් ආක්‍රමණ එල්ලවිය. |
| තිස්ස ඇතුළු සහෝදරයන් රජකල බව | 90 | 464 | මෙය අරාජක කාලයක් ලෙස සමහර ඉතිහාසඥයන් සලකයි. මොවුන් රාජ්‍ය කලේද උපතිස්ස නුවරය. |

| | | | |
|---|---|---|---|
| පණ්ඩුකාභය රජතුමා | 107 | 437 | ම: ව: අනුව 70 වසක් රජකර ඇත. මෙය ග්‍රීසියේ සොක්‍රටීස් පඬිවරයාගේ කාලයයි. |
| මුටසීව රජතුමා | 177 | 367 | ග්‍රීසියේ ඇරිස්ටෝටල් පඬිවරයාගේ යුගය. (ක්‍රි. පූ. 427-347) මොහු සොක්‍රටීස්ගේ දක්‍ෂතම ශිෂ්‍යයාය. රාජ්‍ය පාලකයා රන්මය හෝ රිදීමය විය යුතුබව මොහු කියා ඇත. |
| දේවානම්පියතිස්ස රජතුමා | 237 | 307 | බොහෝ ග්‍රන්ථවල අශෝකගේ රාජ්‍ය කාලය ක්‍රි. පූ. 300-232 ලෙස දක්වා ඇත. ම:ව: හා දී:ව: අනුව ක්‍රි. පූ. 324 සිට 249 දක්වා විය යුතුය. |
| උත්තිය රජතුමා | 277 | 267 | මෙම අවදියේ මිහිඳු මහ රහතුන් වහන්සේ පිරිනිවන් පෑ බව සඳහන් වේ. |
| මහාශිව රජතුමා | 287 | 257 | |
| සූරතිස්ස රජතුමා | 297 | 247 | මෙකල අස්වෙළෙඳුන් දෙදෙනෙකු බලය ගැනීම. |
| සේන - ගුත්තික | 309 | 235 | ම: ව: අවු: 22 පාලනය කළ බව දැක්වේ. |
| අසේල රජතුමා | 329 | 215 | මෙකල ඉංදියාවේ පුෂ්‍ය මිත්‍රගේ රාජ්‍ය කාලය වන අතර මිණැන්ඩර් හෙවත් මිළිඳු රජු ඉංදියාව ආක්‍රමණය කර පාඨලීපුත්‍රයද අල්ලාගත් බව පෙනේ. මැදපෙරදිග ලෝකයේ මිලිඳු නාගසේන වාදය මොහු හා පැවති බව දැක්වේ. ඉංග්‍රීසි ග්‍රන්ථ අනුව මෙම වාදය ක්‍රි. පූ. 187-151 අතර සිදු වන්නට ඇතිබව පෙනේ. |

| | | | |
|---|---|---|---|
| එළාර රජතුමා | 339 | 205 | |
| අභය (දුටුගැමුණු) රජතුමා | 383 | 161 | රෝම අධිරාජ්‍යට ග්‍රීසිය මෙම අවදියේදී යටත් විය. |
| සද්ධාතිස්ස රජතුමා (මහාතිස්ස) | 407 | 137 | මෙකල චීන මහා ප්‍රාකාරය කරවූ බව දැක්වේ. මෙය කරවන ලද්දේ යුවේච්වරුන්ගෙන් චීනයේ දේශ සීමා රැකගැනීමටය. මෙය චීන අධිරාජ්‍ය, සිංහුවං ටිගේ කායකීක් බවද ක්‍රි. පූ. 3 සියවසේ කල බවද දැක්වේ. |
| ථූලත්ථන රජතුමා | 425 | 119 | |
| ලජ්ජිතිස්ස රජතුමා | 425 | 109 | |
| බල්ලාටනාග රජතුමා | 434 | 110 | මේ කාලයේ උ. ඉංදියාව ශකක්ෂත්‍රපයන් පාලනය කලබව සඳහන්වේ. |
| වට්ටගාමිණී අභය (වලගම්බා) | 440 | 104 | මහාරක්ඛක නම් සෙනෙවියෙක් බල්ලාටනාග මරා රජවූ බවත් 5 මසකින් ම වලගම්බා ඔහු මරා රජවූ බවත් දැක්වේ. |
| පුලහත්ථ | 443 | 101 | වලගම්බා පළමුවර රජවීමේදී මොවුන් පැමිණ බලය ගන්නා ලදී. මොවුන් සමග පැමිණි අනික් දෙදෙනා සෝමාදේවියත් පාත්‍රා ධාතුවත් ගෙන එයින් සෑහීමට පත්ව ඉංදියාවට ගිය බව පෙනේ. |
| බාහිය | 445 | 99 | |
| පනයමාර | 452 | 92 | |
| ධාඨිය | 454 | 90 | මේ කාලයේ 'මෝජ්ස්' හෙවත් 'මෝග' නම් ශක පාලකයා ඉංදියාවේ මථුරාපුරයේ බලය අල්ලාගත් බව පෙනේ. |

| | | | |
|---|---|---|---|
| වට්ටගාමිණී අභය (වලගම්බා) රජු (දෙවනවර රජවීම) | 455 | 88 | සමහර ග්‍රන්ථවල මෙම දෙමළ රජුන් අවුරුදු 14ක් රජ කල බව දක්වතත් දී. ව. දැක්වෙන්නේ අවු:12 මාස 5ක් බවය. වලගම්බා වනයේ සැඟවී සිටි කාලය අවු 14 ලෙස දැක්වේ. |
| මහාචූලී මහාතිස්ස රජතුමා | 467 | 76 | මෙකල සකවරු මධ්‍යම ආසියාවේ බලයට පත්වූ බව පෙනේ. |
| චෝරනාග රජතුමා | 481 | 62 | මෙකල ජූලියස් සීසර් බ්‍රිතාන්‍යය ආක්‍රමණය කෙරීන. එසේම මෙකල ඉංදියාවේ සාතවාහනයන් විශාල කොටසක් පාලනය කෙරීන. ඉ. මාල්වා ප්‍රදේශය සකවරු යටතේ විය. |
| තිස්ස (කුඩ්ඩතිස්) | 493 | 50 | චෝරනාගගේ බිසොව වන අනුලා චෝරනාගද වසදී මරා මොහු රජකමේ තබාගත් බව කියයි. |
| ශිව රජවීම | 494 | 53 | අනුලා මොහුද අවු 1 මා.2 රජකරවීය. මෙය ම: ව: සඳහන් නොවන අතර මකලන්තිස්ස නැමැත්තෙක් රජකල බව කියයි. |
| අනුලා යටතේ වටුක රජ | 495 | 52 | |
| ,, ,, දරුභාතියතිස්ස | 496 | 50 | ම: ව: මේවා සඳහන් නොවේ. |
| ,, ,, නිලිය | 497 | 49 | රාජ්‍ය කාලය මාස 6කින් අනුලා මොහු මැරවීය. |
| අනුලා | 497 | 47 | |
| කුඨකණ්ණ තිස්ස රජතුමා | 502 | 42 | මොහු අනුලා මරා රජකම ගෙන අවු: 22ක් රජ කල බව කියයි. මෙකල රාජ්‍ය නාමාවලිය අවුල් සහගත බව පෙනේ. ම: ව: මොහු මකලන්තිස්ස නමින් දක්වයි. |

| | | | |
|---|---|---|---|
| අභය රජු (භාතිකාභයතිස්ස) | 524 | 20 | කුජුල කැඩ් ෆයිසස් කාබුල් හා කාශ්මීරය අල්ලා ගැනීම මෙකල යේසුස් වහන්සේ උපන්නේය. |
| නාග රජු (මහාදඨික මහානාග) ක්‍රි.ව. | | | |
| (මහාදැලියාමාන-ආමණ්ඩ-ගාමිණී අභය) | 525 | 9 | |
| ආමණ්ඩගාමිණී අභය | 564 | 21 | |
| කණිරජාණුතිස්ස රජු | 573 | 30 | මොහු මැරීමට භික්ෂූන් වහන්සේලා තැත් කල බව දැක්වේ. |
| චූලාභය රජු | 574 | 31 | |
| සීවලී රැජින | 577 | 34 | |
| ඉලනාග | 580 | 37 | පළමුවෙන්ම ලංකාවට අගම්පඩි හමුදක් ගෙනාවේ මොහුය. |
| චන්ද්‍රමුඛ ශිවරජු | 586 | 43 | මෙම යුගයේ ඉංදියාවේ සිටි කණිෂ්ක රජු බෞද්ධ ධර්ම කටයුතු දියුණු කල බවත් බෞද්ධ දූතයන් මධ්‍යාසියාවටද චීනයටද යැවීන. |
| යසලාලකතිස්ස රජු | 595 | 52 | මොහු සුභ නම් දෙරටුපාලයා සමග කළ ක්‍රීඩාව නිසා මල බවත් එයින් පසු සුභ රජවූ බවත් පෙනේ. |
| සුභ රජු | 602 | 59 | මෙකල රෝමයේ නීරෝ රජ කළ අතර ඔහු රෝමය ගිනිගනිද්දී වීණා වාදනය කරමින් සිටි බව දැක්වේ. |
| වසභ | 608 | 65 | මොහු ලම්බකරණවංශිකයෙකි. මොහුගෙන් පසුව මෙම රාජ වංශය අවුරුදුසිය ගණනක් |

| | | | |
|---|---|---|---|
| | | | පාලනය කෙරින. වැව් හා ඇල නිර්මාණය මෙකල වැදගත්ය. |
| වංකනාසිකතිස්ස රජු | 652 | 109 | නැවතත් ශකවරුන්ගේ පාලනය උ. ඉ. ගොඩනැගුණ අතර මෙය නහපානගේ පාලන අවදිය බව පෙනේ. මිංචි චීන අධිරාජයා ඉංදියාවෙන් චීනයට බුදුදහම ගෙන ගියේය. |
| ගජබාහු ගාමිණී (1ගජබා) රජු | 655 | 112 | මෙම රජු හා නිල යෝධයා ඉංදියාවට ගොස් තම පියාගේ යුගයේ ඉංදියාවට ගෙනයන ලද සෙනග මෙන් දෙගුණයක් ගෙනා බව සඳහන් වේ. මෙකල චෝලදේශයේ සිටි චෝල රජු පත්තිනි සලඹ පූජා භාණ්ඩයක් වශයෙන් දුන්බව දැක්වේ. ගජබාගේ මෙම ජයග්‍රහණය සිහිවීමට පෙරහැරක් පැවැත්වූ බවත් දැනට ඇසල මාසයේ පැවැත්වෙන දළදා පෙරහැර එය බවත් සඳහන්වේ. |
| මහල්ලකනාග රජු | 677 | 134 | ඉංදියාවේ රුද්‍රදමන්ගේ පාලන කාලය බව පෙනේ. |
| භාතික තිස්ස රජු | 683 | 140 | ශ්‍රී යඥශ්‍රී සාතකරණී මෙකල ඉංදියාව පාලනය කෙරින. ආන්ද්‍රදේශයත් මහා රාෂ්ට්‍රයත් මොහුගේ පාලනයට අයත්විය. |
| කණිට්ඨතිස්ස රජු | 707 | 164 | මෙකල දකුණු ඉංදියාව හා රෝමය අතර දියුණු වෙළඳාමක් පැවති බව පෙනේ. |
| බුජ්ජනාග රජු (චූලනාග ම:ව.) | 735 | 192 | |

| | | | |
|---|---|---|---|
| කුඤ්චනාග (කුඩ්ඨනාග) | 737 | 194 | මෙකල කාලිංගයේ ඛාරවේල මහා මේඝවාහන නම් රජු රජව සිටියේය. ද. ඉංදියාවේ චෝල පාණ්ඩ්‍ය, කේරළ: රාජ්‍යද වෙනම පිහිටියේය. |
| සිරිනාග I | 738 | 195 | |
| අභයනාග | 757 | 214 | ම: ව: සඳහන් වන්නේ වෝහාර තිස්සට පසු අභයනාග රජවූ බවය. |
| වෝහාරතිස්ස රජු | 765 | 222 | මෙකල ඉංදියාවේ මහායානවාදය පැතිරගිය අතර එය ලංකාවටද බලපෑ බව පෙනේ. |
| සිරිනාග II | 787 | 244 | |
| විජය කුමාර රජු | 789 | 246 | මහියංගනයේ සිට රජගෙදර සේවයට පැමිණි සංඝතිස්ස මොහු මරා රජවූ බව මැව: දැක්වේ. |
| සංඝතිස්ස<br>සංඝබෝධි (සිරිසංඝබෝධි ම.ව.) 794-251 | 790 | 247 | ඉංදීය ඉතිහාසය දක්වා ඇති ඉතිහාස ග්‍රන්ථවලට ම: ව: කාල නිර්ණයන් නොගැලපේ. ඉංග්‍රීසි ඉතිහාසඥයන් ඉංදීය ඉතිහාසය සැකසීමේදී එම කාලනිර්ණයන් ගෙන ඇත. එසේ වුවත් ම: ව: හා දී. ව. කාලනිර්ණයන් අනුව මෙකල ඉංදියාවේ ගුප්ත යුගය බව පෙනේ. |
| මේඝවණ්ණ-අභය රජ<br>(ගෝඨාභය-ම:ව:) | 796 | 253 | |
| ජෙට්ඨතිස්ස රජ | 809 | 266 | |

| | | | |
|---|---|---|---|
| මහසෙන් රජ | 819 | 276 | මහසෙන් වැනි යහපත් රජෙකු සංඝමිත්‍ර වැනි දුෂ්ට භික්ෂුවක ඇසුරු කිරීම නිසා දී:ව: කතුවරයා දුක්වන අයුරු අවසන් පරිච්ඡේදයේ දක්නට ලැබේ. අසත්පුරුෂයන් හා එක්වීම විෂ ඇති නයින් ලඟ තබා ගන්නා සේ යයි කියයි. |

# සිංහල දීපවංශය

**ඒ අරහත් සම්‍යක් සම්බුදුරාජාණන් වහන්සේට නමස්කාරවේවා.**

පාලි දීපවංශය ඇසුරු කරමින් එහි එන කිසිදු අදහසකට බාධාවක් නොවනසේ සමහර කරුණු සවිස්තරවද සමහර කරුණු සංක්ෂිප්තවද ඉදිරිපත් කර ගණිමින් සිංහල දීපවංශය රචනා කරමි.

පළමුවෙන්ම මෙහිදී අප සම්‍යක් සම්බුදු රජාණාන් වහන්සේ ලංකාවට වැඩි ආකාරය විස්තර කරමි. අනතුරු උන්වහන්සේගේ ධාතූන් වහන්සේලා වැඩම කරවීම පිළිබඳ කථාවද; උන්වහන්සේට බුදුවීමට ආධාර වූ ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ වැඩම වීම පිළිබඳ කථාවද ගෙනහැර දක්වමි. එසේම විජය කුමරු මෙහි පැමිණ ලක්බිම සිය නිජබිම කර ගැනීම පිළිබඳ විස්තරය ද; ලක්පොළවෙහි බුදුසසුන ස්ථිරව පිහිටුවීම පිළිබඳ විවිධ සිද්ධීන්ද මෙහිදී ගෙනහැර දක්වමි.[1]

ලක් ජනතාවගේ ප්‍රීති ප්‍රමෝධ්‍ය උපදවන්නා වූ එම අසිරිමත් සිද්ධීන් පිරුණු හද තුළ සනිටුහන් කර ගනිමින් මහත් සතුටු සිතින් අසන්නේ නම් මැනවි. එසේම මනාකොට සකස්කරන ලද මෙය නිවැරදි යහපත් මනසින් හා ඔදවැඩී ගිය ස්ථිසාර සිතින් යුතුව පිළිපදින්න.

මෙහිදී විචිත්‍රාකාරයෙන් වර්ණනා කරණු ලබන්නේ බොහෝ දෙනා විසින් විවිධ අලංකාර මල් උපයෝගී කර ගනිමින් අත්‍යලංකාර කරන ලද මල්දමකට සමාන වූ විවිධාලංකාර

---

* මඃ වඃ පළමුවෙන් දක්වන්නේ සිද්ධාර්ථ තවුසානන් බුද්ධත්වයට පත්වීම පිළිබඳ කථාවයි. තවද බුදුපිරිස 1000 ක් දක්වා දැඩි කරගත් අවස්ථාද දක්වා ඇත.

කතාවන්ගෙන් සමුච්චින්න වූ අවිච්චිනව ගලා එන වංශකථාවයි. එනිසා සියල්ලන්ගේ සිත්සතන් හා මනෝ භාවයන් එදෙසට යොමුකර අසන්න. එය ඉතා වැඩදයකය. තවද මෙය උපමා උපමේයන් ගෙන් ගහනය. එසේම මෙය උතුම් වූ විචිත්‍ර දේශක වරුනට විසීම සඳහා පවිත්‍ර වූ නිවහනකි. මෙහි අසත්‍ය බිඳකුදු නැත. සියල්ල සත්‍යයෙන් යුතුය.[1] අයති්න්ගේ ගමන පිළිබඳ විස්තර ද මෙහිදී දක්වනු ලැබේ. මනා සැකැස්මකින් හා උසස් ආකාරයෙන් වර්නනා කෙරෙන්නා වූ එම කථාව ඉතා යහපත් ලෙස ශ්‍රවනය කරන්න.

අප තථාගත සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ උසස් අධිෂ්ඨාන ශක්තිය කින් යුක්ත වූ සේක. ලෝකයේ බොහෝ මනුෂ්‍යයින් හා සත්වයින් කම්පාවන විවිධ දේ පිළිබඳව කිසි ලෙසකින් හෝ කම්පා නොවන්නේය. එසේම ලෝකයේ සියළු උතුම් පුරුෂයන්ට වඩා උන්වහන්සේ උතුම් වූ සේක. මාර දිව්‍ය පුත්‍රයා දසබිම්බරක් ස්වකීය වූ මාර පිරිස පිරිවරාගෙන උන්වහන්සේ වෙත පැමිණෙන අවස්ථාවෙහි බෝරුක් මුල පිහිටියා වූ වජ්‍රාසන යෙහි උන්වහන්සේ නොසෙල්වී වැඩ සිටි සේක.[2] බද්ධ පර්යංකයෙන් යුතුව විසූසේක. කේශර සිංහයෙකු බඳු උන්වහන්සේ තමන් ඉදිරියට දිව එන වසවර්ති මාරයා සහිත පිරිස දැකද පලා නොගිය සේක. උන්වහන්සේ සමග විවිධ උපක්‍රමයන් අනුගමනය කරමින් සටනට පැමිණි ඒ වසවත් මාරයා සහිත පිරිස උන්වහන්සේ පළවා හැරි සේක. සතුටු සිත් ඇත්තා වූ උන්වහන්සේ ජයග්‍රාහී ලීලාවෙන් යුතුව සියලු රාගාදී කෙළෙසුන්ගෙන් මිදී සමාධි ගත වූ සේක. භාවනාදී කර්මස්ථානයද මෙනෙහි කළහ. එසේම යෝනිසෝ මනසිකාරයද; අසුරු කළ යුතු බොහෝ ධර්මස්කන්ධයන්ද ඇසුරු කළ සේක. මේ ආකාරයෙන් පූර්වේනිවාසානුස්මෘති ඥානයද., දිව්‍යචක්‍ෂුත්,ඥානයද; ලබාගෙන තුන්යම් රාත්‍රිය ගත කළ සේක. එයින් අනතුරුව පසුයම් කාලයෙහි තමන් වහන්සේ විසින් අවබෝධ කරන ලද ප්‍රත්‍ය ධර්මයන් අනුලෝම ප්‍රතිලෝම වශයෙන් මෙනෙහි කළ සේක. ධර්මය මනාසේ අවබෝධ කොට මාර්ග භාවනාදියද වැඩූ සේක. ඒ අනුව

1. තමාලියන කරුණු පිළිබඳව මං වං මෙවැනි විස්තරයක් නැත.
2. මාරයාගේ පැමිණීම පිළිබඳව මං වං දක්වා නැත.

නිවන් සුව පසක් කළ සේක. මෙසේ උන්වහන්සේ සර්වඥතාඥානය ලැබ බුදු වූ නිසා "බුද්ධ" යන නාමයෙන් පළමුවරට ප්‍රකට වූ සේක.

අප මහා තථාගතයන් වහන්සේ සියලු ධර්මයන් හි මනාසේ පිහිටා උදන වාක්‍ය[1] ප්‍රකාශ කළහ. එසේ උදන වාක්‍ය ප්‍රකාශ කලා වූ උන්වහන්සේ එම පර්යඞකයෙහිම සත්දිනක් විසූ සේක. සියළු ආශාවන් ගෙන් මිදුනා වූ උන්වහන්සේ සිදුකරන ලද කටයුතු ඇති වූ සේක. සියළු ආශාවන්ගෙන් විනිර්මුක්ත වූ සන්තානයක් ඇති එම බුදු රද හු තුටු පහටු ඔද වැඩියා වූ සිතින් යුතුව බොහෝ දෙනාට වැඩ සලසන ආකාරය සිතු සේක. සියලු ලෝසතුන්ට වැඩ සලසන්නා වූ ඒ සම්‍යාක් සම්බුදු රජාණන් වහන්සේ සියළු සත්වයන් කෙරේ පතළ කරුණාවෙන් යුතුව ක්‍ෂණයක් ක්‍ෂණයක් පාසා ලෝකය බලන්නාහ. තවද පසැසින් සියළු සතුන් බැලූ සේක.

පතළ ඤැනින් යුතු ඒ සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ සියළු සතුන් කෙරේ කරුණාගුණෙන් යුත් සදණාලෝකය විහිදුවා දසත බලන කල්හි අතිශය උතුම් වූ ලක්දිව දුටුසේක. එසේ ලක්දිව දුටු උන්වහන්සේ ලංකාවේ පිහිටි යහපත් දේශගුණයන්ගෙන් හෙබි ප්‍රදේශත්; නොයෙක් මහාර්ග රත්නයන්ගෙන් පිරී ඇති බවත්. පෙර බුදුවයන්ගේ පාදශ්පර්ෂය ලැබීමෙන් මනාසේ පිරිසිදුව ඇති සැටිත්; දනමානාදිය මනාසෙ ලැබෙන අකාරයත් දුටහ. එසේම මෙය ආයර්‍ය ගනයාගෙන් සැදුම්ලත් දිවයිනකි. කලට වේලාවට පැසෙන කෙත්වතු ද ඇත. ඒ සියළු ගුණාංගයන් ගෙන් හෙබි ලක්දිව කෙරෙහිත් එහි වසන්නාව සියළු සත්වයන් කෙරෙහිත් පතළ මහාකරුණාවෙන් යුතුව බැලූ උන්වහන් සේ මෙහි පැමිණීම සඳහා කල් නොකල් බලමින් සිටිසේක. මෙකල මෙම ලක්දෙරණ මත යක්‍ෂ රාක්‍ෂ්‍ය අමනුෂ්‍යයින්ගෙන් හෙබි භූත වර්‍ගයෝ විසූහ. මෙම භූතයන් භාග්‍යවතුන් වහන්සේ විසින් පිළිකුල් කරන ලදී. එම නිසා මෙවැනි යහපත් දිවයිනක ඔවුන්ගේ බලය වනසා ලන්නට සිතූ උන්වහන්සේ මේ එයට සුදුසු කාලය යැයි සිතූ සේක. මේ යක්‍ෂයන් පිසාචයන් පැන්නීමට සුදුසු කාලයයි. අන්‍යය චණ්ඩ පරුෂ අමනුෂ්‍යයින් ද ලක්දිවින් බැහැර කළ යුතුය. තවද මෙම

1. යදහවේ පාතු භවන්ති ධම්මා - ආදී ගාථාවන්ය.

ලක්දිව මනුෂ්‍ය වර්ගයාට ආවේනික වූ ක්ෂේම භූමියක් කොට මනුෂ්‍යයන් ගේම වාස භූමියක් කරවීම උන්වහන්සේගේ එකම අදහස විය. එසේම මෙහි මෙම පාපතර වූ යක්ෂයන් සිටින විට බුද්ධ ශාසනයටද අන්තරාය කර වන්නේය. යනුවෙන්ද කල්පනා කළ තථාගතයන් වහන්සේ ඔවුන් පලවා හැර සියළු සත්වයන්ගේම ප්‍රසාදය පිණිස ලක්දිව් වැසියන්ට ආර්‍ය අෂ්ඨාංගික මාර්ගය දේශානා කරන්නෙමි යි, සිතූ සේක.

ඒ තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේ ඉන් අනතුරුව මෙසේද මෙනෙහි කළ සේක. අහස් කුසේ ඔබලන්නා වූ සූර්‍යයා අවර දිගට යන්නේ යම්සේද? එසේම මම ද අනුපදිශේෂ නිර්වාණ ධතුවෙන් පිරිනිවන් පාන්නෙමි. එසේ මා පිරිනිවන්පා සාර මසකින්[1] ප්‍රථම සංඝායනාව සිදුවන්නේය. එයින් පසු ශාසනය බොහෝ කලක් පවත්වා ගෙන යාමට මෙය උපයෝගී වන්නේය. නැවත අවුරුදු සියක් ඉක්මයාමෙන් පසු දෙවන ධර්ම සංඝායනාව[2] සිදුවේ. තවද ධර්මාශෝක රජුගේ දහ අටවන රාජ්‍යය වර්ෂයේ[3] තෙවන සංඝායනාව සිදුවන බවත් උන්වහන්සේ දුටුසේක.[4]

දඹදිව් තලයෙහි මහා තෙදවත් බවින් හා පිණින් අගතැන්පත් බොහෝ ඇසූ පිරූ තැන් ඇති; එසේම මහත් පතල වූ කීර්ති නාමයක් ඇති ධර්මශෝක නම් රජෙකු අනාගතයේ උපදී. ඒ ධර්මාශෝකයනට පණ්ඩිත මානී වූ සියළු දේ දැනීමෙන් අගතැන් පැමිණියා වූ මහින්ද නම් වූ පුතෙකු ද උපදී. ඔහු පැවිදිව ලක් දිවට වැඩ ලක්දිව් වැසියන්ගේ හිත් පහදවන බවද උන් වහන්සේ

1. ම: ව: 3 වන පරිච්ඡේදයේ පළමුවන සංඝායනාව තුන් මසකින් පැවැත්වූ බව දක්වා ඇත. මහාවග්ග පාලියේද දක්වා ඇත්තේ තුන් මසකින් පැවැත්වූ බවයි.
2. කාලාශෝක රජුගේ දහවන රාජ්‍ය වර්ෂයේ මෙය සිදුවූ බව ම: ව: කියයි. බුදුන් පිරිනිවී හරියටම අවු: 100 මෙම 10 වන රාජ්‍ය වර්ෂය බවද කියයි (ම:ව: 4 පරි)
3. මෙම සංඝායනාව ධර්මාශෝක රජුගේ 14 වන රාජ්‍යවර්ෂයේ සිදුකල බව ම:ව: එයි.
4. ප්‍රථම: දෙවන: තෙවන සංඝායනා මෙහි දක්වා ඇත්තේ බුදුන් වහන්සේ දකින අනාගත දැක්මක් ආකාරයෙන් වුවත් ම: ව: එය අතීත සිදුවීමක් ලෙස ඉදිරිපත් කරයි.

දූටහ. උන්වහන්සේ බොහෝ දෙනාගේ හිතසුව පිණිස වූ මෙම කරුණු කෙරේ අවධානය යොමු කොට ලක්දිව ආරක්‍ෂා කොට වදාළහ. ඒ තථාගතයන් වහන්සේ ශ්‍රී මහා බෝධි මූලයෙහි පළමු සත්දින ගෙවූ සේක. ඉනික් බිතිව එයින් නැගී සිටි උන්වහන්සේ ශ්‍රී මහා බෝ සමිදුන්ට මුහුණලා එයට උපහාර දැක්වීමක් වශයෙන් අනිමිස ලෝචන පූජාවෙන් දෙවන සත්දින ගතකල සේක. තෙවැනි සත්දින දෙවියන් විසින් සකසා දුන් රුවන් අසුනෙහි වැඩ සිටියහ. අනතුරුව සිව්වන සත්දින උන්වහන්සේ ගතකළේ රුවන්ගෙහිය. පස්වනුව අජපල් නුගරුක මුලට වැඩි ඒ තථාගතයන් වහන්සේ ඊළඟ සත්දින එහි විසූහ. එම සත්දින අවසානයෙහි මහාවැස්සක් ඇතිවිය. එම අවස්ථාවේ එම ස්ථානයට පැමිණි මුචලින්ද නා රදහු උන්වහන්සේ සිය දරණ තුළ සඟවමින් වැසි සුළඟින් ආරක්‍ෂා කළහ. සයවන දිනහත ම ගතකරන ලද්දේ මුචලින්ද නාදරන සෙවනෙහිය. හත්වන සත්දින ඒ තථාගතයාණෝ වැඩ විසූ සේක් කිරිපලු නුගරුක් මුලය. මේ ආකාරයෙන් උන්වහන්සේ සත්සතිය ගෙවූ සේක. මෙසේ සති හතක් තුළ නොයෙක් පලසමාපත්තීන්ට සමවැදුනු, එයින් සමාපත් සුව විඳි ඒ මහා සර්වඥ වීරයාණන් වහන්සේ ස්වකීය පළමු දම්දෙසුම දෙසීමට කල්යල් බැලූහ.[1] අවසන් වශයෙන් පළමු දම්සක් පැවතුම් සූත්‍රය පස්වග මහණුන්ට දේශනා කිරිමට අදහස් කළ උන්වහන්සේ එම ධර්මය දේශනා කිරීම සඳහා බරණැස ඉසිපතනාරාමයට වැඩි සේක.

බරණැස ඉසිපතනයට වැඩි බුදුහිමිපාණෝ උතුම් වූ දම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළහ. එම ධර්ම දේශනයෙන් දෙවියන්; බ්‍රහ්මයන් මිනිසුන් සහිත දහඅට කෝටියකට පමණ ධර්මාවබෝධ වූහ. මෙහිදී අනාත්ම ලක්‍ෂණ සූත්‍රය දේශනා කරන ලදී. එම ධර්ම දේශනාව අවසානයෙහි කොණ්ඩඤ්ඤ; වප්ප; භද්දිය; මහානාම; අස්සජි යන පස්වග තවුස් හු රාගාදී කෙළෙසුන්ගෙන් මිදුනාහ. එයින් පසු තථාගතයන් වහන්සේ බරණැස ඉසිපතානයෙහිම වැඩ විසූ සේක. උන්වහන්සේගේ පළමුවන වස්විසුම සිදුවූයේ මෙම බරණැස ඉසිපතන යෙහිය. යසකුලපුත් ඇතුළු ඔහුගේ මිත්‍රයන්[2]

1. ම: ව: බුදුවීම පිළිබඳ හා සත්සතිය ගෙවූ ආකාරය පිළිබඳව දක්වා නැත.
2. විමල; සුභාහු; පුණ්ණජි; ගවම්පති යන සිව් දෙනාය. මෙම මිත්‍රයන් පිළිබඳවත් මිත්‍රයන් 50 පිළිබඳවත් ම: ව: දක්වා නැත.

සිව්දෙනා සසර භයින් මුදවන ලද්දේ ද මෙහිදීය. එම මිත්‍රයින් සිව්දෙනා ඇසුරු කළ ඒ අයගේ තවත් මිත්‍රයන් පණහක්ද උන්වහන්සේ සසර දුකින් එතර කළහ.[1] ඉසිපතනයේදී වස් පවාරණය කළ බුදුහිමියෝ කප්පාසික වනයට වැඩියහ. උන්වහන්සේට භද්දවග්ගිය. කුමාර වරුන් තිස්දෙනා හමුවූයේ එහිදීය. ඔවුන්ටද දහම් දෙසා ඔවුන් ද සසර භයින් මිදවූ සේක.

කෙළෙසුන් දුරුකළා වූ ඒ තථාගතයන් වහන්සේ පිළිවලින් ගම් නියම් ගම් පසු කරමින් උරුවෙල් දනව්වට වැඩිසේක. එහිදී උරුවෙල් කාශ්‍යප දුටහ.[2] උන්වහන්සේට නැවතීමට හමුවූයේ එම උරුවෙල් කාශ්‍යප ජටිල වරයාගේ ගිනිහල් ගෙයයි. එහි මහා බලවත් නාගරාජයෙකු විය. බුදුහු එම නාගරාජයා දමනය කළහ. ආශ්චර්‍ය්‍ය ජනක වූ පුදුම සහගතවූ මෙම සිදුවීම දුටු බොහෝ දෙනා[3] "ස්වාමීනි භාග්‍යවතුන් වහන්ස. මේශීත සිව්මස මෙහි වැඩ වසන සේක්වා: නිතිපතා අපි සියල්ලෝ ඔබ වහන්සේට බතින් සංග්‍රහ කරන්නෙමුයි කීහ.[4] ඒ තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේ ඔවුන්ගේ ආරාධනය පිළිගෙන එම ශීත සෘතුවෙහි උරුවේලාවෙහි වැඩ විසූ සේක. මෙම කාලයේදී උරුවෙල් කාශ්‍යප ඇතුළු පිරිසට[5] අඟු; මගධ, දෙරට වැසියෝ මහායාගයක් සූදනම් කලාහු ය. මෙය මහා ලාභ සත්කාර ගෙන දෙන මහායාගයකි. බුද්ධියෙන් හීන වූ උරුවෙල් කාශ්‍යප තෙමේ ඒ මහා ලාභ සත්කාර දැක මෙසේ සිතී.

> "සියළු කෙළෙසුන්ගෙන් මිදුනා වූ භගවත් තථාගත ගෞතම යෝ කෙළෙස් රහිත, හා කෙළෙස් සහිත තැනැත්තන්. ගේ චරිත දනිති. ඔවුන්ගේ දසාකාර චිත්තවීථි ගමන්කරන ආකාරයද දනිති."

---

1. මෙහිදී සැටනමක් ධර්ම ප්‍රචාරයෙය් යැවූ බව ම.ව. දක්වා ඇත. (මඃවඃ 1 පරි) මේ පිළිබඳව මහාවග්ග පාලියේ සවිස්තරව කරුණු දක්වා ඇත.
2. මෙහිදී බුදුන් වහන්සේ හා උරුවෙල් කාශ්‍යප අතර ඇතිවූ සංවාදයක් මහවග්ගයේ දැක්වේ.
3. මෙහි බොහෝ දෙනා යනුවෙන් සඳහන් වන්නේ උරුවෙල් කාශ්‍යපයන්ගේ අනුගාමික ශිෂ්‍යයන් ඇතුළු උරුවෙල් වැසියන්ය.
4. මෙම ආරාධනය හෝ මේ පිළිබඳ කිසිදු විස්තරයක් මහාවංශයේ දක්නට නොලැබේ.
5. උරුවෙල් කාශ්‍යපඃ නදීකාශ්‍යපඃ ගයා කාශ්‍යපඃ යන තිදෙන ගැනේ.

අන්සිත් - විමසීමෙහි නුවණක් ඇත්තා වූ බුදුරජාණන් වහන්සේ සිතින් සිත විමසා බලා උරුවෙල කාශ්‍යපගේ අදහස දැක එහිදී උරුවෙල් කාශ්‍යප ඇතුළු පිරිසට දම් දෙසා ධර්‍මහි හික්මවූසේ ක.

ඉනික්බිතිව භාග්‍යවතුන් වහන්සේ පිඬු පිණිස අහසින් කුරු දිවයිනට වැඩ අනවතප්තවිල අසලදී පිණ්ඩපාත දනය වළඳ බොහෝ සත්වයන්ගේ හිතසුව පිණිස සමවතට සමවන්සේක. එයින් පසු ඒ ලෝකනාථ මුනීද්‍රයන් වහන්සේ ප්‍රබුද්ධ වූ බුදු ඇසින් මුළුමහත් ලෝතලය බලා වදළහ. එම අවස්ථාවෙහි නිර්මලවූ ඒ ශාසතෘන් වහන්සේ උතුම් වූ ලක්දිව දුටුංසේක.

මෙම අවදියෙහි ලංකාදීපය දෙස දිවැසින් බැලූ උන්වහන්සේට මහ රුදුරු දැක්මෙක්වී. එනම් ලක්දිව මහමෙවුනා උයනෙහි[1] මනුෂ්‍යයන්ගේ මස් ලේ බුදින යක්‍ෂයන් රැස්වී සිටීමයි. මොවුන් චණ්ඩය; පරුෂය මොවුහු නිතරම හිස් වාචාල බස් දොඩවති. විවිධ මතයන්හි එල්බ ගත්තාවූ මොවුන් විවිධ අදහස්වලින් යුක්තය. මොවුහු සියල්ලෝ පරුෂ වදන් බෙනෙමින් මහා මේඝවන උයනට රැස් වෙමින් සිටිති. ඒ සම්මා සම්බුදු රදහු මෙසේ සිතූහ. 'මා මෙම රකුසන් මැදට ගොස් එහිදී ඔවුන් වෙහෙසට පත්කොට ඒ සියලු අමනුෂ්‍ය යන් ලක්දිවින් පළවා හැර මනුෂ්‍යයන්ට මෙහි ප්‍රධාන තැන දිය යුතුය. එවිට මනුෂ්‍යයන් මෙහි ප්‍රධාන ජන කොටස වේ. යනුවෙති. සියලු ජනයාගේ යහපත දකින්නාවූ බුදුරදහු බොහෝ දෙනාගේ යහපත පිණිස ඒ ගැනම මෙනෙහි කරමින් දඹදිවින් අහසට පැනනැගී ලක්දිවට වැඩිසේක. මෙසේ පැමිණියාවූ බුදුරජාණන් වහන්සේ යක්‍ෂයන් රැස්ව සිටි ස්ථානයෙහි අභ්‍යවකාශයෙහි යක්‍ෂයන්ට පෙනෙනසේ සම්කඩ[2] එලා එහි වැඩසිටි සේක. දැන් බුදුරජාණන් වහන්සේද සම්කඩද ඔවුන්ට

---

1. මෙය අනුරාධපුරයේ පිහිටි මහ මෙවුනා උයන නොවේ. මෙය පිහිටා තිබුණේ මහවැලි ගඟබඩ මහියංගන චෛත්‍ය අසලය.
   මෙය මහාවංශයේ සඳහන් වන්නේ මහානාගවන නමින් (පරි1) මෙම උයන තුන් යොදුනක් දිග යෙදුනත් දීපවංශයේ එසේ නැත.
2. භික්‍ෂූන් වහන්සේ වන්දනා මාන කිරීම සඳහාත්: භාවනා කිරීම සඳහාත්: ඉඳගැනීම සඳහාත් භාවිතා කරන සමින්කල පත්කඩකි.

පෙනේ. ඒ යකුන් සමූහයාට මෙසේ වැඩ සිටින්නාවූ බුදුරජාණන් වහන්සේ පෙනෙන්නේ ඒ වෙනත් බලවත් යකෙක් යයි ඔවුහු සිතූහ. උන්වහන්සේ කවරෙක්දැයි ඔවුහු නොදනිති. මහියංගන මහාසෑය පිහිටි ස්ථානයේ, මහවැලි ගඟ බඩ සුදුවැලිතලා සමීපයේ අහසෙහි වැඩසිටි උන්වහන්සේ දැහැන් සුවයට සමවන්සේක. මොහොතින් මොහොත එක් ධ්‍යානයකින් තවත් ධ්‍යානයකට එළඹෙමින් ඒ බුදුරදහු ඍධි ප්‍රාතිහාර්‍ය්‍ය දක්වති. ක්ෂණයෙන් ක්ෂණය, ඒ ඒ භවයන්ට අයත් චිත්තවීථින්ට සිය ධ්‍යානය යොමු කළහ. සමාධි චෛතසිකයන් ගෙන් පරතෙරට පැමිණියාවූ ඒ ධර්ම රාජ්‍යාණන් වහන්සේ වහවහා ධ්‍යානයන් ගෙන් මි දෙති. ඉවත්වෙති. මහත් ඍද්ධිබල ඇති උන්වහන්සේ මහත් ඍද්ධිප්‍රාතිහාර්‍ය්‍ය පාමින් සිටියදීම මහා වර්ෂාවක් ඇතිවිය. එයින් සිසිල් සුළඟ හැමතැන පැතිර ගියේය. මෙමඅවස්ථාවේ බුදුන් වහන්සේ සිය මුව පියුම විවර කළ සේක. උන්වහන්සේ මෙසේ වදළෝ.

> "යක්ෂයිනි! මට මෙහි වැඩ සිටීමට ඉඩදෙව්. තොපසියල්ල උණුසුම් කිරීමට මට පුළුවන. එසේම තොපගේ මෙම උත්සාහය දුරුකිරීමේබලයක්ද මට ඇත."

යක්ෂයෝ මෙම අවස්ථාවෙහි මෙසේ කීහ.

> "ස්වාමීනී; ඔබ වහන්සේට අපගේ වෙහෙස දුරුකිරීමට හැකිනම් ඔබවහන්සේම කැමතිසේ මෙහි වැඩ සිටින්න.[1] ඔබවහන්සේ ගේ තේජෝ ගුණය පහළ කරණු මැනවයිද"

සියල්ලන් විසින් කියන ලදී.

එම අවස්ථාවෙහි බුදුරදහුමෙසේ වදාලහ.

> "මගෙන් පීඩානවට පත් තෙපි; මගෙන් උණුසුම ඉල්ලන්නාහුය. තොප මහත්සේ කැමති වන්නාවූ එම උණුසුම තොපට අවශ්‍ය පරිදි ඉතා ඉක්මනින් දෙමි"

යම්සේ ග්‍රීෂ්ම මාසයන්හි මැදභාගයේ සූර්‍ය්‍යයා මුදුන්වූ කල්හි යම් උෂ්ණත්වයක් දැනේද? එබඳුවූ රශ්මියක් ඒ යක්ෂ සමූහයන්ගේ[2] කයෙහි පතිත විය. එසේම බුදුරජාණන් වහන්සේ

1. මුළු ලක්දිවම ඔබ වහන්සේට දෙමැයි මඃ වඃ දැක්වේ. (මාඃ වඃ 1 පරි)
2. මෙවැනි විස්තරයක් මඃ වංශයෙහි දක්නට නැත.

සිටිනැන සිරස්පථයෙන් කල්පවිනාශ කාලයෙහි පායන්නාවූ සූර්‍යයන් දෙදෙනෙකුගේ රශ්මියබඳු රශ්මියක් විද්‍යාමාන විය. අහසෙහි නැගුනාවූ සූර්‍යයාගේ රශ්මිය වලකාලන්නට කිසිවකු නැත්තාසේ බුදුන් වහන්සේ අහසේ සිට විහිදුවන ලද්දව මෙම රශ්මිය වැලකීමට හෝ ආවරණය කිරීමට කිසිදුක්‍රමයක් නොවීය. බුදුන් වහන්සේ වැඩ සිටින සම්කඩ තුළින්ද කල්ප විනාශ කාලයේ ගින්නක් මෙන්ද, සූර්‍යයාගේ රශ්මිය බඳුවූද තේජසක් පැතිර ගියේය. එසේම එයින් මහත් පීඩාදයකට ගිනිදැල් පැතිරෙන්නට විය. බුදුන්වහන්සේ වැඩහිඳි එම සම්කඩගිනිගෙන දිළිසෙන අගුරු රැසක් බඳුය. තද රත්පැහැයෙන් දිළිසෙන සැදෑ වලාකුලක් සේ පැන නැගේය එසේම එයින් අතිශය, පීඩාකරවූ දැඩි රශ්මියක්ද මතුවෙයි. එය නියම වශයෙන්ම ගිනිගෙන දැවෙන්නාවූ යකඩ පර්වතයක් සේ විය. මේ අවස්ථා වේදී නැගෙනහිර හා බටහිර දිසාවන්හිද; උතුරු දිග හා දකුණු ප්‍රදේශයන්හිද උඩ, යට දිසා හා විවිධ අනු දිසාවන්හිද බුදුරජාණන් වහන්සේගේ තේජෝ ගුණය මනාසේ පැතිර ගි යාහුය. එසේම උන්වහන්සේ බැබලුන සේක. එය දුටු යක්‍ෂයෝ "මේ මහානුභාව සම්පන්න උතුමෙකැයි" සිතූහ. තවද ඔවුන් මෙසේද සිතී.

> "කවද අපි මේ හයින් මිදෙන්නෙමුද? කිසිදු අනතුරකින් තොරව කෙළෙසකින් අපි මෙතෙනින් යන්නෙමුද? යක්‍ෂයන් වන අප මහාසැඩ සුළඟකට අසුවූ බොල් රොදක් මෙන් විනාශවී යන්නේය."

ඉනික් බිතිව සෘෂීන්ට සෘෂිවරයෙක් බඳුවූ මේ ලෝකයේ සියළු සත්වයන්ට සැප ගෙන දෙන්නාවූ ඒ සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ දුකින් පීඩිතව සිටියාවූ යක්‍ෂයන් දැක ඔවුන් කෙරේ අනුකම්පා සහගත පතළ කරුණා දයාව පතුරුවා ඔවුන්ට යහපතහා සැප ගෙන දෙන්නාවූ ආකාරය පිළිබඳව මෙනෙහි කළ සේක. මෙසේ සිතූ උන්වහන්සේට ඒ යක්‍ෂ වර්ගයාට අවශ්‍යය; ගංගා;වල,ගොඩැලි,පර්වත, පොකුණු, ආදියෙන් සමන්විත වූ, ලක්දිව හා සමානවූ, උතුම්වූ අන්‍ය දිවයිනක්වූ, ගිරිදිවයින දුටුසේක. එය දුටු බුදුරදහු මෙසේ සිතූහ.

"මෙම දිවයිනෙහි නිර්භයව ජීවත්විය හැකිය. මෙය අලංකාරය. මුහුද අවසන් කොට ඇත. ඇල්වී ආදියෙන් හා විවිධ බොහෝ කැම් බීම් ආදියෙන්දමෙම දිවයින සැදුම් ලද්දේය. එසේම නොයෙක් දේශගුණයන්ගෙන්ද සමන්විතය. ඒ උතුම්වූ ගිරි දිවයින මම මේ සමීපයට ගෙන්වමි. එසේම මෙම දිවයිනෙහි දුටුදුටුවන්ගේ සිත් ඇදගන්නා වූ සිසිලසක් ඇත. නිල්වන් තණ බිම්ද ඇත. එපමණක් ද නොව අරණ්‍යාය තනයන් ගෙන්ද වනාරාම, ආරාමආදියෙන්ද සැදුම් ලද්දේය. තවද විවිධ ගස් වැල්වලින් සමන්විත වූ මෙහි විවිධ ඵලපල්ලවයන් ගෙන්ද ගැවසී ගත්තේය. ජනයාගෙන් සුන්‍යවූ මෙය මනා විවේකස්ථාන යකි. මෙහි කිසිදු අධිපතියෙකුද නැත. එහෙයින් ඔවුන්ට මෙය යෝග්‍යය භූමියකි.

උන්වහන්සේ සිතුසේක. එසේම ඒ මුණිරදතෙම මෙසේද සිතී.

"මෙකල ලක්දිව අවට සාගරයෙහි අවට මෙන්මසාගරය මැද ද මහත් රෞද්‍රහා භයානක ලෙස රළගෙඩි බිඳිණු ලබයි. එහෙයින් ඔවුනට වෙනතකයාමද අපහසුය. පර්වත ආදියෙන් පිරීගත් මෙහි ඔවුනට කැමති දේ ලෙහෙසියෙන් කළ නොහැකිය."

යනුවෙනි.

"මෙකල මෙහිසිටි මෙම යක්ෂයෝ මානයෙන් අගතැන් පැමිණියෝවෙති. කිසිදු වරදකින් තොරව අනුනට ක්‍රොධ කරති. ඔවුහු අකාරුණික වූවාහුය. අනුන් පෙළීමේ ආශා ඇත්තාවූ ඔවුහු අනුන්ගේ මස්කනු ලබති. දයාවෙන් තොරය; චණ්ඩය, පරුෂය, වාචාලය; ඔවුහු මහා ආඩම්බරයෙන් යුතුව ජීවත් වෙති.[1] එනිසා මේ බොහෝ කලකසිට වාසෘ භූමිය කරගෙන සිටියාවූ එම රකුසන්හා යකුන්, මෙම දීවයිනෙන් ඉවත්කොට මම ඔවුනට සියළු ගිරිදිවයින දෙමි. එයින්. පසු මෙහි වෙසෙන්නාවූ සියළු මනුෂ්‍යයෝ සතුටින් වෙසෙත්වා!"

1. ගෛගර් පඬිතුමාගේ අදහස අනුව බලනවිට එතුමා ගිරිදිවයින වශයෙන් සඳහන් කරන්නේ ලංකාවේ මැද පිහිටි කඳු කරයි. එහි සිටින ජනයාගේ (පාරම්පරික පදිංචි කරුවන්) අදහස් ගැන සමාජවිද්‍යාත්මක පර්යේෂණ ඇසින් විමර්ශනයක යෙදුන හොත් ගෛගර් මහතාගේ අදහස්හි නිරවද්‍යතාවයක් දක්නට ලැබේ.

යනු උන්වහන්සේගේ පැතුම වී. එසේම ඒ භාග්‍යවතුන් වහන්සේ මෙසේද සිතූහ.

"ඈත අතීතයේ පටන් ලක්දිව මිනිසුන්ගේ වාසභූමියක් විය. ඒ අනුව ලක්දිව වරදීප, ඕජදීප; ආදී කාලවල සිටම මනුෂ්‍යයන් ජීවත්විය. එනිසා ඔවුන් නිදුකින් වෙසෙත්වා!"

යනුවෙනි. තවදුරටත් උන්වහන්සේ තුළ මෙවැනි අදහසක් ද ඇතිවූ සේක.

"මෙම ලක් බිමට මාගේ ශාසනය පැමිණි කල්හි මාගේ ගුණයන්ගෙන් හා අන්‍යවූ යහපත් ගුණයන් ගෙන්ද සංයුක්තවූ ඉතා යහපත් මනුෂ්‍යය වාසයක් මෙම ලක්පොළව තුළ ඇතිවන්නේය. එසේම මෙම ලක් ධරණී තලයෙහි මනුෂ්‍යයෝද යක්‍ෂයෝදැයි දෙකොසක් වෙති."

යනාදී වශයෙනි.

එම තථාගත සර්ඥයන් වහන්සේ එම දෙකොටසටම සමානව සැප ගෙනදුන් සේක. සියළු ලෝකයන් පිළිබඳව දන්නාවූ එම බුදුරදහු උගුලකට අසුවූ ගොන් බානක් මුදලන්නා සේ ඔවුන් යම් සැපයක් අපේක්ෂා කරන්නේද එයම ලබාදුන්සේක. තවද එම තථාගත භගවත්හු රැහැණ බැඳි ගොනකු තමා වෙතට ඇදගන්නාසේ එහිමින්ගේ ඍද්ධි බලමහිමයෙන් ගිරිදිවයින උන්වහන්සේ වෙතට යොමුකර ගත්හ. එසේම ධර්මයෙන් පිරිපුන්වූ එතුමා ණෝ යුග්ම නෞකාවකට අගුලක් ළඟාකර ගන්නාක් මෙන් ගිරිදිව යින ලක්දිව වෙත ළඟා කළහ. සියළු සත්වයන්ට සැප ළඟාකරන්නාවූ තථාගතයන් වහන්සේ ලක්දිව විසූ සියළු යක්‍ෂයන් පළවා හැර ගිරිදිවයින ඔවුන්ගේ සතුටුසිත් දනවන්නාවූ උත්සාහයන් දිරි ගැන්වෙන අත්‍යන්තයෙන් නිරන්තරයෙන්ම ඔවුන්ට ප්‍රීති ප්‍රමෝධ්‍යය ගෙන දෙන්නාවූ නිත්‍යය, වාසස්ථානයක් වේවා යයි ද සිත්හි සනිටුහන් කොට එය එක්කොට වදළසේක.

පිපාසිතවූ මුවන් ග්‍රීෂ්ම සමයෙහි ගඟට දිවෙන්නේ යම්සේද ඒ ආකාරයෙන් සියළු යක්‍ෂයෝ එකෙකුද ඉතිරි නොවන සේ සියල්ලෝම ගිරිදිවයිනට ගියාහුය. මෙසේ තථාගතයන් වහන්සේ

ලක්දිව අමනුෂ්‍යයන් ගෙන් නිදහස් කළ සේක. තමා බලාපොරොත්තු වූ අයුරින්ම දිවයිනක් ලැබුහයි එම යක්ෂයෝ ප්‍රීති ප්‍රමෝධයෙන් ඉපිල ගියාහුය. යහපත් දිවයිනක් ලැබුවාවූ ඔවුහු එයින් පසු කිසිවකට හෝ බියනොවූහ. සතුටින් උත්සව පැවැත්වූ හ. ඒ පතළ මහා කරුණා ගුණයෙන් හෙබි තාථගතයන් වහන්සේ එම අවස්ථවේ ඒ අමනුෂ්‍යයන් සුවපත් වූ බව දුටු සේක. ඒ දුටු තථාගතයාණෝ ඔවුන් තවත් සැපවත් කිරීම පිණිස මෙත් පිරිත වදළහ.[1] අනතුරුව තෙවරක් ලක්බිම පැදකුණු කොට අමනුෂ්‍යයන් දුරු කොට ලක්බිම ආරක්ෂා කළ සේක.

තථාගතයන් වහනේසේ උතුම් පිරිත දෙසා ලක්ධරණී තලය රැක අමනුෂ්‍යයන්ගේද හය දුරු කොට සැනසීමට පත්කොට ඔවුන් ගෙන් මනුෂ්‍යයන්ට වන හයද දුරුකළහ. එසේ කළාවූ උන්වහන්සේ නැවතත් උරුවෙල් දනව්වට වැඩි සේක.

1. ම: ව: සඳහන් වන්නේ මෙහිදී ධර්ම දේශනා කළ බවකි. එහිදී සමන්තකූට වාසී මහාසුමන දිව්‍යරාජයා සෝවාන් වූ බවක් එම දිව්‍ය රාජයා උන්වහන්සේ ගෙන් පූජාවක් සඳහා කිසිවක් ඉල්ලා සිටි බවත් එහිදී උන්වහන්සේ හිසපිරිමැද කේශධාතු මිටක් දුන් බවත් එය රන් කරඬුවකින් පිළිගෙන බුදුන් වහන්සේ වැඩ සිටි තැන 21 රියන් උස ඉඳුනීල චෛත්‍යක් කරවූ බවත් සඳහන් වේ. මේ හැරුණු විට මහියංගන චෛත්‍ය පිළිබඳ දීර්ඝ විස්තරයක්ද එයි. (ම.ව.1 පරි)

# 2

ඒ සම්‍යක් සම්බුද්ධ රාජයාණන් වහන්සේ සවනක් බුදුරැස් විහිදුවමින් මෙම අවදියෙහි කොසොල් රටේ ප්‍රධාන නගරයවූ සැපැත් නුවර සුදත් මහා සිටුවරයාණන් විසින් කරවන ලද ජේතවනාරාමයෙහි වැඩ විසූ සේක. එසේ වැඩ වසන කල්හි උන්වහන්සේ ලෝකය දෙස බලන්නේ උතුම්වූ ලක්දිව දුටහ. මෙයට පෙර උන්වහන්සේ විසින් මෙම ලක්බිමෙහි විසූවා වූ චණ්ඩ, පරුෂයක්ෂයන් පහකර දැමීම පිණිස පැමිණෙන ලදී. එසේ පැමිණ මෙය සැපදෙන්නාවූ දිවයිනක් බවටද පත් කෙරින. මෙයින් පසු ලක් පොළෝ තලයෙහි ගංගාධාරයන් හා මුහුදු වෙරළා සන්න පෙදෙස් උපනිශ්‍රය කර ගනිමින් ක්‍රෝධයෙන් නැගී සිටි දෙකොටසක්ව සටන් කිරිමට සටන් බිමට පිවිසියා වූ නාගයන් දමනය කිරීම පිණිසබුද්ධත්වයෙන් පස් මසක් ඉක්ම වීමෙන් තබ්බ පණ්ණී දේශයට වැඩිසේක.

එකල ලක්දිව මෙසේ සටන් වැදුනාවූ යක්ෂයෝ මහත් ඍධිබලයෙන් යුක්ත වූවාහුය. එසේම මෙම නාගයෝද මහත්සේ විෂ ඇත්තෝය. සියල්ලෝම මහත්වූ ක්ලේෂයන් ගෙන් ගහනවූවාහු වෙත්. තවද චණ්ඩ පරුෂ ගතිවලින් යුක්තය.මානය නමැති ජලයෙන් තෙමන ලද්දවූ ඔවුහු ද්වේශයෙන් අගතැන් පත්වූවෝ වෙත්. මහත් තේජෝ බලපරාක්‍රමයෙන් යුක්තව දෙකොටසක් ව මෙම නාගයෝ තම විරුද්ධවාදී නාගයන් විනාශ කිරීමේ අරමුණින් මහත් මානයෙන්. මීරිකුණාවූ වෙත්. මෙයින් මහත් තේජසින් යුත් මහෝදර හා මහත් බලසම්පන්නවූ චූලෝදරද වෙත්. එම නිසා දෙදෙනාගේ ම බලපරාක්‍රමයන් පිළිබඳව මෙහිදී වණීනාකල යුතුය. මහත්වූ තෙදවත් මානයෙන් ඉදිමුනාවූ මහෝදරයන් තමාට වඩා උසස් අනෙකෙක් නැතැයි සිතයි. තමා හා සමානයෙක් නැතැයි ද කල්පනා කෙරෙයි. ඔහු විසින් සියළු

නාගයන් පමණක් නොව සියළු පර්වත ද මුළු දිවයිනද වනසන්නෙමැයි කල්පනා කෙරේ. එසේම බහුමානයෙන් අගතැන්පත්වූ චූලෝදර ද අනික් පස සිට ගර්ජනා කරනු ලබයි. ඔවුහු මෙසේ ගර්ජනා කරන්නාහුය.

> "ලක්‍ෂ කෝටි සංඛ්‍යාත නාගයෝ මෙහි පැමිණෙත්වා මෙම යුධබිම මැදට පිවිසියාව සියළු නාගයන් මම විනාශ කරමි. තවද යොදුන් සියයක් ඇති මෙම දිවයින මම නාග මලසිරුරු වලින් ගොඩ කරමි."

අදී වශයෙනි.

මහත්සේ කුපිතවූ ඔවුහු විෂ වේගයෙන් අනූනවූවෝ වෙති. මහත් සෘධි බලයන් ගෙන් ගහනවූ ඔවුහු. ක්‍රෝධයෙන් දිලිසෙති. මෙසේ ක්‍රෝධයෙන් මුලාවූ නාගයෝ යුද්ධයක් කොට රට විනාශ කරන්නට උත්සාහ කෙරෙති. ලෝකාර්ථ චාරීවූ සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ මේ නාගයන්ගේ අදහස් හේතු විරහිත බව දැන ගත්සේක. ඔවුන් යුද්ධ කළහොත් යුද්ධයෙන් විනාශවන බව සිතා ඔවුනටද දෙවියන් සහිත ලෝකයාටද මහත් සැප ගෙන දෙන්නෙමැයි සිතුහ.

> "අද මා ලක්දිවට යා යුතුය. එසේ නොයන්නේනම් ලක්දිව සියළු නාගයෝ වැනසෙත්. මම නාගයන් කෙරේ හිතානු කම්පාවෙන් ලක්දිවට යන්නෙමි"යි

ලක්දිවට යාමට සිතූසේක.

> ලක්දිව උතුම් බව නිසා මෙයට පෙර මා විසින් යකුන් පන්නා දැමින. ඒ අනුව එම දිවයිනට යහපතක්ද කරන ලදී. එම නිසා මේ අවස්ථාවේදී ලක්දිව නාගයෝ විනාශ නොකෙරෙත්වා;"

යනු වෙන්ද බුදුරජාණන් වහන්සේ සිතු සේක. මෙලෙසින් සිතු බුදුහිමියෝ හුන් අසුනින් නැගී ගන්‍ධකුටි විහාර යෙන් නික්ම විහාර දෙරටුව අසලට වැඩියහ. එම අවස්ථාවේ දෙව්රම අරක්ගෙන සිටි සියළුම දෙවිවරු උන්වහන්සේට උපස්ථාන පිණිස පැමිණියහ. බුදුහිමියෝ එම දෙවිවරුන් ට මෙසේ වදළෝ.

"මාහට මෙම අවස්ථාවේ ඔබ සියල්ලන් අවශ්‍ය නොවේ. මට සමිද්ධි සුමන පමණක් ප්‍රමාණවත්වේ. අන් අය නවතින්න. කිරිපලු නුගරුක පමණක් රැගෙන සමිද්ධි සුමන මාපසුපස එන්න."

යනුවෙනි.

බුදුරජාණන් වහන්සේගේ වචන ඇසූ. සමිද්ධි සුමණ[1] දෙවියන් කිරිපළු නුගරුක මුලින් ගලවා ගෙන තථාගතයන් වහන්සේ සමග ගියේය. මහත් සෘද්ධි බලයෙන් යුත් එම මහා සමිද්ධි සුමන දෙවියන් විසින් මිනිසුන්ට උතුම්වූ තථාගතයන් වහන්සේට සෙවන ගෙනදෙන ආකාරයෙන් එම කිරිපළු රුක ඔසවා ගෙන යනලදී. සියළු සත්වයන්ට ප්‍රධානවූ සියළු සත්වයන් කෙරේ දයානුකම්පා ඇති ඒ තථාගතයන් වහන්සේ යම්තැනක නාගයන් යුද්ධයට සූදනම්ව සිටියේ ද? එම ස්ථානයට වැඩි සේක. දෙපිරිස සටනට සැරසී සිටි ස්ථානයේ අහසෙහි මැද සිටි උන්වහන්සේ ඔවුන්ගේ මැද සිට මහත් අන්ධකාරයක් මැවූ සේක. ලෝක නාථයන් වහන්සේ ගේ ඉද්ධිබල මහිමයෙන් මැවූ එම අඳුර නිසා එම අවස්ථාවේ මුළු ලක්දිවම ඒකාන්ධකාරයෙන් වැසී ගියේය. දැන් නාගයන්ට ඔවුනොවුන් නොපෙනේ. ඔවුනොවුන්ගේ දුනු හී ද නොපෙනුනි. නාගයන් එම අවස්ථාවේ හයින් තැති ගත්හ. මෙම හේතුව නිසා කෙසේ නම් සටනක් කරන්න දැයි ඔවුහු සිතූහ. නැවත ඔවුනට අලෝකයක් ලැබුණි. ඒ හා සමගම ඔවුහු බුදුන් දුටුහ. ඒ අවස්ථාවේ සියල්ලෝම ආවුධ බිම හෙළුවෝ ය. එසේ ආයුධ බිම හෙලූ ඔවුහු බුදුන් වහන්සේට නමස්කාර කෙරෙන්නේ උන්වහන්සේ ඉදිරියේ ඇදිලි බැඳ සිටියාහුය. නාගයින් බියෙන් බියපත්ව ලොමු ඩැහැගත් ගතින් යුතුව සිටිනු තථාගතයන් වහන්සේ දුටුසේක. ඔවුන් කෙරේ මෙත්සිත් පතුරුවාලූ ඒ ලෝකනාථයන් වහන්සේ ඔවුන් උණුසුම් කිරීම සඳහා උණුසුම් රශ්මියක් විහිදවූ හ. ඒ සමගම මහත් ආලෝකයක් ඇතිවිය. එයින් ප්‍රීතිමත් ලොමු ඩැහැගැන්මක් ඇතිකිරීමට හේතුවක් වූයේය.[2] මෙම අවස්ථාවේ අහසේ චන්ද්‍රයා මෙන් බබලන බුදුරජාණන් වහන්සේ

1. සමිද්ධි සුමණ වෙනත් ආත්මයක නාගදීප වැසියෙක් බව මා:වා: දක්වයි (ම.ව.1)
2. මෙවන් විස්තරයක් ම: ව: දක්නට නොලැබේ.

ඒ නාගයන් සියළු දෙනාටම පෙනේ. උන්වහන්සේ ගෙන් දසදිසාවන්හි සවනක් බුදුරැස් විහිදෙන්නටවූ. ඒ සමගම ඒ තථාගතයාණෝ මෙසේ වදළෝ.

"මහරජ: මම නුඹලාගේ මෙම මහා කොළහලය දැක නුඹලා කෙරේ දයානු කම්පාවෙන් යුතුව දඹදිව සිට මෙහි පැමිණියෙමි.
කුමණ හේතුවක් නිසා නාගයන් අතර මෙම කොළහලය ඇතිවීද?"

"මේ දෙදෙන මාමාද බෑනාද වේ. මේ සිටින්නේ චූලෝදර නාගයායි. අනෙක් පසින් සිටින්නේ මහෝදර නාගයාය. දෙදෙනා අතර මේ සටන හටගෙන ඇත්තේ ධනය නිසාය."[1]

ඒ දයාණු කම්පාවෙන් තොරවූ චණ්ඩනාගයන්ට බුදුහු මෙසේ වදළහ.

"මෝඩයාට ක්‍රෝධය අල්පව ඇතිවේ. එසේ අල්පව ඇතිවූ ක්‍රෝධය පසුව මහත්බවට යයි.

"නාගයිනි! කුමක් නිසා තෙපි, මේ සුළුපළහක් හේතුකොට ගෙනදුකට ව්‍යසනයට පත්ව විනාශ වන්නාහුද? මේ නිසා තෙපි විනාශ නොවව්. ඔවු නොවුන් හා ඔවුනොවුන්ගේ ජීවිතයන් විනාශ නොකරව්."

යනුවෙන් වදළ බුදුහිමි පාණෝ එම අවස්ථාවේ ඔවුන් අපායභයින් බියපත්කොට වදළහ. සියළු නාගයෝ මෙයින් සංවේගයට පැමිණියාහුය. මේ අවස්ථාවේ තථාගතයනෝ බුද්ධ වචනයෙන් ධර්මය ප්‍රකාශ කරන්නාහු මනුෂ්‍ය ආත්මයේ සවභාව ය පිළිබඳවද දිව්‍ය ආත්මය පිළිබඳවද. නිර්වාණයේ යථාර්ත ස්වභාව ය පිලිබඳ වද ධර්මය දේශන කළහ.එම ධර්මදේශනාවසානයෙහි. දෙපිලක්ව සිටි නාගයන් එක්සත්ව සමගියෙන් යුතුව බුදුන් වහන්සේ ඉදිරියෙහි වැඳ වැටුනි. එසේ වැඳ වැටුනාවූ ඔවුහු බුදුන් වහන්සේගෙන් සමාව අයැදියහ. මැණික් පුටුවක් නිසා සියල්ල දිවිදීමට පැමිණියත්

1. ම: වං: මෙවැනි විවාදත්මක ස්වරූපයක් දක්වා නැත. එහි ඇත්තේ බුදුන් වහන්සේ දම් දෙසූ බව පමණකි.

සිදුවූයේ අනෙකකි.. එම අවස්ථාවේදී නාගයන් සහිත අසූ කෝටියක් සත්වයෝ සියළු දෙන බුදුන් සරණ ගියාහුය. මෙසේ සමගි දහමෙහි පිහිටියාවූ එම නාගයන් විසින් මැණික් වලින් නිර්මාණය කරන ලද අසුන ඔසවාගෙන විත් බුදුන් වහන්සේ ඉදිරියේ තබා මෙසේ කියන ලදී.

"ශ්‍රමණ බවත් තථාගතයන් වහන්ස. ඔබ වහන්සේ අප වෙනුවෙන් අනුකම්පා කරන සේක්වා. මෙම මැණික් ආසනය ඔබ වහන්සේ පිළිගනිත්වා.". යනුවෙනි.

ඒ උතුම්වූ තථාගතයාණෝ නිහඬ භාවයෙන් යුතුව එය පිළිගත් සේක. එම අවස්ථාවේ දෙකොටසම අයත් නාගයෝ මහත් ප්‍රීති ප්‍රමෝධ්‍යයෙන් ඉපිලුනාහුය. එම අවස්ථාවෙහි මනා ලෙස රැස් විහිදෙන්නාවූ නාගයන් මහත්සේ ලොබ බැඳගත්තා වූ එම මැණික් පළඟෙහි බුදුන් වහන්සේ වැඩ සිටිත්වා යි; නාගයෝ එම අසුන ගෙනවුත් එම දිවයින මැද තැබුවාහුය. ඒ දම්රජාණෝ එකල බුදුරැස්මාලා විහිදුවමින් එම අසුනෙහි වැඩ සිටි සේක. එදින බුදුරජාණන් වහන්සේ අසූ කෝටියක් පමණ නාගජනයා බුද්ධ ශාසනයෙහි පැහැදවූ සේක. එසේ පැහැදුනාවූ නාගයෝ එහිදී ඒ තථාගතයන් වහන්සේට නොයෙකුත් ආහාර පානාදියෙන්[1] සංග්‍රහ කළාහුය. වළඳ අවසන්වූ කල්හි ඒ අසූකෝටියක් නාග සමූහයා බුදුන් වහන්සේ පිරිවරා සිටියහ.

මෙම අවදියෙහි කැළණි ගඟ මුවදොර සමීපයෙහි දූ දරුවන් හා මහා නාග පිරිස් සහිතව මණිඅක්ඛිත නම් නාග රජෙකු විසීය. එම නාගරාජයා ශ්‍රද්ධාවෙන් හා ශීලයෙන් යුක්තවූ අතර යහපත් දැකීමක් ඇති අයෙකි. මොහුද එම නාග සංග්‍රාමයට නාගදීපයට ගොස් සිටියේය. මෙහිදී බුදුන් වහන්සේගේ බලය කෙරෙහි ඔහු මහත්සේ පැහැදී සිටියේය. ඔහු ක්‍රමයෙන් බුදුරජාණන් වහන්සේගේ ආසනය වෙත ළඟාවී බුදුන් වහන්සේ වැඳ උන්වහන්සේ ගෙන් මෙම ඉල්ලීම කැළේය.

---

1. මෙහිදී ම: ව: නාගයන් දිව්‍ය ආහාර පිදූ බව දක්වා ඇතත් මෙම කතුවරයා යථාර්ථාවදීව කරුණු දක්වා ඇති බව පෙනේ.

'මහාමුනීන්ද්‍ර වූ භාග්‍යවතුන් වහන්ස; ඔබ වහන්සේ මෙම ලක්දිව කෙරේ අනුකම්පාවෙන් පළමුව යක්ෂ දමනයට වැඩි සේක. දෙවනුව මෙම අවස්ථාවෙහි නාගයන්ගේ බස අනුග්‍රහය සඳහා වැඩිසේක. එනිසා තෙවන වරටද අප කෙරේ අනුකම්පා කර අප සිටින කැළණියට වඩින්නේ නම් මැනවි. මම සියළු වතාවත් හා උපස්ථානද කරන්නෙමි' යනුවෙන් කියා සිටියේ ය.

සියළු සත්වයන් කෙරේ අනුකම්පා දයා පර්වෂවූ බුදුරජාණන් වහන්සේ ලක් දනන්ගේ හිතසුව පිණිස එම මණිඅක් නාරජුන්ගේ පිළිගෙන වදළහ. එතැනින් නැගී සිටි ඒ ප්‍රභාශ්වරවූ මහාමුනීන්ද්‍ර යන් වහන්සේ ඒ නාගදීපය මධ්‍යයෙහි බද්ධ පර්යඞ්කයෙන් යුතුව දිවා කාලය ගත කළ සේක. මනුෂ්‍යයන්ට අගතැන්පත් උන්වහන්සේ එම නාගදීපය මැද පලක් බැඳගෙන බ්‍රහම විහාරි සමාපත්ති සුවසෙන්[1] යුතුව එදින ගත කළහ. එදින සවස්යාමයේ ඒ ජිනෙන්ද්‍රවූ තථාගතයන් වහන්සේ නාගයන් අමතා මෙසේ වදළ සේක.

'සියළු නාගයිනි; ඔබ විසින් මට මෙහිදී පූජාකරනලද මෙම මිණිපළඟද කිරිපළු නුගරුකද මා විසින් පරිහරණය කරන ලදී. එහෙයින් තොප මෙම කිරිපලු නුගරුකටද මැණික් අසුනටද මාගේ පාරිභෝගික වස්තුවක් වශයෙන් නමස්කාර කරව්.'

මෙසේ නාගයන්ට අනුශාසනා කළාවූ උන්වහන්සේ ඔවුනට වන්දනාමාන කිරීමට චෛත්‍යයක්[2] ද දී නැවතත් දෙව්රම් වෙහෙරටම වැඩිසේක.

මණිඅක්කිත නාරජුගේ ඉල්ලීම අනුව බුද්ධත්වයෙන් අටවැනි වර්ෂයෙහි ඒ මහා වීරයාණන්වහන්සේ පන්සීයක් භික්ෂූන් වහන්සේ සමඟ ඍද්ධි බලයෙන් අහසට පැන නැගී මෙහි වැඩිසේක.[3]

---

1. මෛත්‍රා; කරුණා; මුදිතා; උපෙක්ඛා ඇතුලත්වන සතර බ්‍රහ්ම විහාරණයයි. ම: ව: මේ පිළිබඳවව නොදැක්වේ.
2. ශාරීරික; පාරිභෝගික; උදෙධසික; වශයෙන් චෛත්‍ය තුනකි.
3. ම: ව: වෙසක් මස පුරපසලොස්වක් දින වැඩි බව සඳහන් කර ඇත. (ම.ව. පරි. 1)

අනුක්‍රමයෙන් පැමිණියාවූ ඒ තථාගත සර්වඥයන් වහන්සේ (දැනට කැළණි විහාරය පිහිටි) කැළණිගඟ සමීපයට වැඩිසේක. මෙම අවස්ථාවෙහි නාගයෝ මහ පොළවෙහි රනින් කරනලද ආසන පැනවූහ. ඒවාට නොයෙක් ආකාරයේ දිව්‍ය වස්ත්‍රද එලූහ. එම ආසන නොයෙක් රත්නයන් ගෙන්ද, විවිධ අලංකාර මල්වලින්ද සැරසූහ. ඔවුන් විසින් විසිතුරු කොඩි වැල් ඇද අලංකාර කරන ලද මණ්ඩපයක් ද තනන ලදී. මේ ආකාරයෙන් ආසන පනවා ඒවායෙහි නානාවර්ගයෙන් සැදුම් ලත් රෙදි අතුරුවා බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ සියළු භික්‍ෂු සංඝයා එහි වැඩමවා අසුන්ගත කරවූහ. එම අවස්ථාවේ බුදුන් වහන්සේ ඒ පන්සීයක් භික්‍ෂු සමූහයා සමග සමවත් සුවයට සමවන්සේක. එසේ සමාපත්තීන්ට සමවැදුනා වූ ඒ බුදුන්වහන්සේ ඇතුළු මහා සංඝරත්නය සියළු දිසාවන්ට මෙත් සිත් පැතිරවූ සේක. මේ ආකාරයෙන් ඒ සම්‍යක්සම් බුද්ධ රාජයාණන් වහන්සේ පන්සීයක් රහතුන් වහන්සේ පෙරදැරිව මෙන්සිත් පතුරුවමින් සත්වරක්[1] සමවනට සම වන්හ. එසේ එහි සමාපත්ති සුවයට පිවිසියේ එහි කැළණි මහාථූපය පිහිටතීයි උන්වහන්සේ දිවැසින් දුටු හෙයිනි. නාගයන්ගේ පළමු පූජා සත්කාරයෙන් අනතුරුව; බුදුන් වහන්සේ ඇතුළු මහසඟරුවනට මණිඅක්ඛික නාගරාජයාණන් විසින් මහාදනයක් පිරි නමන ලදී. මහසඟණ ඇතුළු බුදුන් වහන්සේ එම දනය පිළිගත්සේක. උන්වහන්සේ දන් වළඳ අවසානයෙහි භුක්තානුමෝදනාව[2] කළහ. එසේ භුක්ථානුමෝදනාව කළාවූ භාග්‍යවතුන් වහන්සේ සිය. ශ්‍රාවකයින් වහන්සේලාද සමග දීඝවාපියට[3] අහසින් වැඩිසේක. එහිදී අහසින් බැස දීගාවැව චෛත්‍යස්ථානයේ දැහැන් සුවය පිණිස සමවතට සමවන්සේක. ලෝක සත්වයන් කෙරේ අනුකම්පා පෙරදැරිවූ තථාගත බුදුරජණාන් වහන්සේ ශ්‍රාවකයන් වහන්සේලා සමග සමවතින් නැගී සිට අනුරපුර මහමෙවුනා උයනෙහි ශ්‍රීමහා

1. ම: ව: සත්වරක් සමවතට සමවත් බවක් සඳහන් නොවේ.
2. මෙහිදී නාගයන්ට දෙසූ ධර්මය පිළිබඳව සමන්තකූය වර්ණනාවේ සවිස්තරව දක්වා ඇත. ((ස. කූ. ව. 705-716 ගාථා)
3. ම: ව: ඇතුළු වංශ කථා කීපයකම බුදුන් දීඝවාපියට වැඩීමට පෙර සමන්ගිරට වැඩ එහි සිරිපා පිහිටවූ බවත් එම පර්වත ප්‍රාන්තයෙහි දිවා විහරණය කළ බවත් සඳහන්වේ.

බෝධීන් වහන්සේ පිහිටන ඒ ස්ථානයට වැඩියහ. මෙයට පෙරද මෙම ස්ථානයෙහි තුන් මහා බුදුවරයන් වහන්සේලාගේ[1] ශාසනය. මෙහි පිහිටි කාලයන්හි උන්වහන්සේලාගේ තුන්මහා බෝධීන් පිහිටියේ මෙහිය. මෙහිදී අනාගතයේ මාගේ බෝධියද මෙහි පිහිටන්නේ යයි උන්වහන්සේ වදළෝ. එහිද සමවත් සුවයෙන් ගත කළ තථාගතයන් වහන්සේ ඉතික්බිතිව ශ්‍රාවකයන් වහන්සේලාද සමග සමාපත්තියෙන් නැගී සිට මහමෙවුනා උයන යම් තැනක වේද එතැනට පිවිසියහ. එහිදී ද පූජනීයස්ථාන පිහිටන තන්හි සමවත් සුවයෙන් ගත කළ සේක. එයින් පසු සමාපත්තියෙන් නැගීසිටි උන්වහන්සේ මෙසේ වදළහ[2]

'පළමුවෙන් මෙහි මෙම ආසනය පිහිටි ස්ථානයේ කකුසඳ බුදුන් සමවත් සුවයෙන් ගත කෙරීන. දෙවනුව මනුෂ්‍යයන් ගේ නායකවූ කෝණාගමන. බුදුරදුන් මෙම අසුනෙහි සමවතට සම වදින ලදී. තෙවණුවද ලෝකනායකවූ කාශ්‍යප. බුදුරජුන් මෙම අසුනෙහි සමවතට සම වැදින. සිව්වැනිව ගෞතම සාක්‍ය පුත්‍රවූ ජනනායකයින් වහන්සේ වන මම මෙම අසුනෙහි වැඩ හිඳ සමවතට සම වැදුනෙමි.'

යනුවෙන්ද වදාලසේක.

---

1. කකුසඳ; කෝණාගමන; යන තුන් බුදුවරුය.
2. මහාවංශයේ මෙම සමවත් ස්ථානයන් පිළිබඳව දැක්වේ (ම: ව: පරි 79-83 ගාථා)

# 3

මෙහිදී යම් බඳුවූ මහා සම්මත රාජවංශයට අයත් රාජ නාමාවලියක් වේද එය අසන්න. එම අතීත කල්පයේ රජුන්ගේ භවයෙන් භවය හැර සියළු රජුන්ගේ නම් පවසමි. එම රජුන්ගේ ජාතිය හා නාම ගෝත්‍රයන් ද, ආයුෂ ප්‍රමාණය හා අනුක්‍රමික පාලන සම්බන්ධතාවයන් යන සියල්ල මෙහි ලා පවසමි.

ඈත අතීතයේ එක් සමයෙක්හි මෙම මහාපොළව ආරක්ෂා කරන්නාව ජුතින්දර නම් රජෙකු පළමුවෙන් අභිෂේකය ලැබීය. ක්‍ෂත්‍රිය වංශිකයෙකුවූ ඔහු එම අභිෂේකය ලැබුවේ මහා සම්මත නමිනි. එසේම ඔහු ක්‍ෂත්‍රිය වංශිකයෙකි. මෙයින් පසු රෝජ නම් ඔහුගේ පුතෙකු රජවිය. මොහුගේ පුතාද රෝජ නමින්ම රජ වූයේය. මොවුන් දඹදිව රාජ්‍ය ගෙන යන ලදී. එයින් පසු කල්‍යාණ නැමැත්තා රජවූ අතර පසුව වරකල්‍යාණ රජ වූයේය. මේ දෙදෙනාට පසුව දඹදිව රජවූයේ උපෝසථ නම් රජතුමාය. මෙයට පසුව රජවන මන්ධාතු රජතුමා දිවයින් හතරකටම අධිපති විය. එසේම ඔහු එමපරපුරේ හත්වැන්නාවිය. මේ හැරුණු විට මෙයින් පසු වර හා උපවර නමින්ද චේතිය නමින්ද රජුන් කීප දෙනෙකු රජකරන ලදී. අනතුරුව රජවූයේ මුචලය. මොහුට පසු මහාමුචල මුචලින්ද යන රජුන් රජවී. මෙයින් පසු සාගර හා සාගරදේවත්, භරතත් රජු වූහ. පිළිවලින් රජ වූහ. අංගීස හා රුචි. මහාරුචි:යන තිදෙනා රජවූයේ මෙයින් පසුවය ප්‍රතාප: හා මහාප්‍රතාපත්: පනාද හා මහා පනාදත්. මොවුන්ගෙන් පසු පිළිවලින් රජවූහ. සුදස්සන හා මහාසුදස්සන රජවූයේ මෙයින් පසුවයි. මෙයින් පසු නේරු මහානේරු නමින් දෙදෙනෙක්ද වූහ. අච්චිමන්තු[1] යන නාමයෙන්ද

1. මෙම රජු පිළිබඳව ම: ව: නොදැක්වේ. රජුන් 28ක සංඛ්‍යාවක් ගැනෙන්නේද මෙම රජු සමගය. මෙහි එන ජුතින්දර නාමයද ම: ව. නොදැක්වේ. සාගර, නමින් හා දේව, ම: ව: නම් දෙකක් වෙන් කොට දක්වා ඇත. නමුත් මෙහි, සාගර දේව අයෙක් වශයෙන් දක්වා ඇත.

රජෙකු විය. මේ අනුව රජවරු විසිඅටක් දඹදිව රජ කලාහුය. මොවුන්ගේ ආයුෂ ප්‍රමාණය අසංඛ්‍යයක් වේ. මෙම රජුන් විසි අටදෙනා කුසාවතී රජගහනුවර මිථිලා යන නගරයන්හි රජ කරවූහ.

| | | |
|---|---|---|
| දසවරක් දහය | - | සියකි |
| සියවරක් දහය | - | දහකි |
| දස්වරක් දහය | - | නහුතයකි |
| නහුත දහය | - | ලක්‍ෂයකි. |
| ලක්‍ෂ දහයක් | - | කෝටියකි[1] |
| කෝටිදහය | - | කොටිපකෝටියකි. |

මේ හැරුණු විට තවද නහුතයද; නින්නහුත යද; අක්‍ෂෞහිනියද; බිංදුවද; අබ්බුදයද; නිබ්බුදයද; අහහයද; අබබයද; අටටයද; සොහන්දිකයද; උප්පලයද; කුමුදයද; පුණ්ඩරීකය; පදුමයද; කථානයද; මහාකථානයද; යනාදී වශයෙන් මෙතෙක් ගණන් වශයෙන් දක්වනු ලද සංඛ්‍යාවන් මෙම රාජ්‍යය; යන්හි ගුණිත ප්‍රමාණයන් වශයෙන් පිළිගන්නා ලදි. මෙහි වැඩිම සංඛ්‍යාව වශයෙන් හඳුන්වනු ලැබුයේ අසංඛ්‍ය යයි[2]

කපිලවත්ථු පුරවරයෙහි එක්සියක් රජ දරුවෝ මහාරාජ්‍යය කළාහුය. මෙම එක්සියක් රජ දරුවන් අච්චිම නැමැති රජ තුමාගේය. මොවුන්ගෙන් පසු අරිනැව නම් ක්‍ෂත්‍රිය රජු මෙහි රාජ්‍යය විචාරණ ලද්දේය. මෙම ක්‍ෂත්‍රිය රජුගේ දරු මුණුබුරන් පණස්හය දෙනෙකි. ඔවුහු අයෝධ්‍යා නගර ප්‍රවරයෙහි මහා රාජ්‍ය කළාහුය. පසුකාලයේ ඔවුන්ගේ ද මහා ඉසුරුමත් රජෙකුවිය. ඔහු දුප්පසහ. නම් විය. මොහුගේ දරුමුණුබුරන් හැට දෙනෙකි. මොවුන් මහාරාජ්‍ය ය. කරන ලද්දේ උතුම්වූ බරණැස් නගරයෙහිය. මොවුන්ගේද පසුකාලීන ක්‍ෂත්‍රියයා අභිනිත්ත නම් රජු විය. කපිලවත්ථු පුරවරයෙහි මහා-රාජ්‍යය කලාවූ මොහුට පුත්‍රයන්

---

1. එකල කොටිය කයනුවෙන් හඳුන්වා ඇත්තේ මෙකල දස ලක්‍ෂය බව මෙම චක්‍රයෙන් පෙනී යයි.
2. මෙම ගණිත චක්‍රයන් පිලිබඳව මහාවංශයේ හෝ ථූපවංශය ඇතුළු වෙනත් වංශ කථාවක දක්නට නොලැබේ.

අසූහාර දහසක් වූහ. මොවුන්ගේද අවසන් රජ මහා ඉසුර මනෙකු වූ බ්‍රහ්මදත්ත නම් රජුය. ඔහුද ක්‍ෂත්‍රිය වංශිකයෙකුවූ අතර ඔහුට දරු මුණුපුරන් තිස්හය දෙනෙකු විය. ඔවුන්ද උතුම්වූ හත්ථි පුරවරයෙහි මහාරාජ්‍යය කරන ලදී. කම්බල වසන නම් රජු ඔවුන්ගේ අන්තිම රජුවිය. දරු මුණුපුරන් තිස් දෙදෙනකුද සහිතව ඒකචක්ඛු...... නගරය පදනම්කරගනිමින් මොවුහු රාජ්‍යය විචාලෝය. මොවුන්ගේ පසු කාලීනයාවූ පුරින්දද රජතුමා දෙවියන් විසින්ද පුදන ලද්දෙකි. ක්‍ෂත්‍රියයෙකුවූ මොහුටද දරුමුණුපුරන් විසිඅටක් වී. වජිරා පුරවරයෙහි ඔවුහු මහාරාජ්‍යය කළාහුය. මෙයින් පසු අවසන් රජු වූයේ දරුමුණුපුරන් විසිදෙනෙකු සිටි සාධින නම් ක්‍ෂත්‍රිය රජ තුමායි. මධුරා පුරය පදනම් කර ගනිමින් ඔවුහු මහා රාජ්‍යය කළාහුය. අනතුරුව බලයට පත්වූ මහා ක්‍ෂත්‍රියයා වූයේ ධම්ගුප්ත රජතුමාය. අරිට්ඨ නගරය පදනම් කර ගනිමින් රජකලාවූ මොහුට දරුමුණුපුරෝ දහඅටක් වූහ. සිට්ටි රජු මොවුන්ගේ අවසානයා විය. දරුමුණුපුරන් දහහත් දෙනෙකුගෙන් සමන්විතව ඉදිපත්නුවර පදනම් කර ගනිමින් මෙම ක්‍ෂත්‍රියයන් රාජ්‍ය විචාරන ලදී. දරුමුණුපුරන් පහලොස් දෙනෙකුගෙන් සමන් විතව බ්‍රහ්මදේව ක්‍ෂත්‍රිය රජු මෙයින් පසු රජවිය. මොවුන් රජ කරන ලද්දේ ඒකචක්ඛු නගරය පදනම් කරගෙනය. එම රජපරපුරේ අවසන් මිහිපල්තෙම වූයේ බලදත්ත නම් ක්‍ෂත්‍රියාය. කොසඹෑනුවර මහාරාජ්‍යය කළාවූ මෙම ක්‍ෂත්‍රියාට දරුමුණුපුරෝ දහතරක් වූ හ. දරුමුණුපුරන් නව දෙනෙකු සිටි බද්ධදේව ක්‍ෂත්‍රියයා කර්ණගෝත්‍ර නම් නගරය පසුබිම් කරගණිමින් රාජ්‍යය විචාරණ ලදී.

මෙයින් පසුව උදවන්නේ සියළුදේ දත් නරදේව ක්‍ෂත්‍රිය රජතුමාගේ රාජ්‍යය කාලයයි. ඔහු රෝජන නගරයේ රාජ්‍යය කළ අතර ඔහුට දරු මුණුපුරන්ද හත්දෙනෙකු විය. මෙම වංශයටම අයත් ඔහුන්ගේ පසු කාලීනයා ක්‍ෂත්‍රිය වංශික මහිද නැමැත්තෙකි. ඔහු චම්පා නගරයේ රාජ්‍යය මෙහෙයවූ අතර ඔහුට දරුණුමුපුරන් දෙළොස් දෙනෙකි. අනතුරුව මුළු මහත් පොළෝතලයට අධිපතිව ක්‍ෂත්‍රිය වංශයේ නාගදේව රජවිය. දරුමුණුපුරන් විසිපස්දෙනෙකු සිටි ඔහු මිථිලා නගරය අරමුණු කර ගනිමින් මහාරාජ්‍යය මෙහෙයවන ලදී. මීළඟට රජවූයේ මෙම පරපුරේ පසු කාලීනයාවූ

මහා බලවත් බුද්ධදත්ත රජතුමාය.ඔහුටද දරුමුණුපුරෝ විසිපහක් වූහ. මොවුන් රජගහනුවර මුල්කර ගනිමින් ස්වකීය මහාරාජ්‍යය ගෙනයන ලදී. මෙයට පසුව ක්‍ෂත්‍රීය වංශයේ දීපංකර නම් එම පරපුරේ අවසානයා රජවූ යේය. තක්ෂිලාව අගනුවර කර ගණිමින් පාලනය කළාවූ මොහුට දරුමුණු පුරන් දෙළොස් දෙනෙක් විය. මෙයින් පසු ක්‍ෂත්‍රීය වංශයේ නාලිස්සර රජතුමා රජවූයේය. ඔහුට දරුමුණුපුරන් දෙළහක් වූ අතර උතුම්වූ කුසිනාරා නගරය අගනුවර කර ගනිමින් පාලනය මෙහෙය වන ලදී. මෙයින් පසු දරු මුණුපුරන් නවදෙනෙක් සිටි ක්‍ෂත්‍රීය වංශයේ සුදින්න රජු නාලිස්සර නගරය මුල්තැන තබමින් පාලනය ගෙනයන ලදී ඔවුන්ගේද අන්තිම රජු වූයේ මහත් ඉසුරෙන් පිරී සාගරදේව රජතුමාය. එම රජුගේ පුත්‍රයා මඛාදේව නම් විය. මෙම මඛාදේව රජතුමා මහා දනපතියෙකු විය. ඔහුගේ දරුමුණුපුරෝ අසුහතර දහසකි.[1] මිථිලානගරය ඔහුගේ අගනුවරවිය. මෙම රජ පරපුරේද අවසන් රජු තේමිය නම් විය. දෙවියන් විසින්ද ඔහු පිදුම් ලද්දේය. මෙම රජතුමා සාගරය දක්වා වූ මහපොලව පාලනය කරනලද මහා බලවත් චක්‍රවර්ති රජ කෙනෙකි.[2] මෙම තේමිය රජුගේ පුත්‍රයා කලාජනක නම්විය. කලාජනක රජුට පසු ඔහු ගේ පුත් සමඞකර කුමරා රජවිය. අසෝච නම් ඔහුගේ පුත් ඔහු ඇවෑමෙන් රාජ්‍ය භාරගන්නා ලදී මෙ අනුව උතුම්වූ බරණැස් නුවර ඔහුගේ දරු මුණුපුරෝ අසූ හතර දහසක් රජකළාහුය. එම පරපුරේද අන්තිම රජු විජය රජු නම්විය. ඔහුද මහ ඉසුරින්පිරි තැනැත්තෙකි. ඔහුටද විජිතසේන නම් ඉතා ලක්‍ෂණ පුතෙකු විය. ඔහු එයින් පසු රජවිය.

එයින් පසු පිළිවලින් ධර්මසේන: නාගසේන: සමථ: දිසම්පති: රේණු: කුස: මහකුස: නවරථ: දසරථ: යන රජවරුන්ද රජවිය. ඉනික්බිතිව රාම: විලාරථ: චිත්ත දස්සි: අත්ථදස්සි: සුජාත: ඔක්කාක: ඔක්කාමුඛ: නිපුර: චඳිම: චඳමුඛ: සිවිරාජ: සංජය:

---

1. ජාතක කථා අටුවාවේ මොහුගේ ළමාකාලයේ අවුරුදු 4000ක් වශයෙන්ද තරුණ, මැදිවිය මහළු විය, අවුරුදු 84000 දක්වා බැගින්ද තිබූ බව පෙන්වාදී තිබේ.

2. ඍග්වේදයේ විශ්වශ්‍ය-භුවනශ්‍ය රාජා' යනුවෙන් චක්‍රවර්තී රජු ගන කියා ඇත. තවත් තැනක හිමාලයේ සිට සමුද්‍රයතෙක් චක්‍රවර්ති රජුට අයත් බව දක්වා ඇත.

වෙස්සන්තර: ජනපති: ජාලි: සිහිවාහන යනාදී ක්‍ෂත්‍රිය රජවරුද පිළිවලින් රජ කලාහුය. මෙයින් පසු රජවූයේ සීහස්සර නම් ක්‍ෂත්‍රිය රජ කෙනෙකි. මොහුට දරු මුණුපුරන් අසූදෙදහසක්විය. මොවුන් කපිලවත්තුව අගනුවර කර ගනිමින් රාජ්‍ය කළඅතර ඔවුන් ක්‍ෂත්‍රිය වශයේ රජුන්විය. මෙම පරපුරේ අවසානයා මහීපති ජයසේනය. මෙහුට සීහහනු නමින් මහාශරීර ශෝභාවෙන් හා ප්‍රියංකර භවයෙන් යුත් පුතෙකු විය. ඔහු රාජ්‍යය විචාරන්නේ ඔහුට පුත්‍රයෝ පස් දෙනෙක් වූහ. එම පස් දෙනා 'ඕදන' නාමිකයෝය. එම සොහොයුරන් පස් දෙනාගේ නම් මෙසේය. සුද්ධෝදන: ධෝතෝදන: සක්කෝදන: සුක්කෝදන: අමිතෝදන; යනුවෙනි. සුද්ධෝදන නරපති වරයාගේ පුතනුවන් වන්නේ අප ලෝක නායක බුද්ධත්වය දිනූ සිද්ධාර්ථ කුමාරයා නෝය. එම සිද්ධාර්ථ කුමරුවෝ රාහුල කුමරු බිහිවීමෙන් අනතුරුව ගිහිගෙය කලකිරී ගිහිගෙයින් නික්මුනාහ. මෙතෙක් කියන ලද පෘතුවි පාලක ක්‍ෂත්‍රිය රජවරුන් අප සිධාර්ථ බෝසතාණන් වහන්සේගේ රාජ්‍ය වංශයෙහි ඉපදුනාහුය.[1] මෙම මහේසාක්‍යය මහත්බල ඇති රජවරුන් තුන්ලක්‍ෂහතලිස් දහස් තුන්සිය දෙනෙකු වූ අතර ඔවුන් ක්‍ෂත්‍රිය වංශිකයන්ද විය.

> 'සියළු සංස්කාර ධර්මයෝ අනිත්‍යයහ. ඒ සංස්කාර ධර්මයෝ ඉපිද නැතිවියත්. ඇතිවීම හා නැතිවීම ස්වභාව කොට ඇත. එම සංස්කාර ධර්මයන්ගේ සංසිඳවීම නම් නිවන අවබෝධ කර ගැනීමයි. එම නිවන සැපවේමය.'

ඉහතින් සඳහන් කරන ලද සීහහනු රජුගේ පුත්‍රවූ සුද්ධෝදන නම් ශාක්‍යය රජු කපිලවත්පු නගරය රාජධානිය කරගෙන රාජ්‍යය කරන ලදී. මේ කාලයේ පංචමහා[2] පර්වතයන්ගෙන් වටකරන ලදී උතුම්වූ රජහහ නුවර රාජ්‍යය මෙහෙයවන ලද්දේ 'බොධිශ'[3] නමින්

1. පූර්ව වෛදික යුගයේ හා අපර වෛදික යුගයන්හිත්, ආරණ්‍ය උපනිසද් යුගවලදීත් වේදග්‍රන්ථයන්ගේ හා පුරාණ ග්‍රන්ථයන්ගේත් රාමායන ආදී ග්‍රන්ථයන්ගේත් සඳහන් වන ඉංදියාවේ ප්‍රාදේශීය රාජ්‍ය මේවා බව පෙනේ. ආයර්යන් ඉංදියාවට පැමිණීමෙන් පසු මෙම කුඩා රාජ්‍ය උතුරු ඉංදියාවේ සාරවත් ප්‍රදේශවල ඇතිවූ බව පෙනී යයි.
2. වේභාර: වේපුල්ල: ගිජ්ඣකූට: ඉසිගිලි: පාණ්ඩව: යන පර්වත පහය.
3. මෙම 'බෝධිශ' නාමය ම: ව: නැත එහෙත් මෙය බොහෝ බෞද්ධ ග්‍රන්ථවල ඇත.

සඳහන්වන ක්‍ෂත්‍රිය වංශික රජතුමාය. මෙම සුද්ධෝදන රජු හා, බෝධිශ යන රජුන් එකිනෙකාට සහෝදර සහායක යන්ය. ඔවුන් මෙම ප්‍රථම කල්පයේ රජවරුන්වේ. මෙම සුද්ධෝදන රජුට ඔහු ඉපදී අවුරුදු අටක් ඉක්මගිය කල්හි මෙවන් අදහස් පහක් පහළ විය. එම අදහස් පහ මෙසේ.

1. මාගේ පිය රජතුමා මා රාජ්‍යයේ අභිෂේක, කරන්නේ නම් මැනවි.
2. එසේ වූ කල්හි මට එම රාජ්‍යයෙන් මහත් ප්‍රයෝජන වන්නේය.
3. කිසියම් බුදුවරයෙකු එසේම මාගේ විජිතයේ උපදින්නේ වේද එය ඉතාම යහපත්වේ.
4. එසේම එම උත්තමයාණන් වහන්සේ මට ප්‍රථමයෙන් දක්නට ලැබෙන්නේ නම් එයද අතිශය යහපත්ය. නැත හොත් ඒ උත්තමයාණෝ මාගේ රාජ්‍යට පැමිණෙන්නාහු නම් යහපත්ය.
5. ඒ උත්තමයාණන් දේශනා කරණු ලබන්නාවූ ධර්‍මය මට අවබෝධ කර ගැනීමට ලැබෙන්නේ නම් මැනවි.

මේ ආකාරයේන් එම බිම්බිසාර මහරජතුමාට මෙවන් පස්විධ අදහසෙක් ඇතිවී.

බිම්බිසාර රජ ඉපදීමෙන් පස්වන අවුරුද්දේදී ඔහුගේ පියරජු මල හෙයින් එම අභාවයෙන් පසු බිම්බිසාර රජු එම රාජ්‍යයෙහි අභිෂේක කරවීය. මෙම අවදියේදී මෙම රමණීය දිවයිනෙයි අප ලෝක නායක යාණෝ ඉපදුන සේක. ඒ තථාගත සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ පළමුවෙන්ම බිම්බිසාර රජතුමා දැකීමට[1] වැඩි සේක. උන්වහන්සේ බිම්සාර රජුට ධර්‍මය දේශනා කළ අතර රජතුමාට ධර්මාවබෝධ ය ඇතිවිය. මෙම සිද්ධාර්ථ කුමාරයන්

---

1. සිද්ධාර්ථ තවුසාණන් බුදුවීමට යාමට පෙරද බිම්බිසාර රජු හමුවූ බව මහාවග්ගපාලියේ දක්වා ඇත. එසේම බිම්බිසාර රජු හා සිද්ධාර්ථ තවුසානන්ද කුඩා කල පටන්ම මිත්‍රයන් බවද මඃ වඃ දක්වා ඇති අතර ඔහුට මහානාරදකාශ්‍යප ජාතකය දේශනා කල බව ද දක්වා ඇත. (මඃ ව. 2 පරි)

නිත්‍ය වශයෙන් ම බුද්ධත්වය අවබෝධ කරනු ලැබුවේ ඔහු ඉපදීමෙන් තිස්පස්වැනි වසරේදීය. මේ වනවිට බිම්සර රජුගේ වයස අවුරුදු තිහක් පමණවිය. මේ නිසා සිද්ධාර්ථ ගෞතමයාණන් වහන්සේත් බිම්බිසාර රජතුමාත් අතර අවුරුදු පහක වෙනසක් ඇත. බිම්බිසාර රජතුමා අවුරුදු පණස්දෙකක් රාජ්‍යය කළේය. මෙයින් තිස්හත් වසරක්ම බුදුරදුන්ගේ ජීවමාන කාලයෙහි රාජ්‍යකෙරිය. මෙයින් පසු රජවූයේ ඔහුගේ පුත් අජාතසත්තුය.

අජාසත් රජතුමා රජගහනුවර අවුරුදු තිස්දෙකක් රජ කළේය. එම අජාසත් රජුගේ අටවන රජ්‍යය වර්ෂයේ ඒ තථාගත බුදුපියාණන් වහන්සේ පිරිනිවන් පෑ සේක. ඒ ලෝක නායකයාණන් වහන්සේ පිරිනිවීමෙන් පසු අවුරුදු විසිහතරක් අජාසත්[1] රජතුමා රාජ්‍යය මෙහෙය වීය.

---

1. අජාත+සත්තු - පාලි 'සත්තු' ශබ්දයෙන් සතුරා ගැන කියයි.

අජාත - නූපන්
සත්තු - සතුරා } නූපන් හතුරා

අජාසත් ඉපදීමට පෙරම දේවියට ඇතිවූ දෙළදුක අනුව ඔහු පියා මරණ බව දෛවඥයින් ප්‍රකාශ කරන ලදී ඒ නිසාම ඔහුට උපන් පසු අජාසත්තු (අජාසත්) යන නාමය තැබීන. ඒ අනුව ඔහු පසු කාලයේ පියා මරා දමන ලදී.

දේවදත්ත වැනි නරක මිතුරෙකු ඇසුරු කිරීමට වීම නිසා ඔහු මෙවැනි තත්වයකට පත්වන්නට ඇත. මනෝවිද්‍යාව අනුවද තමා ඇසුරු කරන ශිෂ්‍ය අනුකරණය තුළින් ජීවිතය හොඳ හෝ නරක දෙසට ගමන් කරන බව පෙනේ. පසුකාලයේ බුදුන්වහන්සේ ඇසුරුකිරීම නිසා අජාසත් යහපත් විය.

# 4

ඒ සියළු මිනිසුන්ට අග්‍රවූ බුදුරජාණන් වහන්සේ කුසිනාරා නුවර උපවර්තන නම් සල් උයනේදී පිරිනිවන් පෑ සේක. ඒ තථාගත බුදුපියාණන් වහන්සේගේ ශ්‍රමණ බුද්ධ පුත්‍රයන් වහන්සේලා හත් ලක්‍ෂයක් වූහ. එම කරුණ ඇසූ එම බුද්ධ පුත්‍රයන් වහන්සේලා කුසිනාරා නුවරට එක්රැස් වූවාහුය. එම භික්‍ෂූන් අතර මහාකාශ්‍යප තෙරණුවෝද සිටියාහ. මෙම පොළෝ තලයෙහි බුදුරජානන් වහන්සේ පිරිනිවන් පෑමෙන් පසු උන්වහන්සේගේ ශ්‍රාවකයන් වහන්සේ අතර මහාකාශ්‍යප තෙරුන්වහන්සේට සමාන වෙනත් කෙනෙකු නොවීය. ඒ මහාකශ්‍යප තෙරුන් වහන්සේ සුදුසු වූ උතුම් භික්‍ෂු ශ්‍රාවකයන් වහන්සේලා පන්සීයක් වැඩමවා[1] ගෙන ධර්මසංඝායනාවක්[2] පැවැත්වීමට සූදනම් කළ සේක. මෙම සංඝායනාව පැවැත්වීමට සූදනම්කරන ලද්දේ සියළු සත්වයන් කෙරේ දයානුකම්පාවෙන් බුද්ධ ශාසන ය දිගුකලක් පවත්වාගෙන යාම සඳහාය. ඒ තථාගත සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ පිරිනිවන් පා තෙමසක් ඉක්මගිය කල්හි මෙම ධර්ම සංඝායනාව පවත්වන ලදී. එසේම මෙය ආරම්භ කරන ලද්දේ වස් අවසන් වන සිව්වන මාසයේ දෙවන දිනයෙහිය. මෙය පවත්වන ලද ස්ථානය මගධ වැසියන්ගේ කඳුවටය හෙවත් සප්තපර්ණී ගැහා දෙර කඩය. මෙම ධර්මසංඝායනාව තෙමසකින් නිමවූයේ ය. ලෝක නායක බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ චිරස්ථිතිය වෙනුවෙන්පවත්වන ලද මෙම පළමු සංගීතියට සහාගිවූ භික්‍ෂූන් වහන්සේලා බුදුන්වහන්සේ දෙසූ සියලු ධර්මයන් පිළිබඳව පරතෙරට පත්

---

1. මෙසේ 500 භික්‍ෂූන් ගෙන්වා ගන්නා ලද්දේ. රජගහනුවර සප්තපර්ණී ගුහා දොරටුවවටයි. සුභද්‍රගේ අභද්‍ර වචන මෙයට හේතුව බව මඃවඃ දක්වා ඇත. (ම.ව. 3 පරි.) මහාවග්ගයේ මෙම හේතුව ආසන්න හේතුව වශයෙන් දක්වා ඇත.
2. මෙසේ සිදුකරන ලද්දේ ප්‍රථම ධර්මසංඝායනාවයි. අජාසත් රජුගේ රාජ්‍යය කාලයේදී මෙය සිදුකෙරිණ.

අවබෝධයකින් යුක්ත වූවාහුය. මෙහි සිටි ධුතංගවාදී භික්ෂූන් අතරින් මහකසුප් තෙරුන් වහන්සේ[1] ප්‍රධානියා වූ සේක. එසේම බොහෝ ඇසූදේ රැස්කර ගෙන සිටි තෙරුන් වහන්සේලා අතුරින් ආනන්ද තෙරණුවෝ අග්‍රයහ. විනයෙහි අගතැන්පත් උපාලි තෙරණුවෝ විනය සංගීති කාරකයෙහි යෙදවූහ. මනා දුරදැක්මක් (දිවස්බැලීම) ඇති අනුරුද්ධ තෙරුන් එම කායඝ්‍රයෙහි යෙදවූ අතර ප්‍රතිභානයෙන් ප්‍රධාන තැනගත් වංගීස තෙරුන්ද. ධර්මකථිකයන්ගේ ප්‍රධානියාවූ පුණ්ණ ස්ථවිරයන් වහන්සේද, අලංකාර කථා කීමේ මනා නිපුණත්වයක් ඇති කුමාරකාශ්‍යප තෙරණුවන්ද, සෑම දෙයක්ම සමානුපාතිකව බෙදදීමේ මනා නිපුණත්වයෙන් යුත් ඒ පිළිබඳ ප්‍රධානියා වූ මහා කච්චායන තෙරණුවන්ද, ඒ ඒ ප්‍රධාන තන්හි පිහිටෙව්වා හුය. මේ අතර සිව්පිළිපිඹියා[2] පත් භික්ෂූන් අතර ප්‍රධානියෙකුද විය. ඒ කෝඨිත මහාතෙරුන් වහන්සේ ය. උන්වහන්සේ ද එම කායඝ්‍රය යෙහි ප්‍රධාන කළහ. මේ ආකාරයෙන් ඒ ඒ තෙරුන් වහන්සේලා මෙම ධර්මසංඝායනාවෙහි ප්‍රධාන තනතුරු ලාභීන්ව එයට සහබාගිවූ හ.[3]

මෙම සංඝායනාවට සහබාගිවූ ඉතිරි සියල්ලෝම අරහත් භවයට පත් උතුමන් වහන්සේලාය. මෙය මහාස්ථවිරයන් වහන්සේලා විසින් කරන ලද ධර්මසංඝාධනාවක් වූ හෙයින් මෙයට ථෙරියධර්මසංග්‍රහ යයි කියනු ලැබේ. මෙම සංඝායනාවේදී විනයප්‍රශ්න පිළිබඳව විමසන ලද්දේ උපාලි මහාස්ථවිරයන් වහන්සේගෙනි සෙසු සියළුම ධර්මය කරුණු පිළිබඳව ආනන්ද[4] මහාස්ථවිරයන් වහන්සේ ගෙන් විමසන ලදී. මේ ආකාරයෙන් මහත් ශිෂ්‍යය සමූහයා ඇති මහකසුප් තෙරුන් වහන්සේ හා අනුරුද්ධ[5] යන මහාස්ථවිරයන් වහන්සේලා මෙහි දී ධර්මයද විනයද සංඝායනා කළාහුය.

---

1. බුදුන් වහන්සේ ගේ සිවුර පෙරවීමට සුදුසු කම් ලැබුවේ උන්වහන්සේ පමණි.
2. අර්ථ: ධර්ම: නිරුක්ති: පතිභාන: යන දැකීම් සම්භාරය පිහිටියේ (කරුනු 4) නම් සිව්පිළිසිඹි ගුණයට පැමිණිය හැකිය.
3. මෙ ප්‍රධාන තනතුරු ලාභී භික්ෂූන් වහන්සේලා පිළිබඳව මඃවඃ සඳහන් වේ.
4. මනා මතක ශක්තියක් ඇති මුන් වහන්සේ බුදුන්වහන්සේ දේශනා කරන ලද සියළුම ධර්මයන් තබාගනිමින් ධර්මභාණ්ඩාගාරික වූ සේක. ප්‍රථම ධර්මසංඝායනාවට මෙහිමියන් නැතිවම බැරිවිය. අවසන් මොහොතේ රහත්ව සංඝායනාවට සහභාගි වූහ.
5. ශිෂ්‍යයන් පුහුණු කිරීමේ මනා දක්ෂයෙකි.

ප්‍රථම ධර්ම සංඝායනාවට සහභාගිවූ ආනන්ද තෙරුන් වහන්සේ බුදුරජාණන් වහන්සේගෙන් සියල්ල අසා දැනගත්හ. උන්වහන්සේ සමීපයෙන්ම ධර්මය ඉගෙන ධාරණය කළහ. උපාලි තෙරුන්ගේද යම්යම් විනයමය හැකියාවන් පිළිබඳව බුදුන් වහන්සේ විසින්ම වර්ණනා කරන ලදී. මෙයට සහභාගිවූ ෂඩභිඥලාභී මහාස්ථවිරපාදයන් වහන්සේලාද විවිධ හැකියාවන් ලත් බොහෝ භික්ෂූන් වහන්සේලාද ඒ භාග්‍යවත් ශාතෘවරයාණන්ගේ සමීපයෙන් ධර්මය ඉගෙන ධාරණය කළාහු වෙත්. එසේම මෙම බුද්ධපුත්‍රයන් වහන්සේලා නිර්භය වූවාහුය.

බුදුන් වහන්සේ විසින්ම ඒ ඒ තනතුරු ප්‍රධානය කොට අග්‍රස්ථානයේ තබන ලද මුන් වහන්සේලා උන්වහන්සේ ඉදිරියෙන් අභිමුඛයේදීම ශ්‍රේෂ්ඨතම බුද්ධ ධර්මය ධාරණනය කළාහුය. මෙම ධර්ම සංඝායනාව කරන ලද්දේ එම බුද්ධ පුත්‍රයන් වහන්සේලා විසිනි.[1] ඒ සියල්ලෝම මෙම ථෙරවාදයට "අග්‍රවාදය" යයිද කියති. මෙම සෑම ප්‍රධාන තෙරුන් වහන්සේ නමක්ම පන්සීය බැගින් වූ භික්ෂු කණ්ඩායම්වල නායකයාණන් වහන්සේලා වූහ.[2]

මෙම සතනායක පන්සීයක් තෙරවරු මනාසේ සිත්කළු රමණීයවූ සප්තපර්ණී ගුහාදොර ඉදිරියෙහි රැස්ව තථාගතස්ම්මා සම්බුදු රජාණන් වහන්සේගේ උතුම් වූ ඒ ධර්මය ක්‍රමානුකූලව අංගනවයකට (නවංගසත්ථු සාසනය) බෙදූහ. එසේ බෙදා වෙන්කරලද අංග නවය මෙසේය. සුත්ත: ගෙය්‍ය: වෙය්යාකරණ: ගාථා; ඉතිවුත්ථක: ජාතක: අබ්බුතධම්ම; වේදල්ල; යන වේවායි.මෙසේ මෙම ධර්මය කොටස් වලට බෙදන ලද්දේ ශාසනය විනාශ නොවන පිණිසය. උන්වහන්සේලා විසින් එම ධර්මය මෙසේ කොටස්වලට බෙදනලදී.

---

1. මෙසේ එකම කරුණ කීප අවස්ථාවකදී දැක්වීම දීපවංශකතුවරයාගේ සම්ප්‍රදායකි. මෙය පුනරුක්දෝෂ ලෙස බොහෝ නූතන පඬිවරු දකිති. එහෙත් නැවත නැවත සඳහන් කර අවධාරණය කිරීම එකල පැවති සම්ප්‍රදායක් විය හැකිය. සමාජ විද්‍යාව හා මනෝ විද්‍යාව උපයෝගී කරගත් නූතන ගුරුවරු ශිෂ්‍යයන්ට කරුණු අවබෝධ කරවීමේදී මෙම ක්‍රමය අනුගමනය කරනු පෙනේ.
2. ත්‍රිපිටක සාහිත්‍යයේ සංගී; සනී; සනාවාරියො: යන සවී නාමයන්ගෙන් පෙන්නුම් කරන්නේ මුන්වහන්සේලාය. මේවා තිල නාමයන්ය.

'මජ්ඣිම නිකාය
සංයුත්ත නිකාය
අඞ්ගුත්තර නිකාය

මෙය වර්ගී පණ්ණභක් වනසේ නැවතත් බෙදන ලදී. මෙය සූත්‍ර සම්මත ආගම් පිටකය යයි ද ඔවුහු නම් කළහ.

මෙය

'පරියාය; නිප්පරියාය; දේශනා; යනුවෙන්ද නැවතත් කොටස් කෙරින. එසේම;

'නීතාර්ථ
නෙයාත්‍යාර්ථ
දේශනා' යනුවෙන් ද නැවතත් කොටස් කර ඒ ඒ සූත්‍ර ධර්මයන්හි මනා කුශලතාවයක් දැක්වූවා වූ තෙරවරුනට ධාරණය කර ගැනීම සඳහා පවරා දුන්හ.[1] යම්තාක් කල් මෙම උතුම්වූ බුද්ධ ධර්මය පවතින්නේද. ඒතාක්කල් මෙසේ සංග්‍රහ කරන ලද මෙම ධර්මය විනාශ නොවන්නේය. මෙම ධර්ම සංඝායනාව නිසා තථාගත බුදුරජාණන් වහන්සේගේ නෛර්යානික ශාසනය මෙම නිසා බොහෝ කාලක් පවතීයයි කල්පනා කළ මෙම ස්ථවිරයන් වහන්සේ ලා මෙම ධර්ම විනය සංඝයනාව අවසන් කළාහුය. එසේම මෙම ධර්මසංඝායනාව අවසන්වනවාත් සමගම ඉතා දැඩි හා නොවැළැක්විය හැකිලෙස මහපොළව කම්පා වූයේය. මේ අවස්ථාවේදී අන්‍යවාද මර්ධනය කිරීමට සමත් වාලවේදී දුණුවායා හා සමානවූ යම් බහුශ්‍රැත බ්‍රහ්මණයන් පැමිණ සිටියේ වේද,[2] ඒ සියල්ලෝම පැන ගියාහුය.

මෙම මහා පොළෝ තලයෙහි සිටියාවූ කිසියම් බ්‍රහ්මයෙකුට හෝ දෙවියෙකුට හෝ එසේත් නොවේනම් මාරයෙකුට හෝ මෙම බුද්ධ ධර්මය විනාශ කළ නොහැකිය. පෙරළා විකෘති කළ

---

1. මෙම තෙරුවන් මෙම ධර්මයන් පවත්වාගෙන එන ලද්දේ කටපාඩමින් මුඛ පරම්පරාවෙනි.

2. බෞද්ධ දර්ශනය ආරම්භයේ සිටම බ්‍රහ්මණයන් එයට දැඩිසේ විරුද්ධවිය. බොහෝ පුහුදුන් භික්ෂූන් ලාභසත්කාරයෙන් ඔවුන් වෙතට නම්වා ගෙන බෞද්ධ ව්‍යඛ්‍යාවන්ට ප්‍රතිවිරුද්ධ ව්‍යාඛ්‍යාවන්හි නිරත කරන ලදී. මැවීම් සංකල්පය, සහිත මහායාන වාදය ගොඩ නැගුනේ මේ අයුරිනි. මෙම අවස්ථාවේදීද මෙය විනාශ කිරීම සඳහා වාචාල තර්කයෙහි දක්ෂ බමුණන් පැමිණෙන්නට ඇත.

නොහැකිය. මෙම ධර්මය මහාමේරු පර්වතය මෙන් පිහිටියේය. ඒ නිසා මෙය සියළු අංගයන්ගෙන් සමන්විතවූ ධර්මය හා විනයමය සංඝායනාවකි. මෙම සංගායනාව කිරීමේදී හෝ ඉන් අනතුරුව මෙහි යම් වරදක් කිසිවකු විසින් නොදක්නා ලදී. ඒ තථාගත සම්මාසම්බුදු රදුන් විසින් උපදෙස් දෙන ලද ආකාරයටම[1] සියළු විධීන් අනුගමනය කරමින් මහාකශ්‍යප ස්ථවිරයන් වහන්සේ ඇතුළු පන්සීයක් තෙරුන්වහන්සේ ලා විසින් මෙය සංගායනා කෙරින. බුදුන්වහන්සේ හා සමානවූ මෙම ධර්මසබන්ධය හා විනය සංග්‍රහ කරන ලද්දේ ශාසනයාගේ[2] අවිනාශය පිණිසය. මහජන යාගේ සැකදුරු කිරිම හා අන්‍යදුර්මතයන් පහකිරීම පිණිසද ධර්මය අර්ථවත් කිරීම හා ආරක්ෂා කිරීම වෙනුවෙන්ද මෙම සංගායනාව කරන ලදී. හේතු ඵලවාදී න්‍යාය. ධර්මයන්ට එකඟවූ මෙම ථෙරවාදී ධර්මය ඇතුලත්ව කෙරෙන ලද මෙම සංගයනාව ශාසනයේ දිගුකල් පැවැත්ම සඳහා මහෝපකාරීවේ. එසේම මෙම ධර්මසංඝායනාව යම්තාක් මෙම ශාසනයේ ඉදිරිසේදී ඇතිවන්නාවූ සියළුම ආයර්යන් වහන්සේලාගේ හිතසුව පිණිසම හේතු වන්නේය. මෙය ශාසනයේ ස්ථිරභාවයට මූලනිධානය සේම ප්‍රථම දුර දක්නා ක්‍රියා පද්ධතියද වේ. එහෙයින්ද බොහෝ දෙනා මෙයට 'ථෙරවාදයය' යයි කියති. එනිසා මෙය ථෙරවාදයයි. මෙය ශත වර්ෂාධික කාලයක් පැවතියේ ය.

බුදුරදුන් පිරිනිවී අවුරුදු දසයක් ගතවිය. මෙම අවදිය වනවිට ඉංදියාවේ, අජාසත්ථ රජුගේ රාජ්‍ය වර්ෂ ගණන අවුරුදු විසිහතරක් ගතවී තිබුණි. එසේම විජය රජු මේවනවිට ලංකාවේ රජකරන ලද වර්ෂ ගණන අවුරුදු දහසයකි[3] මෙම කාලය වනවිට

1. බුදුන්වහන්සේ ජීවමාන කාලයේදීම ශාසනය නොනැසී පවත්වා ගෙන යාම සඳහා සංඝායනාවක් පවත්වන ආකාරය, පිළිබඳව මහාස්ථවිරයන් වහන්සේලාට උපදෙස් දී තිබූ බව මෙයින් පෙනේ. මහා කාශ්‍යප හිමියන් නොබියව මෙයට ඉදිරිපත් වූයේ මේ නිසා විය යුතුය.

2. විනයොනාම සාසනස්ස ආයු' ශාසනයේ චිරස්ථිතිය විනයයි. යනුවෙන් මහාවංශයේ සඳහන් වේ.

3. මෙම රජුන් රජ කරන ලද රාජ්‍ය වර්ෂයන් මහා වංශයේ සඳහන් නොවේ. එසේම විජය ලංකාවට පැමිණියේ නිත්‍ය වශයෙන් ක්‍රි. පූ. 543 දී බව මහාචායර්ය කොඩ්රින්ටන් පිළිගන්නා අතර තවත් විද්වතුන් රාශියක් එය අනුමත කොට ඇත. මෙයින්ද බුදු රදුන්ගේ පිරිනිවීමත් විජයගේ ලංකා ගමනත් එකම දිනයක් බව පෙනේ.

උපාලි ස්ථවීර පාදයන් වහන්සේගේ වයස අවුරුදු හැටක්විය. උන්වහන්සේගේ ශිෂ්‍ය භික්ෂු නමක් වූ දසක හිමියන් උපාලි ස්ථවිරයන් වහන්සේගෙන් මෙම අවදියෙදී උපසම්පදාව ලැබීය. මෙම උපාලි තෙරණුවෝ බුදුන් වහන්සේගේ නවංග සතවූ ශාසනයට අයත් සියළුම ධර්මස්කන්ධයන් තම ශිෂ්‍ය තෙරුන් වහන්සේලාට පුගුණ කළාහුය. තවද උන්වහන්සේ බුදුන් වහන්සේගෙන් ඉගෙන ගත් ආකාරයෙන්ම ත්‍රිපිටකයේ එන සියළුම දේ කිසිදු ඌනතාවයකින් තොරව උගන්වන ලදී. එක් දිනක් බුදුන් වහන්සේ පිළිබඳව භික්ෂූන් අමතා මෙසේ ප්‍රකාශ කරන ලදී.

> "මගේ ශාසන යේ උපාලි ශ්‍රේෂ්ඨතම වූත් ප්‍රධානවූත් විනයකාමී භික්ෂුව වන්නේය." යනුවෙනි.

මෙසේ මහසඟ සත වැද විනයකාමීත්වයේ ප්‍රධාන තැනට පත්වූ උපාලි තෙරණුවෝ දසක තෙරුන් ඇතුළු දහසකට ත්‍රිපිටකය ඉගැන්වූහ. එසේම පණ්ඩිත මානී වූ දසක තෙරණුවන්ට සියළුම නවංගසතවූ ශාසනයට අයත් ධර්මයන් පුගුණ කළාහුය.

එසේම ඒ දසක ස්ථවිරයන් වහන්සේද පසු කලෙක උපාධ්‍යාව එම ධර්මස්කන්ධය සිය ශිෂ්‍ය භික්ෂූන් ට පුගුණ කරවූ අතර උපාලි ස්ථවිර පාදයන් වහන්සේ තමන් වහන්සේ හා එක ආරාමයෙහි විසූ පාණ්ඩිත්‍යයෙන් හෙබි දසක තෙරුන් වෙත සියළු විනය පිටකය ඉතිරිකොට පිරිනිවන් පා වදළහ. ක්ෂත්‍රිය වංශයට අයත් උදය රජු[1] දසය අවුරුද්දක් රජ කරන ලදී. උපාලි හිමියන් පිරිනිවන් පෑවේ ඔහුගේ හයවන රාජ්‍ය වර්ෂයේදීය.

උපාලි තෙරුන් වහන්සේ පිරිනිවන් පෑ කාලයෙහි බහු මානී වෙළඳ පුත්‍රයෙකු වූ සෝණක වෙළඳ කටයුතු සඳහා කසීරටට පැමිණියේය. ශාසනයෙහි පැහැදුනාවූ මෙම වෙළඳ පුත්‍රයා රජගහ නුවර වේළුවනාරාමයේදී බුදුසසුනෙහි පැවිදි විය. මෙකල

1. අජාසත් රජුගෙන් පසු ඔහු මරා රජවූ ඔහුගේ පුත්‍රයාය. මःවංශයේ මොහුගේ නමත් සඳහන් වන්නේ උදයිභද්‍ර ලෙසය. ඔහුගේ පුත් අනුරුද්ධ, ඔහු මැරූ අතර ඔහුගේ පුත් මුණ්ඩ තම පියා මැරූහ. ඔහුගේ පුත් නාගදසකද සිය පියා මැරූ නිසා ජනතාව පිතෘඝාතක රාජවංශය ඉවත්කොට සුසුනාග ඇමති රජකරවූ බව සඳහන් වේ. (ම: ව: 4පරි)

මගධවාසීන්ගේ රජගහ නුවර වේළුවනාරාමයෙහි වැඩවාසය කළේ දසක ස්ථවිර පාදයන් වහන්සේය.මෙම සෝණක හිමියන් පැවිදි කරවන ලද්දේ දසක තෙරුන්වන අතර සෝණක තෙරුන් පැවිදි වූයේ දසක තෙරණුවන්ගේ තිස්හත්වන වර්ෂයේදීය.[1]මෙසේ ඒ දසකතෙරණුවන්ට වස් හතලිස්පහක් ගෙවෙද්දී මගධයේ නාගදස රජු අවුරුදු දහයක් රාජ්‍ය මෙහෙයවා තිබුණි. මේ වනවිට පණ්ඩු රජුගේ[2] රාජ්‍යය කාලය අවුරුදු විස්සක් විය. සෝණක තෙරුන් දසක ස්ථවිරයාණන්ගෙන් උපසම්පදාව ලබාගන්නේ මෙම අවදියේදීය. නවඞග සත්‍ථු ශාසනයට අයත් සියළු ධර්මකොටස් උන්වහන්සේ සෝණක තෙරුන්ටද ඉගැන්වූහ. මෙසේ දසක තෙරුන් උපාලි තේරුන් ගෙන් ධර්මය ඉගෙනගත් අතර දසක තෙරුන් සෝණක තෙරුන්ට ප්‍රගුන කරන ලදී. මේ වනවිට සෝණක තෙරුන් සතලිස් වියෙහි පසුවී. සිය ඇදුරුපාණන්ට මේ වනවිට අවුරුදු හැටහතරක් වූ අතර සෝණක තෙරුන් ප්‍රධාන විනය තනතුරට පත් කෙරින. දසක තෙරුන් පිරිනිවන් පෑසේක් මෙම අවදියේදීය.

සෝණක තෙරුන් වහන්සේ උපසපන් වීමෙන් අවුරුදු දහහතක් ගතවීමේදී උන්වහන්සේ සියළු ත්‍රිපිටකය ප්‍රගුණ කර සිටියහ. මේ වනවිට කාලාශෝක රජුගේ රාජ්‍ය කාලයෙන් අවුරුදු දහයකුත් දින පහලොහක් ගතවී තිබුණි. කාලාශෝක යන්ගේ රාජ්‍යය කාලයෙන් වසර එකොලහකුත් මාසහයක් ගතවීමේදී භික්ෂුන්ගේ නායකත්වය දරුවාහු සෝණක තෙරණුවෝය. මේ කාලයේදී උන්වහන්සේ විසින් 'සිග්ගව ' හා චණ්ඩවජ්ජී[3] යන භික්ෂූන් තම ශිෂ්‍ය භික්ෂූන් ලෙස උපසපන් වීමට පත් කෙරින.

බුදුරජණන් වහන්සේ පිරිනිවන් පා අවුරුදුසීයක් ගතවී ගිය කල්හි උතුම්වූ ථෙරවාදී ශාසනයේ මහා භේදයක් ඇති කරන ලදී. මෙම අවදියේ විශාලාමහනුවර සිටි වජ්ජිපුත්‍රක භික්ෂුහු දශවස්තුවක් සම්මත කරගත්හ.

---

1. මේ පිළිබඳව මඃ වඃ කිසිත් සඳහන් නොවේ.
2. මේ කාලයේ ලංකාවේ පණ්ඩුවාසුදේව රජකල බව පෙනේ. මෙහි පණ්ඩු යනුවෙන් දක්වන්නේ ඔහු විය හැකියි.
3. මෙ තෙරවරුන් පිළිබඳවත් එම ශිෂ්‍ය භික්ෂූන් පිළිබඳවත් මඃ වඃ දක්වන්නේ තෙවන සංඝායනාව පිළිබඳ කරුණුවලදීය.

එම දසවස්තුව මෙසේය.

සිංගිලොණ කප්ප
දවංගුල කප්ප
ගාමන්තර කප්ප
ආවාස කප්ප
අනුමති කප්ප
ආචින්න කප්ප
අමථිත කප්ප
ජලෝගිපාන කප්ප
ජාතරූප රජත කප්ප
නිසීදන කප්ප[1] යනුවෙනි.

මේවා ශාසනයට හා ධර්ම විනයට විරුද්ධ මිත්‍යා මතයන්ය මේවා වජ්ජි පුත්තක භික්ෂූන් විසින් පනවා ගෙන කට යුතු කරන ලදී. මෙම වජ්ජි පුත්තක භික්ෂූහු ධර්මය කරුණු බිඳදමා ධර්මයෙහි අර්ථයට ද හානිවන සේ ධර්ම විනටයද විරුද්ධව මිත්‍යා මතයන් ඉදිරිපත් කළහ. මෙම කරුණු හෙළා දකීමසඳහා බොහෝ බුද්ධ පුත්‍රයන් වහන්සේලා එක්රැස්වූවාහුය. මෙම අවස්ථාවට මහා තේජාන්විත භාවයෙන් යුත් මහත් වූ ශිෂ්‍ය භික්ෂු සමූහයාගෙන් සමන්විත වූ බුදුන් හා සමානවූ මහා තෙරවරු සමූහයක් පැමිණ සිටියාහුය. මෙයට විරුද්ධත්වයි ප්‍රකාශකිරීම සඳහා පැමිණ. සිටි බුද්ධ පුත්‍රවූ භික්ෂු සංඛ්‍යාව දෙළොස් ලක්ෂයකි. මෙහි පැමිණි මෙම භික්ෂූන්ගේ නායකත්වය දරණු ලද්දේ.

සබ්බකාමී: සාල්හ: රේවත: කුජ්ජසෝභිත: වාසභාගාමී සුමන: යන මහාස්ථවිරයන් වහන්සේලා හා බුදුරජාණන් වහන්සේ ගේ ද මහත් ප්‍රසාද ගුණයට ලක්වූ කාකණ්ඩ පුත්තක[2] යස යන

1. 1. ලුණු නැති ආහාර ලත්විට අවශ්‍ය ලුණු අඟක දමා තබා ගැනීම 2. ඉර අඟල් දෙකක් අවරට යන තෙක් ආහාර ගත හැකිය. 3. වෙන ගමකට යමැයි අකැප ආහාර ගැනීම. 4. මහාසීමාවෙහි විවිධ ආවාසවල වෙනම විසීම. 5. විනය කර්මයන් කර නොපැමිණි භික්ෂූන්ගේ කැමැත්ත පසුව ගැනීම. 6. ගුරු පරපුරේ පුරුදු දැ කිරීම. 7. කිරිබවින් තොර දී බවට නොපැමිණි දැය නොකැපව ගැනීම. 8. නමුකල සුරාබීම. 9. අනුමත නැති නිසීදන පරිහරනය 10. රන් රිදී මසු කහවනු පිළිගැනීම.
2. වජ්ජි පුත්‍රක භික්ෂූන් මුදල් සම්මාදන් කරණු මෙම හිමියන් දැක ඇති බවත් එම අවස්ථාවේ එය වැරදි බව පෙන්වා දුන්විට ඒ අලජ්ජි භික්ෂූන් කකණ්ඩ පුත්තක හිමියන්ට පටිසාරනීය කර්මය කල බවත් සඳහන් වේ.

ස්ථවිරයන් වහන්සේලා අට නමය. මෙම අවදියේදී වාසභ ගිමී හා සුමනඃ යන තෙරුන් වහන්සේලා අනුරුද්ධ ස්ථවිර පාදයන් වහන්සේලාගේ අනුවර්තකයෝ වූහ. මෙම තෙරවරුද විශාලා නුවරට පැමිනියාහු එම පාපී භික්ෂූන් හෙළා දැක නිගාදීම පිණිසයය. ජීවමාන කාලයෙහි තථාගතයන් වහන්සේ නොදුටු අවශේෂ භික්ෂූහු නන්ද ස්ථවිරයන් වහන්සේ අනුගමනය කළාහුය. මේ අනුව එම සත්සීයක් පමණ භික්ෂූහුද විශාලා මහනුවරට රැස්වූවාහු ය. පාරිශුද්ධ භාවයෙන් හා දිවැස් බලයෙන්ද නිතර සමාපත්ති සුවයෙන් ගතකලාවූද; යුක්තවූ ද එහි පැමිණියාවූ සියළු භික්ෂූහුම මෙම සම්බුද්ධ ශාසයනයෙහි උතුම්වූ විනය පිළිගනිති මෙහි රැස්වූ සියළු භික්ෂූහු කාම රාගාදියෙන් මිදුනාහුවෙත්. මේ සියල්ලෝ සියළු කෙළෙසුන් දුරු කලාහුය.

පාටලී පුත්‍රනගරයේ ක්ෂත්‍රීය වංශික කාලාශෝක රජවිය. කාලාශෝක සුසුනාග රජුගේ පුත්‍රයාය. ඒ මහා බලයක් ඇති තෙරුන් වහන්සේලා අට දෙනා මෙම අලජ්ජී භික්ෂූන් ශාසනයෙන් ඉවත්කර දැමීමට කැමති කරවා ගෙන ඒ භේද ඇති කරන්නාවූ පාපී භික්ෂූන් මර්ධනය කරන ලදී. මේ අනුව තහනම් කොට එය නැති කර දමන ලදී. ඒ පාපකාරී භික්ෂූහු ශාසනයෙන් එළවා දමන ලදහ. අනතුරුව මෙම මධ්‍යස්ථ තෙරවරු අට දෙන උතුම් රහත් භික්ෂූන් වහන්සේලා හත්සීයක් එක්රැස්කොට මෙම සංඝායනාව පවත්වන ලදහ. මෙසේ කරන ලද්දේ විභජ්ජවාදය මර්ධනය කොට නැති කරදමනු සඳහාය. මෙම උතුම්වූ සංඝායනාව විශාලාමහනුවර කූඨාගාර ශාලාවේදී[1] පැවැත්විනි. මෙම සංඝායනාව අටමසකින් නිමාවට පත්විය. මෙය දෙවැනි වරට පවත්වන ලද ධර්මසංඝායනාවයි.

මෙම සංඝායනාවේදී ස්ථවිර වාදීන් විසින් වජ්ජි පුත්තක පාප භික්ෂූන් නෙරපා දමන ලදී. ඒ අධර්මවාදීන්ගේ පක්ෂයගත් ජනයාද අධර්මවාදී භික්ෂූන්ගේ පක්ෂය ගන්නා ලදී. මෙම අධර්මවාදී භික්ෂූහු දසදහසක් එක් රැස්ව වෙනත් ධර්ම සංඝායනාවක් කළාහුය. මේ නිසා එම ධර්ම සංඝායනාවට 'මහාසංගීති' යයි කියනු ලැබේ.

---

1. මෙම සංඝායනාව වාලුකාරාමයේදී කළ බව මඃ වඃ දැක්වේ. (මඃ වඃ 4පරි) වෙනත් බෞද්ධ ග්‍රන්ථවලින් ද දැක්වෙන්නේ වාලුකාරාමයේ කළ බවය.

ඒ මහා සාංගික වාදීන් ශාසනය භේදභින්න කෙරිත. ස්ථවිර වාදීන්ගේ මූලික ධර්මවිනයට ප්‍රතිවිරුද්ධ වූ ඔවුහු අනෙක් ධර්මවිනයක් ගොඩ නගා ගත්තාහුය. මෙම වජ්ජිපුත්‍රක භික්ෂූන් ක්‍රමාණූකූලව එක්තැනක සංග්‍රහකර තිබූ විවිධ සූත්‍ර වෙනත් තැන්වල තබන ලදී. විනය පිටකයේද සඟි පභේද ධර්මය ලක්ෂණයක් හා අර්ථයන් ද වෙනස් කෙරිත. තවද මෙම වජ්ජිපුත්‍රක භික්ෂූහු තථාගත භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද පරියාය; නිප්පරියාය; හා නීතාර්ථ දේශනාද, නෙයත්‍ථාර්ථ සූත්‍රද නොදත්හ. එක් නිත්‍යාර්ථයක් සඳහා දේශනා කරන ලද්දක් වෙනත් අනෙක් කරුණක් සඳහා එක්කරන ලද්දහ.[1] තවද එම භික්ෂූහු අක්ෂර ඡායාව පමණක් ගෙන[2] අර්ථ විනාශවනසේ ක්‍රියා කළහ. එසේම ඔවුන් බුදුන් වහන්සේ දේශනා කරන ලද ගැඹුරු සූත්‍ර අර්ථයන් හා විනය කරුණු කඩා එයට සමානව පෙනෙන වෙනත් සූත්‍රයන් හා විනය සංග්‍රහයක් ද කරනලදී[3] මෙම වජ්ජි පුත්‍රකයින් පරිවාරය; අත්‍ථුද්ධාරය; අභිධර්මය; ප්‍රකාරණය; පති සම්භිදව; නිද්දේශය; ඒකදේශ ජාතකයද යන මේවා හැර අනෙක් සියල්ල සංග්‍රහ කෙරිත. එසේම ඔවුන් එ ඒ සූත්‍රයන්ගේ නම් වෙනස්කළ අතර සූත්‍රවල අන්තර්ගත පිළිවෙළද වෙනස් කරන ලදී. සූත්‍ර පරිවයාන්ද වෙනස්වී මේ ආකාරයෙන් පළමුවෙන් බෙදී ගියාවූ මහාංසඝික නිකායිකයෝ පසුව ඔවුනොවුන්ද ක්‍රමයෙන් බිඳී ගියාහුය. එසේ බිඳී ගිය ඔවුන් විසින් බොහෝ බෙදීගිය කණ්ඩායම් ඇති කරනලදී. එයට පසු කාලයේදී ඒ බෙදීගිය අයවලුන් අතරද බෙදීම් ඇතිවිය. ඒ මහා සංඝිකයන් පළමුවෙන් ගෝකුලික හා ඒකබ්බෝහාරික යයි කොටස් දෙකකට බෙදුනි. එයින් පසු ගෝකුලික නිකාසිකයෝද කොටස් දෙකක් වූහ. එම කොටස් දෙක නම් වශයෙන් මෙසේය.

---

1. මහායාන පිටකයේ බොහෝ තැන්වල මෙම විකෘති භාවය දක්නට ලැබේ. දි. ව. කතුවරයා මෙම යුගයේ යථාවබෝධය අතින් වඩාත් ඉදිරියෙන් සිටි බව පෙනී යි. ඔහු මහායාන ධර්මය හදුරා තිබූ බවද පෙනේ.
2. අලංකාරය සඳහා පමණක් අර්ථවිරහිතව වචන භාවිතා කළ බව පෙනී යයි. වන්දිභට්ටයන්සේ මිනිසුන් වර්ණනාවෙන් මුලාකොට ධනය ලබාගැනීම සඳහා පමණක් මෙම භික්ෂූන් ක්‍රියා කල බව දෙවන සංසායනාවේ අන්තර්ගත හේතු ඇත.
3. මූලික බුදුදහම වෙනස්කිරීමට බමුණන්ට අවශ්‍යවිය. මෙය සංවිධානාත්මකව කරන ලද්දකි

බහුස්සුතික[1]
පඤ්ඤත්තිවාදී වශයෙනි.

මෙයට පසු මහාසාංඝික වාදීන්ගෙන් තරමක් වෙනස්වූ "චේතියවාදීන්" නමින්ද කොටසක් ඇතිවිය. මේ ආකාරයෙන් මහා සංඝිකයින් කොටස් පහක්විය. මොවුන්ද ඒ ගෞතම භගවත් ශාක්‍යය පුත්‍රයන් වහන්සේ ගේ ධර්මය හා අර්ථයන්ද වෙනස් කරන ලදී. සමහර ධර්මසංග්‍රයන් හි එක් කොටසක් ඉදිරිපත් කළ අතර ග්‍රන්ථාරූඪ කරන ලද ත්‍රිපිටක ග්‍රන්ථයන්හිද එක් කොටසක් වෙනස් කොට ධර්මයට පරිබාහිර වූ වෙනත් දෙයක්ම කෙරින. එම භික්ෂූන් මේ ආකාරයෙන් ඒ ඒ සූත්‍ර ග්‍රන්ථයන්හි නම්ද[2] වෙනස් කරන ලදී. එසේම එම ග්‍රන්ථයන්හි අන්තර්ගත පිළිවෙල, ලක්ෂණ යන්ද වෙනස් කෙරින. මේ ආකාරයෙන් බුදුන්වහන්සේ දේශනා කරනලද ධර්මයන්ගේ වෙනසක්ම ඇතිකළේය. මෙසේ කලක් ගතවිය. සංඝායනාවකින් පිරිසිදුවූ ථෙරවාදයෙහි නැවතත් භේදකාරී තත්වයක් උදවිය. ඒ භේදය ඇතිවූයේ.

මහිංසාහික හා
වජ්ජීපුත්‍ර යන දෙකොටස ඇතිවීමෙනි.

මෙයින් පසු වජ්ජීපුත්‍රකයන් නිසා තවත් කොටස් හතරක් ඇතිවූයේය. ඒ කොටස් හතර මෙසේ වෙන්කර දැක්වේ.

"ධම්මුත්තරික.
භද්ධයානික:
ඡන්නාගරික:
සම්මිතික: යනුවෙනි.

මෙයින් පසු මහිංසාසික යෝද කොටස් දෙකක් වූහ. ඒ කොටස් දෙකහි නම් මෙසේ ය

සබ්බත්ත වාදී
ධමම ගුත්තික වශයෙනි.

1. මෙය සමහර තැන්වල බාහුලික යනුවෙන් දක්නට ලැබේ.
2. දි. ව. ලියන විට ථෙරවාදී ත්‍රිපිටක ග්‍රන්ථ සම්පූර්නයෙන්ම ලියවී අතර මහායානිකයන්ද ඔවුන්ගේ ධර්මග්‍රන්ථයන් සකසා තිබූ බව මේ අනුව පෙනේ.

මෙම සබ්බත්ති වාදීන්ද පසු කාලයේ අනුක්‍රමයෙන්
සංකන්ති කස්සප;
සුතවාද; යනු වෙන් බෙදී ගියේය. මෙසේ මෙයින් පසු ථෙරවාදය මෙම ආකාරයෙන් කොටස් එකොළහ කට බිඳීගියේය. මෙසේ මෙම වජ්ජිපුත්‍රක භික්‍ෂූන් යථාර්ත ථෙරවාදයේ අර්ථයන් ද ධර්‍මයද විවිධ කොටස් වලට බෙදන ලදී. ත්‍රිපිටක ග්‍රන්ථවලින් සුළු කෙටසක් හැර අන් සියළුම ත්‍රිපටක ග්‍රන්ථ විවිධ මත ඇති ග්‍රන්ථ සමූහයක් බවට පත් කෙරීනි.[1] මොවුහු මූලික බුද්ධ ධර්‍මයෙහි යථාර්ථ පාරිශුද්ධ අන්තර් ගතයන් වෙනස්කර පළමු ධර්‍මග්‍රන්ථවල ආකාරයද නමද අනුපිළිවෙළ ආදී සියල්ල වෙනස් කොට වෙනත් ධර්‍මය පිළිවතක්ම ඇති කළහ. මෙසේ නොයෙක් ආකාරයෙන් බිඳීගියාවූ ධර්‍මය අන්‍යවාද දහතක් ඇතිවිය. මේ අකාරයෙන් නොබෙදුනේ එකම වාදයක් පමණි.[2] මෙසේ ඒ නොබෙදී ගියාවූ වාදය ද සමග ධර්‍මවාදයන් දහ අටක්වී. මෙයින් මහා නුගගසක් බඳුවූ ථෙරවාදය උතුම්ය. එයට පරිබාහිරව ඇතිවූ දෙයන් කිසිදු අඩුවීමක් හෝ වැඩිවීමක් නොමැතිව තිබූ නවංග සත්‍ථු ශාසනයට බාහිරව ඇතිවූ ඒවාය. එවා යම් ගසක් විනාශ කිරීමට ඇතිවූ පිළිලයක් මෙනි. බුද්ධ පරිනිර්වානයෙන් අවුරුදු සීයක් යනතෙක් පිරිසිදු බුද්ධ ධර්‍මයට විරුද්ධව කිසිදු වාදයක් ඇති නොවීය. නමුත් දෙවන අවුරුදු සීය ඇතුලතදී ථෙරවාදයට විරුද්ධ පරිබාහිර ධර්‍මවාදයන් දහතක බුද්ධශාසනයේ ඇතිවිය. පසු කාලයේ මෙම. අන්‍යවූ බෙදීම් හයද ඇති වූයේය.

හේමවතිකා: අපර ශෛලිකා;
රාජගිරිකා: අපර රාජගිරික
පූර්වශෛලිකා: තධාර්ථ;[3]
යනුවෙනි.[4]

---

1. දී. ව. රචනා වන විට ලංකාවේ තිබූ තත්වයන්ම උපයෝගී කර ගනිමින් දී. ව. කතුවරයා මෙසේ අත්දැකීමක ආකාරයෙන් ලියන්නට ඇත.
2. මෙයින් ථෙරවාදය නොබෙදුන බවක් කතුවරයා සිහිගන්වයි.
3. හේමවත: රාජගිරිය: සිද්ධත්තිකා: පුබ්බශෛලීය: අපරශෛලීය: වාජිරිය: යනුවෙන් මහාවංශයේ දක්වා ඇත.
4. මේ පිළිබඳව ම: ව: එන තොරතුරු පිළිබඳ විමර්ශනයක යෙදීම වැදගත්ය. (ම: ව: 4,5, පරි)

# 5

අවුරුදු එකසිය දහඅටක් ගිය කල්හි අනාගත කාලයෙහි බුද්ධ ශාසනය විනාශ කරන්නාවූ ශ්‍රමණ ප්‍රතිරූපික භික්ෂූන් උපදින්නේය. මෙම අවදියේදී බ්‍රහ්ම ලෝකයෙන් චුතවන ජාතියෙන් බ්‍රාහ්මණ වංශිකයෙක්ව ත්‍රිවේදයේ පරතෙරට ගියාවූ මොග්ගලී නම් බමුණෙකුගේ පුත්‍රයෙකුට තිස්ස නම් කුමාරයෙකු මිනිසත් බව ලැබ උපදින්නේය. එම බමුණු දරුවා සිග්ගව හා චණ්ඩවජ්ජි[1] ස්ථවිරයන් වහන්සේ ලා පැවිදි කරණු ලබත්. එම දරුවා එම පැවිද්දේ දී මොග්ගලී පුත්ත තිස්ස නාමය ලබන්නේය. එම පැවිද්ද ලබන්නාවූ ඔහු විසින් සියළු පර්යාප්ති ධර්මයන් අවබෝධ කරනු ලබන්නේය. එසේම එම තෙරණුවෝ අන්‍යය තීර්ථක මතයන් බිඳදමා නැවතත් පිරිසිදු බුදු සසුන පිහිටු වන්නාහ. මෙම කාලයෙහි පාටලීපුත්‍ර නගරයෙහි රාජ්‍යය මෙහෙයවනු ලබන්නේ අශෝක නැමැත්තාය. ඔහු ධර්මානුගත භාවයෙන් යුතුව රට පාලනය කෙරෙයි.

මෙම අවදියේදී මොග්ගලී පුත්ත තිස්ස බ්‍රාහ්මණ කුමරු බ්‍රහ්ම ලෝකයෙන් චුතව මිනිස් ලොව ඉපදුනේය. එසේ උපන් ඔහු දහසය වැනි වියේදීම සියලුම වේද මන්ත්‍රයන් හදරා එහි පරතෙරට ගියේය ඍග්; යජුර්; සාම; අතර්වන්[2] ආදී වේද කාණ්ඩයන් නිගණ්ඩු කරන ලද්දේ සියළු ශාස්ත්‍රයන්ද හදළේය; මෙම තරුණ බ්‍රාහ්මණයාට දිනක් සිග්ගව තෙරුන් මුණ ගැසුනි.[3] එම අවස්ථාවේදී

---

1. මෙම තෙරවරුන් ඉංදියාවේ මෞර්‍ය චන්ද්‍ර ගුප්තගේ රාජ්‍යය අවදියේ මොගලී පුත්ත තිස්ස හිමියන් පැවිදි කල බව පෙනේ. ක්‍රි. පූ. 324 අවදියේදී ඔහු රජවිය.
2. නියම බමුණෙකු වීමට මෙම බමුණු දහමේ කරුණු හතරම කට පාඩමින් ප්‍රගුණ කළයුතුයි. නිගණ්ඩුකිරීම යනුවෙන් සඳහන් වන්නේ එයයි.
3. ම: ව: දැක්වෙන්නේ පළමුවෙන් සිග්ගව හිමියන් ප්‍රශ්න ඇසූ විට එම කුමාරයා එයට පිළිතුරු නොදී පෙරළා එහිමියන් ප්‍රශ්න කළ බවය. මෙහි එන (දි:ව:) තොරතුරු සංස්ශිප්ත වුවද ම: ව: පූර්ණ විස්තරයක් ගෙනඑයි. එනිසා මහාවංශය බලන්න. (5 පරිච්ඡේදය)

ශ්‍රමණයන්වහන්ස; මම ඔබවහන්සේ ගෙන් ප්‍රශනයක් විචාරමි. එය විසඳන්න. යනුවෙන් කීය. උන්වහන්සේ ලද අවසරයෙන් එය විසඳූ සේක. අනතුරුව එම බමුණු පුත්‍ර යා තවද ප්‍රශ්න අසන ලදී. එම ප්‍රශ්නද උන්වහන්සේ විසඳූ සේක. පසුව එම තෙරුන් වහන්සේ ඔහුගේ නුවණ මුහුකුරා ගොස් ඇති බව දැන ඔහු ගෙන් මෙසේ විචාළහ.

> තරුණය: බුදුරජානන් වහන්සේ විසින් දේශනා කරනලද ප්‍රශ්නයක් මම ඔබගෙන් විචාරවි ඔබට හැකි නම් එම ප්‍රශ්නය ඒ ආකාරයෙන් ම විසඳන්න.

එම තරුණයා ප්‍රශ්නය විචාරන්නේ මෙසේ පිළිතුරු දුන්නේය.

> බුදු රජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද එම ප්‍රශ්නය[1] මාවිසින් අසා හෝ දැක නැත.[2] මම ඒ බුද්ධ මන්ත්‍රය දැනගැනීම පිණිස පැවිදිවීමට කැමැත්තෙමි.

එම තරුණයා සම්බාධ සහිත ගිහිගෙයින් නික්ම ශාන්තිය අපේක්ෂා කරන්නේ අනගාරික වූ තථාගත සර්වඥයන් වහන්සේගේ ශාසනයෙහි පැවිදි විය. බොහෝ දේ දත් චණ්ඩවජ්ජි ස්ථවිර පාදයන් වහන්සේ උතුම් සිතුවිලි හා මනා ශික්ෂාකාමීත්වයක් ඇති ඒ තිස්ස සාමනේරයන් වහන්සේට නවංග සතු ශාසනයට අයත් සියළුම ධර්මකොටස් පුහුණු කළ සේක. වේදත්‍රයේ පරතෙරට ගියාවූ එම මොග්ගලී පුත්ත තිස්ස හිමියන්ට මනා ලෙස නවංග සතු ශාසනයට අයත් සියල්ල පුහුණු කල චණ්ඩවජ්ජි හිමියෝ පිරිනිවන් පෑහ. එසේම මොගගලී පුත්තතිස්ස හිමියන්ට යහපත් ලෙස අනුශාසනාද කෙරීන. එසේම සිග්ගව තෙරුන් වහන්සේගේ හැටහතර වන විය පසුවන විට මෞර්‍ය චන්ද්‍රගුප්තයන්ගේ දෙවන රාජ්‍ය වර්ෂය[3] විය. තවද මේ වනවිට පකුණ්ඩක[4] රජුට අවුරුදු

1. තරුණය: සියළුධර්මතාවන් අනුව පැහැදිලි වන එක් ධර්මතාවයක් ඇත. සියලු ධර්මයෝ එය අරමුණු කර ගතිති. ඒ ධර්මය කුමක්ද? (ම:ව:5 පරි)
2. දැක නැත යන්නෙන් පැහැදිලි වන්නේ අත්දැකීමට හසුනොවූ බවයි.
3. ක්‍රි. පූ. 322 විය යුතුය.
4. මෙම නමින් දී. ව. හඳුන්වන්නේ ලංකාවේ රාජ්‍ය කළ පණ්ඩුකාභය රජුය. මේ අනුව පණ්ඩුකාභය රජවී ඇත්තේ ක්‍රි. පූ. 380 දීය. පකුණ්ඩක නාමය. හොරා යන අදහස දීමටද යෙදේ. දී: ව. මෙම දිනවකවානු සැසඳීම ඉතිහාස ගවේසකයන්ට මහත් පහසුවූවක් වී ඇත.

පණස් අටක් ඉක්ම ගොස් තිබුණි. මොග්ගලී පුත්තතිස්ස තෙරුන් වහන්සේ සිග්ගව මහාස්ථවියරයන් වහන්සේ වෙතින් උපසපත් බවට පත්වූ සේක. අනතුරුව මොග්ගලී පුත්තතිස්ස තෙරහු චණ්ඩවජ්ජී මහා තෙරුන්ගෙන් විනය පිටකයද ඉගෙන සියළු උපධීන් ගෙන් විනිර්මුක්ත වූ නිවන් සුවය ළඟාකර ගත්හ. මේ ආකාරයෙන් මහත්වූ ඥානසම්පත් ඇති මොග්ගලී පුත්ත තිස්ස හිමින්ට සිග්ගව. චණ්ඩවජ්ජී මහාස්ථවිරයන් වහන්සේලා විසින් උභය සංග්‍රහය ඇතුලත් සියළු ත්‍රිපිටකය උගන්වන ලදී.

මහත් ඥාණ සම්පත්තියෙන් හෙබි සිග්ගව මහතෙරණුවෝ හැත්තෑ හයවසක් ආයුසුවවළඳ මොගගලී පුත්තතිස්ස හිමියන් විනයෙහි හා ප්‍රාතිමොක්ෂයෙහි ප්‍රධානියා කොට තබා පිරිනිවියහ. සිග්ගව හිමියන් පිරිනිවන් පාන ලද්දේ අවුරුදු විසිහතරක් රාජ්‍ය බලය හෙබවූ මෞර්‍ය්‍ය චන්‍ද්‍රගුප්ත රජුගේ ගේ දහහතරවන රජ්‍ය වර්ෂයේදීය. එම මොගගලී පුත්ත තිස්ස තෙරුන් වහන්සේ වනය ප්‍රිය කළ සේක. සුළු දෙයින් යැපුනසේක. ධුතංගවාදී වූ සේක. ශාන්ත අදහස් කෙරේ ඇලුනසේක. ඉඳුරන් දමනය කරන ලද සේක. මනාලෙස සසුනෙහි ඇලුනාවූ උන්වහන්සේ මේ අකාරයෙන් ශ්‍රී සද්ධර්මයෙහි පර තෙරට ගියහ. තවද දක්ෂවූ උන්වහන්සේ දෙවැන්නකුගෙන් තොරව රමණීය වනසෙසුනට පිවිස හුදකලාවූයේ ගිරි කඳුරෙක වසන සිංහයෙකු මෙන් නිර්භීත වූ සේක. ධර්මාශෝක රජතුමාගේ හයවන රාජ්‍යය වර්ෂය[1] වනවිට මොගගලී පුත්ත තිස්ස ස්ථවිරයන් වහන්සේට හැටවසක් සපිරුනි. මේ කාලයේ ලංකාවේ රජ කරන ලද මුටසිව රජ තුමාට අවුරුදු හතලිස් අටක් විය[2] මේ කාලයේ මහින්ද තෙරුන් වහන්සේ මොග්ගලී පුත්ත තිස්ස මහතෙරුන් වහන්සේ ළඟ උපසම්පද වූහ.

මෙතැන් සිට නැවතත් උපාලි තෙරුන් වහන්සේගේ සිට එම ආචාර්‍ය්‍ය පරම්පරාව දක්වනු ලැබේ. එය මෙසේය. උපාලි

---

1. මෙකල මෙම දිනවකවානු ස්ථිර ව ප්‍රකාශ කරන්නට තරම් ස්ථිරසාර ලේඛණ සටහන් තිබූ බව පෙනී යයි. පැරණි ත්‍රිපිටක ග්‍රන්ථයන්හි අග කොටසේ ඓතිහාසික සටහන් ගොනු කොට තැබූ බව සඳහන්වේ.

2. මෙය ක්‍රි. පූ. 265 වර්ෂය විය හැකිය. කාලිංග මහා යුද්ධය ඇතිවී විශාල මිනිස් ඝාතනයක් සිදුව අශෝක දුකින් සිටියේ මෙකලය.

තෙරුන් වහන්සේ පළමුවෙන් බුදුරජාණන් වහන්සේ ගේ සමීපයෙන් සූත්‍ර අභිධර්මය සහිතව විනය පිටකය ඉගෙන ගත් සේක. පසුව උපාලි තෙරුන් සමීපයෙන් දසක තෙරුන් වහන්සේ සියළු විනය පිටකය ඉගෙන, මෙම බුද්ධ ශාසනයේ උපාද්‍යාය වහන්සේ කෙනෙක් බවට පත්ව තම ශිෂ්‍යයන්ට ඉගැන්වූහ. එම තෙරණුවෝද ස්වකීය ශිෂ්‍යයාන කෙනෙකුවූ සෝණක තෙරුන්ට තමන් වහන්සේ විසින් ධර්මවිනය පුහුනු කරන ලදී. ධර්ම විනය ග්‍රහනයෙහි මහත් දක්‍ෂයෙකු වූ ද එසේම බුද්ධිමත් වූ ද සෝණක තෙරණුවෝ තමා විසින් ඉගෙන ගන්නා ලද එම ධර්ම විනය සිය උපාධ්‍යායන් වහන්සේගෙන් වනපොත් කෙරවූහ. මෙසේ බුද්ධිමත් වූ ධර්මවිනයෙහි මනා දක්‍ෂවූ එම සෝණක තෙරුන් වහන්සේ විසින් ස්වකීය ශිෂ්‍යවූ සිග්ගව තෙරණුවන්ට සියලු විනය පිටකය පදයක් පදයක් පාසා උගන්වන ලදී. මේ ආකාරයෙන් සිග්ගව හිමියන්ද; චණ්ඩවජ්ජි හිමියන් ද සෝණක හිමියන්ද එකම සද්ධිවිහාරකයෝ වූහ. ඒ සිග්ගව හා චණ්ඩජ්ජි තෙරුන් වහන්සේලා සිය විහාරයෙහි වැඩ විසූ සවකීය අන්තේ වාසික ශිෂ්‍ය භික්‍ෂූන්ට ධර්ම විනය ඉගැන්වූ සේක. මෙසේ මෝග්ගලී පුත්ත තිස්ස තෙරණුවෝද සවකීය ආචාර්ය වූ චණ්ඩවජ්ජි ස්ථවිර පාදයන් වහන්සේගේ සමීපයෙන් ධර්ම විනය හදරා උපධි සහිත නිවන් සුවය අවබෝද කරගත් සේක. මෙයින් පසු උපාධ්‍ය තනතුරින් පිදුම් ලද මොග්ගලී පුත්තතිස්ස තෙරහු එකම ආරාමයෙහි විසූ සවකීය ශිෂ්‍ය තෙරණුවන් වන මහා මහින්දස්ථවිර පාදයන් වහන්සේට සියළු ධර්ම විනය හා පිටකත්‍රයද ථෙරවාදී න්‍යායද පුහුණු කළහ.[1*]

මහා කරුණාගුණයෙන් සමන් විත වූ උපාලි මහාස්ථ විරයන් වහන්සේද පළමුවෙන් ම බුද්ධ පරිනිර්වාණයෙන් අවුරුදු තිහක් යනතෙක් ස්වකීය පැවිද ශිෂ්‍ය භික්‍ෂූන් වහන්සේට විනය පිටකය ඉගැන්වූහ. එම තෙරුන් වන්සේ තම ශිෂ්‍යවූ දසක තෙරුන්

1. මः වः මහින්ද තෙරුන් පිළිබඳ දීර්ඝ විස්තරයක් ඇත.

* බෞද්ධ ඉගැන්වීම් ක්‍රමානුකූල ඇගයීමහා නැවත ඇගයීම බහුලව තිබී ඇති බව ලේඛණ කායර්යන් තුලද පුනර්පෝෂණය ඇති කිරීමෙන් පෙනී යයි. බුදුන් වහන්සේද වැඩිම ශිෂ්‍යන් ප්‍රමාණයක් ඇති හොඳම ගුරුවරයා ලෙස ලෝක අධ්‍යාපන දර්ශනිකයන්ද පිළිගෙන ඇත. නූතන අධ්‍යාපන විද්‍යාඥ ගින්ස්බර්ග් ද මේ බව පෙන්වා දී ඇත. පියාජේ සිග්මන් ෆ්‍රොයිඩ් ද දක්වා ඇත.

විනයපිටකයේ ප්‍රධානියා කොට පිරිනිවන් පෑ සේක. අනතුරුව දසක හිමියන් සෝණක හිමියන්ටද විනය පිටකය උගන්වන ලදී. උන්වහන්සේ හැටහතර වසරකින් පිරිනිවි සේක්, සෝණක තෙරුන් විනය ප්‍රාති මොක්‍ෂයෙහි ප්‍රථම ස්ථාන යෙහි තබනලදී. ඒ ෂඩ් අභිඥලාභී සෝණක තෙරුන්වහන්සේ ගේ ශිෂ්‍යය රත්නයක් වූ ආයර්‍ය පුත්‍ර සිග්ගව තෙරුන් වහන්සේ සමස්ථ විනය පිටකයෙහි ප්‍රධානියා කොට අවුරුදු හැටහයකින් ආයු සංස්කාරය අත්හලහ. අනතුරුව කෑණයෙන් අගතැන් පත් සිග්ගව තෙරණුවෝ තම ශිෂ්‍යය මොග්ගලී පුත්ත තිස්ස හිමියන් විනය ප්‍රතිමෝක්‍ෂයේ ප්‍රධානියා කොට හැත්තෑ හය වසක් ආයුවළඳා පිරිනිවි සේක. අනතුරුව මොග්ගලී පුත්ත තිස්ස තෙරණුවෝද තම ආරාමයෙහි වාසය කළාවූ තම ශිෂ්‍යය මහාමහින්ද තෙරුන්ට විනයෙහි ප්‍රධානත්වය දී තමන් වහන්සේ අසූහය වැනි වියෙහිදී පිරිනිවියහ. මේ ආකාරයෙන් උපාලි තෙරුන් අවුරුදු හැත්තෑ හතරක්ද; දසක ස්ථවිරයන් වහන්සේ අවුරුදු හැටහතරක්ද; සෝණක ස්ථවිරයන් වහන්සේ අවුරුදු හැටහයක්ද, මොග්ගලී පුත්ත තිස්ස තෙරුන් අවුරුදු අසූහයක්ද, වශයෙන් මෙසේ උපසපත්වස් ප්‍රමාණයන්වේ. මෙම තෙරවරුන්ගේ මූලික කාල ප්‍රමාණයන් බලනවිට පණ්ඩිත මානී උපාලි තෙරුන් වහන්සේ අවුරුදු පණහක් ද, දසක තෙරුන් අවුරුදු හැටහතරක් හා සෝණක තෙරුන් අවුරුදු හැටහයක්ද ජීවත්වූහ. මෙසේ මොග්ගලී පුත්ත තිස්ස තෙරුණුවන්ට හැට අටවසරක්ද විය.[1] මේ වනවිට රජගහනුවර රාජ්‍යය ගෙන ගිය උදයභද්‍ර රජු[2] අවුරුදු දහසයක් රාජ්‍ය මෙහෙයවා තිබුනි.

උදයභද්‍ර රජුගේ හයවන රාජ්‍යය වර්ෂයේ උපාලි මහාස්ථ විරයන් වහන්සේ පිරිනිවි සේක. එයට පසු රජවූ සුසුනාග

1. මෙහිදී එකම නාම ලේඛනය තෙවරක් ඉදිරිපත් කර ඇත. ප්‍රථම අවස්ථාවේදී පූර්නවිස්තරයක්ද දෙවන අවස්ථාවේදී එයට අඩු සාරාංශයක්ද තෙවන අවස්ථාවේ එයින්ද සම්පිණ්ඩනයක් වශයෙන් දක්වා ඇත. මේ අනුවද එවක තිබූ අධ්‍යාපනයේ ප්‍රතිපෝෂණයේ ලක්‍ෂණයක් බව පිළිගත හැකිය.

2. මෙම උදය භද්‍ර පීතෘඝාතක පරපුරට අයත් රජ කෙනෙකි. මෙහි ආරම්භකයා අජාසත්ය. අජාසත් බුදුන්වහන්සේ කරා එළඹ තමන් කළ පාප ක්‍රියාවට පසුතැවිලි වන ආකාරය ක්‍රි. පූ. දෙවන සියවසේ මැදභාගයට අයත් භාරුත්කැටයමකින් සනාථ කරයි.

මහේසාක්‍ය ලීලාවෙන් අවුරුදු දහයක් රජ කළේය. දසක ස්ථවිරපාදයන් වහන්සේ පිරිනිවියේ සුසුනාග ගේ අටවන රාජ්‍යය වර්ෂයේ දීය. සුසුනාග ගෙන් පසු ඔහුගේ සොහොයුරන් දස දෙනා පිළිවලින් රජවූහ.[1] ශාක්‍යවංශයෙන් පැවත එන්නාවූ ඔවුන් සියළු දෙනා අවුරුදු විසිදෙකක් රජ කරන ලදී. මෙම රජුන්ගේ හයවන රාජ්‍ය වර්ෂයෙහි සෝණක තෙරණුවන් පිරිනිවියහ.[2]

මෞර්‍ය චන්ද්‍රගුප්ත[3] රජු අවුරුදු විසිහතරක් රාජ්‍යය කළේය. ඔහුගේ දහතුන් වැනි රාජ්‍ය වර්ෂයෙහි සිග්ගව තෙරුන් වහන්සේ පිරිනිවන් පෑසේක. මෙයින් පසු බිංදුසාර රජවිය. එම බිංදුසාර රජුට මහත් යසස් ඇති පුතෙකු විය. මෙම ක්ෂත්‍රීය වංශික බිංදුසාර රජතුමා තිස්හත් වසක් රාජ්‍ය කළේය.[4] ඔහුගේ පුත් ධර්මාශෝක රජුගේ විසිහය වන රාජ්‍ය වර්ෂයේදී මොග්ග ලී පුත්ත තිස්ස රහතන් වහන්සේ සම්බුද්ධ ශාසනය බැබලවූ සේක. එසේ බබුලුවා වදළ උන්වහන්සේ ආයු කෙළවර පිරිනිවන් පෑ සේක.

මහත් ශිෂ්‍ය සමූහයා ඇති උපාලි තෙරුන්වහන්සේ උපසම්පදවෙන් හැත්තෑ හයවැනි වියෙහිදී ස්වකීය සද්ධිවිහාරික වූ පණ්ඩිතමානී, දසක තෙරුන් විනයෙහි ප්‍රධානනත්වයේ තබා පිරිනිවීහ. එයින් පසු දසක තෙරුන් වහන්සේ සියළු ත්‍රිපිටකය සවකීය ශිෂ්‍ය වූ සෝණක තෙරුන්ට උගන්වා උන්වහන්සේ එහි අග්‍රකොට හැටහතර වන වියෙහිදී පිරිනිවන් පෑ සේක. ෂඩ් අභිඥලාභී සෝණක තෙරණුවෝ ආයර්‍ය පුත්‍රවූ සිග්ගව තෙරුන් විනයෙහි අග්‍රකොට හැට හයවන අවුරුද්දෙහි පිරිනිවන් පෑසේක. ඥනයෙන් අගතැන්පත් සිග්ගව තෙරුන් වහන්සේ ස්වකීය ශිෂ්‍යය වූ මොගගලී පුත්ත තිස්ස හිමියන්ට විනය උගන්වා ඔහු ප්‍රාති

---

1. මෙම කතුවරයා සඟපරපුර හා රජ පරපුර එකට සසඳා දක්වා තිබීම ඓතිහාසික වටිනාකම වැඩි කරන්නකි. ම: ව: මෙසේ දක්නට නැත.
2. භද්‍රසේන: කෝරණ්ඩ, මංගුර: සර්වඥජන: ජාලික: උසභක: සඤ්ජය: කෝරව්‍යය: නන්දිවර්ධන: පංචමක: ඒ දස දෙනාය.
3. මොහුට පෙර නන්ද රජුන් 9ක් විය. උගග සේන නන්ද: පණ්ඩකනන්ද: පණ්ඩුගති නන්ද: භූතගලනන්ද: රට්ඨපාලනන්ද: ගොවිසාණ: දසසිඛක: කෝවට්ටක: ධනපාලනන්ද යනුවෙනි.
4. ම: ව: අවුරුදු 28ක් රජකළ බව දක්වා ඇත.

මොක්ෂයෙහි ප්‍රධානියා කොට හැත්තෑ හයවැනි වියෙහිදී පිරිනිවි සේක. මෙයින් අනතුරුව මොග්ගලී පුත්ත තිස්ස තෙරුන් වහන්සේද එකම විහාරයෙහි විසූ තම ශිෂ්‍ය මහින්ද තෙරුන් වහන්සේ විනයෙහි ප්‍රධානියා කොට අසූවැනි වියෙහිදී පිරිනිවන් පෑ සේක.[1]

1. මෙම පරිච්ඡේදය තුළ මෙවැනි ප්‍රතිපෝෂණ අවස්ථා හතරක් යොදා තිබිණ. මෙයින් පළමු අවස්ථා තුන අර්ථාන්විතව යොදා ගතහැකි වුවත් මෙය එතරම් ගැලපෙන බවක් නොපෙනේ.

# 6

ප්‍රියදර්ශී ධර්මාශෝක රජතුමා[1] සම්බුද්ධ පරිනිර්වානයෙන් 218 වන වර්ෂයේ රාජ්‍යාභිෂේකය ලැබීය. එයින් පසු ඒ ප්‍රියදර්ශී කුමාරයාට මහත් යස ඉසුරු ලැබිණි. මුළුමහත් දඹදිව් තලයෙහිම ඔහුගේ අණසක පැතිරිනි. අනවතප්ත විල ඇතුළු විල් සමූහයට අරක්ගත් දෙවිවරුන්ද අනෙකුත් පර්වත ආදියෙහි විසූ දෙවිවරුන් ද ප්‍රිය දර්ශි රජුගේ වසහයට ගියේය. එකල්හි එම දෙවිවරු සියළු බෙහෙත් සම්මිශ්‍රණය කරන ලද පැන් කළ දහසක් රජුට ගෙන එති. එපමණක් ද නොව හිමාලයෙහි හටගත් ඉතාම සුවඳවත්වූ මොළොක්වූ නාලිය දැහැටි ද ඔහුට දෙවිවරු නිරන්තරයෙන් ගෙන එති. එසේම මෙම කාලයෙහි හිමාලය පව්වේ. හටගනු ලබන්නාවූ මනාසේ මෑදුවූ සුවඳින් හා රසයෙන් හෙබි බෙහෙත් අරළුද දෙවියෝ ගෙන එති. සුවඳින් සුවඳවත් වූ රසයෙන් රසවත්වූ දෙවියන්ගේ මිහිරි පානය හා සමානවූ ඉඳුනු අඹ ගෙඩිද නිරන්තරයෙන් ගෙන එති. තවද මෙම දෙවිවරු ඡද්දන්ත විල අසලින් හඳනා පොරවනා දිව්‍යමය වස්ත්‍ර ද නිතිපතා ගෙන එති. එසේම නාලොව නා රජවරු ස්නානය පිණිස යන විට ඇගේ ගෑමට ගෙන යන සුවඳ සුණුද සුවඳ විලවුන්ද ගෙන එති. තවද ඇඳීමට පෙරවීමට ගන්නාවූ සමන් මලින් ගෙතුවාක් වැනි මෑදු වස්ත්‍රදගෙන එති. මේ ආකාරයෙන් ඉතා අනර්ගවූ දිව්‍ය අඳුන් යන සියල්ලද එකල ඔහුට ගෙනාහ. තවද මෙම දෙවිවරුන් විසින් පුවක් ගස් සමාන උක්ගස් ගෙන එන ලද අතර අත් පිසීම පිණිස මෙම දෙවියන් විසින් කසාවත් පිළිකඩද මෙම රජ තුමාට ගෙන එනු ලබයි.

මෙම අශෝක රජු වෙනුවෙන් දිනපතා ගිරව් ඡද්දන්ත විල අසලින් ඇල්වී නව දහසක් ගෙන එති. මීයන් විසින් එම ඇල්වී

1. ක්‍රි. පූ. 273 අශෝක රජ වූ බව පෙනේ. සමහර ග්‍රන්ථ ක්‍රි. පූ, 325 දක්වන අතර සමහර ග්‍රන්ථ ක්‍රි. පූ. 300 දක්වයි. අශෝක නියම වශයෙන්ම රජවූයේ ක්‍රි. පූ. 269 දී බව සඳහන්වේ.

කැඩෙන කුඩු නොවනසේ මහා ලෙස ශුද්ධ කරන ලදී. එසේම මී මැස්සන් ඔහුට මී බැඳ දෙන ලදී. තවද ඔහුගේ කම්මල්වල කුළු ගසන ලද්දේ වලසුන්ය. මෙම අශෝක රජුගේ පුණ්‍ය මහිමයෙන් මනාව සැදුම් ලද්දවූ කුරවී කෙවිල්ලෝ සෑමකල්හිම තම මිහිරි නාදයෙන් මිනිසුන්ගේ කන් පිනෙව්වාහුය.[1] මහාකාල නම් නාරජු විසින් කකුසඳ; කෝණාගම; කාශ්‍යප; ගෞතම යන සිව් බුදුවරයන් වහන්සේලාට නිතර මහ පිරිස් සහිතව පැමිණ උපස්ථාන කරන ලදී. මෙම අශෝක රජුගේ පින් මහිමය නිසා රන් හැකිල්ලෙන් සැරසීගත් එම මහාකාල නාරජු රජ ගෙදරට පැමිණියේය ඒ මහායසස් ඇති නා රජතුමා විසින් අශෝක රජුට රන්මලින් පුදන ලදී. මෙම අශෝක රජතුමා එක් ආත්මයෙක්හි වෙළඳ කුලයෙහි ඉපිද සිටියදී පසේ බුදුවරයෙකුට පාත්‍රය ඉතිරී යනසේ මී පිළිගැන්වීමේ මහානි සංශයේ ඵල විපාක වශයෙන් මෙකල මෙසේ නොයෙක් දෑ ලැබීමට හේතුවිය.[2] රාජපුත්‍ර ධර්මාශෝක රජතුමා චන්ද්‍ර ගුප්ත රජතුමාගේ මුණුබුරාය. බිංදුසාර රජතුමාගේ පුත්‍රයාය. මෙම අශෝක රජතුමා කුමාර අවදියේ දීම උදේනී රට අධිපතී බවට පත්විය. මෙහි වාසය කරන ලද ඔහු ක්‍රමයෙන් වෙදිසගිරියට ගියේය. එහිදී බොහෝ ඇසූ පිරූතැන් ඇති[3] දේවී නම් සිටු දියණියක් හා එක්ව විසීමෙන් උතුම්වූ පුත්‍රරත්නයක්[4] ඇතිවිය.

මෙම දේවී නම් සිටු දියණියගේ දරුවන් වූ මහින්ද කුමරුන් සංඝමිත්තා කුමරියත් පැවිදි වීමට කැමති වූහ. මෙසේ ඒ දෙදෙනාම පැවිදිව සංසාර බැම්මෙන් මිදී නැවත ඉපදීම නැති කොට නිවන්සුව අත්කර ගැනිණ.

අශෝක රජතුමා උතුම්වූ පාටලීපුත්‍ර නගරයේ සිට රාජ්‍යය මෙහෙයවීය. අශෝක රජගේ අභිෂේකයෙන් තෙවන රාජ්‍යය

1. ම: වංශයේ 5 වන පරි: එන මේ පිළිබඳ විස්තරය බලන්න.
2. මෙම විස්තරය මහාවංශයේ වඩාත් විස්තර සහිතව ඇත. (5 පරි)
3. නුවණින් මුහුකුරා ගියසෑම දෙයක් පිළිබඳවම අවබෝධයක් ඇත.
4. මේ මහින්ද කුමරුය. පසුව මහාමහින්ද තෙරුන් බවට පත්ව ලංකාවේ බුදුසසුන බැබලවීමට පැමිණෙන ලදී. සංඝමිත්තා කුමරියද මෙම කුමරුගේ සොහොයුරියයි. පසුව මෙහෙනි සස්නේ පැවිදිව ලක්දිව මෙහෙනිසස්න පිහිටුවන ලදී.

වර්ෂයේදී ඔහු බුදු සසුනේ පැහැදුනේය.[1] බුදුරජාණන් වහන්සේ උපවර්තන නම් සල්වනයෙහි පිරිනිවන් පෑ කාලයත් එයින් පසු මහින්ද කුමරු මෞර්ය වංශයෙහි ජනිතව ඉපදීමත් අතර වර්ෂ ප්‍රමාණය අවුරුදු දෙසිය හතරකි. අශෝක රජුගේ පුත්‍රවූ මිහිඳුකුමරු උපදින්නේ මේ අතර කාලයේදීය. අශෝක විසින් තම සොහොයුරන් මරවන විට[2] මහින්ද කුමරුගේ වයස අවුරුදු දහසකි. [3] එයින් පසු මුළු දඹදිවම රාජ්‍යානු ශාසනා කරමින් අවුරුදු හතරක්[4] ඉක්මවන ලදී. ඔහු විසින් මරණ ලද සහෝදරයන් ගණන එකසිය එකකි.* මේ අයුරින් සොයුරන් මරාදමා පාලනය එක්සේසත් කිරීමෙන් පසු ඇමතිවරුන් විසින් දේවානම් පියතිස්ස රජුගේ දෙවන අභිශේකයය කරන ලදී+ තේජාන්විත භාවයෙන් හා පුණ්‍ය මහිමයෙන් අසහාය නායකයාණන් වූ ධර්මාශෝක රජතුමා මේ අයුරින් අභිෂේක කෙරින. මුළුමහත් ඉංදියාවේ රාජ්‍ය ලාභයද ඔහු විසින් ලබන ලදී. මේ වනවිට දෙවන පෑතිස් රජවී අවුරුදු විස්සක් ඉක්මගොස් තිබුණි. මෙම අවදියේදී දෙවන පැතිස් රජතුමා ප්‍රියදර්ශීනාමයෙන් (දෙවන වරට) අභිෂේක[5] ලැබීය. මෙකල ලක්දිව පැවති පාෂාණ්ඩමය මිත්‍යමතික මතයන් ගනිමින් වසර තුනක් ඉක්මවීය.

මේ කාලයේ දෙසැටක් මිත්‍යාවාද ගත්තවුන් ද, ගින්නෙන් කෙළෙස් තවන වුන්ද; පාෂාණ්ඩ යන්ද; සාස්වත; හා උච්ඡේදවාදී දෙකොටසද මෙකල ලක්දිව වූහ. අජේලකවෘතරැකියවුන් සිටි අතර නිගණ්ඨයන්ද; සෙසු පරිබ්‍රාජකයන්ද; බ්‍රාහ්මණයන් හා අනෙක් සුළු

1. මෙම තෙවන රාජ්‍ය වර්ෂය මතභේද සහිතය. ක්‍රි. පූ. 270 ද ක්‍රි. පූ. 266: ද 297ද යනු ප්‍රශ්නයකි.

2.* සොහොයුරන් අනූනවයක් මැරවූ බව ම: ව: සඳහන් වේ. (ම:ව: 5 පරි-20 ගාථා)

3. මෙම කාලනිර්ණ සැසඳීම ඓතිහාසික වැදගත් කමක් දරණ අතර ම:ව: මේ ගැන නොදැක්වේ.

4.+ මෙම අවුරුදු 4 පිළිබඳව කිසිදු ඓතිහාසික මූලාශ්‍රයක සඳහන් නොවේ. නමුත් මෙහි මෙම අවු: 4 වෙන් කොට දැක්වීමෙන් අභිෂේකය පිළිබඳ ප්‍රශ්නයක් තිබූ බව පෙනේ.

5. ම: ව: දැක්වෙන්නේ අවුරුද්දකට පෙර දෙවනපෑතිස් දෙවන අභිෂේකය වූ බවකි. නමුත් දී. ව. පෙන්වන්නේ පළමු අභිෂේකය වී අවුරුදු 20කට පසුවූ බවය. දෙවනපෑතිස්ගේ පුතා මිය යාමත් අනුලා දේවියගේ මහණවීමත් මහානාගගේ කථා පුවතත් බලන විට දී.ව. පුවත ඓතිහාසිකය. 'දුතියාභිසෙකො සංජාතා' යනුවෙන් මෙය සඳහන්වේ.

ලබ්දි ගත්තවුන්ද මෙකල ලංකාවේ සිටියහ. මේ හැරුණු විට බුද්ධාගමෙන් පරිබාහිරවූ ශාස්වත උච්ඡේද වාදදියෙන් හා වෙනත් හීනදෘෂ්ටි කෙරේ ඇළුනවුන්ද ආදී විවිධ මිත්‍යමතයන්ගෙන් මුලාවූ පාෂාණ්ඩ, කීර්තක ආදින්ද; මේ ආකාරයෙන් වූ නොයෙක් නොයෙක් විවිධ ලබ්දීන් ගත්ත වුන් රජමැදුරට පැමිණෙන්නාහුය.

ධර්මාශෝක රජතුමා සියළු ආගම්වල සරු නිසරු බව සෙවීම පිණිස සියළු ආගම් අදහන්නවුන් කැඳවා ඔවුන් ඇමතීමට අදහස් කොට මහාදනයක් සූදනම් කරවා සියළුතීර්ථකයන් රජ මැදුරට කැඳවා ඔවුන්ට දනයදී ඉතා උණුසුම් ලෙස ඔවුන් ගෙන් ප්‍රශ්න විචාරණ ලදී. අසන ලද ප්‍රශ්න ඔවුන්ගේ ඥණශක්තියෙන් විසදීමට නොහැකි බව රජු අවබෝධ කර ගත්තේය. අසන ලද ප්‍රශ්නවලට අඹ විචාලවුන්ට දෙල් කියන්නා සේ ඥාණහීනවූ ඔවුහු ප්‍රශ්නයෙන් පරිබාහිර දෙයක්ම කීවාහුය. නිත්‍යය වශයෙන්ම කියන්නේ නම් ඒ සියල්ලන්ගේ ම දේශනාවලින් අල්පමාත්‍රය කුදු ප්‍රයෝජනයක් නොවීය.[1] අශෝක රජතුමා එම මිත්‍යාලබ්දික පාෂාණ්ඩකයින් සසුනින් බැහැර කොට මෙසේ සිතීය.[2]

> "මෙම ප්‍රශ්නය විසදීමට කෙනෙකු කෙසේ නම් ලැබිය හැකිද?. ලෝකයේ යම් රහතුන් වහන්සේ නමක් සිට උන්වහන්සේ මෙය දකින්නේ නම් උන්වහන්සේට මෙය විසදිය හැකිය. එවැන්නෙකු කෙසේ ලබන්නේද?"

යනුවෙනි. මෙවැන්නක් අශෝක රජතුමා බලාපොරොත්තුවෙයි. තවද

> "මෙම ලෝකය රහතුන්ගෙන් හිස් නොවේ. ලෝකයේ කොතැනක හෝ රහත්හු විද්‍යාමාන වෙති. මම කවද කොතැනකදී එවැනී තෙරුන් වහන්සේ නමක් දර්ශනය කෙරෙම්ද?".

යනු වෙන් ද . රජතුමා සිතීය.

1. ම: ව: දක්නට ලැබෙන්නේ සිවිරු පොරවා සිටි තීර්ථකයන් කැඳවූ බවය (පරි.5)
2. ම: ව: දැක්වෙන්නේ සියළුම භික්ෂූන් අශෝකාරාමයට කැඳවා ඔවුන් "ශාස්වත" වාදීන් ද "විභජ්ජ" වාදීන්ද යනුවෙන් ප්‍රශ්න කළ බවය. එසේ ප්‍රශ්න කොට 60,000 ක් භික්ෂු වෙස් ගෙන සිටි අන්‍යතීර්ථයින් සසුනෙන් පන්නා දැමූ බවයි. මෙකල පාලකයින් නාම මාත්‍රික, රජවරුන් නොව සියළු සාමාජික ප්‍රශ්නවල යථාර්ථය තේරුම් ගෙන සමජයට අදලසේ විසඳුබව මෙයින් පෙනේ.

අශෝක රජතුමා මෙසේ ද කල්පනා කළේය.

"යමෙකු මට අරහත් මාර්ගය කියයිද? ඔහු විසින් කියන ලද එම යහපත් වචන අසා මගේ ජීවිතයද මෙම රාජ්‍ය ද ඔහුට දෙමි."

රජ මෙම ආකාරයෙන් සිතුවද රජුට රහතුන්වහන්සේ නමක් දක්නට නොලැබුණි.[1]

ඒ ධර්මාශෝක රජතුමා නිතරම සුපේශල ශික්ෂාකාමී සිල්වන්තයින් පිළිබඳව මෙනෙහි කරමින් සිටියේය. දිනක් රජතුමා ස්වකීය රජමැදුරේ උඩු මහල් තලයෙහි ඒ මේ අත සක්මන් කරමින් සිටින්නේ පිඬු පිණිස හැසිරෙන නිග්‍රෝධ සාමනේරයන් වහන්සේ දුටුවේය. පහතට හෙලන ලද ඇස් ඇති උන්වහන්සේගේ ශාන්තවූ ගති ලක්ෂණයන් ගෙන් උන්වහන්සේ අරහත් භාවයට පත්වූවෙකැයි රජු සිතීය. උන්වහන්සේ දුටුවන් සිත්ගන්නාසුළුය. ඉදිරියට ගමන් ගැනීමේදී ද ආපසු හැරී බැලීමේදීද, ඉතාම සැලකිලිමත් ලෙස කරයි. එසේම තෙරුන්වහන්සේට දමනය කරනලද ඉද්‍රියන් ඇත. උතුම් තීරණයන්ට එළඹුණු ලක්ෂණ ඇත. දමනය කරන ලද්දවූ චක්ෂුරාදී ඉන්ද්‍රියන් ඇත. මනා පෝෂණය කරන්නාවූ උපස්ථායක කුලයක නොගැවේ. එසේ හීහයින් ඒ තෙරුන් වහන්සේ අහසේ චන්ද්‍රයා මෙන් නිර්මලය. තවද එහිමියන් ස්ථිර සාර ගමනින් ගමන් ගන්නාවූ සිංහරාජයෙකු බඳුය. ගිනිකඳක් මෙන් තේජසින් බැබළෝ. ලන්විය නොහැකිවූ ප්‍රඥවූ සමාධිගත වූ උතුම්වූ ශාන්ත පැවතුම් උන්වහන්සේට ඇත්තේය. මෙම නිග්‍රෝධ සාමනේරයන් වහන්සේ සියළු කෙළස් කසට සෝද හැරී සියලු ආශ්‍රවයන් ප්‍රහීන කළාවූ උතුම් වූ පුරුෂ රත්නයකි. ඒ ශ්‍රමණයන් වහන්සේ උතුම්ව ශිලාචාර ගුණයෙන් යුක්තයහ. බ්‍රහ්ම විහරණයෙන් යුක්තයහ. මෙසේ සියළු ගුණයෙන් යුක්තවූ පෙර ආත්මයේ[2] තමාගේ සහායකවූ පෙර කරනලද කුසල් බලයෙන් අනූන වූ ආයසීය මාගීය හෙවත්

1. කතුවරයා ඉතා තාත්වික ලෙස සිතුවිලි නිර්මාණය කර ඇති හෙයින් ම:ව: වඩා ඓතිහාසික බවක් නිර්මාණය කරයි.

2. පෙර ආත්මයෙහි රජුගේ සොහොයුරෙකු වශයෙන් සිටි බව ම: ව: පෙනන්වා දෙයි. එසෙම් ම: ව: වර්ණනාත්මක විස්තරයක් ද දක්වා ඇත.

නිවන්මගට පිවිසියාවූ පිඬු සිඟා වඩින්නාවූ ඒ නිග්‍රෝධ තෙරණුවන් ගැන රජතුමා මෙසේත් සිතීය.

'මෙම ශ්‍රවණයන් වහන්සේට ස්ථිරවූ ගුණ ඇත්තේය. උතුම් ආචාර පැවතුම් ඇත්තේය. එසේම ලෝ කෝත්තර ඵලයෙහි පිහිටි දුක්ඛාදී චතුරාර්‍යසිය සත්‍යය අවබෝධ කළාවූ එක්තරා බුද්ධශ්‍රාවක උතුමෙකු විය හැකිය.' යනුවෙනි.

මෙම නිසා අශෝක රජු නිර්ධනයෙකු නිධානයක් ලැබ සතුටුවන කලක් මෙන්ද; සිතින් මෙනෙහි කල පමණින් කැමති දෙයක් ලබන ශක්‍රයා මෙන්ද, උදාර ප්‍රීතියට පැමිනෙන්නේය. පිබිදුන මනසින් යුක්තවූ රජුතුමා පස්වනක් ප්‍රීතියෙන් ප්‍රමුදිතවූයේය. අශෝක රජතුමා වහාම අමාත්‍යය වරයෙකු ඇමතීය.

'මිත්‍රය, අර වීථියෙහි පිඬුපිණ්ඩස වඩින බබලන්නාවූ ප්‍රසාද ජනකවූ ශාන්ත පැවතුම් ඇතිව ගමන් කරන්නාවූ; ලාබාල තෙරණුන් වහන්සේ කැඳවා ගෙන එන්න.'[1] යයි කීය

මෙසේ තෙරුන් වහන්සේ කෙරෙහි වහන්සේ පැහැදුන රජතුමා. උදාර මනසින් යුතුව මෙසේ සිතීය.

'නොදුටු විරු මේ උතුම් පුරුෂයා ඒකාන්තයෙන්ම උතුම්වූ රහත්ඵලයට පැමිණියෙකු විය යුතුය.' යනුවෙනි.

එම ඇමතිවරයා විසින් නිග්‍රෝධ සාමනේරයන් වහන්සේ රජ මැදුරට කැඳවා ගෙන එන ලදී. රජතුමා නැවතත් එම තෙරුන් විමසනු කැමතිව මෙසේ විචාළේය.

'ශ්‍රමණයන් වහන්ස, මනාසේ පිළියෙළ කරනලද ආසන ර. සක් මෙහි ඇත. එයින් ඔබ වහන්සේ යම් ආසනයක් කැමති වන්නේද; එය මම අනුමත කරමි යයි කීය.

උන්වහන්සේ රජුගේ වචනය පිළිගත්යේය. දකුණට හැරී ගමන් කළ උන්වහන්සේ නොබියව රජුගේ අත අල්ලාගෙන

1. සාකච්ඡා ස්වරූපයෙන් දක්වාතිබීම නිසා පාඨත පහසුව සැලසී ඇත. මෙම කතුවරයා එකල සිට ඉගැන්වීමේ ක්‍රම පිලිබඳ මනා අවබෝධයක් ඇති අයෙකු බව මෙම ඉදිරිපත් කිරීම් තුළින් පෙනීයයි.

සිංහායනයට නැග සක්දෙව් රජ පාණ්ඩුකම්හල ශෛලාසනයෙහි සිටින්නාසේ එහි වැඩ උන්හ. රජු මෙය දැක නැවතත් මෙසේ සිතීය.

"මෙම ළදරු ශ්‍රමණයන් වහන්සේ නොබියව නොසෙල් වී මේ සිංහාසනයෙහි වැඩහිඳී. උන්වහන්සේ එසේ වැඩ සිටින්නේ අද මෙම රජ මැදුරේ නායකයා වන හෙයිනි. එසේ හෙයින් උන්වහන්සේ තුළින් ලොව්තුරු දහම් විද්‍යමාන වෙයි. එසේම උන්වහන්සේට බුද්ධාදී උතුමන්ගේ පැවතුම් ඇත්තේය."

නිර්භයවූ තරුණ කුමරෙකුගේ සවරූපය ඇත්තාවූ ශාන්ත ගුණයට නිවාසයක් බඳුවූ ධර්මයෙන් හා විනයෙන් මනාසේ හික් මවන ලද්දවූ හැඳීම් පෙරවීම් ආදියෙන් ක්‍රමවත්වූ[1] බුදුන් වහන්සේ අනුගමනය කරන නිග්‍රෝධ, හිමියන් දැක පැහැදුන සිතින් යුත් රජ තුමා නැවතත් මෙසේ කීය.

"මහාමුනීද්‍රයන් වහන්ස; ඔබ වහන්සේ විසින් පුහුණු කරන ලද ධර්මය මට දේශනා කරන සේක්වා. ඔබ වහන්සේ මගේ අනුශාසකයාණන් වන්නේය. එසේම ඔබ වහන්සේ විසින් දේශනා කරන ලද ධර්මයක් මම පිළිගනිමි. ඔබ වහන්සේ ධර්මය දේශනාකරන සේක්වා! අපි අසන්නෙමු".

එම අශෝක රජුගේ තේජාන්විත වූ වචන අසා ප්‍රතිසම්භිද ඥානයෙහි පිහිටියාවූ ඒ නිග්‍රෝධ තෙරණුවන් වහන්සේ මහත් අනගි නවංග සතවූ ශාසනයේ සියළු ත්‍රිපිටක ධර්මය පරීක්ෂා කර බලා බුදුන් මහත් නොපමාව ගැන දේශනා කරනලද්ද වූ දේශනාව දුටු සේක. එය රජුට දේශානා කළහ.

එය මෙසේය.

"නොපමාව නිවනට මාර්ගයයි. ප්‍රමාදය මාරයාගේ මාර්ගයයි. අප්‍රමාද වූවෝ නොමැරෙත්. ප්‍රමාද වූවන් මලා හා සමානය"[2]

---

1. "අපපසන්නානං පසාදය; පසනනානං භීයොභාවාය" යනුවෙන් විනා පිටකයෙහි හා සූත්‍ර පිටකයෙහි බොහෝ තැන්වල "නොපහන්අයගේ පහන්භාවය පිණිසද පැහැදුන අයගේ වැඩි ප්‍රසාද ගුණය සඳහාද" යනුවෙන් බෞද්ධ භික්ෂුවක් හැසිරිය යුතු අයුරු දක්වා ඇත. මෙයින් එය අන්වර්තවේ.
2. අප්පමාදෙ අමත පදං - පමාදෙ මච්චුනෝ පදං
අප්පමත්තා නමීයන්ති - යෙ පමත්තා යථා මතා - අශෝක රජුට දම්දෙසා ඇත්තේ ධම්මපදයේ අපපමාදවග්ගයේ මෙම ගාථාවෙනි.

විශේෂයෙන් රජු වෙනුවෙන් ඒ නිග්‍රෝධ තෙරණුවන් දේශනා කරනලද ධර්මය ඇසූ රජතුමා බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද සියළුම ධර්මයන්ට මෙම අප්‍රමාදයම මුල්වන්නේ යයි සිතුවේය.

'ස්වාමිනි: මම අදම ඔබ වහන්සේ සරණයමි. එසේම බුදුන් වහන්සේද. සංඝයාද සරණයමි. එසේම බුදුන් වහන්සේගේ ශාසනයෙහි මගේ අඹු දරුවන්ද ඥතීන්ද මම ද උපාසකයන් වන බව අයදිමි.'

ඒ කල්‍යාණ මිත්‍රවූ නිග්‍රෝධ තෙරුන් වහන්සේගේ පැමිණීම නිසා ධර්මාශෝක රජුද ඔහුගේ අඹුදරුවන්ද තිසරණ සහිත පංචශීලයෙනි. පිහිටියහ.

'තෙරුන් වහන්ස: ඔබට රිදීමිළසාර ලක්‍ෂයකින්ද[1] දිනපතා ලහබත් අට බැගින්ද පුදන්නෙමියි රජු කීවේය. එවිට තෙරුන් වහන්සේ මෙසේ වදළේය.

'මහරජ, ත්‍රි විද්‍යාධාරී කාමාදී ආශ්‍රවයන් දුරුකලාවූ තමා විසින් ඉතා දක්‍ෂව ධර්මය අවබෝධ කලාවූ සෘද්ධිබල ඇති තවත් බොහෝ වෙති. යනුවෙනි.

එවිට ස්ථිර ගුණයෙන් හෙබියාවූ උන් වහන්සේට රජු මෙසේ නැවතත් කීය.

'පින්වතුන් වහන්ස: මම ආයර්‍ය සංඝරත්නය දැකීමට කැමැත්තෙමි. යම් පමණ භික්‍ෂුහු මෙහි රැස්වෙත්ද? ඒ සියල්ලන්ම මම ඉමහත් භක්තියෙන් වදිමි දහම්ද අසමී,ය යනුවෙනි.

තෙරුන් වහන්සේ මේ සියළු පවත් අසා රජුගේ මනදෙල පිරවීම සඳහා භික්‍ෂූන් කැඳවූ සේක. එම ආරාධනයට හැට දහසක් පමණ භික්‍ෂුහු රැස්වූවාහුය. රජුගේ දූතයෝ ඒ අවස්ථාවේදී සතුටින්

1. ම: ව: රිදීමිළ දීමක් ගැන සඳහන් නොවේ. ආචාරීන් වහන්සේට, භික්‍ෂු සංඝයාට දී අවසන් වරට තමන් වහන්සේගේ කොටස පිළිගත් බව පෙනේ. දි. ව. ලියන යුගය වන විට කාසි භාවිතා කලබවත් ඒවා පන්සල්වල පරිහරණය සඳහා දුන් බව පෙනේ.

පැමිණ සිටිනු දැක්කාහුය. රජුවෙත ගියාවූ ඔවුන් එම ස්ථානයට සන්ති පතිතවූ භික්ෂූන් දැකීමට රජු කැමති නම් පැමිණෙන ලෙස කියන ලදී. දූතයන්ගේ වචන කෙරේ සවනත යොමුකළ ධර්මාශෝක රජ තුමා සවකීය ඥාති සමූහයා හා මිත්‍රාමාත්‍යයින්ද ඇමතීය.

අපි උතුම්වූ මහා සංඝරත්නය වෙත දන් දෙන්නෙමු අපේ ශක්තියේ හා බලයේ ප්‍රමණයට මහාසංඝරත්නයට උපස්ථානද කරන්නෙමු. අප කැප කරුවන් වූ හෙයින් පරිහරණය සඳහා මණ්ඩපයක් හා වැඩ සිටින අසුනක් ද දනයට අවශ්‍යය අන්න පානාදියද භික්ෂූන්ගේ පරිහරනය සඳහා අවශ්‍ය ජලයද ආදී සියල්ලද මේ සියල්ලෝම විසින් පිළියෙළ කරත්වා. එසේම මා හට දන්දීම සඳහා බත් පිලියෙල කරන්නෝ බත්ද, ව්‍යංජන පිළියෙල කරන්නෝ එවාද, මනාව පිළියෙළ කරන ලද කැඳ බතක් ද ආදී ඉතාම රසගුණයෙන් යුත් භෝජන පිළියෙල කර දෙත්වා. එසේම මා ශිලාදී ගුණයෙන් යුත් මහසඟරුවනට මහදන් දෙන බව පවසා නුවර බෙර හසුරු වත්වා. තවද නගරවාසීන් නගරය ඉතාම අලංකාරයෙන් පිරිසිදු කරත්වා. මහමග සුදුවැලි අතුරුවා පස්වනක් මල්[1] අතුරුවා මල්මාලා වලින් සැදුම් ලත් තොරණද පිළියෙළ කරත්වා. කෙසෙල්ගස් සිටුවා පුන් කලස් තබත්වා. ස්ථූප සමූහයද මනාව පිළියෙල කොට ඒ ඒ තැන කොඩි ඔසවා තබත්වා. රෙදිවලින් තනන ලද කොඩි ඒ ඒ තන්හි බඳිනු ලබත්වා. මෙසේ නගරය මල්මාලා වලින් මනාසේ සරසවා ක්ෂත්‍රිය: බ්‍රාහ්මණ: වෛශ්‍යය: ශුද්‍ර:[2] යන කුලවල ජනයාද මනාසේ සියළු වස්ත්‍රාභරණාදියෙන් සැරසී, ගන්ධමාලාදීන්ගෙන්ද ආලෝකය විහිදුවන පහන්ද රැගෙන මහා සංඝරත්නය දැකීමට පැමිණෙත්වා. ක්‍රමාණුකූලව සංගීත ශාස්ත්‍රය හදලවුන්ද. නානා කුලවලට අයත්

1. ලද පස්මල් විසිරවූ බව මෙයින් කියවේ: සමන් පිච්ච විළඳ, ඊතණ, එළඅඹ: පොරි ආදිය ලද පස්මල් වේ. ඇත අතීතයේ රාජකීය උස්සව. අවස්ථාවන්හිදී මේවා නගරවල විසරුවා උත්සව පැවැත්වූ බව පෙනේ. මෙය පිරිසිදු බවේ සංකේතයකි. අද ද බෞද්ධ පිරිත් සඣජායනා අවස්ථාවන් හිදී පිරිත් මණ්ඩපයේ වේවා අතුරුවනු ලබයි.
2. කුලවාදී සංකල්පය මේ වන විටද බ්‍රාහ්මණයන් පවත්වා ගෙන ආ බව පෙනේ.

> පංචතූර්‍යයී වාදනය කරන්නන් එවාද රැගෙන පැමිණිය යුතු අතර විශේෂයෙන්ම කර්ණ රසායන කරවූ වස්, කුලල් හා මිහිඟුබෙර, ආදීයෙන් සැදුම් ලද්දෝ ඒවායින්ද යුතුව පැමිණ සියල්ලෝම ඒවා වාදනය කරත්වා. එසේම සිත් සතුටු කරවන නොයෙක් අලංකාර දැද රැගෙනෙත්වා. බ්‍රාහ්මණයන් නැට්ටුවන් යනාදී සියල්ලෝම මහා සංඝයාවෙත පැමිණ ඒ රැස්වූ සියලු දෙනාගේ සිත් සතුට කරත්වා. එපමණක්ද නොව ජනයා ඒ ඒ තැනට ද පුන් කළස් තබා නානාවර්‍ග මල් ගෙනවුත් තෙරුවන් පුදත්වා! එසේම සියල්ලෝම තම තමන් කැමති පරිදි ඇතුල් නගරය තුළට දන වස්තුව පිළියෙළ කරෙත්වා"

යනු වෙන් රජු විසින් ඉල්ලා සිටින ලදී.

අශෝක රජතුමා උදයෙන්ම නැගිට ප්‍රණීත සම්පත්න ලෙස රජ මාළිගාවේ බත පිළියෙල කෙරෙව්වේය. ඉන්පසු පිරිවර සහිත ඇමතීන්ට මෙසේ අණ කළේය.

> "මෙම නගර වැසියෝ බොහෝ මල්පුරවන ලද කළද[1], මල්කුඩාද, කොඩි සහ දවල්කාලයෙහි බබලන පහන්ද, රැ ගෙන පැමිණිය යුත්තාහ. මා විසින් යම්තාක් ගෙන ඒමට අණ කරන ලද්දේද, ඒතාක් ගෙනා යුත්තාහ. එසේම මේ නගරයේ සියළු වැසියෝද, සතර දිසාවන්හි වෙසෙන ගම් නියම්ගම් වැසියෝද, රාජකීය පිරිස් ද තම තමනට සුදුසුසේ යාන වාහනාදියද ගෙන මෙහි වැඩ සිටින මහාසංඝ රත්නය මාහා එක්ව දැකීම පිණිස පැමිණිය යුතාහ."[2]

යනුවෙනි.

මේ ආකාරයෙන් පිළියෙල වූ අශෝක රජ නැමැති හස්තියා මහත් රාජානුභාවයෙන් යුක්තව භික්‍ෂූන් දැකීම පිණිස නික්මුණේය. නානා විභූශිතාලංකාරයෙන් අලංකාරවූ රජතුමා නන්දන උයනට

---

1. නූතන නිවෙස්වල ඇති මල්වාස්වලට සමාන මල්දැමීම සඳහා පිළියෙල කරන ලද කළ වර්‍ගයක් විය හැකිය.

2. රජුගේ ආගම වැසියාද පිළිගත යුතුය යන සම්ප්‍රදයක් මෙකල තිබූ බව පෙනේ. 1505 ලංකාවට පැමිණි පෘතුගීසීන්ද කෙසේ හෝ කතෝලික රජකු ලංකාවේ ඇති කිරීමට උත්සාහ ගන්ට ඇත්තේ මේ නිසා විය හැකිය.

සැපත්වන සක්‍රයා මෙන් බබලමින් මහා සංඝයාගේ සමීපයට පැමිණියේය. එසේ පැමිණ හටගත්තාවූ සතුටින් යුක්ත වූයේ යථාධ්‍යාසයෙන් ඇදිලි බැඳ වැන්දේය. වැඳ සතුටුව එකත් පස්ව සිටියාවූ රජතුමා භික්‍ෂු සංඝයාට මෙසේ කීවේය.

'මහා සංඝයා වහන්ස; මෙලෝ පරලෝ වැඩ පිණිස මට අනුකම්පා කරණ සේක්වා'

කිවූ ධර්මාශෝක රජතුමා බොහෝ වූ මලින් උතුම්වූ සංඝරත්නය වඳිමින් නුවරට පිවිසියේය. එයින් පසු එහි සිටි සියළු භික්‍ෂූහු රජගෙට වැඩියහ. එකල් හි රජතුමා ඒ භික්‍ෂූන් වහන්සේලා ඒ ඒ ස්ථානයට කැඳවාගෙන ගොස් වඩා හිඳුවා සංඝ නායක තෙරුන් වහන්සේගේද පාත්‍රය ගෙන උන්වහන්සේගේ අසුනෙහි වඩා හිඳුවා දන් පිළිගන්වා, අනෙක් භික්‍ෂු වහන්සේටද උන්හන්සේලා කැමති පරිදි කැඳවා ඉතා අගනා කැවුම් පෙවුම් සියල්ලෙන් සිත් පිනා යන සේ ඉතා පිරිසිඳු අත් ඇතිව පූජා කළේය. මහා සංඝයා මහත්සේ පත්‍රයෙන් ඉවත් කළ අත් ඇත්තේ, වළඳ අවසන්වූ සේක්, එක් එක් භික්‍ෂූවට සළු දෙක බැගින් ද පූජා කළේය. එසේම පා පිරිමදින තෙල්ද, කුඩ හා මිරිවැඩි සහල්ද[1] උක් සකුරු හා මී පැණිද ආදී භික්‍ෂූන්ට අවශ්‍යය සියළු පිරිකරද පූජා කළේය.

ධර්මාශෝක රජතුමා ඇමතිවරුන් සමග මෙසේ මහ දන් පිළිගන්වා පිරිවර සමඟ එහි උන්නේය. එසේ සිටින්නේ උන්වහන්සේලාට සිව්පසය පිළිගැන්වීය. රජු එවා පිළිගැන්වූයේ මෙසේය.

'ඔබවහන්සේලා යම්තාක් කැමති වෙත් ද; මම ඒ තාක් දෙමි.'

මෙසේ රසවත් ආහාර පානාදියෙන් මනාසේ සත්කාර කොට මනාසේ සිව්පසයෙන් සතප්වා පැවරීය. එයින් පසු වළඳ

1. මෙය හුදෙක් අනුරාධ පුර යුගයේ දි. ව. ලියන අවදිය වනවිට දනයක් දීමේදී පූජාකළ පිරිකර භාණ්ඩ විය යුතුය. තවද මෙහි සඳහන් සළු දෙපට සිවුර හා තනිපට සිවුර විය යුතුය. එසේම පා පිරිමදින තෙල් අවශ්‍ය වන්ට ඇත්තේ භික්‍ෂූන් මහජන යහපත වෙනුවෙන් සැරිසැරූ නිසා හවස්යාමයේ පාරුද ගෙන දෙන හෙයින් මෙසේ තෙල් ප්‍රධානය කරන්ට ඇත.

අවසානයේ මනාව දේශනා කරන ලද ගැඹුරු ධර්මය රජතුමා විසින් අසන ලදී. එයට පෙර රජ තුමා මෙසේ ද විමසන ලදී.

ඒ ඒ සූත්‍රයන්ගේ පිළිවෙළ ද බෙදීම් ආදිය ඇද්ද? සංඛක, අසංඛක ආදී භේදයන් ඇද්ද? ඒ ඒ ධර්මස්කන්ධයන් මෙතෙකැයි සංඛ්‍යාවන් ඇද්ද? යනුවෙනි.

මහරජ, බුදුරජාණන් වහන්සේ විසින් දේශනාකරනලද ධර්මය මෙතෙකැයි ගණන් බලා ඇත්තේය. එසේම එය ක්‍රමානුකූලව බෙදන ලද්දකි. බුදුන් වහන්සේ විසින් පනවන ලද ශික්ෂාපද ප්‍රඥප්ති වශයෙන් නිර්දේශ කොට ඇත. ඒ නිසාම මනාව දේශනා කරන ලද බව පෙනීයයි. එසේම තථාගතයන් වහන්සේගේ ධර්මය අර්ථාන්විත වන අතර හේතෝදාහරණ වලින්ද පිරී ඇත. එහි කිසිදු දෙසක් දක්නට නැත. එම දහම මෙසේ බෙද ඇත. එය මේ ආකාරයෙන් කොටස් හතකට බෙදී ඇත.

සතර සතිපට්ඨානය
සම්‍යක් ප්‍රධාන වීර්‍යය
ඍද්ධි පාද ය.
ඉන්ද්‍රිය පාදය.
පස් මහ බලයය
සත්ත බොජ්ඣංගය
ආර්‍ය අෂ්ටාංගික මාර්ගය[1] වශයෙනි.

ආර්‍යාෂ්ටාංගික මාර්ගයේ ද මෙසේ බෙදීම් හතක් ඇත. එසේම මනාසේ බෙදන ලද බෝධිපාක්ෂික[2] ධර්ම තිස් පහක්ද ඇත. මෙසේ ක්‍රමානුකූලව කොටස් වශයෙන් බෙදන ලද උතුම්වූ බුද්ධ දේශනාව නවාංගයකට කොටස් කොට බුදුන්වහන්සේ වදාළ සේක.[3] මහරජ; එසේම බුදුරජාණන් වහන්සේ විසින් සියළු සත්වයන් කෙරේ

1. මෙම දී. ව. කතුවරයා බුද්ධ ධර්මය පිළිබඳ හොඳ අවබෝධයකින් පසුවූ භික්ෂුවක් බව විවිධ ධර්ම කොටස් ඉදිරිපත් කිරීමෙන් පෙනී යයි.
2. බෝධිපාක්ෂික ධර්ම තිස්හතකි. මෙම ඉහත සඳහන් හතම එයින් දෙකක් ඇතුලත් නිසා මෙසේ ලියන්නට ඇත.
3. මඃ වඃ මෙසේ නිරවුල්ව දක්නට නැත

අනුකම්පාවෙන් පතල මහා කරුණාවෙන් යුතුව සම්පූර්ණ ධර්‍මස්කන්ධයෝ අසූ හතර දහසක් දේශනා කළාහුය. එසේම කාය සංඛ්‍යාත සියළු දුක් නැති කරන දිව ඔසුවක් බඳු සියළු සතුන් සංසාරයෙන් මුදවන්නාවූ උතුම් අමෘත සිංඛ්‍යාත නිවන් මගට සම්බන්ධ නිර්වාණ ධර්‍මයන් බුදුරජාණන් වහන්සේ දේශනා කළසේක. ඒ උතුම් ධර්‍මාශෝක රජතුමා ප්‍රමෝදයෙන් ඉපිල ගියේ මහත්සේ සිනා පහළ විය. සොම්නස් සහගත ඥාණයෙන් පුමුදිතව රජතුමා රජපිරිස සහිත රාජ සභාවේද මෙසේ ප්‍රකාශ කළේය.

"ඒ අතිශ්‍රේෂ්ඨ වූ තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේ කිසිදු අඩුවකින් තොරව වටිනා අසූහාරදහසක් ධර්‍මස්කන්ධයන් දේශනා කරනලද සේක. ඒ ධර්‍මස්කන්ධයන් උදෙසා මම අසූහාරදහක් විහාර කරවන්නෙමි. එක් එක් ධර්‍මස්කන්ධයට එකඑක විහාරාරාමය බැගින් පුදමි."

උතුම් වූ ධර්‍මශෝක රජතුමා එදවස් එම වේලාවෙහිම අනූහයකෝටියක්[1] ධනය යොදවා තත් විහාරයන් කරවීමට අණකළේය. දඹදිව මෙකල අසූහාර දහසක් නගරවිය. එම නගරයකට එක බැගින් විහාරාරාම කරවීය. ධර්‍මාශෝක රජු අවුරුදු තුනක් ඇතුලත මෙසේ විහාර අසූහාර දහසක් කරවා, එවා නිම කිරීමේ පූජාමහෝත්සව දිනහතක්[2] පවත්වන ලදී.

1. මෙම මුදල්වල වර්ගය නම් කොට නැත. මෙකල ලංකාවේ භාවිතාවූ මුදල් වලින් කතුවරයා මෙම ගණන් ඉදිරිපත් කරන්නට ඇත

2. විහාරයක වැඩ නිමවූ කල්හි දින 7ක් උත්සව පවත්වා දෙරකඩද අසන්නද කියවීම මෙකලද සිරිතයි. එම ලංකාවේ පැවති සම්ප්‍රදය අද දක්වා ගෙන එන්නට ඇත. දි.ව. ලියූ අවදියේ පූජාවන් වන්නට ඇත.

# 7

මෙම විහාර පූජෝත්සවයන්ට භික්ෂූහු අසූකෝටියක්[1] රැස්වූහ. භික්ෂුනීහුද අනූහය කෝටියක් වූහ. මෙම භික්ෂු භක්ෂුනීන් අතර බොහෝ ෂඩ්භිඥ ලාභිහුද වූහ. ඒ භික්ෂුහු සෘද්ධිබලයෙන් අහස පොළව සමකොට ලෝක විවරණ නම්වූ ප්‍රාතිහාර්‍ය්‍යක් පවත්වා මහාවිහාර පූජෝත්සවයන් රජුට පෙන්වූහ. අශෝකාරාමයේ සිට රජතුමා එම අවස්ථාවේදී මුළු දඹදිව ම බැලීය.[2] මේ සියල්ල රජු දකිනු ලැබුයේ භික්ෂූන්ගේ සෘධිප්‍රාතිහාර්‍ය්‍ය යෙනි. රජුතුමා එම අවස්ථාවේදී තමාගේ නියමයෙන් දඹදිවට අයත් සෑම තන්හිම ගොඩ ගගන ලද සියළුම විහාරයන් සියැසින් දුටුවේය. එම විහාරයන් හි නොයෙක් තන්හි ඔසවන ලද කොඩි සමූහයද, මාලාදමයන්ද මාලා චක්‍රයන්ද; මලින් කරවන ලද අලංකාර තොරණද, මලින් අලංකාර කරන ලද පුන්කළස් ද; තැන තැන සිටුවන ලද රඹකැන් සහිත ගස්ද, සිව් දිසාවන්හි බබලන පහන් සමූහයද අශෝක මහරජතුමා දුටුවේය. මෙම සියල්ල දුටු රජතුමා සතුටු ප්‍රමෝදයෙන් යුතුව සිටියේය. භික්ෂු භික්ෂුනීන්ද සවකීය ආරාමයන් කරා වැඩි කල්හි රජතුමා විසින් දුගී මගී යාචකාදීන්ට වස්තු පරිත්‍යග කෙරින. තමා විසින් පූජාකරන ලද අසූහාරදහක් විහරයන් සියැසින් දුටු ධර්මාශෝක රජතුමා සතුට සිත් ඇත්ව භික්ෂු සංඝයාට මෙසේ ද දැන්වීය සියළු ලෝවැස්සන්ට ශාස්තෲවූ බුදුරජණන් වහන්සේගේ ශාසනයට මම ද භාරවෙමි. මා විසින් සම්බුද්ධ ශාසනය වෙනුවෙන් බොහෝ සෙයින් ධනපරිත්‍යාගන්ද කරනා ලදී. එසේම අනූහය කෝටියක් ධනය වැය කොට විහාර අසූහාරදහසක් ද කෙරවිත. ශ්‍රේෂ්ඨ වූ බුදුරජණන් වහන්සේ විසින්

1. මේවා අද තිබෙන සංඛ්‍යා විද්‍යාවට අදල නොවේ. සමහර විට මෙහි මුලදී සටහන් කරන ලද සංධ්‍යා චක්‍රයට අදල විය හැකිය.
2. විද්‍යාත්මක මනෝසංකල්පයක් එකල තිබෙන්නට ඇතැයි මේ අනුව සිතා ගත හැකිය. අද රූපවාහිනියෙන් බලන චිත්‍රමය අදහසක් මෙයින් විද්‍යාමාන වෙයි.

දේශනා කරන ලද ධර්මයට පූජා පැවැත්වීම පිණිස දිනපතා හාරලක්ෂයක් බැගින් ද, පරිත්‍යාග කරමි. එයින් එක් ලක්ෂයක් චෛත්‍ය පූජාවන්ට ද, එක්ලක්ෂයක් නිග්‍රෝධ තෙරුන් වහන්සේටද, එක් ලක්ෂයක් ධර්ම කථිකයන් වහන්සේලාටද. එක් ලක්ෂයක් ගිලන්පස පූජාවන් වෙනුවෙන්ද වෙන්කරනලදී."[1]

අශෝක රජු විසින් මෙසේ ද කියන ලදී.

> "ස්වාමීනි; මහා ගඟක් ගලා බසින්නාක් මෙන් මා විසින් නිතරම මහා දන්දෙනු ලැබේ. ඒ සඳහා මට වැඩි ශක්තියක් ඇති කිසිවෙක් මේ ශාසනයෙහි පහළ නොවේ. එහෙයින් මාගේ ශ්‍රද්ධාවද ඉතාම දැඩිවන අතර මම ශාසන දයක යෙකුද වෙමි"[*]

ධර්මාශෝක රජතුමා විසින් කියන ලද මෙම වචන ඇසූ බොහෝ ඇසූ පිරූතැන් ඇති පණ්ඩිත වේදනීය වූ, ධර්ම විනිශ්චයෙහි දක්ෂවිචක්ෂණ, හා නිපුණ වූ, බුද්ධිමත් මොග්ගලී පුත්ත තිස්ස මහා ස්ථවිර පාදයන් වහන්සේ අනාගත ශාසන තත්වය දැන ඒ ඒ විහාරයන්හි භික්ෂු සංඝයාගේ යැපීම පිණිස රජු විසින් අනුග්‍රහ කරන ලද්දේ යැයි අනුදැන වදරා මෙසේ ප්‍රකාශ කළ සේක.

> "මහරජ; ඔබ බුද්ධශාසනයෙහි පරිත්‍යාග කරුවෙකි. එහෙත් ඔබ ශාසන දයකයෙකු නොවේ. යමෙකු ශාසනදයක යෙකු වන්නේ නම් තමාගේ දුවක හෝ පුතෙකු ශාසනය වෙනුවෙන් පුද පැවිදි කරවිය යුතුය. එවිට ඔහු නියම වශයෙන්ම ශාසනදායක යෙකු වෙයි."[+]

යනුවෙන් තෙරුන් වහන්සේ වදලසේක. ධර්මාශෝක රජතුමා මෙම වචන අසා තම පුත්‍ර මහින්ද කුමරුද දුවවූ සංඝමිත්තා යන දෙදෙනාට කථාකළේය.

---

1.[*+] මෙවැනි අවස්ථාවක විද්‍යාත්මක ස්වරූපයක් ඇතිවීම "හා හැඟීම් ජනනය වීම ස්වභාවිකය. නමුත් මහාවංශයේ මෙම සවාභාවිකත්වය දක්නට නැත. එසේම දී. ව. කතුවරයා එවක තුලනාත්මක අධ්‍යාපනයේ මනා දක්ෂතාවයක් තිබූ අයෙකු බවද මෙයින් පෙනේ.

'දරුවනි; නුඹලා දෙදෙන ශාසනයේ පැවිදිවන්න. මම ශාසන දායකයෙකු වෙමි යි. කීය.

පුතාද දුවද යන දෙදෙන පිය රජුගේ කථාවට සවන් දුන්හ.

'දේවයන් වහන්ස; ඉතාම යහපති අපි ඔබගේ වචන ඉටු කරන්නෙමු. පැවිදි වන්නෙමු.' යැයිද කීය.

මේ වනවිට විසිවයස් සපැමිණි අශෝක රජුගේ පුත් මිහිදු කුමරු මෙසේ කීය.

'පියරජ තුමණි; අප වහාම සම්බුද්ධ ශාසන යෙහි පැවිදි කරවනු මැනවි. එවිට ඔබ ශාසනදායකයෙකු වේයයි කීවේය.

මේ වනවිට සංඝ මිත්තාවන්ද දහඅට වන වියේ පසුවූවාය. ධර්මාශෝක රජුගේ අභිෂේකයෙන් අවුරුදු හයක් ගතවූ කල්හි පැවිදි වූහ. එසේම ඒ ලංකාදීපය බබලවන්නාට මිහිඳු හිමි උපසපන් බවටද සපැමිණියේය. සංඝ මිත්තාවන් ද එදිනම භික්ෂුනී ශික්ෂා සමාදන් වූවාය.

ථෙරවාදයේ ස්ථිරවූ මහත් ශිෂ්‍යය සමූහයා ඇති මොග්ග ලී පුත්ත තිස්ස නම් යම් ස්ථවිර කෙනෙක් වීද? උන්වහන්සේගේ පණස් හතර වැනි වස් පූරණයේදී ධර්මාශෝක රජුගේ දෙවන අභිෂේකය[1] සිදුවිය. ධර්මාශෝකයන්ගේ දෙවන අභිෂේකය සිදුවූයේ යම් කලෙකද? එකල මොග්ගලී පුත්ත තිස්සහිමියන්ගේ හැට අටවන විය පසු විය. මෙකල මොග්ගලී පුත්තතිස්ස හිමියන් සමීපයේ දී මහින්ද තෙරුන් පැවිදි විය. මෙම මහින්ද කුමරු පැවිදි කරවන ලද්දේ මහාදේව තෙරුන්ය. මෙම මහින්ද තෙරුන් වහන්සේට ශික්ෂාපද සමාදන් කරවන ලද්දේ මජ්ඣන්ත තෙරුන් වහන්සේ විසිනි. මෙම ප්‍රධාන නායක ස්ථවිර තිදෙනා වහන්සේ මහින්ද තෙරුන් වහන්සේට අනුකම්පා කොට වදළහ. එම තිදෙනා වහන්සේ අතුරින් මොග්ගලී පුත්තතිස්ස තෙරුන් වහන්සේ ලංකාව

1. අශෝකගේ රජවීම පිළිබඳ අවුරුදු 4ක පරතරයක් ඉතිහාසඥයන් පෙන්වයි. බෙහෝ අය පවසන්නේ රාජ්‍ය පිලිබඳ තිබූ අවුල විසඳීමට යාමේදී මෙය සිදුවූ බවයි. එහෙත් මෙයින් පසු අශෝකගේ නියම අභිෂේකය ලෙස ගණන් ගත්තාදැයි විමසිය යුතුවේ.

...ලවන්නාවූ මහා මහින්ද තෙරුන් වහන්සේගේ උපාධ්‍යාය වූ ...සා. මහින්ද තෙරුන් වහන්සේට උන්වහන්සේ සියළු ත්‍රිපිටක ධර්මය අර්ථ සහිතව ඉගැන්වූහ. අශෝක රජුගේ දහවැනි රාජ්‍ය වර්ෂයේ තෙරුන්ගේ සිව්වන වස විය.

මහින්ද මහා තේරුන් වහන්සේ බොහෝ ඇසූ පිරූ තැන් ඇති තෙරුන් වහන්සේ නමක් වූ සේක. පරියාප්ති ධර්මය මනාසේ උගත්හ. සමූහයකට ප්‍රධානියා වූ සේක. බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කොට ක්‍රමානුකූලව කොටස් වශයෙන් බෙදන ලද විභංග දෙකද ඇතුලත් රකන ලද සූත්‍රද සෙසු ස්ථවිර වාදයන්ද උන්වහන්සේ මනාසේ උගත්හ. එම පැවිදි බව ලත් ධර්මාශෝක රජුගේ පුත් මිහිඳු හිමියන් මොග්ගලී පුත්තතිස්ස ස්ථවිරයන් වහන්සේ විසින්ද හික්මවන ලදී. මොග්ගලී පුත්ත තිස්ස තෙරුන් වහන්සේගේ ආරාමයෙහි විසූ මහින්ද තෙරුන් වහන්සේ ෂඩ් අභිඥාවන්හිද සිව්පිළි සිඹියාවන්හිද ත්‍රිවිද්‍යාවන්හිද පිහිට වූහ.

ධර්මාශෝක රජුගේ තෙවන රාජ්‍යය වර්ෂයේදී[1] නිග්‍රෝධ හිමියෝ පැවිදි වූහ. උන්වහන්සේ පැවිදි වූ, සිව්වන වර්ෂයේදී අශෝක රජු විසින් ස්වකීය සොයුරන් නසන ලදී. එසේම අශෝක රජුගේ හයවන රාජ්‍ය වර්ෂයේදී ඔහුගේ පුත් මිහිඳු කුමරු පැවිදි වූයේය. මහා සෘද්ධිබල සම්පන්න තිස්ස ස්ථවිරයන් වහන්සේත් සුමිත්ත ස්ථවිරයන් වහන්සේත් කොන්තිදේශ නම් කිඳුරියගේ[2] පුතුන්ය. උන්වහන්සේලා දෙනම ධර්මාශෝක රජුගේ අටවැනි රාජ්‍ය වර්ෂයේදී පිරිනිවන් පෑහ. මෙම තෙරවරු දෙදෙනා බුද්ධ ශාසනයෙහි පැවිදිව පිරිනිවන් පෑහයි දැනගත්තාවූ බොහෝ ක්‍ෂත්‍රියවංශිකයෝ හා බ්‍රාහ්මණ වංශිකයෝ බුද්ධ ශාසනයේ

---

1. මෙය දෙවනවර රජවීමේ රාජ්‍යවර්ෂය විය හැකිය. බොහෝ ඉතිහාසඥයන් දක්වන්නේ ක්‍රි. පූ. 268 හෝ 269 වර්ෂයේ අශෝක රජවූ බවය. එසේම නිග්‍රෝධ හිමියන්ගේ පැවිද්ද පිළිබඳව නිශ්චිත වර්ෂයන් හෝ අශෝක සොහොයුරන් මැරූ වර්ෂයන් පිළිබඳව ම: ව: සඳහන් නොවේ. ඒ අනුව දී. ව. ඓතිහාසික පදනමේ වැදගත් කමක් ඇති බව පෙනේ.
2. කිඳුරියන් මනුෂ්‍යගනයට නොගැනේ. එසේ නම් කිඳුරියගේ දරුවන්ද මනුෂ්‍ය නොවිය හැකිය. බෞද්ධ විනය පිටකය අනුව මෙවැනි අය මහණ කළ නොහැක. මෙහිදී කිඳුරිය යනුවෙන් අදහස් කරන්නට ඇත්තේ ලක්‍ෂණ කාන්තාවක නිසා විය හැකිය.

උපාසකයන් බවට පත්වූහ. මෙම නිසා මේ අවදියේ දී බොහෝ දෙනා බුදුදහම කෙරේ පැහැද මහත් පුද සත්කාර ප්‍රධානය කරන ලදී. මේ සමගම මෙකල විසූ මිථ්‍යාමතවාදී අන්‍යතීර්ථකයෝ සියළු ලාභ සත්කාරයන්ගෙන් පිරිහුනාහුය. ලාභසත්කාරයෙහි ගිජුවූ නිරුවත් නිගණ්ඨයෝත් පණ්ඩර ජටිලයෝත් ලාභසත්කාර අපේක්ෂාවෙන් බුද්ධ ශාසනයට ඇතුළුව පැවිදි වූහ. එම නිසා එයින් සත් වසක් ගිය කල්හි වර්ග උපෝසථය[1] ඇති විය. බුද්ධ පරිනිර්වානයෙන් අවුරුදු දෙසියතිස්හයක් ඉක්ම ගියේය. මේ වනවිට අන්‍යය අමතයවාදීන් බුද්ධශාසනයට ඇතුළුවීම නිසා සුපේශල ශික්ෂාකාමී ආයුෂ්මත් වහන්සේලා පොහොය පවුරුණු කිරීම සඳහා නොවැඩිසේක. ඒ හැට දහසක් අන්තවාදී භික්ෂූහු අශෝකාරාමය ගොදුරුකර ගනිමින් සිටියාහුය. ආජීවකාදී නොයෙක් මතයන්හි පිහියාවූ ඔවුන් ශාසනය දූෂණය කරන ලදී. මෙසේ ශාසන දූෂණයෙහි යෙදෙන ලද්දේ කසාවත් දරමින්.

මෙම කාලයෙහි මහාගුණවත්වූ, අන්‍ය මිථ්‍යා මතිකයන් මර්ධනය කරන්නාවූ මොග්ගලී පුත්තතිස්ස තෙරුණුවෝ මහත් සෘධිබල සම්පන්න ෂඩභිඥලාභී භික්ෂූන් දහසක් පිරිවරා ගෙන ථෙරවාදය විනාශ නොවන සේ එහි ස්ථිර පැවැත්ම සඳහා තෙවැනි සංඝායනාව කළහ. විවිධ වාදගත්තාවූ අලජ්ජීතීර්ථකයන් උන්වහන්සේ විසින් මර්ධනය කරන ලදී. තෙවන ධර්මසංඝායනාව කලාවූ උන්වහන්සේ ශාසනයේ බැබලවීම පිණිස කථාවත්ථු පකරණය කළසේක. මෙකල මොග්ගලී පුත්තතිස්ස තෙරණුවන්ගේ ශිෂ්‍ය මහින්ද තෙරුන්වහන්සේ සිය උපාධ්‍යයන් සමීපයෙහි ධර්මය පුහුනුවූ සේක. නිකාය පහද ප්‍රකරණ හතද විභංග දෙකද පරිවාර ඛන්ධක යන විනයන්ද යනාදී නොයෙක් ධර්මයන් මහින්ද තෙරුන් වහන්සේ ප්‍රගුණ කළහ. උපාධ්‍යයන් වහන්සේ සමීපයෙන් මේ මහින්ද තෙරුන් ඉගෙන ගන්නා ලදී.

අවුරුදු දෙසිය තිහක් මෙසේ ඉක්ම ගියේය. උතුම් ථෙරවාදී බුද්ධ ශාසනයෙහි නැවතත් භේද ඇතිවිය. බුද්ධ ශාසනයෙහි පැහැදුනාවූ ක්ෂත්‍රියකු වූ ධර්මාශෝක රජතුමා මෙකල පාටලී පුත්‍ර

---

1. වෙන්ව විනයකර්ම කිරීම.

නගරයෙහි රාජ්‍ය කළේය. එසේම එකල්හි එම රජතුමා උතුම්වූ සංඝයා උදෙසා එක්දිනයකදී භාරලක්ෂයක් වියදම් කොට ප්‍රසන්නවූ මහා දනයක් දුන්නේය. චෛත්‍ය පූජාවන් සඳහා ලක්ෂයක්ද, ධර්මශ්‍රාවකයන් වහන්සේලාගේ යහපත සඳහා වැය කිරීමට ලක්ෂයක්ද, භික්ෂූන්ට දන්දීම සඳහා තවත් ලක්ෂයක්ද, වශයෙන්[1] මෙසේ කොටස් කොට මෙම ධනය පූජා කෙරින.

මෙකලද බුද්ධශාසනයට මහත් වූ ලාභ සත්කාර ලැබිණ. එය දැක මිත්‍යාලබ්ධික අන්‍යතීර්ථකයෝ හැට දහසක් පමණ දෙනා තමාම සිවුරු පොරවාගෙන පැවිදි වූවාහුය. මෙම නිසා අශෝකාරාම විහාර භික්ෂූන් පාමොක් දෙසීම සර්වසම්පූර්ණයෙන්ම අත්හරින ලදී. මෙය ඇසූ අශෝක රජතුමා ප්‍රතිමෝක්ෂය දේශනා කරන්නැයි නියෝගයක් ඇමතියෙකු අත යවන ලදී[2]. ඒ අවස්ථාවේ විහාරයට ගිය ඇමතිවරයා ආයතීන් වහන්සේලා මැරීය. මේ නිසා හැට දහසක් පමණ බුද්ධ ශ්‍රාවකයන් වහන්සේ එම තීර්ථකයන්ට නිගාදීම පිණිස අශෝකාරාමයට එක් රැස්වූවාහුය. එකල මෙසේ රැස්වූ භික්ෂූන් අතර මොග්ගලීපුත්ත තිස්ස තෙරුන්වහන්සේ තරම් ශ්‍රේෂ්ඨයෙකු මේ මිහිපිට නොවීය. අශෝක රජතුමා, ඇමතිවරයා භික්ෂූන් මැරීමේ පාපය පිළිබඳව උන්වහන්සේගෙන් විමසීය. මොග්ගලී පුත්තතිස්ස තෙරණුවෝ රජු ඉදිරියේ ප්‍රාතිහාර්ය පා රජුගේ සැකය දුරුකළහ.

අශෝක රජතුමා මොග්ගලීපුත්තතිස්ස තෙරුන්ගේ සමීපයෙන් ධර්මය ඉගෙන ගත්තේය. එසේ ධර්මය ඉගෙනගත් රජතුමා ඒ තමා විසින්ම සිවුරු පොරවාගත් අන්‍යතීර්ථක භික්ෂූන් සම්පූර්ණයෙන්ම ශාසනයෙන් පන්නා දැම්මේය. එකල සිටි ථෙරවාදයට විරුද්ධ වූ සියළු භික්ෂූහු ථෙරවාදයෙන් පරිබාහිර වූවාහුය. බුද්ධ ශාසනයට අනර්ථකාරී වූ ඔවුහු නිර්මල වූ බුද්ධ ධර්මය විනාශ කිරීම සඳහා තීර්ථක ශ්‍රාවකයන්ගේ අවවාදයෙන් පැවිදිව ශාසනය භේදකරන

---

1. තවත් තැනක නිග්‍රෝධ සාමනේරයන් වහන්සේ වෙනුවෙන් ලක්ෂයක් දුන් බව දක්වා ඇත.
2. මේ පිළිබඳව ම: ව: දීඝ විස්තරයක් දැක්වේ. මෙහිදී ඇමතිවරයා භික්ෂූන් මැරූ බවත් රජුගේ සොහොයුරු තිස්ස තෙරුන්ගේ ඉදිරිපත් වීම නිසා ඇමතිගේ ක්‍රියාව නතරවූ බවත් දක්වා තිබේ.

ලදී. මේ නිසා ඔවුන්ට ඔවුන්ගේ වාදය අවබෝධව නිග්‍රහවීම පිණිස මොග්ගලීපුත්තතිස්ස තෙරුන්වහන්සේ කථාවත්ථුපකරණය දේශනා කළ සේක. මෙය අන්‍යවාද මර්ධනයටම අනන්‍යවූ සග්‍රහයකි. එම මොග්ගලී පුත්තතිස්ස හිමියෝ අභිධම් කථාවත්ථු පකරණය දේශනා කළහ. ස්වකීය වාදයන් ශෝධනය කලාවූ බුද්ධශාසනය දිගුකලක් පවත්වාගෙන යාමට ඉවහල් විය. සියළු භික්ෂූන්ගේ නායකත්වය ගත් උන්වහන්සේ රහතුන් වහන්සේ දහස අතර නැගී සිට ඉතා පූජනීය ආකාරයෙන් සකසා ධම්සංඝායනාව කළ සේක. රජු විසින් කරවන ලද අශෝකාරාමයේදී මෙම ධම්සංඝායනාව නව මසකින් නිම කරන ලදී.[1] මේ තෙවන සංඝායනාවයි.

1. මෙම ධම් සංඝායනාව පාටලී පුත්තනගරයේදී ක්‍රි. පූ. 250 දී පවත්වන ලද බව ඉතිහාසඥයන්ගේ මතයයි. ඒ සමගම මෞර්‍ය්‍ය අශෝක ක්‍රි. පූ. 269 සිට 231 දක්වා පාලනය කල බවද පෙන්වා දෙයි.
ථෙය්‍ය සංවාසः- මෙම තීර්ථකයන් පෙන්වා ඇත්තේ ථෙය්‍යසංවාස යන නාමයෙනි. මොවුන් සංවාස ත්ථෙනක: ලිංගත්ථෙනක: උභයත්ථෙනක: වශයෙන් කොටස් තුනකි. ලිංගත්ථෙනක ගනයට මොවුන් වැටේ. ලාභසත්කාර සඳහා මහණවූනේ මොවුන්ය.

# 8

බොහෝ දුර දැක්මේ ඥාණ සම්භාරයක් ඇත්තාවූ මොග්ගලී පුත්තතිස්ස තෙරුන් වහන්සේ අවට ප්‍රදේශයන්හි බුද්ධ ශාසනය පිහිටවන ආකාරය දුටු සේක. සියළු සත්වයන්ගේ මෙලෝ පරලෝ වැඩ පිණිස බුද්ධ ශාසනය පිහිටුවීමට තමන් වහන්සේ පස්වැනි කොට ඇති මජ්ඣන්ත ආදී තෙරවරු යැවූහ. (ඒ මොග්ගලී පුත්තතිස්ස තෙරුන් වහන්සේ උන්වහන්සේලාට මෙසේ වදළහ.)

'උතුම් වූ මහත් බලසම්පන්නවූ ඔබ වහන්සේලා පසල් දේශවාසී සියළු සත්වයන් කෙරේ අනුකම්පාවෙන් උතුම්වූ සද්ධර්මය දේශනා කරන්න. යනුවෙනි.

ඒ මජ්ඣන්ත තෙරුන් වහන්සේ (සිය පිරිස සමග කාශ්මීරයට හා ගන්ධාරයට වැඩිසේක.) එහිදී උන්වහන්සේට කුපිතව එක් නාරජෙකු පැමිණියේය. උන් වහන්සේ එම නාරජු පහදවා ධර්මය දේශනා කොට[1] බොහෝ දෙනෙක් සංසාර බැම්මෙන් මිදවූහ. මහත් සෘද්ධිබල ඇති මහාදේව තෙරුන් වහන්සේ මහිස රටට වැඩි සේක.[2] උන්වහන්සේ එහි වැඩීමෙන් පසු

1. මෙහිදී ආරවාල නම් නාගරාජයෙක් තෙරුන්වහන්සේට පරුෂවචනයෙන් බැණ වදිමින් නාගපිරිස් පිරිවරාගෙන විවිධදේ කලත් තෙරුන් වහන්සේ එම නාරජු දමනය කොට ආශිර්විෂෝපම සූත්‍රය දේශනා කළ බව සඳහන් වේ. (මːවː 12 පරි) කාශ්මීරය හා ගන්ධාරය ප්‍රධාන පැරණි රාජ්‍ය දෙකකි. මෙය වයඹ දිග ඉංදියාවේ පිහිටියේය. ක්‍රි. පූ. 750 දී මුස්ලිමුන් ඉංදියාව ආක්‍රමණය කරන විට ද මෙම ප්‍රදේශවල බහුල වශයෙන් බෞඩයන් සිටි බව පෙනේ. මොවුන්ගේ ජිහාඩ් යුද්ධ මගින් ඔවුන් මහමදිකයන් බවට පත් කොට ඇත. එම ආගම ඇදහීමට විරුද්ධවූ අය මරා දමන ලදී.
2. මෙහිදී මහිසරට යනුවෙන් සඳහන් වෙන්නේ මහිසමණ්ඩලයයි. දේවදූත සූත්‍රය මෙහිදී දේශනා කරන ලදී. මෙම මහිස මණ්ඩලය ද. ඉ. මයිසූරය හෝ වින්ධ්‍යා කඳුවැටිය අසල රාජ්‍යයකි යි කියවේ. කෙසේ වෙතත් මෙය මයිසූරය බව ද. ඉ. ශාසන ඉතිහාසයෙන් පෙනේ.

එහි ජනතාවට අපායේදී විඳීමට සිදුවන දුක්වල විඳීමට සිදුවන ආදීනව පෙන්වා එහි සිටි බොහෝ සංසාර බැම්මෙන් බැඳී සිටි සත්වයෝ සංසාර බැම්මෙන් මිදවූහ.

තවද මහා ඍද්ධි බල සම්පන්න මහා ස්ථවිර පාදයාණන් වහන්සේ නමක් ද වූහ. උන්වහන්සේ රක්ෂිත[1] නම් තෙරුන් වහන්සේය. උන්වහන්සේ අහසට පැනනැගී වනවාසී දේශයට වැඩි සේක. එහිදී උන්වහන්සේ අනවතග්ගිය සූත්‍රය දේශනා කොට බොහෝ දෙනෙක් පැහැදවූහ. එසේම මහාඥාණ සම්ප්‍රයුක්ත යෝනක ධම්මරක්ඛිත ස්ථවිරපාදයන් වහන්සේ අපරන්ත[2] දේශයට වැඩ එහි ජනයා පැහැදවූ සේක. එහිදී උන්වහන්සේ මහා අගගිඛන්ධොපම සූත්‍රය දේශනා කළහ. මහා ඍද්ධි බලමහිමයෙන් යුත් මහා ධම්මරක්ඛිත තෙරණුවෝ මහාරට්ඨ[3] දේශයට වැඩයෝ, උන්වහන්සේ එහිදී මහානාරදකස්සප ජාතකය දේශනා කලාහු: එහි වැසියෝ පැහැදවූ සේක. එසේම මහත් ඍද්ධිබල සම්පන්න භාවයෙන් යුක්තවූ මහාරක්ඛිත ස්ථවිර පාදයන් වහන්සේ යෝනක ලෝකයට[4] වැඩි සේක. උන්වහන්සේ එහිදී කාලකාරාම සූත්‍රයෙන් ධර්මය දේශනා කොට යෝනක දේශවාසීන් පැහැදවූහ. කස්සපගොත්ත ස්ථවිර පාදයන් වහන්සේද මජ්ඣිම තෙරුන්ද, දුන්දුභි තෙරුන්ද; මහාදේව තෙරුන්ද; අලකදෙව තෙරුන්ද හිමවත් දේශයට[5] වැඩියා හුය. එහි වැඩියාවූ උන්වහන්සේලා ධර්මදේශනා කොට එහි ජනයා පැහැද වූහ.

---

1. ද. ඉ. උතුරුකන්නරයේ 'වනවාසී' නමින් නගරයක් ඇත.
2. ද. ඉංදියාවේ නව සෝපරා නගරය පිහිටා ඇත්තේ මෙහි බව කියයි. පැරණි සුප්පාරක පටුන මෙහි පිහිටියේය.
3. මෙය වර්තමාන මහාරාෂ්ට්‍ර ප්‍රදේශයයි.
4. මිසරය සිරියාව ඇතුළු මුස්ලිම් රටවල් රාශියක් මෙයට අයත්වේ. යෝනක ලෝකයයි මෙය නම් කලේ මුහුදුවලින් වෙන්ව රාජ්‍ය කීපයකින් සැදුම්ලත් නිසාය. මෙයට ග්‍රීසියද අයත්වූ බව සඳහන් කරන්නේ ඇලෙක්සැඩර්ගේ අධිරාජ්‍ය මෙයෑී අධිරාජ්‍ය තෙක් විහිදී තිබූ හෙයිනි.
5. මඃ වඃ සඳහන් වන්නේ මජ්ඣිම තෙරුන් වහන්සේ ඇතුළු 4 නමක් වැඩි බවය. මෙහි ඉතිරි 4 නමද සඳහන්වේ. කෙසේ වෙතත් සෑම ප්‍රදේශයකටම භික්ෂූන් 5 නමක් වැඩි බව මේ අනුව පෙනේ. හිමවත් දේශයට කසීරට නේපාලය අයත්ය. සාන්චි ස්තූපයෙන් ලද ලිපිය කස්සප ගොත්ත හිමියන්ගේ නම සඳහන්ය.

මේ හැරුණු විට සෘද්ධි ගුණයෙන් ගුණෝපේතවූ සෝනුත්තර නම් වූ මහා ස්ථවිර පාදයන් මහන්සේ ස්වර්ණභූමියට[1] වැඩි සේක. එහි වැඩි උන්වහන්සේ එහිදී පිසාචයන් මර්ධනය කළසේක. එසේ මර්ධනය කොට බෙහෝ දෙන භවබන්ධනයෙන් මුදවා නිවන් මගට යොමු කළහ. මෙයින් පසු තමා පස්වැනි කොට ඇති මිහිඳු මහ රහතන් වහන්සේ උතුම්වූ ලංකාදීපයට වැඩම වූ සේක. එසේ වැඩියාවූ උන්වහන්සේ එහි බුද්ධ ශාසනය ස්ථිරකොට වදළ සේක. ලක්බිමට වැඩියාවූ උන්වහන්සේ බොහෝ ජනයා සංසාර බැම්මෙන් මිදුවූ සේක.

1. ස්වර්ණභූමියට සොණ, උත්තර යනුවෙන් ප්‍රධාන හිමිවරු දෙදෙනෙකු යැවූ බව බෞද්ධ මූලාශ්‍රවල හා මඃ වඃ සඳහන්වේ.
ස්වර්ණ භූමිය යනුවෙන් සඳහන් වන්නේ බුරුමය, ලෙසද ඉ.හිරණ්‍ය වන ප්‍රදේශය බවද, මලයාව ලෙසද, බෙංගාලයේ ප්‍රදේශයක් ලෙසද විවිධාකාරයට විවිධ ඉතිහාසඥයෝ පෙන්වා දෙයි.

# 9

පින්වත්නි; දීප උප්පත්ති කථාව නම්වූ මාගේ වංශ කථාව අසව්. සිංහයෙකු දමනය කිරීම නිසා මෙම ලංකාදීපයට සිංහල යන නාමය ව්‍යවහාර විය. වගු රජුගේ දියණිය මහවනය අරක්ගෙන සිටියාවූ සිංහයෙකු සමඟ සංවාසය කළාය. එම සංවාසය නිසා ඇය තිවුන් සහෝදරයින් දෙදෙනෙකු බිහිකළහ. මෙම දරුවන් දෙදෙනා මහා හැඩරුව ඇත්තේද විය. මෙම දරුවන් දෙදෙනා සිංහබාහු හා සිංහසීවලී නම්[1] වී. ඔවුන්ගේ මව් සුසීමා[2] නමින්ද, පියා සීහ[3] නමින්ද නම් ඇත්තේ විය. සිංහබාහුට අවුරුදු දහසයක් ඉක්ම ගියේය. එකල්හි නැගනියද රැගත් ඔහු එම ගුහාවෙන් නික්මිණි. එසේ නික්ම ගොස් එහි සිංහ පුරය[4] නම් උතුම් නගරයක් ගොඩ නැගීය. සිංහ පුත්‍ර වූ මහත් බල ඇති සිංහබාහු රජ එම ලාට රට උතුම්වූ සිංහ පුරයෙහි රාජ්‍ය කළේය. ඒ සිංහපුත්‍රවූ සිංහබාහුට ඔවුනොවුන්ට සහෝදර ප්‍රේමයෙන් වෙළී ගියාවූ දරු තිස් දෙදෙනෙක් වූහ. ඔවුන් අතරින් සුමිත්තද වැඩිමහල් සහෝදරයෝ වෙති. මෙයින් විජය කුමාරයා ඉතා දරුණුවිය. සාහසික බලයක් ඇත්තෙක් ද විය. මෙම විජය කුමාරයා එම සාහසික පිරිස් හා එක්ව නැවත සකස් නොකල හැකිසේ ඉතා

---

1. රාජාවලියේ දක්වන්නේ සීහවල්ලි නමිනි.
2. මහාවංශය සුප්පාදේවී යනුවෙන් සඳහන් කර ඇති අතර රාජාවලියේ නම සඳහන් කර නොමැත.
3. මෙහි සීහ නම් පුද්ගලයෙකු බව සඳහන් වෙතත් ම: ව: වනයේ විසූ සිංහයෙකු බව පෙන්වා ඇත. නවීන විද්‍යාවට අනුව මිනිස්කාන්තාවක් තිරිසන් සතෙකු හා සංවාසවීමෙන් දරුවන් හට නොගන්නා බව පෙන්වයි.
4. ම: ව: පෙන්වන්නේ සුප්පා දේවියගේ මාමා කෙනෙකු පුතෙකු වූ සෙන්පතියෙකු වසන ප්‍රදේශයට මේ මව් හා සොහොයුරු සොහොයුරියන් පැන ආ, බවත් එහිදී සිංහයා දරුවන් සොයා පැමිණි විට සිංහබාහු ඔහු මරාදැමූ පසු රාජ්‍ය ඔහුට දුන් බවත් පසුව එය මාමාට පවරා තමා සිංහයා සිටි ප්‍රදේශයේ සිංහපුරය කොට සිහසීවලී හා වාසය කල බවත්ය.

දරුණු ලෙස ගම් පැහැරීම් හා සාහසික කම් කරයි. මේ නිසා ගම් නියම්ගම් වැස්සෝ එක්ව රජු වෙත පැමිණිලි කළාහුය. ඔවුහු රජු වෙතට අවුත් විජයගේ දෙස් කීවාහුය. රජු ජනපද වැසියන්ගේ වචන ඇසීය. හේ ජනපද වැසියන්ගේ වචන අසා මහත්සේ කුපිත විය. එයින් පසු රජතුමා (සිංහබාහු) මේ කුමාරයා රටින් නෙරපන්නැයි ඇමතියන්ට ·නියෝග කළේය·[1] ඔහුගේ පිරිවරද, සියල්ලන්ගේ අඹුදරුවන් හා නෑයින්ද, දැසිදස් කම්කරු ආදීන්ද, රටින් නෙරපා දමන ලෙසද නියෝග කෙරින. පළමුව ඔහු යැවීය.[2] එයින් පසු ඔහුගේ පිරිවර හා ඥාති මිත්‍රාදීන්ද, සිටි ස්ථානවලින් නෙරපා ඒ සියල්ලන් නැව් නංවා මහා සාගරයේ පාකර යැව්වේය. ඔවුන් යවන විට සිංහබාහු රජතුමා මෙසේද කීවේය.

'විජය කුමරු ඇතුළු සියළුම පිරිස මෙම රටින් බැහැර අපට නොපෙනෙන කැමති ස්ථානයකට යත්වා. නැවත මෙම රටේ ජනපදයන්හි වාසයට නොයෙව්.' යනුවෙනි.

මෙසේ මහා සාගරයෙහි පාකර හරින ලද නැව්වලින් විජය කුමරුගේ නැව හැර අන්‍ය කුමරුන්ගේ නෞකාවන් වෙනත් දිවයිනකට ගියේය. එම දිවයින එකල නග්නදීපය නම් විය. ස්ත්‍රීන් නැගුණ නැව අවස්සක දිවයිනට ගියේය. මෙයින් පසු එම දිවයිනට මහිලා රට[3] යයි නම් කරන ලද්දේය.

විජය කුමාරයා ඇතුළු ඔහුගේ පිරිස හත්සියයක් පුරුෂයන් නැගුණ නැව මුහුදේ පාවී ගොස් කිසිම රටක් තොටක් නොපෙනී පාවී ගියේය. ඔවුහු මංමුලාවී ගොස් සුප්පාරක පටුනට ගොඩ බැස්සාහ. මෙසේ පැමිණියාවූ ඔවුන්ට සුප්පාරක වැසියෝ

---

1. ම: ව: පළමු, දෙවන තෙවන වර පියරජ සිංහබාහු විජයට අවවාද කල බවත් ඔහු එය නොපිළිගත් නිසා රටින් පිටුවහල් කළ බවත් දැක්වේ.
2. මහාවංශයේ සඳහන් වෙන්නේ විජය ඇතුළු ඔහුගේ පිරිස හිස් අඩක් මුඩුකරවා සත් සියක් පිරිස එකම නැවක ගොඩකරවා මුහුදේ පාකර යැවූ බවය. එහෙත් 700ක් ගෙන යාමට තරම් විශාල නැව් එකල තිබූ බවක් ග්‍රීක් හෝ පර්සියන් වාර්තාවල සඳහන් නොවේ. කෙසේ වෙතත් විවිධ වාර්තා අනුව වයඹ දිග ඉංදියාව හා ලංකාව අතර මෙකල වෙළඳ සම්බන්ධතා පැවති බව පෙනේ.
3. ම: ව: අවස්සක නම සඳහන් නොවන අතර ස්ත්‍රීන් සිටි නැව මහින්ද දිවයිනට ගිය බව දක්වා ඇත.

මහත්සේ සත්කාර සම්මාන කළාහුය. සුප්පාරක වැසියන් එසේ සත්කාර කරන කල්හිද විජය ඇතුළු ඔහුගේ යහළුවෝ නපුරු වැඩ කරමින් මෝඩයන් සේ ක්‍රියා කරන්නට වූහ. ඔවුහු මිනිසුන් මැරුවෝය. සොරකම් කළෝය. අන් අඹුවන් කරා ගියෝය. බොරු කීවාහුය. කේලාම් කීම් හා අනාචාරයේ හැසිරීම් ආදී දුෂ්චරිත කළහ. එසේම ඉතා දරුණු භයානක වැඩ කළාහුය.[1] එකල එහි මිනිස්සු එක්වී "අපි මේ බේබද්දන් ඉක්මණින් විනාශ කරන්නෙමියි" කථිකා කළාහුය. එසේ කථිකා කොට ඔවුන්ට මහත්සේ බැණ කැට ගල්මුගුරු ආදියෙන් ගසා එළවා දැමූහ. එකල මෙම දිවයින ඕජදීප; වරදීප; මණ්ඩදීප නමින් හැඳින්වීය. මෙම දිවයින ලංකාදීප යන නමින් ද තම්බපන්ණි දීප යනුවෙන්ද ප්‍රඥප්ති වශයෙන් පිළිගනු ලැබේ.

සම්මා සම්බුදු රජාණන් වහන්සේ පිරිනිවන් පානා සමයෙහි ක්ෂත්‍රිය වූ සිංහබාහුගේ මෙම විජය නම් පුත්‍රයා දඹදිව හැර දමා ක්‍රමයෙන් ලංකාදීපයට පැමිණ රජවන්නේ යයි උන්වහන්සේ වදාළ සේක. එසේ ප්‍රකාශ කළ බුදුන් වහන්සේ ශක්‍රදිව්‍ය රාජයා අමතා මෙසේ ද වදාළහ.

ශක්‍රය; ලංකාව ආරක්ෂා කිරීමට පමා නොවෙව." යනුවෙනි.

බුදුරජාණන් වහන්සේගේ වචන ඇසූ සුජම්පති සක්දෙව් රජ උපුල්වන්[2] දෙවියන් ඇමතීය. එසේ කථාකළ සක්දෙව් රජ ලංකාව ආරක්ෂා කරන්නැයි ඔහුට කීය. ශක්‍රදිව්‍ය රාජයාගේ වචන පිළිගත් උපුල්වන් දිව්‍ය රාජයා ලංකාව ආරක්ෂා කිරීම පිණිස සපිරිවරින් ලක්දිවට පැමිණියේය. විජය කුමාරයා තෙමසක් හාරුකච්ච නම්

---

1. ම: ව: සඳහන් වන්නේ විජයගේ සහචරයන් මෙවැනි සාහසික ක්‍රියා කල නිසා ඔහු භයට පත්ව යලිත් නැව් නැග පැමිණි බවය. සිග්මන් ෆ්‍රොයිඩ්ගේ මනෝවිද්‍යාවේ පෙන්වා දෙන්නේ ආදිකිරිසන් බවේ රක්තානු(ඉඩ්) නවීන මිනිසා දක්වා ක්‍රියා කරන බවත් විවිධාකාරයෙන් දැනුවත්කම් ලැබූ මිනිසුන් ඒවා පාලනය කරමින් යහපත්වන බවය. ඒ අනුව විජය පිටුවහල් කිරීමෙන් පසු ඔහු අද්දැකීම් මත සැකසිතන ඔහුගේ සහචරයන්ට තම හැඟීම් පාලනය කිරීමට නොහැකි වන්නට ඇත. මෙම ඓතිහාසික රක්ත ප්‍රසාරණය "ඉඩ්" යනුවෙන් හඳුන්වා තිබේ.
2. උපුල්වන් විෂ්ණු එකම දෙවියන් වශයෙන් හඳුන්වයි.

ස්ථානයේ වාසය කළේය. එසේ වාසය කළාවූ විජය කුමාරයා තම පිරිසට මහත් තදින් කථා කොට[1] තමන් පැමිණි නෞකාවටම නැගුණේය.

මුලාවූ ඔවුහු ස්වකීය නැවට නැගී ගමන් ගත්තාහුය. ඔවුහු සුළඟ නිසා සාගරයේ ඉල්පෙමින් පාවෙමින් පැමිණියාවූ මහත! කුස ගින්නේ පෙළුනාහුය. ඔවුහු පාවී ලක්දිවට පැමිණ ලක් පොළවෙහි ස්පර්ෂය ලැබුවාහුය. මොවුන් මෙහි පැමිණෙන විට පිපාසයෙන් පෙළුන අතර ක්ලාන්ත බවින්ද යුක්ත විය. පයින් ගමන් කලාවූ ඔවුන් ගෙන් සමහරෙක් දෙඅත් හා දෙදන බිම ඇණගෙන සිටියෝය. මෙසේ වැතිරී සිටි ඔවුහු එම භූමියෙන් නැගිට්ටෝය. පොළවේ තිබූ පස් ගෑවීමෙන් ඔවුන්ගේ අත් රත් පැහැයෙන් බබලවන්නට විය. ඔවුහු ඒ දෙස බලන්නට වූහ. එම නිසා මෙතැන් සිට ලංකාදීපයට 'තම්බපණ්ණි' යන නාමය ඇතිවිය. මෙහිදී විජය ප්‍රධානත්වය ගෙන ඔවුන්ට අනුශාසනා කෙරින.[2]

විජය රජුගේ විජිත ඇමතිවරයා විසින් ජනපදයක් ගොඩ නගන ලදී. එය විජිත ජනපදය විය. අනුර නැකතින් ගොඩ නගන ලද ජනපදය 'අනුරාධ' නම් විය. අච්චුතගාමී උපතිස්ස ඇමති තෙමේ ද විජය කුමරු සමග පළමුවෙන් මෙහි පැමිණියේය. තවත් නොයෙක් ක්ෂත්‍රිය රාජවංශවලට අයත් ස්ත්‍රී පුරුෂයෝද මෙහි පැමිණියාහුය. ඒ ක්ෂත්‍රිය වංශිකා විජය කුමාරයා මේ ආකාරයෙන් ලක්දිව ඒ ඒ දිසාවන්හි නගර ඉදිකරවීය.

තම්මැන්නාවට දකුණු පසින් පිහිටි උතුම් වූ නදීතීරයේ වෙළෙඳුන් විසින් ගෙන එන ලද (නානාවිධ භාණ්ඩයන් ගෙන්

1. ම: වංශයේ විජය භාරුකච්චයේ සිටි කාලය සඳහන් නොවන අතර විජයද තම පිරිස සේ හැසුරුණු බව පෙන්වයි.
2. ම: ව: මෙම තම්බපණ්ණි දේශය ඇතිවීම පිළිබඳව සඳහන් නොවන අතර කුවේණිය පිළිබඳවත් කුවේණියගේ සේවිකාවක් බැල්ලකගේ වෙසින් පැමිණි බවත් විජයගේ පිරිස හමුවූ ආකාරයත් දැක්වේ. කෙසේ වෙතත් විවිධ මූලාශ්‍රවල 'තම්බපණ්ණි' නම සඳහන්ය. ක්‍රි. පූ. 543 දී විජයලංකාවට පැමිණි බව කොඩ්රින්ටන් මහතා ස්ථිරවම පවසයි. ගෛගර් පඬිතුමා පවසන්නේ ක්‍රි. පූ. 483 දී බවයි.

සමන්විත) "පොදිලිහන ස්ථානය"[1] වශයෙන් හඳුන්වනු ලබන ස්ථානය පිහිටියේය. ඒ ස්ථානය අසල විජය විසින් ගොඩ නගන ලද නගරය තම්මැන්නාවය. මෙම කාලයේදී විජිත ඇමැති වරයා විසින් විජිත නගරය ඉදිකරන ලදී. එසේම උරුවේල ඇමැති වරයා උරුවෙල නගරය ඉදිකළේය. තවද නක්කත්ත[2] නම් ඇමති වරයා විසින් අනුරාධපුරය ඉදිකරන ලදී. මෙම ඇමැතිවරුන් අතරින් අච්චුතගාමී නම් වූ ඇමැති වරයා විසින් උදේනී ජනපදය පිහිටි ස්ථානයේ එම ජන පදය ඉදිකෙරිනි. එසේම විජය රජතුමාගේ උපතිස්ස නම් ඇමැතිවරයා මනාසේ වෙළඳ සැල් සංකිරණයන් ගෙන් සමන්විතව වීථි ආදියෙන් බෙද වෙන් කරන ලද උපතිස්ස නගරය ඉදි කෙරිනි.[3]

අලංකාරයෙන් හා අතිශයින් විශාල වූද විවිධ ධනධාන්‍යාදියෙන් සමන්විත වූ යම්බඳු වූ නගරයක් වූයේද; එම නගරය නම් තම්මැන්නා නුවරයි. ලංකාවේ පළමුවෙන්ම රාජ්‍යාධිපතිවූ විජය රජතුමා තම්මැන්නා නුවර රාජ්‍ය විචාරීය.[4] විජය රජුගේ අභිෂේකයෙන්[5] අවුරුදු තිස්හතක් ඉක්ම ගියේය. ඒ කාලයේ විවිධ ජතීජනයාගෙන් ගැවසී ගත්තාවූ ජනපද සමූහයක් ලක්බිම ඉදිවිය.

---

1. මෙය මහාතිත්ථ වරාය අසල පිහිටි මහාතිත්ථනගරය විය හැකිය. නූතන මන්නාරම අසල පිහිටි ඓතිහාසික නගරයෙන් දැනුදු විවිධ කාසි මතුවේ. දෙස් විදෙස් වෙළඳුන් විවිධ බඩුගෙන මෙම වෙළඳ පොලට පැමිණ ඇත.
2. ම: ව: සඳහන් වන්නේ අනුරාධ නම් ඇමතිවරයා ඉදිකල බවකි. නමුත් මෙහි නක්කත්ත නාමකො" යන්නෙන් පැහැදිලි වන්නේ නැකත් ශාස්ත්‍රය හා සම්බන්ධ ඇමතියෙකු සිටි බවයි. ඔහුගේ නම අනුරාධ විය හැකිය. ඔහු වඩාත් හොඳ නැකතකින් එම නගරයෙ ඉදිකරන්නට ඇත. අවුරුදු 1500ක් එම නගරය කල්පැවතියේ ඒ නිසාවිය හැකිය.
3. පණ්ඩුවාසුදේව පැමිණීමෙන් පසු ප්‍රධාන නගරය වශයෙන් මෙය යොදගන්නා ලදී.
4. ක්‍රි. පූ. 543-505 විජය රජු රාජ්‍ය මෙහෙයවූ කාලයයි. මේ කාලයේ චීනයේ කොම්පියුසියස්තුමා තම ආගම ප්‍රචාරය කෙරිනි. ඔහු වාසය කළේ ක්‍රි. පූ. 550-479 අවදියේදීය. එසේම ක්‍රි. පූ. 537 දී පර්සියන් අධිරාජ්‍යාවූ සයිරස් රජතුමා ඉංදියාව හා ග්‍රීසිය ආක්‍රමණය කරන ලදී. ඉංදීය භටයන් ග්‍රීසයට යවන ලද්දේ ඔහු විසිනි.
5. විජය කුවේණිය අතහැරීම පිළිබඳ පුවතත්; පණ්ඩුකුමරිය පාවා ගැනීමේ කථාවත්, විජයගේ දරුවන් හා වැදි පරපුර පිළිබඳවත් මෙහි සඳහන් නොවේ. මේ පිළිබඳ විස්තර ම: ව: 7 පරි. දක්වා ඇත.

ක්ෂත්‍රිය වංශයට අයත් එම විජය රජතුමා අවුරුදු තිස් අටක් රාජ්‍යය කළේය.

බුදුරජාණන් වහන්සේගේ බුද්ධත්වයෙන් නමවැනි මාසයේ දී උන්වහන්සේ විසින් මෙම ලක්දිවින් යක්ෂ සෙනග පළවා හරින ලදී. එම තථාගතයන් වහන්සේගේ පස්වැනි අවුරුද්දේදී උන්වහන්සේ විසින් නාග දමනය සිදු කෙරිනි. බුද්ධත්වයෙන් අටවන වර්ෂයෙහි ලක්බිමට වැඩි උන්වහන්සේ අටමස්ථානයන් පිහිටි ස්ථානයන්ට පැමිණ එම ස්ථානයන් හි සමවත් සුවයෙන් වැඩ වසන ලදී.

ඒ සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ මෙම තුන් අවස්ථාවන් හිදීම මෙම ලක්දිවට වැඩිසේක. උන්වහන්සේගේ අවසන් අවුරුද්දේදී විජය කුමාරයා ලක්දිවට පැමිණයේය. එසේම ඒ උතුම්වූ බුදුරජාණන් වහන්සේ මෙම ලංකාදීපය මනුෂ්‍ය වාසයක් කරවූ සේක. ඒ විජය කුමාරයා ලංකාවට පැමිණි දිනයේ තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේ අනුපාධිශේෂ නිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පෑ සේක. ඒ බබලන්නා වූ සම්මා සම්බුද්ධ වූ ධර්මරාජයානන් වහන්සේ පිරිනිවූ සේක. එයින් පසු වසර 38ක් විජය රජතුමා රාජ්‍යය මෙහෙයවීය. විජය රජතුමාගේ අවසාන කාල පරිච්ඡේදයේදී මේ වනවිට සිංහපුරයේ රාජ්‍යය විචාරමින් සිටි තම සොහොයුරු සුමිත්ත යන් වෙත දූතයෙකු[1] යවමින් "උතුම්වූ ලංකාදීපය පාලනය කිරීම සඳහා ඉතා ඉක්මණින් නුඹ වෙනුවෙන් කිසිවකු එවන්නැයි දන්වා යැවීය. මෙසේද දන්වා යවන ලදී.

"මගෙන් පසු මෙම රාජ්‍යය මෙහෙයවීමට කිසිවකු නැත. මා විසින් ගොඩ නගන ලද මෙම රාජ්‍යය නුඹට පවරා දෙමි.[2] යනුවෙනි.

1. ම: ව: හස්නක් යැවූ බව සඳහන් වේ. මහින්දාගමනයට පෙර මෙහි අක්ෂර කලාවක් තිබූ බව වාග් විද්‍යාඥයෝ පෙන්වා දෙති.
2. ම: ව: කියූ වදන් පිළිබඳව සඳහන් නොවේ. දි. ව. ලියන විට ජනප්‍රවාදයේ තිබූ මෙම වදන් එම කතුවරයා මෙසේ ඇතුලත් කරන්නට ඇත. එසේම මෙම ප්‍රකාශයෙන් සුමිත්ත සිංහපුයේ රජකරන බව විජය දැන සිටි බවද පෙනීයයි.

# 10

ජම්බුදීපයේ පණ්ඩු ශාක්‍යගේ කච්චානා නම් දුවක වූවාය. ඇය ක්‍ෂත්‍රීය වංශය ආරක්‍ෂා කිරීම පිණිස ජම්බුදීපයේ සිට මෙහි පැමිණියාය. මෙසේ මෙහි පැමිණියා වූ ඇය පණ්ඩුවාසුදේව රජුගේ අභිෂේක[1] දිනයේ ඔහුගේ මෙහෙසිය වශයෙන් අභිෂේක ලැබුවාය. ඇය පණ්ඩුවාසු දේව හා එක්ව සිටීම නිසා දරුවන් එකලොස් දෙනෙකු වැදුවාය. ඔවුන්ගේ නම් මෙසේය. අභය; තිස්ස; උත්තිය; තිස්ස; අසේල යන පස් දෙනාත් විභාත; රාම; ශිව; මත්තකලෙන; මත්ත; යන කුමාරවරුද වෙති. මොවුන්ට චිත්‍රා නම් බාල දුවකද වූවාය. ඇය ඉතා ඥණවන්ත තැනැත්තියකි. ඇය දුටු ජනයා රාගයෙන් වෙලී ගියේය. එබැවින් ඇයට උම්මාදචිත්‍රා යයි කියනු ලබයි. මෙම කුමරිය ගැන ඇසූ දීඝායුගේ[2] පුතු (දීඝගාමිණී) කුමාරයා උපතිස්ස ගම්හි පිහිටි මාළිගාවේ පදිංචියට ආවේය.

පණ්ඩුවාසුදේව සම්පූර්නයෙන්ම තිස් වසක් රාජ්‍ය කළේය. මේ කාලයේ දමිතෝදන ගේ මුණුබුරු වූ ශාක්‍යයෝ සත්දෙනෙක් වූහ. මොවුන් ගේ නම් මෙසේය. රාම; තිස්ස; අනුරාධ; මහාලී; දීඝායු; රෝහණ; ගාමිණී; යන සත්දෙනාය. මොවුන් ලෝකනාථයාණන් වහන්සේගේ ශාක්‍යය වංශයේය. පණ්ඩුවාසුදේව රජුගෙන් පසු ඔහුගේ පුත් ක්‍ෂත්‍රීය වංශික

---

1. මඃවඃ ඔහු බිසොවකගෙන් තොරව පළමුව රජවූ බව පවසයි. පසුව ඇය ඉංදියාවේ සිට පැමිණ ගොණගංතොටට පැමිණි බවත් එයින් පසු පණ්ඩුවාසුදේවගේ දෙවන අභිෂේකය පැවැත්වූ බවත් සඳහන්වේ. තවද පණ්ඩුවාසුදේවගේ පැමිණීම පිළිබඳ මෙහි නොදැක්වෙන අතර මඃවඃ 8 වන පරිච්ඡේදයේ දැක්වේ.
2. භද්දකච්චායනාගේ මව ඇය ලක්දිවට පැමිණිබව දැනගත් පසු භද්දකච්චායනාගේ සොහොයුරන් ස දෙනෙක් රාම; උරුවේල; අනුරාධ; විජිත දීඝායු; රෝහණ. යන හයදෙනා ලක්දිවට යාමට පෙළඹවූ බව මඃ වඃ 9වන පරිච්ඡේදයේ දැක්වේ. ඔවුන් පැමිණ ජනපද ඉදිකර ගෙන මෙහි ජීවත්වූ බවද සඳහන්වේ.

අභය[1] රජවිය. එතැන් සිට ඔහු අවුරුදු විස්සක් රාජ්‍යය කළේය. දීඝායුගේ පුත්‍රයෙක් විය. පණ්ඩිතවූ ඔහු ධීරගාමිණී[2] නමින් සඳහන් විය. ඔහු පඬුවස් දෙව් රජුට උපස්ථාන කරමින් සිටින්නේ චිත්‍රා කුමරිය සමග (රහසින්) එක්ව විසීය. එසේ ඇය සමග එක්ව සිට පණ්ඩුකාභය බිහි කළේය. තමා පණ්ඩුකාභය රකිමින් ද්වාරමණ්ඩලයෙහි විසීය[3].

1. දි. ව. පාලි පිටපතෙහි දීඝ ගාමිණීගේ නම සඳහන් වන්නේ ධීරොගාමිණී යනුවෙනි. දීඝගාමිණී තමාගේ ඥාතියා නිසා ආරක්‍ෂාකරගත යුතු බවත් ඔහුට චිත්‍රා පාවාදිය යුතු බවද පණ්ඩුවාසුදේව ආරක්‍ෂාකරගතයුතු බවත් ඔහුට චිත්‍රා පාවාදිය යුතු බවද පන්ඩුවාසුදේව කී බව මඃ වඃ දැක්වේ.
2. මෙයින් පෙනෙන්නේ දීඝගාමිණී ද්වාරමණ්ඩල හෙවත් දෙරමඩලගම දරුවා ආරක්‍ෂා කරමින් සිටි බවයි.
3. මොහු ක්‍රි. පූ. 474 සිට 454 දක්වා බව පෙනේ. මෙම අවදියේ ග්‍රීසියේ සොක්‍රටීස් දර්ශනික අදහස් පහළ කිරීම නිසා ග්‍රීක් පාලකයා ඔහු මාරා දමන ලදී. ඔහුගේ කාලය ක්‍රි. පූ. 469-399 වේ.

# 11.

අභය රජුගේ විසිවන රාජ්‍ය වර්‍ෂය උදාවිය. මේ වනවිට පණ්ඩුකාභය කුමාරයාගේ[1] වයස අවුරුදු විස්සකි. මෙසේ පණ්ඩුකාභය තිස්හත් වියට පිය නැගීය. ඔහු අභිෂේකයට පත්වූයේ මෙම වර්‍ෂයේ දීය. පණ්ඩුකාභය අභය රජුගේ විසිවන රාජ්‍ය වර්‍ෂයේදී හොරෙකු[2] විය. පණ්ඩුකාභය දහහත් වැනි වියෙහිදී[3] තම මාමා වරුන් හත්දෙනා මරා අනුරාධපුරයෙහි අභිෂේක කෙරිනි.[4] පණ්ඩුකාභයගේ රාජ්‍ය කාලයෙන් දසවසක් ඉක්ම ගියේය. මේ වනවිට ද ඔහුට සැට වසක් නොවීය. ග්‍රාම සීමා නියම කරන ලද්දේ මේ කාලයේදීය. එසේම මෙම අවදියේදී විවිධ නගර වීථීන්ද ඉදිකෙරිනි. තවද පණ්ඩුකාභය රජුට උපකාර කරන යක්‍ෂයන් දෙදෙනෙකු සිටියේය. ඔවුන් නොයෙක් දේ පණ්ඩුකාභයට ගෙනැවිත් දෙන ලදී. ඔවුන් මිනිසුන් දෙන දෙයින් යැපිනි. මේ ආකාරයෙන් පණ්ඩුකාභය රජතුමා අවුරුදු 70ක් රාජ්‍ය කළේය. ක්‍ෂත්‍රිය වංශයට අයත් මෙම පණ්ඩුකාභය රජුටද මූටශිව නම් පුතෙකු විය. එම පුත්‍රයාද මහත් ඉසුරුමත් අයෙකු විය. මෙම මූටශිව[5] රජතුමාද අවුරුදු 60ක් ලක්දිව රාජ්‍ය මෙහෙයවන ලදී.

---

1. මොහුගේ නම පාලි කෘතියෙහි සඳහන්වන්නේ පකුණ්ඩක යන නමිනි. මෙහි අර්ථය හොරා යන්නය.
2. මෙහි හොරෙකු යන වචනය භාවිතා කරන්නට ඇත්තේ පණ්ඩුකාභය ගේ සියළු කටයුතු ඉතාරහසිගතව කළ නිසා විය හැකිය.
3. මෙය රිටිගලදී කරන ලද අවසන් යුද්ධය වියහැකිය. පණ්ඩුකාභය රිටිගල අවරුදු 7ක් සිටි බව මඃ වඃ දක්වයි. මෙහිදී යුද්ධ උපක්‍රම ආදිය දක්වන්නට ඇත්තේ අවසන් අවුරුදු 3 දී විය හැකිය.
4. ක්‍රි. පූ. 413 පිතෘඝාතක රජපරපුර අවසානයේ රජවූ ඉංදියාවේ සිසුනාග ගේ රාජ්‍ය වර්‍ෂයයි. මොහුගෙන් මහාපද්ම නන්දරාජ්‍ය පැහැරගන්නා ලදී. නන්දවංශයේ අවසන් රජු මහාධන නන්ද රාජ්‍යකරන විට ඇලෙක්සැන්ඩර් ඉංදියාව ආක්‍රමණ කළේය. ඒ ක්‍රි. පූ. 321 අවදියේය.
5 පණ්ඩුකාභයට ගණතිස්ස නම් තවත් පුතෙකු සිටි බව රාජාවලිය කියයි. ඔහු 13 වසක් රජ කළ බවද කියයි.

මෙම රජතුමාට ඔවුනොවුන් කෙරේ බැඳුනාවූ පුත් කුමරුවෝ දස දෙනෙක් වූහ. අභය, තිස්ස, නාග; උත්තිය; මුත්ත, අභය, මිත්ත, ශිව, අසේල, තිස්ස, යන මොවුන් දස දෙනාය. තවද මුටශිව රජතුමාට දූවරු දෙදෙනකද වූවා. අනුලා කුමරි හා සීවලී කුමරිය යනුවෙන් මෙම දූවරු නම්වෙති.

අජාසත් රජතුමාගේ අටවැනි රාජ්‍ය වර්‍ෂයෙහිදී විජය කුමරු මෙහි පැමිණියේය. (ඉංදියාවේ) උදය රජුගේ දහසය වැනි රාජ්‍ය වර්‍ෂයේ දී විජය රජු මිය ගියේය. පණ්ඩුවාස දේව රජුගේ අභිෂේකය සිදුවූ යේ උදය රජුගේ 17 වන රාජ්‍ය වර්‍ෂයේ දීය. විජය පණ්ඩුවාසුදේව යන රජවරුන් දෙදෙනාගේ රාජ්‍ය කාලයන් අතර අවුරුද්දක්[1] රජ කෙනෙකුගෙන් තොර කාලයකි. නාගදස රජුගේ විසි එක්වැනි රාජ්‍ය වර්‍ෂයේදී පණ්ඩුවාසුදේව රජු මෙහි පැමිණියේය. ඒ නාගදස රජු ජීවත්ව සිටියදීම ඔහුගේ පුත් අභය කුමරු අභිෂේක[2] ලැබීය. මෙසේ ඔවුන් දෙදෙනාට අවුරුදු දාහතක් ද විසිහතරක් ද වූහ. මේ ආකාරයෙන් (කාලය ගෙවී ගොස්) චන්‍ද්‍රගුප්ත රජුගේ අභිෂේකයෙන් දහහත් වැනි රාජ්‍ය වර්‍ෂය එළඹියේය. පණ්ඩුකාභය රජු මිය ගියේ මෙම වර්‍ෂයේදීය. එසේම මෙම වර්‍ෂයේදීම මුටශිව[3] රජු අභිෂේක ලැබීය. (මෙසේ කාලය ගෙවී ගොස්) ධර්‍මාශෝක රජුගේ අභිෂේකයෙන් අවුරුදු දහහතක් ඉක්ම ගියේය. එම අවදියේදී මුටශිව රජතුමා අනුරාධ පුර නගරයේ රාජ්‍ය විචාරමින් සිටියදී මිය ගියේය. මෙසමයේ දී හේමන්ත ඍතුවේ දෙවන මාසයේ උතුම්වූ ඇසල නැකැත් දිනයෙහි[4] දේවා නම් පියතිස්ස[5] ලංකාවේ රජු වශයෙන් අභිෂේක ලැබීය. මෙම අවදියේ දී "ජාත" නම් කඳු පාමුල උණ යෂ්ටි තුනක් පහළ විය. එයින් එකක් "සුදු" යෂ්ටියක් වූ අතර එකක් රන්වන් බවින් යුතු විය. රන්වන් පාට හා සමානවූ අනෙක් "කාංචන" යෂ්ටි නම් විය. ඒ මතින් මනාසේ ලතා ලකුණු

---

1. මෙම අවුරුද්ද උපතිස්ස ඇමති රාජ්‍යානුශාසනා කළ බව ම: ව: දැක්වේ.
2. පියා සිටියදීම යුව රජුවශයෙන් අභිෂේක ලද බව ම: ව: දැක්වේ.
3. මෞර්‍ය චන්‍ද්‍රගුප්ත ක්‍රි. පූ. 324 රජවූ බව ඉතිහාසඥයන්ගේ මතයයි.
4. ම: ව: මෙම දිනය දක්වා නැත
5. ඔහු දේවානම් පියතිස්ස වූයේ අශෝකගේ පඬුරු ලැබ දෙවන වරට අභිෂේක වීමෙන් පසුව බව දැක්වේ.

පිළිබිඹු විය. සමහර යෂ්ඨීන්හි නීල, පීත, ඕදාත යන වර්ණයන්ගෙන් සමන්විත විය. මනාව වැඩුනා වූ එම යෂ්ඨීන්හි කළුවූ මල් සටහන් විද්‍යාමාන විය. එබඳු වූ පුෂ්ප යෂ්ටියෙන් ද විවිධ වර්ණයන්ගෙන් සමන්විත වූ පක්ෂී සමූහයා දෘෂ්‍ය මාන වේ. එම වනසංචිතයෙහිම දවිජ යෂ්ටියද පහළවිය. තව ද මෙම කාලයේදී හයමුතු, ගජමුතු, රථමුතු, හා වලයාකාරමුතු, ද අංගුලිරේඛා මුතුද, (ඇඟිලිලේඛ බඳු මුතු) කුඹුක් ගෙඩි මුතු (කුඹුක් ගෙඩි හා සමාන මුතු) ප්‍රකෘති මුතු, ද ආමලක මුතු, ද (නෙල්ලිගෙඩි හා සමාන) යන මුතු අටවර්ගය රළ වේගයෙන් මුහුදු වෙරළට පැමිණියේය. මේ සියල්ල ලැබුණේ දේවානම් පියතිස්ස රජුගේ රාජ්‍යාභිෂේකයේ අනුභාව මහිමයෙනි. තවද මලය ජනපදයෙන්[1] විටිනා මැණික් ගල් තුනක් ගෙන එන ලදී. දේවානම් පියතිස්ස රජුගේ පුණ්‍ය බලමහිමය නිසා ඔහුගේ රාජ්‍යාභිෂේකයෙන් සතියක් ඇතුලත මේවා පහළ විය.

ජාතපවීත පාදයෙන් උණ යෂ්ඨි තුනක් ද මුහුදෙන් මුතු වර්ග අටක් ද කඳුරටින් උතුම්වූ මැණික් ගල් තුනක් ද ගෙන එන ලදී. දෙවන පැතිස් රජතුමා මෙවැනි අගනා උණ යෂ්ඨි, මුතු හා රත්න වර්ග ද එසේම කිසිවකට සමාන නොවූ දුර්ලභ ගණයේ මැණික් තුන ද දැක සතුටු සිත් ඇතිව මෙසේ කීවේය.

> "මම උතුම් වූ මව්පිය දෙපාර්ශවයෙන් උපන් උසස් වංශවත් රජ කෙනෙකු වෙමි. මට මෙසේ දහස් ගනන් වටිනා සම්පත් පහළ වූයේ මා විසින් පෙර කරන ලද කුශලයන්ගේ විපා වශයෙනි."

දේවානම් පියතිස්ස රජතුමා විසින් පෙර ආත්මයෙහි කරන ලද කුශලයන්ගේ ප්‍රතිඵලයන් මනාසේ ලබන ලදී. මේ ලෝකයේ අන්කවරෙක් නම් මෙබඳු සැපතක් ලබන්ට සමත්වේද?

> "මාගේ දියුණුවට මුල්වූ බුද්ධාදී රත්නත්‍රයෙන් වෙන්ව අකුසල් ගාමීව ජීවත්වීම මට නොවටී."

යනුවෙන්ද රජු සිතීය.

---

1. මෙකල මලයදේශයේ ජනපදයක් තිබූ බව පෙනේ. පසුකාලයේ දුටුගැමුණු සැඟවී සිටියේ මෙහිය.

"ඒ නිසා මාගේ මව්පියෝද සහෝදරයෝද, ඥාති මිත්‍රාදීහුද, ධර්මයෙන් වෙන් වීමට සුදුස්සෝ නොවෙතියි.

දෙවනපෑතිස් රජ මෙසේ සිතමින් අශෝක රජු ගැන සිහි කළේය. දේවානම් පියතිස්ස රජතුමා හා ධර්මාශෝක රජතුමා යන ඥානවන්ත රජවරු දෙදෙනා ඉතා දැඩිසේ ඔවුනොවුන් කෙරේ භක්තියෙන් බැඳුනාවූ නොදුටු කල්‍යාණ මිත්‍රයෝ වූහ. ඒ දෙවන පෑතිස් රජතුමා මෙසේද සිතීය.

"මාගේ ප්‍රිය සහායක වූ සියළු යස ඉසුරින් පිරි පින්වත් ධර්මාශෝක රජතුමා දඹදිව ඇත. දිවිහිමියෙන් ඔහු මාගේ මිත්‍රයා වෙයි. ඒ මාගේ ප්‍රිය සහායකවූ ධර්මාශෝක රජු විසින් එවන ලද බුද්ධාදී රත්නත්‍රය මා විසින් පිළිගැනීමට සුදුසුය. එසේ හෙයින් මම ද ඒ සැපත ලබන්නට සුදුසු වෙමි."

මෙසේ කල්පනා කොට ඔහු ඇමතියන් ඇමතීය.

"වහා නැගී සිටින්න. මේ රත්න සමූහයගෙන ගොස් මාගේ ප්‍රිය මිත්‍ර වූ ධර්මාශෝක රජුට දී (පඬුරුවශයෙන් දී) රජුගෙන් උතුම් වූ රත්නත්‍රය ඉල්ලන්න."

යයි කියා මහා අරිට්ඨ ඇමතිවරයාද "සාල" බමුණාද, "පර්වත" නම් අනෙක් ඇමතිවරයෙකුද පුත්‍රවූ "තිස්ස" නම් ගණකාමාත්‍ය වරයාද යන මේ සතර දෙනා[1] පිටත්කර යැවීය. දේවානම් පියතිස්ස රජතුමා විසින් බබලන්නාවූ මහඟු මාණික්‍යයන් තුනද මුතු වර්ග සහ උණ යෂ්ටි තුනද උතුම් වූ දක්ෂිණාවෘත්ත සංඛ්‍යද, තවත් බොහෝ රත්නයන්ද සපිරිවර සහිතව ධර්මාශෝක රජු වෙත යවන ලදී.

ඒ ක්ෂත්‍රිය වූ අශෝක රජතුමා ඒ සියල්ල පිළිගෙන පුත්‍රවූ තිස්ස නම් ගණකාමාත්‍ය වරයා අත ඡත්‍රය චාමරය, දක්ෂිණසංඛ වෘත්තය; හිස් වෙළුම හා කන් පළඳනාද ගංගා නම් ගඟේ ජලය

1. ම: ව: දැක්වෙන්නේ මහාරිට්ඨ ඇමති ප්‍රධාන බමුණු ඇමති, ගණකයන තිදෙනෙක් යැවූ බවය. ම: ව: ටීකාවේ ඒ අයගේ නම් වශයෙන් කාලිපබ්බත, තේල, තිස්ස, යන තිදෙනෙකුගේ නම් පෙන්වා ඇත.

සහිත කෙන්ඩියද, හග්ගෙඩිය, නන්දියාවට්ටය, වඩ්ඩමානකය ආදී රාජ්‍යාභිසේකය සඳහා වූ අවශ්‍ය දෑ එවීය. එපමණක් ද නොව ඉතා වටිනා නොසේදිය යුතු වශ්ත්‍ර යුවලක්ද[1] උතුම් වූ අත්පිස්නාවක්ද එවීය. තවද ඉතා වටිනා සඳුන් අරටුද, අරුණුවන් මැටිද, බෙහෙත් අරළුද, නෙල්ලි යන මේවාද සහිතව හසුන් පතක් ද ආපසු එවීය.

දක්ෂිනායකීන් අතුරෙන් බුදුරාජණන් වහන්සේ හා රහතුන් වහන්සේලාද විසින් දේශනා කර ලද ශ්‍රේෂ්ඨ ධර්මයද, පින්කෙත් බඳු මහා සංඝ රත්නයද දෙවියන් සහිත ලෝකයේ උතුම්ය. ඒ නිසා ලංකා දීපයේ රජවූ මම ද උතුම්වූ ආයකීන් වඳින්නෙමි,යි වැද්දේය. ඒ දූතයෝ සිව්දෙන පස්මසක් එහි වාසය කළහ.[2] එසේ වාසය කොට පැමිණියාවූ එම පිරිස ධර්මාශෝක රජු විසින් එවන ලද පඬුරුත් රැගෙන අභිෂේකයට එවන ලද පිරිසත් සමග වෙසක් මස දොළොස් වන දින දඹදිවින් මෙහි පැමිණියහ. මෙයින් පසු වෙසක් මස පුර පසලොස්වක දිනයෙහි දෙවන පැතිස් රජුගේ දෙවන අභිෂේකය සිදුවිය. මෙයින් තෙමසක් ඉක්මිණි. එයින් පසු පැමිණියාවූ ඇසල මස පුර පසලොස්වක දිනයේ මහාමහින්ද තෙරුන් වහන්සේ ඇතුළු හත් දෙනෙක් වූ[3] බෞද්ධ දූත පිරිස දඹදිවින් මෙහි ආවාහුය.

---

1. ම: ව: සඳහන්වන්නේ කෙලක් වස්ත්‍ර එවූ බවය. තවද කුමාරිකා ඔසුපසෂීන්, ඇල්හාල් ආදී විවිධ දේද එවූ බව ම: ව: දක්වා ඇත. එසේම සසුනෙහි තිබූ දෑද ම: ව: දක්වා ඇත.
2. දඹකොළපටුනින් ගමණ ඇරඹුවත් මුදුගමන දින 7කුත් ගොඩබිම ගමනට දින 7කුත් ගතවූ බවත්, තාමුලිප්තියෙන් ආපසු ඒමේදී පැමිණි දඹකොළ පටුනට පැමිණි බවත් දැක්වේ.(ම:ව:11 පරි)
3. ම: ව: එම දූත පිරිසේ සිටි 7 දෙනා නම් වශයෙන් දක්වා ඇත.

# 12

ධර්මාශෝක රජතුමා දෙවන පෑතිස් රජතුමා වෙත එවන ලද පඬුරු මෙසේය. උතුම් වූ වල්විදුනාව. රන්වන් නලල් පටය. මඟුල් කඩුව; සුදු කුඩය; රන්මය වූ පාවහන් සඟල; හිස්වෙළුම, ඉතේ දවටන රන්මය වූ හවඩිය; රන්කොතලය; නන්දිවෘත්තය; රන්සිවිය; අභිෂේකය සඳහා ගන්නාවූ ගංගා නම් ගඟේ ජලය. දක්ෂිණාවෘත්ත සංඛය හෙවත් දකුණට කැරකුන හක්ගෙඩිය; උතුම් වස්ත්‍රය; රන්තලිය; හා රන්හැන්ද, අත්පිස්නා; හා පිළිකුඩය; අනෝතත්ත විලේ ජලය; හිමාලය පර්වතයේ හට ගන්නා, රත් සඳුන්; අරනුවන් මැටි; දිව්‍යඅඳුන්; හිමාලයේ හටගන්නා අරළු, හිමාලයේ නෙල්ලි හා වටිනා දිව්‍ය ඖෂධ; අමු ඉඟුරු; හිමාලය පර්වතයෙන් ගිරවුන් විසින් ගෙන එන ලද සුවඳ රත්හැල් ගැල් සීයක් ද[1] මේවා ධර්මාශෝක රජුගේ පෙරපිං බලයෙන් උපදින ලද්දේය. දෙවන පෑතිස් රජතුමාට ධර්මාශෝක රජතුමා විසින් පඬුරු එවන ලදී. තවද එම ධර්මාශෝක රජතුමා විසින් මෙසේද කියා එවන ලදී.

"අසල්වැසි රජතුමනි; මම බුදුරජාණන් වහන්සේද උන්වහන්සේගේ ධර්මයද, සංඝයා වහන්සේද සරණ ගියෙමි. මම බුදුරජාණන් වහන්සේගේ ශාසනයෙහි උපාසකයෙකුද වෙමි. මෙම බුද්ධ, ධම්ම, සංඝ, යන ත්‍රිවිධ රත්නය කෙරෙහි ඔබද සිත පහදවනු මැනවි. ඔබගේ සිතද එම සසුන වෙත යොමු කෙරේවා."

මහා කීර්තිමත් ධර්මශෝක රජතුමා ලංකාවෙන් ගිය දූතපිරිසට මෙකී පුදපඬුරු දී දෙවනපෑතිස් රජතුමා වෙත එව්ය.[2]

---

1. ම: වංශයේ මෙය අමුණු හයදහක් යනුවෙන් දක්වා ඇත.
2. ම: වංශයේ නැවත බෞද්ධයෙකු ලෙස අභිෂේකය කරන ලෙස ඉල්ලූ බවත් දූත පිරිස තාමු ලිප්තියෙන් නැව් නැගී දඹකොළ පටුනට පැමිණි බවත් දෙවනපෑතිස් රජු නැවත වෙසක් මස පුරපසළොස්වක්දින අභිෂේක කළ බවත් දැක්වේ.

එම අවදියෙහි අශෝකාරාමයෙහි වැඩවාසය කලාවූ ඍද්ධිමත් තෙරණුවන් වහන්සේලා. ලක්දිව වැසියන් කෙරේ අනුකම්පාවෙන් මිහිඳු මහතෙරනුවන්ට මෙසේ වදළාහුය.

"මෙම අවදිය ලංකාවේ ශාසනය පිහිටුවීමට සුදුසු කාලයයි. මහා පින්වතාණන් වහන්ස: ඔබ වහන්සේ ලංකාදීපයට වඩින සේක්වා. එසේ වැඩමවා ලක්දිවි වාසීන් ධර්‍මයෙන් පහදවන සේක්වා."[1]

පණ්ඩිත වේදනීයවූ බොහෝ ඇසූපිරූතැන් ඇති, ලක්දිව බබලවන්නාවූ ඒ මහින්දමහා තෙරුන් වහන්සේ ඒ මහාසංඝයාගේ වචනය පිළිගෙන ස්වකීය පිරිසත් සමග වඩින බව පිළිගත්සේක. එකල්හි ඒ මහින්ද මහා තෙරණුවෝ එම මහා සංඝයා වහන්සේලාට සිවුරු ඒකාංශකොට දෙහොත් මුදුන්දී ඇදිලිදිබැඳ වැඳ ලක්දිවට වඩිමියි කීහ. එකල්හි ලංකාදීපයට වැඩියාවූ දූත පිරිසෙහි ප්‍රධානියා වූසේක්, මහින්ද මහා තෙරණුවෝය. ෂඩ්භිඥලාභි ඉට්ඨිය තෙරණුවන්ද, උත්තිය, සම්භල, භද්දසාල යන තෙරවරුන්ද; මහත් ඍද්ධිමත් සුමණ සාමනේරයන් වහන්සේ ද ආදී කොට ඇති මෙම මහාස්ථවිරයන් වහන්සේලා එම අශෝකාරාමයෙන් නික්ම ගම් නියම්ගම් පසු කරමින් අනු පිළිවෙලින් වේදිස ගිරියට වැඩියාහුය. එහි උන්වහන්සේලා උන්වහන්සේලාට අවශ්‍ය තරම් කාලයක් වැඩ විසූ සේක. එහිදී මිහිඳු මහා රහතන් වහන්සේ තම මව් දේවියට අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කොට ඇය තිසරණ පන්සිල් සහිත අෂ්ඨාංගික ශීලයෙහි පිහිටවූ සේක. හෙළදිවි වැසියන් ධර්මයෙහි පිහිටුවන ලද්දේ මෙයින් අනතුරුවය.

එදින සවස් යාමයෙහි (මව්බිසව අටසිල්හි පිහිටවූ දින) ධ්‍යානයෙන් නැගී සිටි ඒ මහාසන නායකවූ මහින්ද මහා තෙරුන් වහන්සේ ස්වකීය මනස සමාහිත කොට පිහිටුවා ගණිමින් මේ ලක්දිවට වැඩීමට කල් නොකල් දැයි මෙනෙහි කළ සේක. එම

1. ම: ව: සඳහන් වන්නේ සංඝයාගේ ඇරයුම පිට මිහිඳු හිමියන් ලක්දිවට පැමිණීමට සුදුසු කාලය පරීක්ෂා කරමින් සිටි මුටශිව රජුගේ කාලය අවසන් වනතෙක් බලා උපාධ්‍යාය මොග්ගලීපුත්ත තිස්ස හිමියන්ගෙන් අවසර ගෙන ලක්දිවට පැමිණීමට පෙර පියරජුගෙන්ද අවසර ගෙන සුමණ සාමනේරයන්ද සමග දකඛිණගිරි ජනපදයට හා මව වසන වේදිස ගිරියට වැඩි බවයි. (ම: ව: 13 පරි.)

අටස්ථාවෙහි සක්දෙව්රජ තෙරණුවන්ගේ අදහස දැන උන්වහන්සේ සමීපයෙහි පහළවී උන්වහන්සේට මෙසේ ආයාචනා කළේය.

"මහා වීරයන් වහන්ස මේ ඔබට ලංකාදීප වාසීන් පැහැද වීමට කාලයයි. එහි සත්තවයන් කෙරෙහි අනුකම්පාව උපදවා උතුම් වූ එම සිරි ලක්දිවයිනට වඩින්න. එහි සත්ත්වයන්ට ධර්මය දේශනා කරන්න. චතුරාර්ය සත්‍යය ප්‍රකාශ කරන්න. එහි සත්වයන් සංසාර බැම්මෙන් මුදවාලන්න. තතාගථ සම්මා සම්බුදු රජාණන් වහන්සේගේ ශාසනය ලක්දිව් තලයෙහි බබුලුවාලන්න."[1]

එම ශ්‍රේෂ්ඨ වූ අප තථාගත බුදුරජාණන් වහන්සේ විසින් මෙම කාරණය දේශනා කරන ලදී. එසේම එය භික්ෂු සංඝයා විසින්ද සම්මත කරන ලද්දේය. තවද

"ඔබ වහන්සේ ලංකා දීපයට වඩින්නේ නම් එම ගමනේදී මම සියළු වත්පිළිවෙත් හා උපස්ථානද කරන්නෙමි. අන් සියලු කටයුතුත් කර දෙන්නෙමි. එහෙයින් මෙම කාලය ඔබ වහන්සේ විසින් ලක්දිවට වැඩිය යුතු කාලයයි."

ලක්දිව බබුලුවාලන්නාවූ මහා මහින්ද තෙරුන්වහන්සේ ශක්‍රයාගේ වචන අසා මෙසේ සිතුසේක.

"මම බුදු රජාණන් වහන්සේ විසින් අනු දක්නා ලද්දේ වෙමි. එසේ හෙයින්ම බුදු රජාණන් වහන්සේගේ ශිෂ්‍ය රත්නයන් වූ භික්ෂු සංඝයා වහන්සේ විසින්ද එම අනු දැනුම සම්මත කරන ලද්දේද වෙමි. දැන් ශක්‍ර දිව්‍ය රාජයාද මට ආයාචනා කරන ලදී. මම ලක්දිව් තලයෙහි බුද්ධ ශාසනය පිහිටුවාලන්නෙමි. ලංකාදිපවාසී ජනතාවද ධර්මාවබෝධයට සමර්ථයෝය. එම නිසා මම ලංකාදීපයටම යන්නෙමි.[2] සියලු සසර දුක් නැති කරන්නාවූ යහපත් සේ වචන කතා කරන්නා වූ ඒ ලක්දිව් වැසියෝ දැනට ධර්ම මාර්ගයක් නොලබති. එනිසා මම ලක්දිවට වැඩ ඔවුන්ට ධර්ම දේශනා කරන්නෙමි."

---

1. මෙපමණ විස්තරයක් මහා වංශයේ දක්නට නැත. එහි ඇත්තේ "අපිදූ ඊට උපකාර කරන්නෙමු යන්නය.
2. මහා වංශයේ මෙවැනි විස්තරයක් දක්නට නැත.

මෙසේ සිතුවාවූ ඒ අශෝක රජුගේ පුත්‍ර මහා මහින්ද තෙරුන් වහන්සේ ලංකාවට වැඩිය යුතු කාලය මේ යයි සලකා ස්වකීය පිරිස ඇමතූසේක. ඒ මහින්ද තෙරණුවෝ එම පිරිසේ නායකයානෝ වූහ. උන් වහන්සේ හා සමාන උපාද්‍යායයන් වහන්සේලා සිව් දෙනෙකුද සුමන සාමනේරයන් වහන්සේද හන්ඩුක[1] උපාසක තැනද යන ෂඩ් අභිඥ්ඥ ලාබී සයදෙන වහන්සේ හට මෙසේ වදාල සේක.

"අද අපි බෙහෝ ජනී ජනයාගෙන් සැදුම් ලද්දාවූ උතුම් වූ ලක්දිවට යන්නෙමු. එහි වෙසෙන බොහෝ ජනයා පහදවා, එහි තතාගත බුදු රජාණන් වහන්සේගේ ශාසනයද පිහිටුවන්නෙමු."

එම කරුණු ඇසූ එම පිරිසේ සියල්ලෝම එය යහපතැයි කියා පිළි ගත්හ. මෙම අවස්ථාවේදී වාසවින්ද නම් වූ ශක්‍ර දිව්‍ය රාජයා මහත්සේ සතුටු වූයේය. එසේම ඵල සමාපත්තියට සම වැදුනාවූ ඒ මහින්ද මහා තෙරුන් වහන්සේ ඉදිරියේ පෙනී සිටි. ශක්‍ර දිව්‍ය රාජයා, මෙසේ ආයාචනා කළේය.

"ස්වාමිනි මේ ලක්දිව මිස්සක පව්වට වැඩම වීමට සුදුසු කාලයයි. ලක්දිව රජතුමාද අද මුව දඩයම පිනිස මිස්සක පව්වට පිටත්ව යයි."

ඒ මහින්ද මහා තෙරුන් වහන්සේ ඒ වේදිසගිරි නම් විහාරයෙහි තිස් රැයක් වැඩ වාසයකොට ස්වකීයයන් අමතා මෙසේ වදාල සේක.

"දැන් උතුම් වූ ලංකාදිප ගමනට සුදුසු කාලය පැමිණ ඇත. දැන් අපි පිටත්ව යමු."

මෙසේ දඹදිවින් පිටත්වූ එම තෙරුන් වහන්සේලා අහස් කුසට නැංගාවූ හංසයන්සේ අහසින් අවුත් උතුම් වූ ලක්දිවට වැඩියාහුය. ඒ තෙරුන් වහන්සේලා අනුරාධපුරයට පෙරදිගින්

---

1. මෙම හන්ඩුක කුමාරයා සිය මව් බිසවගේ සොහොයුරියකගේ පුතකු බවත් මිහිඳු හිමි මවට දේශනා කළ ධර්මය අසා අනාගාමී ඵලයට පැමිණ මිහිඳුමහ රහතන් වහන්සේ ළඟම වාසය කළබව මහාවංශයේ දක්වා ඇත.

පිහිටි නිල්වන් වළාකුලක් බඳු වූ මිස්සක පර්වත මුදුනට පැමිණි හංසයන්[1] මෙන් එහි සිටියාහුය.

එකල්හි එසේ පැමිණි තෙරුන් වහන්සේලා අතර මහා මහින්ද නම් සංඝ පීතෘවරයාණන් වහන්සේ නමක් වූහ. උන්වහන්සේ සමග පැමිණි, ඉට්ඨිය, උත්තිය, බද්ධසාල, සම්බල යන ස්ථවිරයන් වහන්සේලාද සුමණ සාමණේරයන් ඇතුළු හිමිවරුන්ද, භණ්ඩුක උපාසක තුමාද යන මේ සෘද්ධිමත්හු සියළු දෙනා ලක්දිව් වැසියන් ගේ සිත් පහද වන්නෝ වූහ. සපිරිවරින් සමන්විතව දඹදිවින් අහසට වන් මිහිඳු මහරහතන් වහන්සේ අහසින් ගමන් ගන්නා හංසයකු මෙන් වූ සේක. එසේම උතුම්වූ ඒ තෙරනුවෝ අනුරපුරයට පෙරදිගින් අහසෙහි බබලන වලාකුලක් මෙන්ද, හංසරාජයෙකු මෙන්ද සිටියහ.[2] එසමයෙහි ලක්දිව් අධිපති රජතුමා වූයේ මුටසිව රජුගේ පුත් දේවානම් පියතිස්සයන්ය. මේ වන විට ඔහුට ධර්මාශෝක රජතුමාගේ අභිෂේකයෙන් අවුරුදු දහ අටක් ගතවී තිබුණි.[3] මෙයින් පසු දෙවන පෑතිස් රජතුමාගේ අභිශේකයෙන් සත් මසක් ඉක්ම ගිය කල්හි මිහිඳු මහ තෙරුන්වහන්සේගේ උපසම්පදවෙන් දොළොස්වෙනි අවුරුද්දේ මිහිඳුමහ තෙරුන් වහන්සේ ලක්දිවට වැඩිසේක. උන්වහන්සේ මෙසේ ලක්දිවට වැඩියේ කිනම් සෘතුවකද? කිනම් මාසයකද?

ග්‍රීෂ්ම සෘතුවේ අවසන් මාසයේ එනම් පොසොන් මස පුර පසළොස්වක දින උන්වහන්සේ වැඩිසේක. ඒ සනාචාර්ය වූ මිහිඳු මහරහතන් වහන්සේ මිහින්තලා පව්වට වැඩිසේක. එදින අවුත් මිස්සක පව්වට පැමිණියේය. එම අවස්ථාවේ ගෝන වෙස් ගත්

1. මෙහි හංස උපමාව ගෙන ඇත්තේ යථාර්තවාදී බුදුදහමේ සංඛේතය වශයෙන් සූත්‍ර දේශනාවල හංසයා දක්වා ඇති නිසාත් පිරිසිදු බවේ සංඛේතය වශයෙන් සමස්ත සමාජය තුල පිළිගෙන තිබූ නිසාත් විය හැකිය.
2. මිහිඳු මහ රහතන් වහන්සේ ලක්දිවට පැමිණීමට පෙර වේදිස ගිරියෙහි මාසයක් වැඩසිටි බව මහා වංශයේ දක්වා තිබේ. එසේම මිහිඳු හිමියන් ලක්දිවට වඩින බව බුදුන් වහන්සේ දක්වා තිබූ බවද එහි සඳහන් වේ.
3. කාශ්මීරය මෞර්ය අධි රාජ්‍යයට ඇතුළු වූ අතර මධ්‍ය ආසියාවේ බෝටාන්ද ඉන්දියාවට අයත් වූ අතර වෙනත් බාහිර රාජ්‍යය රාශියක්ද මෞර්ය අධිරාජ්‍යයට එක්ව තිබූ බව තිබ්බත හා ග්‍රීක් වාර්තාවල දැක්වේ. කෙසේ වෙතත් ඇසෑමය බුරුමය වැනි රාජ්‍යයන් හා පැවති සම්බන්ධතාවයට සමාන සම්බන්ධ කමක් ලංකාව අතරද පවතින්නට ඇත.

දෙවියෙකු රජු ඉදිරියේ පෙනී සිටියේය. එම අවස්ථාවේ රජතුමා ගෝනෙකු පමණ වූ එම මුවා දැක මුවා ඇල්ලීම පිණිස ඉතා වේගයෙන් දිව ගියේය. රජුමුවා පසු පසින් පැමිණ පර්වතයේ මැදට පැමිණියේය. ඒ මුව රූපයගත් දෙවියා තෙරුන් වහන්සේ සමීපයට දුවගොස් එහිම අතුරුදහන් විය. එම අවස්ථාවේ දෙවනපෑතිස් රජතුමා එහි වැඩිසිටියාවූ තෙරුන් වහන්සේ දුටුවේය. ඒ අවස්ථාවේදී රජතුමා එහි එසේ සිටින්නේ යකෙකු යයි බිය විය. තෙරුන් වහන්සේ එම අවස්ථාවේ මෙසේ සිතුසේක.

"රජු කිසිවෙකින් බිය නොවේවා. මමම දකිම්වා. එයින් පසු රජතුමාගේ බල පිරිස පැමිණි කල්හි ඔවුන්ට මා සමග සිටින භික්ෂූන්ගේ දැකීම සිදුවේවා."

ක්ෂත්‍රිය වංශික ඒ දෙවනපෑතිස් රජතුමා අපැහැදුන සිතින් මුව දඩයම සඳහා ඇවිදින්නේ මිහින්තලා පර්වතයේදී මිහිඳුමහ රහතන් වහන්සේ දුටුවේය. මහා මහින්ද තෙරුන් වහන්සේ ඔහුට නම කියා කථාකළ[1] සේක. මිහිඳු මහ තෙරුන් වහන්සේ

"එන්න, තිස්ස" යයි කියන ලදී.

රජුට එම අවස්ථාවේ මෙසේ සිත්විය.

"සහල සිවුරක් පොරවා කසාවතක් ඇන්දවූ ද හිස මුඩුකළා වූ ද මේ තැනැත්තා කවරෙක්ද? දෙවැන්නෙකු නැති මොහු මිනිසුන් විසින් නොකියන ලද වචනයක් මට කියයි."

එම අවස්ථාවේ ඒ මහින්ද මහා තෙරුන් වහන්සේ රජුට මෙසේ කී සේක.

"මහරජ! අපි ධර්මරාජයාණන් වහන්සේගේ ශ්‍රාවකවූ ශ්‍රමණයෝ වෙමු. ඔබ කෙරෙහිම අනුකම්පා උපදවා මෙහි පැමිණියෙමු."

1. මිහිඳු හිමියන් උවමනාවෙන්ම තමන් වහන්සේ පමණක් පෙනෙන්ට සැලසූ බවත් "තිස්ස තිස්ස" යැයි කීවිට යක්ෂයෙකැයි සිතා වඩාත් බියට පත්වූ බවත් මඃ වඃ 14 පරිඃ දැක්වේ. එසේම ධර්මරාජයන් වහන්සේගේ ශ්‍රාවකයන් යැයි කී කල්හි අශෝක රජු තමාට ප්‍රථමයෙන් එවන ලද ලිපියද මතක් වූ බව දක්වා තිබේ.

මෙසේ කී කල්හි රජතුමා ආයුධ බිමදමා එකත් පසෙකටවී සිටියේය. රජතුමා එසේ සිට තෙරුන් වහන්සේ සමග බොහෝ අර්ථවත්දේ කථා කළේය. තෙරුන්වහන්සේගේ වචන අසා පසුව ආයුධබිම තැබූ රජතුමා උන්වහන්සේගේ සමීපයට ගොස් කථාකොට ඉඳ ගත්තේය. අනතුරුව ක්‍රමයෙන් ස්වකීය බලසෙනගද ඇමතියෝ ද පැමිණියහ. මෙසේ හතලිස් දහසක්[1] පමණ තෙරුන් පිරිවරා ගත්හ.

එසේ පැමිණියාවූ රජුගේ පිරිස තෙරවරුන් දැක

"ස්වාමීනි: තවත් බුද්ධශ්‍රාවකයින් වහන්සේලා දඹදිව ඇද්දැයි පිළිවිසීය.

මෙවිට තෙරුන් වහන්සේ

"මහරජ: ත්‍රිවිද්‍යාවන්හි කෙළවරට පැමිණායාවූ එසේම මහා ඍද්ධිබල ඇත්තාවූ පරසිත් දැන ගැනීමේ හැකියාවක් ඇත්තාවූ කාමාදී ආශ්‍රවයන් දුරු කලාවූ ඉතා දක්‍ෂ වූ බොහෝ බුද්ධ ශ්‍රාවකයන් වහන්සේලා දඹදිව ඇත." යනුවෙන් තෙරුන් වහන්සේ වදාළ සේක.

මහින්ද තෙරණුවෝ මෙයින් පසු අඹ උපමා කථාවෙන්[2] රජු පණ්ඩිතයෙකැයි දැනගත්හ. එහිදී තෙරුන් වහන්සේ චූලහත්ථිපදෙපම සූත්‍රයෙන් දහම් දෙසූ සේක. ඒ උතුම් ධර්මදේශනාව ශ්‍රද්ධා බුද්ධි සම්පන්න ජනතාව ඇසීය. ඒ ධර්මය ඇසූ හතලිස් දහසක් පමණ ජාතීහු[3] තෙරුවන් සරණ ගියාහුය. එයින් පසු රජතුමා මහත්සේ සතුටු වූයේය. ප්‍රමුදිත මනසින්ද යුක්තවූ යේය. රජතුමා අනුරාධපුරයට

1. 40,000 ක පිරිවරක් පිළිබඳව මඃ වඃ නොදැක්වේ. කෙසේ වෙතත් මෙම යුගය වනවිට සැලකිය යුතු බලසේනාවක් සිටි බව පෙනී යයි. පණ්ඩුකාභය සංවිධිත ලෙස බලසේනාවක් මෙහෙයවූ බව පෙනී යන හෙයින් පසුව මුඨශිව එය වඩාත් සංවිධාන කරන්නට ඇති අතර දේවානම් පියතිස්ස එය වඩාත් දියුණු කරන්නට ඇතැයි සිතාගත හැකිය.
2. මඃ වඃ 14 පරි. රජුගෙන් තෙරුන් වහන්සේ අසන ලද ප්‍රශ්න හා රජුගේ පිළිතුරු දක්වා තිබේ. එසේම දේශනා කරන ලද විවිධ සූත්‍ර හා වෙනත් සවිස්තර තොරතුරු දැක්වේ.
3. රජුගේ හමුදාවේ හතලිස් දහසක් සිටි බව පළමුව සඳහන්විය. මේ අනුව ඔවුන් විවිධ ජාතීන්ගෙන් සමන්විත වූ බව පෙනී යයි. මොවුන් යක්‍ෂ නාග හා ද්‍රවිඪ යන අයගෙන්ද සමන්විත වන්නට ඇත.

වඩින ලෙස භික්ෂු සංඝයාට ආරාධනා කළේය. මිහිඳුමහ රහතන් වහන්සේ මේ ආකාරයෙන් මනා පැවතුම් ඇති, එසේම බලවාහන ඇති ඥාණ සම්පන්න වූ පණ්ඩිත මානීවූ දෙවනපෑතිස් රජතුමා පැහැදවූ සේක.

මහින්ද තෙරනුවෝ රජුගේ වචන අසා මෙසේ වදළහ.

"මහරජ: තොප යන්න අප මෙහි ඉන්නේමු."

ලංකාව ආලෝකමත් කරන්නාවූ ඒ මහින්ද මහා තෙරුන්වහන්සේ රජුට පිටත්වීමට සලස්වා භණ්ඩුක උපාසක තෙම මහණ කරන්නෙමුයි, භික්ෂු සංඝයා ඇමතූ සේක. සියල්ලෝ මහාමහින්ද තෙරුන් වහන්සේගේ වචන කෙරෙහි අවධානය යොමු කළහ. එම භික්ෂූන් වහන්සේලා මෙම අවස්ථාවේදී ඉතා ඉක්මනින් ගම් සීමාව විමසා දැන[1] එහිදී භණ්ඩුක කුමරුගේ පැවිද්ද හා උපසම්පදව කර නිම කලාහුය.[2] ඒ තෙරුන් වහන්සේ එම අවස්ථාවෙහිදීම අරහත්වයටද පැමිණි සේක. මෙම අවස්ථාවේදී දේවානම් පියතිස්ස රජතුමා විසින් තම රාජකීය රථය තෙරුන්වහන්සේලාට නගරයට වැඩීම සඳහා එවා තිබුනි. එම අවස්ථාවේ මිහින්තලා පර්වතයේ සිටි මහා මහින්ද ස්ථවිරයන් වහන්සේ රථාචාර්‍ය වරයාට මෙසේ කී සේක.

> "රථාචාර්‍ය වරය: අපට නගරයට යාම සඳහා වාහන අවශ්‍යය නැත. එය අපට කැප නොවයි. අප තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ නීරෝගී අවස්ථාවන්හිදී එසේ නොකරන්නැයි, අනුදැන වදරා ඇතැයි"[3]

රියදුරු තැන පිටත්කර යවා මහත් බල ඇති මහින්ද මහාතෙරුන් වහන්සේ නැවතුන සේක. එයින් පසු උන් වහන්සේලා

---

1. ගම් සීමාවේ පැවිදි උපසම්පදව කල යුතුබව භික්ෂු විනය සංග්‍රහයේ පැවති බව මෙයින් පෙනේ. මෙය ම: ව: සඳහන් වී නැත.
2. ම: ව: සුමණසාමනේරයන් වහන්සේගේ කාලඝෝෂාව පිළිබඳවත් දෙවියන්ට සමචිත්ත දේශනාව කිරීම පිළිබඳවත් දැක්වෙන අතර විවිධ බෞද්ධ කටයුතු පිළිබඳව සඳහන් වේ.
3. භික්ෂු විනය හා සම්බන්ධ මෙම සටහන මහා වංශයේ දක්නට නොලැබේ. විනය පිටකය සකස් වීමේදී යම් යම් මහාස්ථවරන් විසින් බුද්ධානුබුද්ධක ශික්ෂාපද ඉවත් කර ඇති බව මෙයින් පෙනේ. ම: ව: ලියන අවදියේ මෙය නොතිබෙන්නට ඇත.

අහසින් ගමන් කරන හංසයන් මෙන් අහසින් ගමන් ගත්හ. එසේ වැඩියාවූ උන්වහන්සේලා රාජාංගනය අසල භූමියෙහි වැඩ සිටියහ. එසේ බිමට බට උන්වහන්සේලා සිව්රු පොරෝනා ආදිය මනාසේ සකසා පොරවා ගත්හ. එය දැක සතුටු සිත් ඇති රථාචාය්‍ර්‍ය වරයා මෙම පුවත රජුට දන්වා සිටියේය.

රජතුමා අනතුරුව රියදුරු තැන පිටත් කොට යවා ඇමතිවරුන්ට ආමන්ත්‍රණය කොට මහාමණ්ඩපයක් පිළියෙළ කිරීමට අණකොට මෙසේද කීය.

'තෙරුන් වහන්සේ දැකීමට කැමති කුමාවරුන්ද, කුමරියන්ද, අන්තඃපුර වාසී සියළු දේවීණ්ද, යන සියල්ලන්ම මෙහි පැමිණියාවූ තෙරවරුන් දකීවා;'
යනුවෙනි.

වංශවත්වූ ඒ ඇමතියෝ දේවානම් පියතිස්ස රජතුමා ගේ වචන ක්‍රියාවට නගන්නාහු ඇතුල් රජමාලිගයෙහි රෙදි උපයෝගී කර ගනිමින් මණ්ඩපයෙහි උඩුවියන පිරිසිදු සුදුවත් සළුවලින් වසන ලද්දේය. මණ්ඩපය අවට සුදුවත් වලින් හා කොඩිවලින්ද මනාසේ තබන ලද සක්ගෙඩිවලින් ඉතා අලංකාරව සකස් කළේය. එසේම එහි මනාසේ සුදුමල් අතුරුවන ලදී. බිම සුදුවැලිද විසිරවීය. මෙසේ නිමවන ලද මණ්ඩපය හිම මෙන් අලංකාර වූයේය.[1] ඒ ඇමතිවරු විවිධ සළුවලින් මණ්ඩපය අලංකාර කොට ඇතුලතද මනාසේ පිළියෙල කරවා රජුට දැන්වූහ.

'මහරජ තුමනි; මනාව සකසන ලද එම මන්ඩපයේ සියළු කායය්‍ර්‍යන් නන් අයුරින් අවසන් කොට ඇත. මහරජ තුමනි; එසේම මෙහි පනවන ලද ආසන පැවිදි භික්ෂූන් වහන්සේට ඉතාම සුදුසු සේ පිලියෙල වී ඇති බවද සලකන්න.[2] යනුයි.

එම අවස්ථාවෙහි රජු ඉදිරියට පැමිණි රජුගේ රථාචාය්‍ර්‍ය වරයා රජුට කරුනු දක්වමින්

---

1. බෞද්ධ භික්ෂූන් වහන්සේලා පිරිතකට හෝ වෙනත් ආගමික ක්‍රියාවක් සඳහා වැඩම වීමේදී මණ්ඩපයක් සැකසූ ආකාරය පිළිබඳව කියවෙන වඩාත් පැරණිම ඓතිහාසික සටහන මෙයයි පිළිගෙන ඇත.
2. මිහිඳු හිමියන්ගේ උපදෙස් අනුව මෙය කරන ලද බව මෙයින් පෙනේ.

"මහරජතුමනි; නොගිලන් භික්‍ෂූන්ට වාහන කැප නොවේයයි" කීය.

"එසේම දේවයන් වහන්ස; මෙම සියළු ස්ථවිරයන් වහන්සේලා ආශ්චර්‍ය්‍ය අත්භූත ජනකය. ඍද්ධි සම්පන්නයහ. උන්වහන්සේලා මා පළමුව පිටත්කර එවා මා පැමිණීමට පෙර මෙහි පැමිණියාහුය. එසේම මහරජතුමනි; උස් ආසනද මහාසනද, භික්‍ෂූන් වහන්සේට කැප නොවේ.[1] බුමුතුරුණු ආසන උන්වහන්සේලාට වැඩ සිටීමටය. උන්වහන්සේලා දැන් මෙහි වඩිති.

රථාචාර්‍ය්‍ය වරයාගේ වචන ඇසූ රජතුමා පහන් සිතින් යුතුව තෙරවරුන් ගේ ඉදිරියට ගමන් කොට වැඳ නමස්කාරයෙන් යුතුව පාත්‍රය ගෙන උන්වහන්සේ සමග සතුටු සාමීචියේ යෙදින.

රජතුමා අනතුරුව උන්වහන්සේලාට සුවඳ මලින් පුදමින් ගමන් කරන්නේ රජ දෙරටුව අසලට පැමිණියේය. ඇතුළු නුවර රාජගෘහයෙහි ඉදිකරන ලද; සුදු පිළිවලින් අත්‍යාලංකාරයෙන් සරසවනලද්දවූ බිම තනවන ලද මණ්ඩපයට වැඩමවා පණවන අසුන්වල තෙරවරුනට වැඩ විසීමට සැලැස්වූහ. එසේ පණවන ලද්දවූ ඉතා අනර්ගවූ අසුන්වල ඒ තෙරුන් වහන්සේලා වැඩ හුන්හ. එසේ වැඩ සිටි මහාසංඝ රත්නයට දේවානම් පියතිස්ස රජතුමා විසින් පැන් පිළිගන්වන ලදී. එසේම උන්වහන්සේලාට ප්‍රනීත ආහාරපානාදියද; කැඳද, වැළඳිය යුතු වෙනත් කැවිලි වර්‍ගද, රජතුමා අතින්ම පිළිගැන්වීය. මෙසේ එම තෙරුන් වහන්සේලා වළඳ අවසන්වූහ. ඒ දුටු රජතුමා අනුලා දේවිය[2] ඇතුළු රජගෙයි සිටි අනෙකුත් සියළුදෙනා අමතා මෙසේ ප්‍රකාශ කළේය.

"දේවිය; ඔබට කැමතිසේ තෙරුන් වහන්සේලා වැඳපුද ගැනීමට මේ සුදුසු කාලයයි. කැමතිසේ අභිවාදනයෙහි යෙදෙන්න."

---

1. ක්‍රි. ව. 4වන සියවස පමණ වනවිටත් භික්‍ෂූන් අල්පේච්ඡ විනය කාමී ජීවිතයක් ගත කළ බවට මෙය හොඳම නිදසුනකි.
2. ම: ව: සඳහන් කරන්නේ අනුලා දේවිය මහානාග ගේ බිසොව බවයි. එසේ වුවත් දී. ව. අනුව ඇය දේවානම් පියතිස්ස රජුගේ බිසොව බව මෙයින් පෙනේ. ඓතිහාසික තොරතුරු සැසඳීම් අනුව පෙනී යන්නේ මේ වනවිට මහානාග සිය බිසොව සමග රුහුණට පලා ගොස් සිටි බවයි.

එකල්හි අනුලාදේවී ඇතුළු පන්සියක් ස්ත්‍රීහු තෙරුන් වහන්සේලා සමීපයට පැමිණ වැඳ එකත්පස්ව හිඳගත්තාහුය. එකල්හි මහත් ශිෂ්‍ය සමූහයා ඇති සනාචායර්‍ය මහින්ද මහාතෙරුණුවෝ මහත් බිය ජනනය කරන්නාවූ පෙතවත්ථු: විමානවත්ථු: සච්ච සංයුක්ත: ආදී සූත්‍රයන්ගෙන් එම ස්ත්‍රී සමූහයාට ධර්මය දේශනා කළහ. භක්තියෙන් හා ශ්‍රද්ධා සම්පන්න ගුණයෙන් පිරුනාවූ ඒ අනුලාදේවිය ඇතුළු පන්සියක් කාන්තාවෝ එම උතුම් ධර්මදේශනාව අසා සෝවාන් ඵලයෙහි පිහිටියාහුය. මෙය ලක්දිව පළමුවැනි මාර්ගඵල මෙනෙහි කර ගැන්මයි[1]

1. මේ වනවිට ලක්දිව උසස්ය සම්මත කාන්තාවන් වඩාත් බුද්ධිමත්ව සිටිබව පෙනීයයි. බෞද්ධ දර්ශනය වැනි ගැඹුරු දර්ශනයක් වඩාත් ඉක්මණින් මෙනෙහිකර ගන්නේ එහෙයිනි.

# 13

මහත් ජනජනීහු මෙයට පෙර නොවූ විරූ එම භික්ෂු පිරිස බැලීම සඳහා රාජ දෙරටුව අසල රැස්ව මහත්සේ ශබ්ද කළාහුය. රජතුමා එම මහා ශබ්දය අසා කුමණ හේතුවක් නිසා මෙසේ ජනයා පැමිණියේ දැයි පිලිවිසීම පිණිස ඇමතිවරුන් යෙදවීය. ඇමතිවරූ කියන්නාහු

"දේවයන් වහන්ස: මෙසෙනග පැමිණ ඇත්තේ මහා සංඝරත්නය දැකීම සඳහායි."

"ඔවුහු එම භික්ෂු සංඝයා දැකීමට නොහැකිව මහත් සේ ශබ්ද කෙරෙති."

රජතුමා එය අසා

"අන්තඃ පුරය ඇතුලත මහජනයාට භික්ෂූන් වහන්සේ දැකීම බාධා සහිතය. එම නිසා අපහසු තාවයකින් තොරව සියළු ජනයාට තෙරුන් වහන්සේ දැකීම සඳහා ඇත්හල පිළියෙල කෙරේවා" යයි කීය.

තෙරුන් වහන්සේලා වළඳ අවසානයෙහි භුක්තානු මෝදනාව කොට අසුන්වලින් නැගී රජගෙයින් නික්ම ඇත්හලට වැඩියහ. ඇත්හලෙහිද ඉතා මනරම් අයුරින් අසුන් පනවා තිබුනි. එහි වූ උතුම් වූ ආසනයක ලක්දිව බබුලුවන්නාවූ මහින්ද මහාතෙරුන් වහන්සේ වැඩ සිටිසේක. සෙසු මහා සංඝ රත්නයද එහි පනවන ලද උතුම්වූ ආශනවල වැඩහුන්හ.

දේවදූත සූත්‍රයත් චතුරාර්‍ය්‍ය සත්‍යත්[1] එහිදී වදළ සේක. දේව දූතසූත්‍ර අවසානයෙහි පූර්වකර්මය පිළිබඳ ඉතා භයානක විස්තර

---

1. චතුරාර්‍ය්‍ය සත්‍යය දේශනා කිරීම පිළිබඳව ම: ව: නොදැක්වේ. එසේම නිශ්චිත වශයෙන් දහසක් සෝවාන් වූ බව එහි දක්වා ඇත.

ඇතුලත්වේ. ඒවා අසා අවබෝධකරගත් සියළු දෙන නිරය භයින් බියපත්ව දුක්ඛසත්‍ය ප්‍රධාන කොට ඇති චතුරාර්‍ය්‍යසත්‍යය වදාළ සේක. මෙම දෙවන ධර්මදේශනාවසානයෙහි දහස් ගණනකට මාර්ගඵලාවබෝධවිය. මෙයින් පසු මහාමහින්ද රහතන් වහන්සේ ඇත්හලින් නික්ම වැඩිසේක[1]

කෙසේදයත් බුදුරජාණන් වහන්සේ රජගහ නුවරට වැඩ ඇත්හලින් නික්ම වැඩියාක් බඳුය. මහජනයාට මහත්සේ ප්‍රිය උපදවන්නාවූ උන්වහන්සේ මහජනයා පිරිවරා වැඩිසේක. එම අවස්ථාවෙහි මහජනයා නුවර දකුණු දෙරටුවෙන් නික්ම එහි දකුණු පස පිහිටි මහානන්දන වනෝද්‍යානයෙහි මහත් අගනා ආසනයක් පැනවීය. සියළු ධර්මයන්හි අගතැන් පැමිණියාවූ මිහිඳුමහ රහතන් වහන්සේ එම අසුනෙහි වැඩහිඳ උතුම්වූ බාල පණ්ඩිත සූත්‍රය වදාළ සේක. මෙම ධර්මය ඇසීමට නන්දන වන උයනට මෙම අවස්ථාවෙහි මහත් ජනකායක් රැස්වූහ. මෙහිදී දෙසෙන ලද තෙවන දම්දෙසුමෙහිදී දහස් ගණන් සත්වයන්ට මාර්ගඵලාවබෝධදය විය.

මෙම අවස්ථාවහේ මිහිඳු මහ තෙරුන් වහන්සේ දැකීම සඳහා විවිධ කුලකාන්තාවන්ද; කුලකුමාරිකාවන්ද, වංශවත් රාජ රාජමහාමාත්‍යාදීන්ගේ යහළු යෙහෙළීන් හා කුලස්ත්‍රීහුද, සමූහ වශයෙන් තෙරුන් වහන්සේ දැකීමට පැමිණියහ. මෙසේ ඔවුන් සමග කථාකරමින් සිටියදී කාලය ඉක්ම ගියෙන් හවස් යාමය එළඹියේය. මෙම අවස්ථාවෙහි රජතුමා

"මහානන්දන වනෝද්‍යානයෙහිම තෙරුන්වහන්සේලා වෙසෙත්වා." යයි සිතීය.

මේ අවස්ථාවෙහි මිහිඳුමාහිමි මෙසේ වදාළ සේක.

"මහරජතුමනි; මේ ඉතා සවස් භාගයෙහි අපි අසල කඳුගැට වලින් පිරිවරන ලද මිස්සක පර්වතයට යන්නෙමු. මෙම උයන ගමට ඉතා ආසන්නව පිහිටියේවෙයි. විශේෂයෙන්ම මහජනයා නිතර ගැවසෙන අතර රාත්‍රී කාලයෙහි මෙහි මහත් ශබ්ද

1. මː වː දක්වන්නේ ඇත්හල ඉඩමදි වූ හෙයින් නන්දන නම් රාජ උයනට වැඩිබවයි.

2. නිදහස් මානසික සුවය පැරණි භික්ෂුව අගයකල බව මෙයින් පෙනේ. මෙහිදී මːව දක්වා ඇත්තේ අම්බස්තලයට වඩින බවකි.

පවතී.[2] මෙය කෙසේදයත් ශාක්‍යයන් රැස්වන ශාලාව නැතහොත් ලිච්ඡවීන්ගේ කූටාඝාරශාලාව බඳුවෙයි.[1] එහෙයින් මිහින්තලා පර්වතය සමාපත්ති සුවයෙන් විසීමට ඉතාම යෝග්‍යවෙයි. එනිසා අපි මිහින්තලා පර්වතයට යන්නෙමු.´යි තෙරුන් වහන්සේ වදාළ සේක.

එවිට රජතුමා මෙසේ කීය.

´ස්වාමීන් වහන්ස; මාගේ මහමෙවුනා නම් උයන ගමනාගමනාදියට ඉතාම පහසුය. එය නගරයට ඉතා දුරද නෙවෙයි. ළඟද නොවෙයි. මිනිසුන්ට ඔබ වහන්සේලා දැකීමට කැමැති ආකාරයට පහසුවෙන්ද පැමිණිය හැකිවෙයි. එහි ජනයාද විශාල වශයෙන් නොගැවසෙයි. දිවාරෑ ශබ්දයන්ගෙන්ද තොරය. එසේම සමවත් සුවයෙන් විසීමටද එය ඉතාමත් යෝග්‍ය වේ. පැවිද්දන්හට සුදුසු හැඟීම් ඇතිකරවන එය මනරම් මල් හටගන්නේද වෙයි. මනාසේ පවුරකින් වටකරන ලද්දේය. දොරගුළු ආදියෙන් ආරක්‍ෂා කරන ලදී. මනාසේ බෙදා වෙන්කරන ලද දෙරගුළු සහිත මගේ මේ උද්‍යානය ඉතා රමණීය වූවකි. මෙසේ වෙන්කරන ලද ඒ ඒ ස්ථානයන්හි සිසිල් ජලය පිරි පොකුණුවල මහනෙල් මලින් ගැවසී ගත්තේද වෙයි. මනාසේ සුවඳවත්වූ නෙලුම්දවේ. අත්‍යාලංකාරයෙන් හෙබියාවූ මාගේ මෙම උයනෙහි ඔබ වහන්සේට හා මහා සංඝයා වහන්සේට මහත් පහසුකම් ඇත්තේය. එනිසා ඔබ වහන්සේ මාකෙරේ අනුකම්පා කොට මාගේ අර්ථසිද්ධිය සලසනු පිණිසත් මෙහි වෙසෙත්වා´ යයි රජතුමා කිවේය.

රජුගේ වචන ඇසූ මිහිඳුමහතෙරුන් වහන්සේ ඇමති සමූහයාද සහ පිරිවරද සහිතව මහමෙවුනා උයනට වැඩිසේක. මහත් ශිෂ්‍ය සමූහයා ඇති මිහිඳු මහරහතන් වහන්සේ රජුට අයත් මහ මෙවුනා උයනෙහි එදින රාත්‍රිය ගත කලසේක[2] දෙවනදින

1. මේවනවිට අනුරාධපුරයෙහි දියුණු නාගරික ලක්‍ෂණ තිබූ බව මෙයින් පෙනේ. මං: වං: කතුවරයා මෙම අදහස් ඉදිරිපත් කොට නැත.
2. මං: වං: මෙම නැවතුන ස්ථානය කොළොම්හොය (මල්වතුඔය) අසල නිවත්තකචේතිය යයි සඳහන් කොට ඇත.

පහන්වූ කල්හි රජතුමා තෙරවරුන්ගේ සමීපයට පැමිණ උන්වහන්සේලාට සිරසින් නමස්කාර කොට මෙසේ විචාළේය. ඒ කෙසේදයත්

"ඔබ වහන්සේලා සැපෙන් සැතපුන සේක්ද? පහසු විහරණයක් වූසේක්ද?"

යනුවෙනි.[1]

"මහරජ තුමනි; මෙම සෙනසුන[2] සෑම කාලයකම විසීම පිණිස සුදුසුය. එසේම මිනිසුන්ගේ රහස් කතාදියට යෝග්‍යවූ මෙය විශේෂයෙන්ම උතුම්වූ ඵලසමාපත් සුවයෙන් වෙසෙන්නට සුදුසු වූත් උසස් වූත් විවේකස්ථානයකී"යි උන්වහන්සේ වදළෝ. ඉන් අනතුරුව රජුගේ සිත්හි ප්‍රීති ප්‍රමෝද්‍ය ඇතිවිය. රජතුමා අතිශයින්ම සතුටට පත්විය. මහත් ප්‍රසන්න සිතින් යුක්තවූ රජතුමා තෙරුන්වහන්සේට දොහොත් මුදුන්දී වැඳ මෙසේ කීවේය.

දේවානම් පියතිස්ස රජතුමා රන්කෙන්ඩිය අතට ගෙන මෙසේ කීය.

"ස්වාමීන් වහන්ස; මෙම මනරම්වූ මහමෙවුනා උයන මම සිව්දිගින් වඩිනා මහාසංඝරත්නයට පූජාකරමි[3] ඔබවහන්සේ එය පිළිගන්නා සේක්වා."

රජතුමා එය අතපැන් වත්කොට තෙරුන් වහන්සේට පූජා කළේය. ලක්දිව බබුලුවන්නාවූ මිහිඳු මහරහතුන් වහන්සේ දෙවන පෑතිස් රජතුමාගේ මෙම වචන පිළිගෙන එම සංඝරාමය හා මහමෙවුනා උයන පිළිගත්සේක. මෙය මහාසංඝ රත්නයට පිළිගන්වන අවස්ථාවේ නොයෙකුත් ගිගිරීම් සහිතව මහපොළොව කම්පාවිය. මෙසේ සිදුවූයේ මෙම ශ්‍රේෂ්ඨ රජතුමා මහමෙවුනා

---

1. පැරණි පුරෝහිතයෙකු උදසන රජුහමුව පිළිවිසින ආකාරයට රජු තෙරුන් හමුව කථාකරන ලදී. මෙයින් රජකමට වඩා භික්ෂුව උසස්කොට සැලකුව බව පෙනේ.
2. ම: ව: සඳහන් කරන්නේ මහ මෙවුනා උයනේ රම්‍යවූ රජමාලිගාවක් තිබූ බවයි. භික්ෂූන්ට ලැගුම් ගැනීමට එය දුන් බවයි.
3. "අගත අනගත චතුදිස සගස දිනෙ, යනුවෙන් ක්‍රි. පූ. අවදිවලට අයත් මිහින්තලා වෙස්සගිරි ලිපිවල මෙය දක්නට ලැබේ. යම්දෙයක් පිළිගන්නේ පුද්ගලිකව නොව මුළු භික්ෂු සමාජයම වෙනුවෙන් බව පෙනේ.

උයන පූජාකිරීම නිසාත්, එහි සංඝාරාමය පිහිටුවීමත් හේතුකොට ගෙනය. අනතුරුව මහමෙවුනා උයනෙහි අත්‍යාලංකාරයෙන් යුත් තිස්සාරාමය[1] ද කරවන ලදී. මෙසේ දෙවන පෑතිස් රජතුමා තමා විසින්ම මහමෙවුනා උයන පූජාකොට පළමුවෙන්ම එහි තිස්සාරාමය කරවන ලදී. එම උතුම් වූ මහමෙවුනා උයන ශ්‍රී සම්බුද්ධ ශාසනය වෙනුවෙන් මහාසංඝරත්නය වෙත පිරිනමන කල්හි ලොමු ඩැහැගන්නා ආකාරයෙන් මෙම මහා පොළොව කම්පා විය. රජතුමා ඇතුළු පිරිස ලොමුඩැහැගත් ගතින් යුක්තවූයේ එයට හේතු කවරේදැයි තෙරුන් වහන්සේ පිළිවිසීය. එවිට තෙරණුවෝ වදළාහු "ඉතා උතුම්වූ ලංකාදීපයෙහි පළමුවන විහාරය මෙහි පිහිටවන්නේය." මෙම පළමුවන භූමි කම්පනය ලක්දිව බුදුසසුන මුල්බැස ගැනීමටද හේතුවේ." යනුවෙන්ද වදළසේක[2]

ඒ ලොමුඩැහැගන්වන අශ්චර්‍යාත්මක සිද්ධිය දුටු සියල්ලෝම මෙයට පෙර මෙබඳු සිදුවීමක් විද්‍යාමාන නොවී යයි ප්‍රීති වූවාහුය. එසේ ප්‍රීති වෙමින් විවිධ පුදපූජා පැවැත්වූහ. දෙවපෑතිස් රජතුමා ඇදිලි බැඳ වැන්දේය. එසේම එම අවස්ථාවෙහිදී ලක්දිව බබලවන්නාවූ මහා මහින්ද තෙරුන් වහන්සේගේ අතට නොයෙක් මල්වර්ග පිළිගැන්විය. උන්වහන්සේ ඒ මල් අහසෙහි විසිරවූ සේක. එම අවස්ථාවෙහිද මහපොළොව කම්පාවිය. රට වාසීන් සහිත සියළුසේනාවෝද මෙවර භූමිකම්පාව දුටහ. ඒ දැක මහත්සේ සිත් පහදවා ගත්හ.

"ස්වාමීන් වහන්ස; ඔබ වහන්සේ මාගේ සිත සනසන සේක්වා; දෙවනවර භූමිකම්පාව කුමක් අරමුණු කරගනිමින් සිදුවීද?"

රජ තෙරුන් වහන්සේගෙන් විචාළේය.

"මහරජ තුමනි; මෙහි පිහිටුවන ලද මෙම ශාසනයෙහි මෙතෙක් මෙහිදී විනය කර්‍ම නොකරන ලද්දේය. එම විනය කර්‍මයන් භික්ෂූහු මෙහිදී කරන්නාහුය." යයි

1. මේ පිළිබඳව ම: ව: දක්නට නැත. එහෙත් මහායානවාදී විස්තර රාශියක් එහි දැක්වේ.

2. ම: ව: අනුලා දේවියගේ පැවිදිවීම පිළිබඳ පුවත් දක්වන්නේ මෙම අවස්ථාව පදනම් කරගෙනය. එසේම ම: ව: මේ පිළිබඳව දීර්ඝ විස්තරයක් දක්වා තිබේ.

උන්වහන්සේ මෙහිදී වදළෝ. තවදුරටත් උන්වහන්සේ මෙසේද වදළහ.

"මහරජතුමනි; මෙහි දක්නට ලැබෙන එළිමහන් ස්ථානයෙහිදී භික්ෂූන් වහන්සේලා ගේ සීමා මාලකයද[1] පිහිටන්නේය."

එයින් අනතුරුව වඩාත් තුටු පහටු සිතින් යුත් රජතුමා තවත් මල්මිටක් ගෙන තෙරුන් වහන්සේට පූජා කළේය. ඒ මහින්ද මහා තෙරුන් වහන්සේ එම මල්ගෙන වෙනත් ස්ථානයක විසිරවූසේක. එම අවස්ථාවෙහිද මහ පොළව කම්පා විය. ඒ තෙවන වර පොලෝකම්පා වීමයි.

"මහාවීරයන් වහන්ස; තෙවනවරට පොළව කම්පා වූයේ කුමක් අරමුණු කොට ගෙනද? ඔබ වහන්සේ මෙය අපට පවසනු මැනවි. අප සියල්ල කෙරේ පවතින්නාවූ සැකය දුරුකරනු මැනවි." යයි

රජතුමා ඉල්ලා සිටියේය. එම අවස්ථාවෙහිදී මහින්ද මහා තෙරණුවෝ මෙසේ වදළහ.

"මහරජතුමනි; භික්ෂු සංඝයා වහන්සේලාට ඉතා ප්‍රයෝජනවත් වූ ගිණිහල්ගෙය හා පොකුණ[2] මෙ ස්ථානයේ පිහිටන්නේය. මෙම ගිණිහල් ගෙය හෙවත් දනශාලාව දිනපතාම භික්ෂූන් ගෙන් පිරී ඉතිරී යන්නේය."

මෙය ඇසූ දේවානම් පියතිස්ස රජතුමා ප්‍රීතියෙන් ඉපිල ගියේය. එයින් අනතුරුව මනාව පිපුනාවූ දෑසමන් මල්මිටක් ගෙන තෙරුන්වහන්සේට පිළිගැන්වීය. උන්වහන්සේ එම මල්මිටද ගෙන අනෙක් එළිමහන් ස්ථානයක විසිරවූ සේක. එම අවස්ථාවේදී සිව්වන වරටද පෙලෝතලය කම්පාවිය. මෙම පුදුමය දුටුවාවූ මහජනයා ඒ ආනුභාවය සම්පන්න මහින්ද මහා තෙරුන් වහන්සේට ඇදිලිබැඳ නමස්කාර කළේය.

---

1. මෙම සීමාමාලකය පසු කාලයේ දුටුගැමුණු රජතුමා විසින් ලෝවාමහා පාය හා සම්බන්ධ කොට තැනවූ බව ඓතිහාසික පුවත්වල දක්නට ලැබේ. ථූපවංශයේද මේ පිළිබඳ තොරතුරු රාශියක් දක්නට ලැබේ.
2. මෙම ගිනිහල්ගෙය හා පොකුණ රජමාලිගයට උතුරින් පිහිටි බව මං: වං: දක්වා තිබේ. මෙහි ගිනිහල්ගෙය යනුවෙන් දනශාලාව හැඳින්වෙන බව දැක්වූවත්. මං: වං: එසේ දක්වා නැත.

රජතුමා එයටද වඩා තුටු පහටු සිතින් යුක්ත වූයේය. එසේ සතුටු සිතින් ඉපිල ගියාවූ හෙතෙම

"ස්වාමීණ් වහන්ස. සිව්නවරටත් කුමණ කරුණක් සඳහා පොළොව කම්පා වීද?"

යනුවෙන් විමසීය.

"මහරජ තුමනි; ඒ ශාක්‍යපුත්‍රවූ මහාවීරයන් වහන්සේ ඇසතු බෝරුක් මුල්හිදී සියලු ධර්මය අවබෝධකර ගත් සේක. ඒ සමගම අනුත්තර වූ සම්‍යක් සම්බුද්ධ පදවියද ලැබූසේක. ඒ උතුම්වූ බෝධි රාජයාණන් වහන්සේගේ දක්ෂිණ ශාඛාව ලක්දිව්හි මෙම ස්ථානයේ පිහිටන්නේය." යයි

යනුවෙන් උන්වහන්සේ වදාළ සේක. අනතුරුවද දෙවනපෑතිස් රජතුමා උතුම්වූ තවත් දෑසමන් මල් මිටක් ගෙන මහින්ද මහ තෙරණුවන්ට පිළිගැන්වීය. එයද අතින්ගත් තෙරණුවෝ එය වෙනත් තැනක විසුරුවූහ. මෙම අවස්ථාවෙහිද මහපොළොව කම්පාවිය. පස්වන වරටද භූමිකම්පාව දුටු රාජසේනාවෝද රටවාසීහුද පුදුම සහගත සිතින් සතුටු වූවාහුය. මෙම අවස්ථාවේ මිනිසුන් අඬදනින් ගමන් කරමින් සාදුනාද පැවැත්වූහ.

"මහා ප්‍රඥවන්තයාණන් වහන්ස; කුමණ කරුණක් අරමුණු කර ගනිමින් පස්වන වරටද භූමිකම්පාව ඇතිවූසේක්ද? එම කරුණු අනාවරණය කිරීම ඔබ වහන්සේට කළහැකිය. එනිසා එය වදළ මැනවි" යයි.

රජතුමා ඉල්ලා සිටියේය.

"මහරජතුමනි: මෙහි වස්වසන්නාවූ භික්ෂූන් වහන්සේලා සෑම අඩමසකට වරක් ප්‍රාතිමොක්ෂය දේශනා කරන්නාහුය. එම ප්‍රාතිමොක්ෂය දේශනා කරන්නාවූ පෝයගෙය පිහිටන්නේ මෙහිය.[1]

යනුවෙන් තෙරුන්වන්සේ වදළසේක.

---

1. වස්වසන්නාවූ භික්ෂූන් වහන්සේ අඩමසකට වරක් පෝයගෙට රැස්ව ප්‍රාතිමෝක්ෂ ශික්ෂාපද දේශනා කිරීම භික්ෂු ශාසනයේ ආදිකාලීන සම්ප්‍රදයකි. මෙහිදී ප්‍රමාදදෝෂයකින් භික්ෂුවක් අතින් යම් ශික්ෂාපද හානියක් ඇතිවූවහොත් වැඩිහිටි භික්ෂූන් ඉදිරියේ එය අවංකව ප්‍රකාශ කොට ක්ෂමාකරගත යුතුය. අද දක්වාද මෙ සම්ප්‍රදය පවතී.

රජතුමා උතුම්වූ මල්මිටක් නැවතත් ගෙන එවැනි ඉඩ ඇති ස්ථානයක ඉසීම සඳහා තෙරුන් වහන්සේට පිළිගැන්වීය. මහාමහින්ද තෙරණුවෝ ඒ මල්මිටද ගෙන එක් අවකාස ස්ථානයක විසිර වූහ. එම සවැනි අවස්ථාවේද මහපොළොව කම්පාවිය. මෙම පුදුම එළවන ආශ්වර්‍යය දැක ගැනීමට බොහෝ ජනීහු පැමිණියාහුය. ඔවුහු එහිදීද එයට කාරණා විමසූහ.

"මහාප්‍රඥයන් වහන්ස; සවන වරටත් පොළව කම්පා වූයේ කුමක් නිසාද?"

මහත්සේ සිත් පහදවාගත් රජතුමා තෙරුන් වහන්සේගෙන් විමසීය.

"මහරජතුමනි, මෙහි මහාවිහාරය පිහිටන්නේය." යයි තෙරණුවෝ වදළහ.

"එසේම මහරජතුමනි; සාංඝික දනමානාදිය සඳහා භික්ෂූන් වහන්සේලා යම්තාක් මෙහි පැමිණෙන්නාහුද, එසේම අනාගතයේද පැමිණෙත්ද ඒතාක් එම භික්ෂූහු තම අවශ්‍යතාවය පරිදි මෙම සහසතු ලාභය ලබත්"

යයි වදළහ.

තෙරුන් වහන්සේගේ වචන අසා සතුටුසිත් ඇතිකර ගත්තාවූ රජතුමා නැවතත් උන්වහන්සේට මල්මිටක් පිළිගැන්වීය. තෙරණුවෝද එම මල් රැගෙන අනෙක් ඉඩ ඇති ස්ථානයක විසිර වූ සේක. එකල්හි සත්වන වරටද පොළව කම්පාවිය. සතරදිගින් පැමිණ සිටියාවූ සියල්ලෝද, රජුගේ රාජසේනාවෝද, මෙම පුදුමයද දැක අඬදනින් සිට ගත්තාහු සාදුනාද පැවැත්වූහ. ඔවුහු පොළොව කම්පාවන අවස්ථාවෙහිම ඒ කම්පාවන්නාවූ පොළාව මත සිට එහා මෙහා යාම් ඊම් ආදියද කළහ. රජතුමා නැවතත් තෙරුන් වහන්සේ විචාරන්නේ

"මහානැණවතුන් වහන්ස; සත්වන වරටත් කුමක් අරමුණුකර ගනිමින් මහ පොළොව කම්පාවීද? ඔබ වහන්සේ අපගේ සැක දුරුකරන සේකවා." යනුවෙන් පිළිවිසීය.

"මහාරජතුමනි: මෙම විහාරයෙහි යම්තාක් සුපේශල ශික්ෂාකාමී භික්ෂූන් වහන්සේලා වැඩ වෙසෙත්ද? උන්වහන්සේලාගේ අනුභෝජනය උන්වහන්සේලාට අවශ්‍ය පරිදි මෙම දන්ශාලාවෙන් සැපයෙන්නේය."

යැය තෙරහු වදළෝ.[1]

1. මඃවඃ මෙම ස්ථානයන්ගේ සීමාවන් පිළිබඳවත් ඒවායේ ජනප්‍රවාදයන් පිළිබඳවත් දීර්ඝවශයෙන් තොරතුරු දක්වා ඇත. එසේම එකල ඉදිකරන ලද අධ්‍යාපන ආයතන රාශියක් පිළිබඳවද සඳහන් කොට ඇත. තවද ඒ ඒ ස්ථානයන්හි ද දේශනා කරන ලද ධර්මයන් පිළිබඳවද විස්තරවේ.

# 14

රජතුමා තෙරුන් වහන්සේගේ මෙම වචන අසා මහත්සේ සතුටට පත්විය. එයින් සතුටුසිත් පහළවූ වාවූ රජතුමා සපුමල් මිටක්ද ගෙන තෙරුන්වහන්සේට පිළිගැන්වීය. එම සපුමල්මිටද තෙරුන් වහන්සේ පොළවේ විසිර වූ සේක. එම අවස්ථාවේදී අටවන වරටත් පොළව කම්පාවිය. රාජසේනා වෝද රටවාසීහුද මෙම පුදුම සහගත සිදුවීම්ද දුටහ. ඔවුහු දෙදනින් ගමන් කරමින් මහත්සේ නාද කළාහුය. ඔවුහු තෙරුන් වහන්සේගෙන් මෙසේ විමසූහ.

'මහාවීරයාණන් වහන්ස; අටවන වරටත් පොළව කම්පාවීමට හේතු කවරේද? මහා නැණවතානන් වහන්ස අපි ඔබ වහන්සේගේ වදන් ශ්‍රවණය කරන්නෙමු. එහි අර්ථය අපට පවසනු මැනවි.'

එම අවස්ථාවේ මහාමහින්ද තෙරණුවෝ මෙසේ වදළහ.

'මහරජ තුමනි: තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාරීරික ධාතු දේණි අටක් විය. එයින් එක් ද්‍රෝණියක් මහා සෘදධිමතුන් විසින් ගෙනවුත්[1] මෙම ස්ථානයේ නිදන් කොට මහා අලංකාර සෑයක් කරවනු ලබයි. එම නිසා මෙම ස්ථානය බොහෝ දෙනා පහදවන්නාවූත් බොහෝ දෙනාගේ ප්‍රීතිය උපදවන්නාක් ස්ථානයක් බවට පත්වේ. මෙහි පොළව කම්පා වූයේ එම හේතුවෙනි.[2]

---

1. 'සම්බුද්ධ පත්තං පුරෙත්වා
සුමනෝනා හටා ඉධ' යනුවෙන් මඃ වඃ දක්වා තිබේ. මෙයින් පැහැදිලි වන්නේ සුමණ සාමන්රයන් වහන්සේ මෙහි වඩින විට මෙම ධාතු ගෙනැවිත් තිබූ බවය.
2. මෙම පොළෝ කම්පාවන් පිළිබඳ දීඝ විස්තරයක් මඃ වංශයේත් ථූපවංශයේත් දක්නට ලැබේ.

මෙසේ පොළෝ කම්පනයෙන් මහත්සේ සතුටු වූ රජුගේ සේනාවෝද රටවැසියෝ ද අවශේෂ ජනජනීහුද එහි රැස්ව අත්පොළසන් නාද පැවත්වූහ. මෙයින් පසු මහා මහින්ද තෙරණුවෝ තිස්සාරාමයෙහි වැඩ විසූ සේක. උන්වහන්සේ උදයෙන්ම පිබිද පාසිවුරහැඳ පොරවා අනතුරුව ඒ උතුම් අනුරාධපුර නගරයට වැඩිසේක. එසේ වැඩියාවූ උන්වහන්සේ පිඩුපිණිස හැසිරෙන්නේ පිළිවෙළින් රජමැදුරට ද වැඩිසේක. රජගෙදරදී පනවන ලද ආසනයෙහි වැඩහිඳ දන්වලඳා පාත්‍රය තමන් වහන්සේ අතින් සේදූ සේක.

මහා මහින්ද තෙරණුවෝ දන් වළඳ අවසානයේ අනුමෙවතිබණ වදරා රජ මාළිගයෙන් නික්මුණහ. පසුව නගරයේ දකුණු පස පිහිටියාවූ නන්දන උයනට වැඩි උන්වහන්සේ එහිදී උතුම් වූ අග්ගික්ඛන්ධෝපම[1] සූත්‍ර දේශනාව වදාළ සේක. මෙහිදි දහස් ගණන් සත්වයන්ට මාර්ගඵල ගමනයන් අවබෝධ විය. මෙසේ දහම් දෙසා සියළු සතුන් සසරින් මිදවූ උන්වහන්සේ නැවතත් හුනස්නෙන් නැගී සිට තිස්සාරාමයට වැඩ එහි විසූසේක. රාත්‍රී කාලයෙහි උන්වහන්සේ එම විහාරයෙහි වැඩ වසා නැවත උදයේ අඳනා සිව්රු හැඳ පොරවා පාත්‍රය ගෙන නගරයට වැඩ පිළිවෙලින් පිඩු පිණිස හැසිරී රජගෙදරට වැඩිසේක.

රජතුමා උන්වහන්සේ මාළිගාවට වැඩමවා එහි වඩා හිඳුවා දානය වැළඳවීය. දානය වළඳ නිමකල උන්වහන්සේ ස්වකීය පාත්‍රය සෝද දිවාවිහරණය පිණිස නන්දන උද්‍යානයට වැඩිසේක. මහා මහින්ද තෙරනුවෝ එහිදී ආසිවිසෝපම සූත්‍රය ගෙනහැර දක්වමින් දම් දෙසූහ. එම ධර්මදේශනාව අවසානයේ දහසක් දෙනා ධර්මාවබෝධය කළහ. මාර්ගඵලාවබෝධය කළහ. එසේ ශ්‍රී සද්ධර්මය දේශනා කළා වූ මහාමහින්ද තෙරනුවෝ බෙහෝ සත්වයන් පිණවා හුනස්නෙන් නැගී තිස්සාරාමයට වැඩියහ. අටවන වරටද පොළව කම්පාවීමෙන් මහත් ප්‍රීතියෙන් සතුටින් ඔදවැඩී ගියේ; තෙරනුවන් ගෙන් මෙසේ විචාළේය.

---

1. පූ: ව: දෙවන දිනයේ දන්වළඳ අනවතග්ගිය සූත්‍රයෙන් දහම්දෙසූ බව සඳහන්වන අතර මං: ව: එම සූත්‍ර දේශනාව කළ බව දැක්වෙන්නේ සිව්වන දිනය. මෙසේ පරස්පරයන් දැක්වෙන්නේ කාලපරතරයන්ගේ වෙනසමත විය හැකිය.

˙ස්වාමීනි; මෙම අවස්ථාවේ මෙහි විහාරය පිහිටි සේක්ද? එම ඉතා අනර්ගවූ සංඝාරාමයෙහි භික්ෂූන් වහන්සේ ධ්‍යානයට සමවන්නේසේක්ද? කිනම් කරුණක් අරමුණකර ගණිමින් මහ පොළව අටවන වරටත් කම්පාවූයේද?˙ යනුවෙනි.

˙නැත, මහරජතුමනි; මෙපමණකින් සංඝාරාමය පිහිටියේ නොවෙයි. එහි සීමා සම්මතය පමණක් අප තථාගත සම්‍යක් සම්බුද්ධ රජාණන් වහන්සේ අනු දක්නා සේක.˙

යනුවෙන් උන්වහන්සේ වදළෝ.

තුන්සිවිරින් යුතුව එකට වැඩ වාසය කරන සීමාව නම්වූ බද්ධ සීමාවන් සම්බන්ධව මෙම නිමිති වදරන ලදී.

˙එම නිමිති අට පරීක්ෂා කොට සියළු මහා සංඝ ස්ථවිරයන් වහන්සේලා රැස්ව සියල්ලෝම කර්ම වාක්‍ය ශ්‍රවණය කරත්. සීමාවවන් මෙසේ බඳනා ලද කල්හි එක්ව වාසය කිරීම යයි කියනු ලැබේ. යම්කාලයකදී මෙසේ බද්ධසීමා සහිත විහාරය නිමකරවා ස්ථිරවූ කල්හිම ආරාමය මනාසේ පිහිටන්නේ වේ. යනුවෙනි.

උන්වහන්සේ වදළහ. මහින්ද මහා තෙරුන් වහන්සේ එසේ වදළ කල්හි රජ නැවතත් මෙසේ විචාළේය.

˙ස්වාමීන් වහන්ස; මාගේ ඇමතිවරුන් හා පිරිවර ජනයා සහිත අඹුදරුවෝ ඇතුළු සියල්ලෝ දිවිහිමියෙන් ඔබ වහන්සේ සරණ ගියාවූ උපාසකයෝ වෙති. එසේම මහාවීරයානන් වහන්ස, මාකියන්නාවූ මෙවදන් ද අසනු මැනවි. මෙහි වැඩ වාසය කරන්නාවූ මෛත්‍රී කරුණාදියෙන් යුක්ත වූ සියළු භික්ෂූ සංඝයාට සෑම කල්හිම මෙම ස්ථානය ආරක්ෂා සහිත වන්නේය. එම නිසා මෙම මහජනයා ඇතුළු සියළු භික්ෂූ සංඝ සමූහයා මෙම සීමාව තුළ ඇති නිදහස් භූමිභාගයෙහි වෙසෙත්වා.˙ මම ඔබ වහන්සේගෙන් නමස්කාරයෙන් යුතුව ඉල්ලා සිටිමි.˙ යි කීය.

මෙම අවස්ථාවෙහි තෙරණුවෝ

"පින්වත් මහරජතුමනි; මෙම සීමාභූමියට ඔබට කැමැතිතාක් කල් පිළිදැහුම් කරන්න." යනුවෙන් වදළහ.

"එසේම මහරජතුමනි; මේ ආකාරයෙන් සිදුවූ විට පූජාකරන ලද මෙම භූමියෙහි මුළු මහත් මහා සංඝරත්නය එක්ව මෙම සීමාව සම්මත කරන්නේය."

එම අවස්ථාවෙහි මඟුල් ඇතුන් ලෙස සම්මතව සිටි මහපදුමය; කුඤ්ජරය, යන ඇතුන් දෙදෙන පළමුවෙන්ම සීමා කොටු මළුවෙහි ගමන් ගත්තේය. පසුව සිව්රඟසේනාව ගමන්ගත් අතර ඒ සමග තෙරුන් වහන්සේ හා රජතුමාද මෙම භූමියෙහි එහා මෙහා ගියාහුය.

අරින්දම නම් ලද දේවානම් පියතිස්ස රජතුමා රන්වන් නඟුලෙන් හාන ලද භූමිය පෙන්වමින් එහි පුන් කලස් ද නොයෙක් වර්ණවත් කොඩිද සිටුවා මනාසේ අලංකාර කළේය. එසේම නොයෙක් මල් උපයෝගී කරගනිමින්ද කොඩි ඇද තොරණ බැඳ චන්ද්‍රපූර්ණ මල් ආදියෙන්ද අලංකාර කරන ලද්දවූ මෙම සීමා භූමිය රන්වන් වූ නඟුලෙන් හැවේය. දෙවන පෑතිස් රජතුමා තෙරුන් වහන්සේ සමග මහජන සතුට ප්‍රසාදය දනවන ආකාරයෙන් නුවර සිසාරා පැදකුණු කොට ගංතෙරට පැමිණියහ. මේ ආකාරයෙන් තුන්යොදුනකින්[1] යුත් සීමා රන්වන් නගුලින් හාන ලදී. එම අවස්ථාවෙහි පොළවේ නොයෙක් නොයෙක් තැතින් කුන්තමාලා[2] පැන නැංගේය. මෙසේ සීමාවෙන් සීමාව එකට සම්බන්ධ විය. එම අවස්ථාව නැරඹීම සඳහා මහජනයා රැස්වූ අවස්ථාවේද මහපොළව කම්පා විය. එම සීමාවෙහි ඇතිවූ පළමුවන භූමිකම්පනය මෙයයි. එකල්හි එහි රැස්ව සිටියාවූ රාජසේනාවෝද රටවැසියෝද අවශේෂ සියළු ජනජනීහුද මෙම පුදුමය දැක "මෙහි අපගේ සීමාව සහිත සංඝාරාමය පිහිටන්නේය" යයි ඔවුනොවුන් සතුටුවූවාහුය.

1. මෙම මහා සීමාව මඃ වඃ 15 වන පරිච්ඡේදයේ නම් වශයෙන් දක්වා ඇත. ඒ අනුව දැනට පවතින මහමෙවුනා උයනට වඩා විශාල වූ බව පෙනේ.
2. පාලි කුන්ත යන්නෙහි අදහස හෙල්ල යන්නයි. මෙහිදී සීමාව පෙන්වීම සඳහා හේල්ලේ හැඩය ගත් සීමාලක්ෂණයන් ඇතිකරන්නට ඇතැයි සිතිය හැකිය.

මෙම භූමිය හා සම්බන්ධ සීමා මායිම් පිළියෙළ කිරීම මහා සීමාමාලකයෙහි ඒ ඒ දිසාවන් බඳනා ලද්දේ විවිධ නිමිති තීරණය කිරීමෙන් පසුවය. දෙවනපෑතිස් රජතුමා පහළවූවා වූ යම්තාක් නිමිති පැවතියේද ඒවා මනාව පැහැදිළිවනසේ විද්‍යාමාන කොට මහාමහින්ද තෙරුන් වහන්සේට මෙසේ දැන්වීය.

> "ස්වාමින් වහන්ස; සියළු දෙනා කෙරේ අනුකම්පාවෙන් යුතුව බද්ධසීමා සහිත විහාරය ස්ථිරවීම පිණිසත් සීමාව හා මාලකය සම්බන්ධ කටයුතු මුළුමහත් භික්ෂූන් වහන්සේ උදෙසා නිමකර දීමසඳහාත් සීමා බන්ධනය කරන සේක්වා[1]" යනුවෙනි.

ලක්දිව බබුලුවන්නාවූ මිහිඳුමහරහතන් වහන්සේ රජතුමාගේ එම ඉල්ලීම ඉවසා වදාළ සේක. එම අවස්ථාවේ සියලු භික්ෂූන් වහන්සේ ඇමතූ මිහිඳු හිමියෝ මෙසේ වදාළහ.

> "ආයස්මත් භික්ෂූනි, අපි මෙහි සීමාබන්ධනය කරමු." යනුවෙනි.

මිහිඳු මහ රහතන් වහන්සේ තිස්සාරාමය නම්වූ විහාරය ස්ථිරකොට වදරා දුර දක්නාවූ එම තෙරණුවෝ සියළු සංඝයා උතුරුසලු නම් නැකතෙහි[2] එම විහාරයට කැඳවා සියළු භික්ෂූන්ට එක්ව විසීම පිණිස සීමා බන්ධනය කලාහුය.

එදින තිස්සාරාමයෙහි වැඩවාසය කළාවූ මිහිඳු මහරහතුන් වහන්සේ උදස්නම මුවදෙවා උතුම් වූ සිවුරු හැඳ පොරවා පාත්‍රය ද අතින් ගෙන අනුරාධපුර නගරයට පිවිසියහ. උන්වහන්සේ පිළිවෙළින් ගෙයින් ගෙට පිඬු පිණිස හැසිරෙන සේක් රජ ගෙදරටද

---

1. සීමාබන්ධනය කිරීමේදී සියළු ස්ථවිරවරුන් එක්රැස්ව එක්තීරණයකට පැමිණ කළයුත්තකි. එය භික්ෂු විනය කර්‍මයන්ට අදල ප්‍රශ්නයක්ද වේ.
2. භික්ෂූන් වහන්සේ නැකත් ශාස්ත්‍රයට අනුව වැඩ කළ යුතුයයි භික්ෂු විනයෙහි සඳහන් නොවේ. භික්ෂුවකගේ නැකත යථාර්ථවාදි පෙර අපර සන්ධි කාලයට අනුව ගැලපෙන සියලු ජීවීන්ට අර්ථසාධනය කරන්නාවූ වඩාත් යහපත් වේලාවයි. බුදුන්වහන්සේ ඉසිපතනයට පළමුව ධර්‍මය දේශනා කිරීමට වැඩීමේදී කරුනු නොපිළිගන්නා වූ උද්ධච්ච බමුණෙකු හමුවිය. උන්වහන්සේ එය බාධාවක් ලෙස නොසැලකූහ. එහිදී කාලය කුමක් වුවත් පරමාර්ථය උසස් කොට සලකන ලදී.

වැඩිසේක. දෙවන පෑතිස් රජතුමා උන්වහන්සේ මාළිගය තුළට වැඩමවා පණවනන ලද ආසනයෙහි වඩාහිඳුවා දන්වැළඳීමට සලස්වන ලදී. තෙරුන්වහන්සේ එහි වැඩ දන්වැළඳු සේක. වළඳ අවසානයේ පාත්‍රය සේදූහ. අනතුරුව භුක්තානුමෝදනාව කළ උන්වහන්සේ දිවාවිහරණය පිණිස නුවරින් නික්ම නන්දන වනෝද්‍යානයට වැඩිසේක. එහිදී උතුම්වූ චරියා පිටකය උපයෝගී කරගනිමින් ආසිවිසෝපම සූත්‍රයත්, අනමතග්ගිය සූත්‍රයත් එහිමියෝ වදළහ. උන්වහන්සේ මෙම නන්දන වනෝද්‍යානයේදී ගෝමය පිණ්ඩික සූත්‍රයද ධම්මචක්කප්පවත්තන සූත්‍රයද නැවත නැවතත් වදළ සේක.[1] ධම්මචක්කප්පවත්න සූත්‍රයෙන්ම සත්දිනක් බණකීහ.

ලංකාදීපයට වැඩසලසන්නාවූ මිහිඳුමහ රහතන් වහන්සේ මෙමධර්මයන් දෙසීම නිසා භික්ෂු සංඝයා සහිත විවිධ ජනයා අටදහසක්ද; නැවතත් පන්සියක් දෙනද සංසාර බැම්මෙන් මිදවූසේක. මේ ආකාරයෙන් උන්වහන්සේ එම තිස්සාරාම විහාරයෙහි මසකට අඩුකාලයක් වැඩවිසූ සේක. එසේම මහින්ද මහාතෙරණුවෝ ඇසල මස පුන් පොහෝ දිනයෙහි වස්වැසීම[2] සිදුවන බවත් එතැන් සිට වර්ෂාකාලය එළඹෙන බවත් සියලු භික්ෂූන් අමතා වදළ සේක.

ලක්දිව බබුලුවා වදරන්නාවූ මහින්ද තෙරුන් වහන්සේ ස්වසයනාසනය පිළියෙල කොට තැබූහ. අනතුරුව පෙර පරිද්දෙන්ම අඳනය ඇඳ සිවරුපොරවා පා සිවුරුගෙන තිස්සාරාමයෙන් නික්මුණහ. පාත්‍රයද අතින්ගෙන පිණ්ඩපාතය සඳහා නගරයට වැඩි උන්වහන්සේ රජමැදුරට එළඹියහ. එහි පනවන ලද ආසනයෙහි වැඩහුන් මහින්ද තෙරණුවෝ එහිදී දනය වැළඳුසේක. පාත්‍රය සේදීමාදී කටයුතු අවසන් කළ උන්වහන්සේ මහාසමය සූත්‍රය අරමුණු කර ගනිමින් ධර්මදේශනා කළහ. ලක්දිවට වැඩදයක මිහිඳු මාහිමියෝ රජුට අවවාදානුශාසනාකොට අසුනින් නැගී රජුට කිසිත් නොකියාම වැඩිසේක. මහත් ශිෂ්‍ය සමූහයක් ඇති ඒ මහින්ද මහා තෙරුන් වහන්සේ නුවර නැගෙනහිර දොරටුවෙන්

1. ම: වං: 15 පරි. දක්වා ඇත්තේ එක්එක් දිනට එක් එක් සූත්‍රය බැගින් වදළ බවය.
2. ලංකාවේ භික්ෂු ශාසනය පිහිටුවීමෙන් පසු එළඹෙන පළමුවන වස්විසීම මෙයයි. මෙය ශාසන ඉතිහාසයේ ඓතිහාසික අවස්ථාවකි.

නික්මුණ සේක් මිස්සක පර්වතයට වැඩියහ. උන්වහන්සේ එහි වැඩියේ මහජනයාගේ පැමිණීමද වලකමිනි. මේ හේතුවෙන් රජුගේ ඇමතිවරු මහත්සේ දුක්වූහ. ඔවුහු රජතුමා වෙතට පැමිණ

"දේවයන් වහන්ස: සියලුම තෙරුන් වහන්සේලා මිහින්තලා කන්දට වැඩියාහුය." යනුවෙන් දැන්වූහ.

මේ ඇසූ දෙවනපෑතිස් රජතුමා මහත්සේ උද්වේගයට පැමිණියේ වහාම රථය පිළියෙළ කරවාගෙන රජ බිසොවුන්ද[1] සමග රථයට නැගී පිටත්විය.

ඒ මහත් ශිෂ්‍ය සමූහයා ඇති මිහිඳුමහරහතුන් වහන්සේ මිහින්තලා පර්වතප්‍රාන්තයට වැඩිසේක. එසේ වැඩියාවූ උන්වහන්සේ එහි තිබූ ගලින් කරවන ලද විලට[2] බැස දියනා පැන්පානය කොට ඇඟ පිසද ගෙන පර්වතය මුදුනට වැඩියහ. මෙම අවස්ථාවෙහි පර්වතය මුදුනෙහි වැඩසිටියාවූ මිහිඳුමහ රහතන් වහන්සේ දුරදීම රජතුමා දුටුවේය. කළුපාමුලට පැමිණි රජතුමා සිය මහේසිකාවන් රථයෙහි නවතා තමා රථයෙන් බැස තෙරුන් වහන්සේ වෙත එළඹියේය. එසේ ගොස් උන්වහන්සේගෙන් මෙසේ විචාළේය.[3]

"මහාවීරයාණන් වහන්ස: මෙම අත්‍යාලංකාරවූ රටත්[4] මාත්, මගේ අවශේෂ රටවැසියනුත්, හැරදමා ඔබ වහන්සේ කුමණ කරුණක් සඳහා මෙම පර්වතයට වැඩිසේක්ද?"

---

1. ම: ව: සඳහන් වන්නේ රජ බිසොවුන් දෙදෙනෙක් සමග පැමිණි බවය.
2. ම: ව: මෙය නාගචතුෂ්ක පොකුණ යනුවෙන් දක්වා තිබේ.
3. ම: ව: රජුතෙරුන් වහන්සේ ඇමතීමට තෙරුණ්වහන්සේ "මහරජතුමනි මෙම උෂ්නවේලාවේ ක්ලාන්තව කුමට පැමිණියේදැයි" විමසා ඇත. එසේම රජු උන්වහන්සේලා ගේ ගමන කෙරේ සැකයෙන් පැමිණි බවක් ද දක්වා ඇත.
   භික්ෂූන් කෙරේ සැක ඉපිදවීම වරදක්බව බුදුන්වහන්සේ වදරා ඇත. ම: ව: මෙම යෙදීම නිසා භික්ෂු ප්‍රතිරූපයට කිසියම් හානියක් වූයේ දැයි විමසිය යුත්තකි. තවද මෙම අවස්ථාවේදී වස්සූපනායිකඛන්ධ සූත්‍රය දෙසූ බවක් ද දක්වා ඇත.
4. මෙහිදී "රට්ය" යනුවෙන් සඳහන් කරන්ට ඇත්තේ මුළු රටම විය හැකිය. එහෙත් මෙයට පසු අවදියේ රුහුණු: මායා: පිහිටි: බෙදීම් තුනක් පිළිබඳව දක්නට ලැබේ. එසේම මුල් යුගයේදීම "රටය" යනුවෙන් ප්‍රාදේශීය පාලන කොටස් තිබූ බවද "රටික" නම් නිලධාරියෙක් ඒවා පාලනය කල බවද පෙනේ. මේ හැරුණු විට පොළොන්නරු යුගය වන විට දෙළොස් දහස් රට, අටදහස් රට ආදී වශයෙන්ද දක්නට ලැබේ. මධ්‍යකාලීන ලංකා සමාජය නම් ඇම්. බී. ආරිය පාල මහතාගේ කෘතියේ වැඩි විස්තර මේ පිළිබඳව දක්වා ඇත.

එවිට තෙරුන් වහන්සේ පිළිවදන් දෙනසේක්:

˙මහරජතුමනි; අපි පූර්ණ තෙමසක කාලයක් මෙහි වැඩවාසය කරන්නෙමු. තවද පෙරසඳ හා පසුසඳ යනුවෙන් වස් එළඹීම් දෙකක් ගැන බුදුරජාණන් වහන්සේ විසින් අනුදැන වදරා ඇත.˙

මේ ඇසූ රජතුමා මෙසේ කීවේය.

˙ස්වාමීන් වහන්ස; මම මුළුමහත් සංඝරත්නයේ පහසුව පිණිස උන්වහන්සේලාට වස්එළඹීමට අවශ්‍යය සියළු කටයුතු සූදනම් කරන්නෙමි. එම නිසා ඔබ වහන්සේ මා කෙරෙහි අනුකම්පා උපදවා වස්එළඹීම් කටයුතු පිළිබඳව මට අනුසාශනා කරණු මැනවි. එසේම මෙම අවස්ථාවේදී භික්ෂු සංඝයා වහන්සේට වස් එළඹීම පිණිස ආරණ්‍යය සුදුසුද? ගම සුදුසුද˙ යනුවෙන් විමසීය.

එම අවස්ථාවෙදී මිහිදු මහරහතන් වහන්සේ මෙසේ වදළහ.

˙මහරජ තුමනි, ක්‍රමවත්ව වසන ලද දෙරගුල් සහිත සේනාසනය වස්එළඹීම සඳහා සුදුසු යැයි බුදුරජාණන් වහන්සේ විසින් අනුදැන වදරා ඇත. උන්වහන්සේ මෙවැනි අර්ථවත් දේ පෙන්වාදී ඇත්තේ සහේතුක වය.˙

යනුවෙන් වදළසේක.

පසුව රජතුමා,

˙ස්වාමීන් වහන්ස; මම අදම සියළු භික්ෂූන් වහන්සේලාට වස් එළඹීමට සුදුසු ආවාස පහසු කම් පිළියෙළ කරන්නෙමි.˙

යනුවෙන් කීවේය.

එයින් අනතුරුව රජතුමා කණ්ඨක චෛත්‍යය අවට පිහිටි ගල්ලෙන් හැට අටක් පිළියෙළ කරවීය. එසේ පිළියෙළ කරවා මෙසේ කීවේය.

˙සියළු තෙරුන් වහන්සේලා අපකෙරේ අනුකම්පාවෙන් යුතුව මෙම ස්ථානයන්හි වස් එළඹෙන සේක්වා. ස්වාමීනි; ඔබ

වහන්සේද මෙම ලෙන[1] ආරාමයක් වශයෙන් පිළියෙළ කරගත්තේ නම් මැනවි. මෙය ඉතා සුදුසුය. යහපත්ය."

යනුවෙන් කියා මිහිඳු මහ තෙරනුවන්ට පවරා දුන්නේය. තවද මෙම විහාරය ස්ථිරවීම පිණිස මෙහි සීමා බන්ධනය කරණු මැනැවැයිද කීවේය. එයින් පසු "අරිට්ඨ"[2] නමින් ප්‍රසිද්ධව සිටි රජුගේ නැගනියගේ පුත්‍රයාද එසේම උසස් වංශයේ උපන් මහ ඉසුරුමත් ක්ෂත්‍රියන් පණස් දෙනෙකුද රජතුමා වෙත පැමිණියාහු මෙසේ කීවාහුය.

1. මහින්ද තෙරුන් වහන්සේට විශේෂිතවූ ලෙනක් පිදූ බව මෙයින් පෙනී යයි.
2. "තුම්බුරුමාලක" නම් සීමාවේදී පැවිදි උපසම්පද කළ බවත් එකට මහණවූ මහාඅරිට්ඨ ඇතුලු හැට දෙදෙනා සඳගිරියෙහි වස්විසූ බවත් මඃ වඃ 16 පරි. සඳහන්ය.

# 15

මිහිඳුමහ රහතුන් වහන්සේ විසින් රජතුමාට මෙසේද කියන ලදී.

"මහරජතුමනි; ග්‍රීෂ්ම ඍතුව පටන් ගන්නා පළමුවන පොහෝ දිනයෙහි අපි දඹදිවින් අවුත් ලක්දිවට පැමිණියෙමු. එසේ පැමිණීමෙන් පසු එදින අපි මිස්සක පර්වතයෙහි වාසය කෙළෙමු. ඉන් පස් මසක් තිස්සාරාමයෙහි හා ඒ අසල පර්වතයෙහිද විසුවෙමු. දැන් අපි දඹදිව යාමට සූදනමින් සිටින්නෙමු. ඒ සඳහා අපට කැමැත්ත දෙන්න."

යනුවෙන් වදළහ.

ඒ ඇසූ රජතුමා මෙසේ කීවේය.

"ස්වාමීන් වහන්ස; අපි ආහාරපානාදියෙන්ද, සිව්රු, පිරිකර හා සෙනසුන්වලින්ද ඔබවහන්සේලාට නිති සංග්‍රහ කරන්නෙමි. මෙහි සිටින මේ සියළු ජනයා ද තෙරුවන් සරණ ගියේය. කුමණ කරුණක් නිසා ඔබ වහන්සේලා මෙහි විසීමට අකමැති වන්නාහුද?"

එවිට තෙරුන් වහන්සේ මෙසේ පිළිවදන් දුන්හ.

"මහරජතුමනි; බුදුරජාණන් වහන්සේට උපස්ථාන කිරීමක්; වැඳීමක්; ඇඳිලිබැඳ වැඳීමක්, අපට මෙහි සිටීමෙන් සිදුනොවන්නේය. මෙහි වැඩසිටින්නාවූ භික්ෂූන් වහන්සේලාද සර්වඥයන් වහන්සේ බොහෝ කලකින් නොදක්නා ලද්දේ වෙයි."

මේ අවස්ථාවේ රජතුමා නැවතත් පිළිවදන් දින.

"තෙරුන් වහන්ස; එම කරුණ මා විසින් මනාසේ වටහා ගන්නා ලදී. එම නිසා මම ඔබවහන්සේලා වෙනුවෙන් උතුම්

ස්ථූපයක් කරවන්නෙමි.[1] එහි ධාතූන්වහන්සේලාද තැන්පත් කරන්නෙමි. එය කරන පිළිවල දැනගනු කැමැත්තෙමි.

මහින්ද මහා තෙරණුවෝ මෙම අවස්ථාවේ සුමණතෙරුන් වහන්සේ අමතා මෙසේ වදළහ.

"සුමණ මෙහි එන්න[2] ඔබ උතුම් වූ පැලලුප් නුවරට ගොස් එහි රාජ්‍ය, විචාරන්නාවූ ධර්මාශෝක රජතුමාට මෙසේ සැලකරන්න."

"මහරජතුමනි: ඔබගේ නොදුටු මිතුරු දෙවනපෑතිස් රජතුමා බුද්ධ හාසනයෙහි පැහැදුනේය. ඔහු බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් චෛත්‍යයක් කරවනු කැමැත්තෙන් පසුවෙයි. එම නිසා එහි නිදන් කරවීම පිණිස උතුම්වූ සර්වඥධාතු ලබා දෙන්න.

යනුවෙනි.

ඒ ඍද්ධිමත්වූ, නිශ්චලවූ, බහුශ්‍රැතවූ: කීකරුවූ, අවවාද අනුශාසනාවන්හි මනාසේ පිහිටියාවූ සුමණ තෙරුන් වහන්සේ එම අවස්ථාවේදී පාසිවුරු ගෙන මිහින්තලා පව්වෙන් පිටත්ව දඹදිව් තලයට වැඩිසේක . එසේ වැඩම කලාවූ උන්වහන්සේ මිහිඳු මා හිමියන් වදළ පරිදි එම තොරතුරු එපරිද්දෙන්ම ධර්මාශෝක රජුට[3] දැන්වූහ. එතෙරෙනුවෝ එය මෙසේ වදළෝ.

---

1. ම: ව: 17 වන පරි. සර්වඥයින් වහන්සේ පිරිනිවියා නොවේදැයි රජු අසන අතර ධාතූන් දැකීම බුදුන් දැකීමක් සේ රජුට පෙන්වා දුන් බව දැක්වේ.
2. ම: ව: පරි: 17 සඳහන් කරන්නේ රජ සුමණ සාමනේරයන් ඇමතූ බවයි. එහෙත් භික්ෂු ශාසන න්‍යායට පටහැනිව ම: ව: කතුවරයා ඉදිරිපත් කර ඇත්දැයි විමසිය යුතුය. දී. ව. සාම්ප්‍රදායික ශාසනික ලක්ෂණය ඒ ආකාරයෙන්ම ඇත.
3. ලංකාව සමග පැවති මෛත්‍රී සම්බන්ධතා ඉතාමත් ම කුළුපගව පැවති බවත්, ඒ පිළිබඳව පැවසීමට විශාල සාධක ඇති බවත් අශෝක පුත් මහින්ද තෙරුන් ධර්මදූතයෙකු වශයෙන් ලංකාවට පැමිණීමත් ලංකාවේ රජු දෙවන පෑතිස් අශෝක ආදර්ශයක් කොට ගත්තේ මෙම කුළුපගකම නිසා බවත් රොමිලාතපාර් මහතා පවසයි. විවිධ තානාපතිවරුන් බෙහෝ විට හුවමාරු කරගත් බවත් ශ්‍රීමහා බෝධියේ ශාඛාවක්ද ලංකාවට එව්වේ ඒ නිසා බවත් ඔහු වැඩිදුරටත් පෙන්වා දෙයි.

"මහරජතුමනි. මගේ උපාද්‍යායන් වහන්සේගේ වචන අසන්න."

"ඔබතුමාගේ නොදුටු මිත්‍රයා බුදුසසුනෙහි පැහැදින. ඔහු බුදුරජාණන් වහන්සේ උදෙසා චෛත්‍යයක් කරවනු කැමැත්තේවෙයි. ඒ සඳහා ඔහුට උතුම්වූ සර්වඥධාතු දෙන්න."

ධර්මාශෝක රජතුමා එම වචන නිසා සතුටු සිත් ඇත්තේ ප්‍රීතියෙන් ප්‍රමුදිතවූ දෙවන පෑතිස් රජතුමාට බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් චෛත්‍යයක් කරවීම සඳහා අවශ්‍යය සර්වඥධාතු පාත්‍රය පුරවා දුන්නේය. ඒ සුවච කීකරුවූ සුමණ තෙරුන් වහන්සේ එම ධාතූද රැගෙන අහසට පැනනැගී සක්‍ර දේවේන්ද්‍රයා සමීපයට වැඩියහ. උන්වහන්සේ ශක්‍රදේවේන්ද්‍රයා වෙතට පැමිණියේ මෙසේ වදළහ.

"සක්දෙව් රජතුමනි; මාගේ උපාධ්‍යායන් වහන්සේගේ වචන ශ්‍රවනය කරන්න. ලක්දිව දේවානම් පියතිස්ස රජතුමා බුදුසසුනෙහි පැහැදුනේය. එම රජතුමාට චෛත්‍යයක් කරවීම සඳහා සර්වඥධාතු ලබාදෙන්න."

සක් දෙව්රජ එවදන් අසා සතුටුසිත් ඇතිව බුදුරජාණන් වහන්සේගේ දකුණු අකුධාතුව" සුමණ තෙරුන් වහන්සේට දී මෙසේද කීවේය.

"මනා පැවතුම්වලින් යුක්තවූ තෙරුන්වහන්ස; ඉක්මනින් වඩින්න."

යනුවෙනි.

එම අවස්ථාවේ සුමණ තෙරුන් වහන්සේ සක්‍ර දේවේන්ද්‍රයා සමීපයට වැඩ සක්දෙව් රජුගෙන් බුදුරජාණන් වහන්සේගේ උතුම්වූ අකුධාතුව ලබාගෙන මිස්සක පර්වතයට වැඩිසේක. ලජ්ජාභයින් යුක්තවූ ගෞරවනීයවූ පණ්ඩිත බවින් යුක්තවූ සුමණ තෙරණුවන් මිහිදුමාහිමියන්[1] විසින් සක්දෙව් රජතුමා වෙත යවන ලදී. උන්වහන්සේ ධාතුන් වහන්සේලා ලබාගෙන මිස්සක පර්වතයට

1. ම: වං: 17 පරි. සඳහන්වන්නේ සුමණ හිමියන් දෙවනපැතිස් රජුගේ ඉල්ලීම මත ගිය බවය. එය බෞද්ධ සම්ප්‍රදායට පටහැනිය.

වැඩ සිටියහ. දෙවන පෑතිස් රජතුමා සිය සහෝදරයන්ද එක්ව තම සේනාවද පිරිවරා ගෙන ඒ ශ්‍රේෂ්ඨවූ සර්වඥධාතූන් වහන්සේලා ලබාගැනීමට ගමන් කළහ. සුමණ තෙරුන් වහන්සේ සර්වඥධාතූන් වහන්සේලා ගෙන මෙහි වැඩියේ ග්‍රීෂ්ම ඍතුවෙහි සිව්වන මාසයේ පළමුවන දිනයෙහි පිපුණු කුමුදු මල් සහිත සඳ ඇති රාත්‍රියේය. රජතුමා[1] එම ධාතූන් වහන්සේලා ඇතුගේ කුම්බස්තලයෙහි තැබීය. එම අවස්ථාවේ ඇත්රජු හිස ගින්නෙන් තැවූ කලෙක මෙන් කුඤ්චනාද කළේය. සර්වඥධාතූන් වහන්සේලා මෙසේ තැන්පත් කළ කල්හි මහපොළව කම්පාවිය. එසේම මෙම අවස්ථාවේදී සක්බෙරඃ පනාබෙර ආදී භේරීනාදයන්ගෙන් හා විවිධ අනෙකුත් තූර්යනාදයන්ගෙන්ද එකණින් සැදුම්ලද්දේය. සහ පිරිවරින් පැමිණි දෙවනපෑතිස් රජතුමා ධාතූන් වැඳපුද ගන්නා ලදී. එයින් පසු ඇත්රජු රජුගේ පාබලසෙනඟ සමීපයෙන් අවුත් නැගෙනහිර දෙරටුවෙන් නගරයට පිවිසියේය. එම අවස්ථාවේ ස්ත්‍රී පුරුෂ ජනී ජනීහු නොයෙකුත් මල් හා විවිධ සුවඳ විලවුල් ගෙනවුත් ධාතූන් වහන්සේට පූජා පැවැත්වූහ.[2] ඇත් රජු එයිනනතුරුව දකුණු දොරටුවෙන් නික්මුණි. එසේ නික්මුණා වූ ඇතුන් අතරින් උතුම් වූ ඒ ඇත්රජ කකුසඳඃ කෝණාගම, කාශ්‍යපඃ යන තුන්බුදුවරයාණන් වහන්සේ ලාගේ ධාතු පිහිටුවන ලද්දවූ යම් ප්‍රදේශයක් වේද එම භූමි ප්‍රදේශයට පැමිණියේය. එම නරශ්‍රේෂ්ඨවූ දෙවනපෑතිස් මහරජාණෝ අප ගෞතම ශාක්‍යය පුත්‍රයාණන් වහන්සේගේ ධාතූන් වහන්සේලා එහි පිහිටවූහ. එසේ ධාතූන් වහන්සේලා පිහිටවූ කල්හි සියළු දෙවියෝ ප්‍රමුදිතවූහ. එම අවස්ථාවේ ලොමුඩැහැගන්වන ආකාරයෙන් කුඩා ප්‍රමාණයේ භූමිකම්පාවක්ද ඇතිවිය. මේ ආකාරයෙන් සුමණ තෙරණුවෝ එහි සිටි සියලු දෙනා පැහැදවූ අතර ගඩොලින් චෛත්‍යයක්ද නිර්මාණය කරවන ලදී.[3]

1. මඃ වඃ 17 පරි. සඳහන් වන්නේ ධාතූන්වහන්සේලා මිහිඳු මහරහතුන් වහන්සේ අත තැබූ බවය. උන්වහන්සේ සඳගිරියට පැමිණ එය දුන් බවය. එහි දැක්වෙන්නේ. එය චේතියගිරිය වූයේ එම ධාතු එහි තැබීමෙන් පසුබවද දැක්වේ.
2. මඃ වඃ 20 පරි. දැක්වෙන්නේ ධාතූන් වහන්සේ ඇත්කුඹමත තබාගෙන එන්නේ මෙයට පසු වෙනත් අවස්ථාවකදීය.
3. මඃ වඃ හා ථූ. ව. යන ග්‍රන්ථයන්හි දෙවන පෑතිස් රජු අබාවැවේ කිරිමැටි ගෙන්වා ඒ තුළ අකුධාතුව රඳවා ඇතු එහි ආරක්ෂාවට තබා තවත් ආරක්ෂාකයින් යොදවා චෛත්‍යය සෑදීමට ගඩොල් සූදනම් කරවූ බව සඳහන් වේ.

පසුව මෙය මැණික් වලින් නිරාවරණය කරන ලදුව එම සර්වඥධාතුවලින් හෙබියාවූ චෛත්‍යය ක්ෂත්‍රියයෝ වැදුම් පිදුම් කළාහුය. මෙම ස්ථානය එම අවස්ථාවේම සුදු කුඩවලින් හා වෙනත් ආකාරයේ කුඩවලින්ද ආවරණය කරන ලදී. තවද වල්විදුනා හා නොයෙක් දර්ශනීය සැරසිලිවලින් ද විසිතුරු කරන ලද්දේ විය. ඒ ඒ දිසාවන්හි කරන ලද චෛත්‍යයන්[1] විවිධ පහන්වලින් ආලෝකමත් විය. එය හිරුඋදුව කල හාත්පස ආලෝකමත් වන්නාක් මෙන් වූයේය. එසේම හාත්පස අහස්කුස විවිධ වර්ණවත් වලාකුල්වලින් අලංකාරවූයේය. තවද මෙම චෛත්‍යය භූමියෙහි රන්වැලි අතුරන ලදී. එපමණක්ද නොව අවට අහස රන්මලින් ගැවසීගත්තේ ඒ කෙසේදයත් රන්මය වියන් බඳනා කලෙක මෙන් විය.

කකුසඳ බුදුරජාණන් වහන්සේ පහළවූ කාලයේදී උන්වහන්සේ හතලිස් දහසක් භික්ෂූන් වහන්සේලා පිරිවරන ලදුව ලක්දිවට වැඩිසේක. මහාකරුණාවෙන් ලතෙත්වූ ඒ සර්වඥයන් වහන්සේගේ කාලයෙහි ලංකාදීපය ඕජදීප නම්විය. එකල්හි උන්වහන්සේ ලක්දිවෙහි වූ අභය පුරයෙහි විසූ මිනිසුන් හා අවශේෂ අනෙකුත් සත්වයන්ගේද හිත සුව පිණිස ලක්දිව බලා වැඩවදාල සේක. උදගිරි පර්වතයෙන් නැගුණාවූ සූර්යයා පද්මයන් පුබුදු කරන්නාක් මෙන් එම සර්වඥයන් වහන්සේ උන්වහන්සේගේ බුද්ධ රශ්මියෙන් බොහෝ සත්වයන් පුබුදු කලසේක. එම කකුසඳ බුදුරජාණන් වහන්සේ අහසෙහි පැනනැගී බබලන සූර්යයා මෙන් හතලිස් දහසක් භික්ෂු සංඝයා ද පිරිවර කොට ගෙන ඕජදීපයෙහි වැඩසිටි සේක. එකල කොළොම්තොටින්[2] වෙන් කරන ලද මෙම මනරම් වූ අභයපුරය මනාව බෙදන ලද අලංකාර වීථිවලින්ද යුක්ත විය. එම කාලයෙහිදී ලක්දිව පූර්ණක[3] නම් ඉතා භයානක දරුණු උණ රෝගයක් හට ගත්තේය. මෙම හේතුව නිසා මිනිසුන්ගේ ජීවිත කෙමෙන් අලසව සිටි මසුන්ගේ ජීවිත මෙන් අස්ථිර විය. කකුසඳ බුදුරජාණන් වහන්සේගේ පැමිණීමත් සමග උන්වහන්සේගේ අනුභාවයෙන් එම

---

1. පරිවාර චෛත්‍යයන් විය හැකිය.
2. කදම්භනදී: මල්වතුඔය යන නම්වලින් සඳහන්වන්නේද මෙයයි.
3. මෙම උණරෝගය දීපවංශය ලියන අවදියේ හෝ ඊට අර්ධ ශතකයකට පමණ පෙර සංඝබෝධි (සිරිසඟබෝ) අවදියේ පැදුනාවූ රෝගය දැයි විමසිය යුතුය.

රෝගාපද්‍රවය දුරුවිය. එසේම එම බුදුන් වහන්සේ ධර්මය නැමැති අමෘතය දේශනා කළ කල්හි මෙම ලක්දිව් තලයෙහි බුද්ධ ශාසනයද පිහිටියේය. උන්වහන්සේගේ ධර්මදේශනයෙන් අසූහාර දහසකට ධර්මාවබෝධය විය. එසේම මෙම අභය නගර ප්‍රදේශයෙහි 'පාටියාරාම'[1] නම් ආරාමයක්ද පිහිටියේය. එසේම එකල ධම්මකාර[2] නම් චෛත්‍යයක්ද මෙහි පිහිටියේය. කකුසඳ බුදුරජාණන් වහන්සේ සමග මෙහි වැඩි මහත් සෘද්ධිබලසම්පන්නව මහාදේව තෙරණුවෝ දහසක් භික්ෂු සංඝයාද සහිතව මෙහි වැඩ සිටියාහ. අනතුරුව කකුසඳ බුදුරජාණන් වහන්සේ පමණක් දඹදිවට වැඩි සේක.

එයින් පසු කපෙහි මහාමුනීද්‍රවූ කෝණාගම බුදුරජාණන් වහන්සේ මෙලොව පහළවූ සේක. උන්වහන්සේද තිස්දහසක් භික්ෂු සංඝයා පිරිවරා මෙම ලක්දිවට වැඩියහ. දසදහස් සංඛ්‍යාත ජනතාව කෙරේ උන්වහන්සේ පතලමහා කරුණාව පැතිරවූසේක. එම බුදුරජාණන් වහන්සේ අවදියෙහි ලක්දිව පතල වූයේ 'වරදීප' නමිනි. සසර දුකින් පෙළෙන්නා වූ මිනිසුන් දෙස බැලුවාවූ උන්වහන්සේ සුයශ්‍රීයා නෙළුම්මල් පුබුදුවන්නාක් මෙන් මෙම වරදීප භූමිය බුද්ධ තේජෝ මහිමයෙන් පහදවා ප්‍රමුදිත කළහ. එම කෝණාගම සර්වඥයන් වහන්සේ මෙම වරදීප නම්වූ ලක්පොළව මත පැන නැගුණාවූ සුයශ්‍රීමෙන් සමන්කූළ පව්වට වන්සේක. එකල මෙහි වර්ධමාන නම් නගරයක් විය. එම නගරයෙහි සමිද්ධි නම් රජකෙනෙකු රාජ්‍ය විචාලේය. උන්වහන්සේ වඩින සමයෙහි මෙහි වාසය කලාහු අයහපත් පැවතුම් ඇත්තෝවූහ. ඔවුහු දුර්භික්ෂ භයින් පෙළුනාහුය. සිඳීගිය වලක දුකට පත්ව සිටි මසුන් මෙන් උන්වහන්සේ එකල ලක්වැසියන් දුටුසේක. උන්වහන්සේ මෙහි වැඩිසේක් ඔවුන්ගේ දුක්දුරුකිරීම පිණිසය. උන්වහන්සේ මෙහි වැඩි අවස්ථාවේ මහා වැසි හට ගත්තේය. එයින්ම සියළු ජනයින්ගේ සැපත උදාවිය. සියළු දෙනාගේ දුක් පහව ගියබව දුටු උන්වහන්සේ සියළුම ජනපද වාසීන් අස්වැසූ සේක. එම කාලයෙහි නගරයෙහි දකුණු පස එනම් තිසාවැව[3] 'සමීපයෙහි 'උත්තරාරාම[3] නම්

1. මෙය අනුරාධපුරයුගයේ තිබූ පාචීනාරාමයට භාවිතා කරන ලද වෙනත් නමක් බව පෙනේ.
2. මෙහි ධම්මකාරක, යන අදහසින් ගත් විට, ධර්මය කරවන්නා පතුරුවන්නා යන අදහස ගෙන දෙයි. එසේම ධම්මකාර යනුවෙන් වතුරඅදින දබරාවට ද කියයි.
3. මෙම කායබන්ධන චෛත්‍ය පිළිබඳවත් තිසාවැව හා උත්තරාරාමය පිළිබඳවත් ම: වං: හෝ ථූ. වං. දක්නට නොලැබේ.

විහාරයක් කායබන්ධන[3] නම් චෛත්‍යයක් පිහිටියේය. උන්වහන්සේ සූර්‍යයා මෙන් බබලමින් ධර්‍මය දේශනා කලසේක. එම ධර්‍මය ශ්‍රවනය කිරීමෙන් අසූහතර දහසකට මාර්‍ගඵලාවබෝධ විය. අනතුරුව කෝණාගම බුදුරජාණන් වහන්සේගේ අග්‍රශ්‍රාවක වූ සුමණ තෙරණුවෝ දහසක් භික්‍ෂූන් පිරිවරාගෙන මෙම ලක්දිවෙහි නතරවූහ. එම කෝණාගම බුදුහු පමණක් දඹදිව වැඩිසේක.

තෙවැනි කල්පයෙහි ලෝක නායකවූ කාශ්‍යප සම්මා සම්බුදු රජාණෝ ලොව පහළ වූහ. එම කාශ්‍යප බුදුහු විසිදහසක් භික්‍ෂුසංඝයා පිරිවරා ලක්දිවට වැඩිසේක. තුන්ලොව බලාවදරන්නාවූ උන්වහන්සේ දෙව්මිනිසුන් දෙස බැලූසේක. දෙව්මිනිසුන්ගේ පුදසැලකිලි ලත්සේක. එකල මහා කරුණාවෙන් යුත් උන්වහන්සේ උතුම්වූ පිරිසිදු බුදු ඇසින් ලක්දිව පුහුදුන් ජනයාවෙත බලාවදළහ. සූර්‍යයා පද්මයන් පුබුදු කරන්නාක් මෙන් ලක්දිව පුහුදුන් ජනයා පැහැදවූසේක. එම බුදුරදහු මෙසේද සිතූහ.

> 'මම 'මණ්ඩදීපය' නම්වූ ලංකාදීපයට යන්නෙමි. එහි වැඩ මාගේ ශාසනය බබුලුවා ලන්නෙමි. පූර්‍ණචන්ද්‍රයා ගණඳුර පහකරන්නේ යම්සේද එසේම සියලු දෙනාගේ මෝහාන්ධකාරය දුරුකොට මාගේ ශාසනය මෙහි පිහිටුවන්නෙමි.

යනුවෙනි. භික්‍ෂු සංඝයා පිරිවරන ලද්දවූ එම කාශ්‍යප බුදුරජාණන් වහන්සේ අහසින් ලක්දිවට වැඩියහ. උන්වහන්සේ ලංකාදීපයට වැඩියේ අහස්කුස මැද සිට සූර්‍යයා බබලන්නාක් මෙනි. එම කාශ්‍යප සර්‍වඥයන් වහන්සේ මෙහි වැඩියේ සබ්බනන්ද[1] නම් අගසව් තෙරණුවන්ද සමගය. ඒ කාලයේ මෙම මිහින්තලා පර්‍වතය සුභකූට නමින් ප්‍රසිද්ධවිය. එසේම මෙම ප්‍රදේශයේ 'විශාල' නම්වූ නගරයක්ද විය. එහි රාජ්‍ය විචාරණ ලද්දේ 'ජයන්ත' නම් රජ විසිනි. මෙම විශාලත්වයෙන් පිරි නගරය පිහිටියේ බෝර්ම තඩාග නම් විලසමීපයේය. එහි පැල දෙර අසල 'ප්‍රාචීනාරාම' නම් විහාරයක් වූ අතර 'ජලසාටික[2] නම් චෛත්‍යයක්ද වූයේය.

---

1. කනකදත්ත හා සුධම්මා නම් රහත් මෙහෙනියක්ද පැමිණි බව මඃ වඃ 17 පරි. දැක්වේ.
2. මඃ වඃ සඳහන් වන්නේ 'ජලසාටික' හෙවත් නානකඩ වන්දනාමාන සඳහා දී ගිය බවය. තවද නිග්‍රෝධ බෝධියේ දක්‍ෂිණ භාඛාව ගෙනා බවද දැක්වේ.

අප කාශ්‍යප බුදුරජාණන් වහන්සේ යුද්ධයේ නිමග්නව සිටි සහෝදරයන්[1] සමගි කරවා, සියළු මිනිසුන් සනසා ධර්මය දේශනා කොට මෙහි උතුම් වූ ශාසනය පිහිටවූ සේක. මෙම ධර්මය දේශනා කළ කල්හි එය වටහා ගත් අසූහාර දහසක් මාර්ගඵල අවබෝධ කරගත්තාහුය. එයින් පසු සම්බනන්ද අගසව් තෙරුන් වහන්සේ හා පැමිණි විසිදහසක් භික්ෂූන් වහන්සේලා මෙහි නතරවූහ. කාශ්‍යප බුදු රජාණණ වහන්සේ පමණක් තනිවම දඹදිව වැඩිසේක.

මෙම කල්පයෙහි අපගේ ලෝකනායකවූ ගෞතම සම්‍යක් සම්බුදුරජාණන් වහන්සේ මෙළොව පහළවූසේක. සියළු සත්වයන් කෙරේ පතල මහා කරුණාවක් ඇති උන්වහන්සේසියළු සත්වයන් කෙරේ අනුකම්පා උපදවා උතුම්වූ ශ්‍රී සද්ධර්මය දේශනා කළ සේක. ඒ නර ශ්‍රේෂ්ඨවූ සම්මා සම්බුද්ධ වූ ලෝක නායකයාණන් වහන්සේ පළමු වරට මෙහි වැඩියේ චූලෝදර හා මහෝදර යන නාගවංශිකයන් දෙදෙනා යුද්ධය සඳහා සැරසුන අවස්ථාවේදීය. එසේ යුදබිමට පිවිසියාවූ එම නාගයෝ වෛරය නැමැති ගින්නෙන් රත්ව දුම් පිටකරමින් උන්නාහුය. එම නිසාම සියල්ලෝ මහත් භයින් සමුච්චින්න වූහ. ඔවුහු ලංකාව වැනසීමට සැරසී සිටියහ. මෙම මාමා හා බෑනා යන නාගයෝ තම තමන්ගේ සේනා පිරිවරනු ලදුව ඉදිරියටම ආහ. එම අවස්ථාවේ එම ගෞතම සම්‍යක් සම්බුදු රජාණන් වහන්සේ මෙසේ සිතූසේක.

"මම මෙළොව පහළවූ ගෞතම සම්‍යක් සම්බුදුරදුන් වෙමි. මම ඒ උතුම් වූ දිවයිනට ගොස් නාගයන් ද සනසන්නෙමි. එසේම මම පිරිණිවීමෙන් පසු රමණීයවූ අනුරාධපුර නගරයෙහි දෙවන පෑතිස්ස නම් වූ ක්ෂත්‍රිය රජෙකු පහළ වනනේය. තවද මාගේ ශ්‍රාවකයාණණ් වහන්සේ නමක් වන මහාමහින්ද තෙරුන් වහන්සේ මිහින්තලා පර්වතයේදී එම දෙවනපෑතිස් රජතුමා පහදවා බුදුදහම පිහිටුවන්නේය."යයි වදාළ සේක.

---

1. එකල සිටි ජයන්ත රජු හා ඔහුගේ මලණුවන් වූ "මන්ඩ" කුමරු අතර මෙම බිහිසුණු යුද්ධය කෙරුණ බවත් එය සංසිඳවීමට කාශ්‍යප බුදුන් පැමිණි බවත් ම: ව: 17 පරි දැක්වේ.

ඒ මහින්ද මහා තෙරණුවෝ රජුට මෙසේ ද කීහ.

"එම භාග්‍යවතුන් වහන්සේ කුසිනාරා නුවර මල්ලරජදරුවන්ගේ උපවර්තන නම් සල්වනයෙහි දී සියළු උපධීන්ගෙන් මිදී අනුපදිශේෂනිර්වාණධාතුවෙන් පිරිනිවන්පෑ සේක. උන්වහන්සේ පිරිනිවන් මඤ්චකයේ වැඩ සිටිමින් මෙසේද වදළෝ. "මගේ පිරිනිවන් පෑමෙන් අවුරුදු 236ක් ගතවූ කල්හි මහින්ද නම් භික්ෂූන් වහන්සේ ලංකාව බබුලුවන්නේය." යනුවෙනි.

තවදුරටත් රජතුමා ඇමතූ උන්වහන්සේ

"මහරජතුමනි, අනුරාධපුර නගරයට දකුණුපසින් පිහිටි මනෝරම්‍යවූ භූමිභාගයක් ඇත. එහි ථූපාරාම[1] නමින් ව්‍යවහාර වන ආරාමයක්ද කෙරෙන්නේය. එම කාලයේදී මෙම දිවයින තම්බපන්නි යන නාමයෙන් ව්‍යවහාර වන්නේය. මනාසේ මාගේ ශාරීරික ධාතූන් එහි පිහිටන්නේය. තවද දෙවනපෑතිස් රජුගේ අග්‍රමහේසිකා ක්ෂත්‍රිය වංශයේ අනුලා නම් බිසොවුන් වහන්සේ බුදුරජාණන් වහන්සේ කෙරෙහිද; ධර්මය කෙරෙහිද; සංඝරත්න කෙරෙහිද සෘජු දැකීමක් ඇතිව පැහැදී මෙම බවකතරින් එතරව බබලන්නීය."

යනුවෙනි. අනුලාදේවිය පිළිබඳ තෙරුන් වහන්සේගේ වදන් ඇසූ රජතුමා එම අවස්ථාවේදී තෙරුන් වහන්සේට මෙසේ කීවේය.

"ස්වාමීන් වහන්ස; මනාදැක්මක් ඇති අනුලාදේවිය[2] බුද්ධ; ධම්ම; සංඝ; යන ත්‍රිවිධරත්නයෙහි පැහැදුනේ වෙයි. භවාශාව ඇයගෙන් දුරුව ඇත. එනිසා ඇය පැවිදි කරවන්න."

---

1. ම: වං: ථූපාරාමය ගැන වෙනත් අවස්ථාවකදී සඳහන් කරන අතර දේවානම් පියතිස්සරජු රුවන්වැලි සෑය එම අවස්ථාවේදී කිරීමට සැරසුන බව සඳහන් කරයි.
2. අනුලාදේවිය පිළිබඳ කතාව මෙහිදී ස්වාභාවික ලෙස ඉදිරිපත් කර ඇතත් ම: වං: 15 පරි. පෙන්වන්නේ විශාකා සිටු දේවිය ඇතුළු පිරිස ස්ත්‍රීන් 500ක් සමග පැවිද්ද ඉල්ලීම සඳහා බුදුන් දකින්නට ගිය ආකාරයෙන්. අනුලා බිසොවද 500ක් ස්ත්‍රීන් පිරිවරාගෙන ගිය ආකාරයකි.

එය ඇසූ මහාමහින්ද තෙරුන් වහන්සේ මෙසේ වදාළ සේක.

> මහරජතුමනි: භික්ෂූන්වන අපට ස්ත්‍රීන් පැවිදි කරවීම අකැපය. මාගේ නැගණිය වූ සංඝමිත්තා[1] තෙරණිය මෙහි පැමිණ කල්හි අනුලා දේවියට පැවිද්ද සියළු සංසාරබැම්වලින් මිදීමට හැකිවන්නේය. මෙම සංඝමිත්තා තෙරණියන් නැණවත් බවින් අගතැන්පත්ව ඇති අතර ඒ සමග ඇති උත්තරා තෙරණිය විචක්ෂණ භාවයෙන් ප්‍රධානය. එසේම එහි සිටින හේමා තෙරණිය හා මාසගල්ලාව යන තෙරණිහු ඉතා තියුණු ලෙස අදහස් ඉදිරිපත් කරන්නාහුය. එසේම පිරිසිදු චෛතසිකයන්ගෙන් යුක්තවූ, ධම්විනයෙහි ඇළුණු සියළු ආශ්‍රවයන් පහකලාවූ ත්‍රිවිද්‍යාධර සෘද්ධිමත් වූ අග්ගිමිත්තා; තප්පා; පබ්බතච්ඡින්නා මල්ලා; ධම්මදාසිකා; ආදී තෙරණියෝද වූහ. රහත්බවින් යුක්තවූ එම භික්ෂුනීහු[2] මෙහි පැමිණෙන්නා හුය.

තෙරුන් වහන්සේ මෙසේ වදරණලද කල්හි මහ ඇමතිවරුන් පිරිවරන ලද්දවූ රජතුමා ඒ දෙස බලා සිටියේය. එසේ බලා සිටියාවූ දෙවන පෑතිස්ස රජතුමා ඒ පිළිබඳව අදහස් දැක්වීම සඳහා අමැතිවරුන් ඇමතීය. රජුගේ, අරිට්ඨ ඇමතිවරයා රජුගේ එම වචන කෙරේ අවධානය යොමු කළේය. තෙරුන්වහන්සේගේ අනුශාසනය පිළිගත්තාවූ රජතුමා අරිට්ඨ ඇමතිවරයා හට මෙසේ කීවේය.

> "අරිට්ඨය: මම පැවිදිවීමට කැමැති වන්නාවූ තැනැත්තියන්හට ඒ සඳහා අවසර දෙමි. එම නිසා ඔබ මෙම පණිවුඩයද රැගෙන දඹදිව යන්න."

නිහඬ බවින් අරිට්ඨ ඇමතිවරයා එම කැපකරුදයක්තවය පිළිගත්තේය.[3]

---

1. අශෝකරජු දෙවනපෑතිස රජු කෙරේ තිබූ පැහැදීම නිසා ලක්දිවට තම දරුවන් වන සංඝමිත්තා හා මහින්ද යන තෙරවරුන් එවූ බවත් සඳහන් කරන රොමිලා තපර් මහතා අශෝකගේ තවත් දියණියක් නේපාල කඳුවලින් පැමිණි රදළයෙකු හා විවාහවූ බවද පෙන්වා දෙයි.
2. ම: ව: හා චූ. ව: ආදී අනෙක් වංශකථාවල මෙම තෙරණින් පිළිබඳව සඳහන් නොවේ.
3. ම: ව: මෙය 18 පරි. සඳහන් වන්නේ සුද්ධෝදන රජතුමා බුදුන්හමුවීමට කාලුදායි ඇමතිට මහණවීමට අවසරදී යැවූ ආකාරයට මෙහිදී අරිට්ඨ ඇමතිවරයාද ගොස් ඇත්තේ මහණවීමට අවසරදීමෙන් පසුවය.

පැවිදි බව අපේක්ෂාවෙන් සිටි අනුලා බිසොව ප්‍රධාන කොට ඇති ඒ පන්සීයක් පමණ වංශවත් ස්ත්‍රීහු අනුලා බිසොව පිරිවරන ලදුව නගරයේ එක් පසෙක ගෙයක් සාදවාගෙන දශසිල් සමාදන්ව උන්නාහුය. එහි පැමිණියාහු ඔවුනට උදේසවස උපස්ථාන කලාහුය. මෙම අවදියේ දී මහත් බලයෙන් යුත් අරිට්ඨ ඇමති තෙම නැවින් ගොස් දඹදිව ගොඩ බැස්සේය. ඔහු පාඨලීපුත්‍ර නගරයට පිවිසියේ වින්ධ්‍යාවනය[1] පසුකරමිනි. අනතුරුව ධර්මාශෝක මහරජු වෙත ගියේ රජුට මෙසේ කීවේය.

> 'මහරජතුමනි, මා ඔබතුමා වෙත පමුණුවන ලද්දේ ඔබතුමාගේ පුත් මහින්ද මහරහතුන් වහන්සේ විසිනි. එසේම බුදු සසුනෙහි පැහැදුනාවූ ප්‍රියදර්ශී වූ දෙවන පැතිස් රජතුමන්ද මට ඔබතුමන් වෙත පැමිණෙන ලෙස අනුදැන වදරණ ලදී.'

අරිට්ඨ ඇමති තෙම එයින් පසු තමාදෙස යොමුකරන ලද පණිවුඩය කියා[2] මෙසේද කියා සිටියේ ය.

> 'මහසෘෂිවූ මහින්ද මහා තෙරණුවෝ සංඝමිත්තා මෙහෙණින් වහන්සේට සැලකර සිටීමට මෙසේද වදළහ. ක්ෂත්‍රියවංශයේ අනුලා නම් රාජකන්‍යාව බුද්ධශාසනයේ මහත්සේ පැහැදී සිටින්නීය. එසේම අනුලාදේවිය ඇතුළු ඒ සියළු ස්ත්‍රීහු පැවිදිවීමේ ආශාවෙන් වෙසෙති.' යනුවෙනි.

විචක්ෂණවූ එම සංඝමිත්තා මෙහෙණින් වහස්සේ ස්වකීය සහෝදරයාගේ පණිවිඩය අසා ඉක්මිනි රජුවෙත එළඹ මෙසේ සැළකළහ.

> 'මහරජතුමනි; මම ලක්දිව යන්නෙමි. ඒ සඳහා මට අවසර දෙන්න. තවද මට මාගේ සොහොයුරාගේ වචන ඉවතලිය නොහැක.' යනුවෙනි.

---

1. ම: ව: සඳහන් වන්නේ අරිට්ඨ ඇමති දඹකොළපටුනින් නැවිනැග මිහිඳු හිමියන් ගේ අධිෂ්ඨාන බලයෙන් පැලලුප් නුවරට වැඩිබවය. එහෙත් මෙම පුවත අනුව වින්ධ්‍යා කඳුවැටිය තරණය කොට මහත් දුෂ්කර ගමනක් ගිය බව පෙනීයයි. මෙය වඩාත් ඓතිහාසිකය.
2. ම: ව: 18 පරි. සංදේශයක් යැවූ බව දැක්වේ.

එම අවස්ථාවේදී අශෝක රජතුමා මෙසේ කීවේය.

"මාගේ පුත් ඔබගේ දෙටු සොහොයුරු, මාගේ "සුමණ" නම් බෑනණුවන්ද සමග ලක්දිවට ගියහ. එනිසා මාගේ එකම ප්‍රිය දියණිය වූ ඔබගේ ලක්දිව් ගමනට මට එකඟවිය නොහැක."

යනුවෙනි.

නැවතත් තෙරණියන් වහන්සේ මෙසේ කීහ.

"මහරජාණන් වහන්ස; මාගේ සොහොයුරාණන්ගේ ඉල්ලීම ඉතා බලවත්ය. තවද අනුලාදේවිය ඇතුළු පන්සීයක් ක්ෂත්‍රිය රාජකුමාරිකාවෝ පැවිද්ද ලබාගැනීමේ අපේක්ෂාවෙන් මා පැමිණෙන තෙක් පෙරමග බලා සිටිති. එහෙයින් මම යායුතු වන්නෙමි.[1] යනුවෙන්ද කීහ.

1. මහාබෝධීන් වහන්සේගේ ශාඛාවක් ගෙනයා යුතු බව එම සංදේශවල සඳහන්වී තිබූ බවක් ම: ව: පරි. දැක්වේ.
එසේම අනුරාධපුරයෙහි රෝපනය කරන ලද මෙ මහාබෝධි ශාඛාව පසුකාලෙක, ආගම්විරෝධී උම්මන්තකයෙකු විසින් කපා දමන ලදැයි ඉතිහාසඥයෝ දක්වති.

# 16

එම අවස්ථාවෙහි ධර්මාශෝක මහරජතුමා චතුරංගනී සේනාවෙන් සමන්විතව ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ බුද්ධත්වයට උපකාරීවූ ශ්‍රී මහාබෝධීන් වහන්සේ ගේ දක්ෂිණ බෝධි ශාඛාවද රැගෙන සමුද්‍ර තීරයට පැමිණියේය. එම රජතුමා 'මහණ්ණව[1] නම් නැව්තොටට සම්ප්‍රාප්ත වූයේ රාජ්‍ය තුනක් හා වින්ධ්‍යාවනය ද පසුකරමිනි. භික්ෂුණී ශ්‍රාවිකා සඟමිත් තෙරණියද උතුම් වූ බෝධීන් වහන්සේද රැගෙන මහසමුදුර වෙත පැමිණියහ. ඒ බෝධීන් වහන්සේ මහාසාගරයෙන් වැඩම කළහ. ඒ අවස්ථාවේදී අහසේ දෙවියෝ පංචතූර්යනාද පැවැත්වූහ. එසේම සිව්දිග මිනිසුන් විසින් ද පංචතූර්යනාද පවත්වන ලදී. මෙසේ පංචතූර්යනාද පවතිද්දී ධර්මාශෝක රජතුමා දෙහොත් මුදුන්දී බෝධීන්වහන්සේට වන්දනාමාන කොට මෙසේ කීවේය.[2]

> 'සෘද්ධි මතෙකු වූ මාගේ පුත් මහින්ද තෙරුන්වහන්සේ සිල්වතෙකු හා සමාධි ගතවූවෙකුද වෙයි. එවන් තෙරණුවන් මහජනයාද නොදැකීමෙන් කම්පාවට පත්ව ඇති හෙයින් නමට පමණක් අස්වසාලිය නොහැකිය.' යනුවෙනි.

බෝධීන් වහන්සේ වැඩමවන අවස්ථාවෙහි එම ධර්මාශෝක රජතුමා ශෝකාකුලත්වයෙන් වැලපී එය නොපෙනී යන තෙක්ම

---

1. ම. වං. පරි 19 සඳහන්වන්නේ වින්ධ්‍යාවනය හරහා තාම්‍රලිප්තියට පැමිණි බවය. තාම්‍රලිප්ති නැව්තොට පිහිටියේ නැගෙනහිර දිග ඉංදියාවේ. පාටලීපුත්‍ර නගරයට වඩාත් ළඟ පිහිටි නැව්තොට ද එයයි. එයට පැමිණීමේදී වින්ධ්‍යාවනය හමු නොවේ. මහණ්ණව නම් ස්ථානය පිහිටා ඇත්තේ දකුණු ඉංදියාවේය. ද.ඉ. පැමිණීමේදී වින්ධ්‍යාකඳුවැටිය තරණය කළ යුතු ය. මේ අනුව සඟමිත් තෙරණියෝ පැමිණ ඇති බව පෙනෙන්නේ ද. ඉ. හරහා පැමිණ දඹකොළ පටුනටය. මේ නිසා මඃ වඃ පුවත විමර්ශනයට ලක්කල යුතුය.
2. රොමිලා තපර් පවසන්නේ අශෝක බෞද්ධයෙකු නොවූ බවත් රාජ්‍ය පාලකයෙකු වශයෙන් සියළු ආගමිකයන්ට පොදුවේ සැලකූ බවත්ය. බොහෝ ඉතිහාසඥයෝද මේ බව කියිති.

බලා සිටියේය. රජු ස්වකීය මාළිගයට පැමිණියේ එය නොපෙනී ගිය කල්හිය. මෙම අවස්ථාවෙහි දෙවියෝද නාගයොද මහසයුර මත විවිධ වර්ණවත් දේ නිර්මාණය කළාහුය. තවද යක්ෂයන් හා කුම්භාණ්ඩයන්ද, පිසාචයින් හා භූතයන්ද ලක්දිවට වැඩමවන්නාවූ උතුම් බෝධීන් වහන්සේ පිරිවරා සිටියාහුය. මෙය දුටුවාවූ යාම; තුසිත; තව්තිසා යන දෙව්ලෝවාසී දෙවිවරුන්ද නිම්මාණරතී දිව්‍ය ලෝකයේ දෙවිවරුන්ද; පරනිම්මිත දෙව්ලෝ දෙවිවරුද; වසවත්ති දිව්‍යලෝකයේ දෙවිවරුද සතුටින් පිනාගියාහුය. ප්‍රමුදිතවූවාහුය.[1] ඔවුහු මෙසේ සතුටින් ප්‍රමුදිතව අසල රාජ්‍යකට වැඩම වන්නාවූ බෝධීන් වහන්සේ පිරිවැරූහ. තවද ඉන්ද්‍රදිව්‍ය රාජයා පෙරටුකොටගත් තිස්තුන්කෝටියක් දිව්‍ය පුත්‍රයෝද සමීප රාජ්‍යකට ගෙන යන්නාවූ බෝධීන් වහන්සේ පිරිවරමින් සිටියාහුය. අත් පොලසන් දුන්නාහුය. මෙම අවස්ථාවේදී සිව්දිගට අධිපතිවූ, කුවේර; විරූඪ; විරූපාක්ෂ; දසරථ යන අධිපතීහු සිව් දිගින් පැමිණ සිටියාහුය. ඔවුන් බෝධිය පිරිවරන ලද්දේ මුඛපටාහාරබෙර හා, දීපල්ල; දින්දීම ආදී බෙරද[2] වාදනය කරමිනි.

තවද ලක්දිවට වැඩමවන ලද මෙම බෝධීන් වහන්සේ පිරිවරාගත් විවිධ දෙවිවරු ක්‍රීඩා කරති. ඔවුහු දේවානුභාවය පදනම්කර ගනිමින් දිව්‍යලෝකයේ පරසතු මදාරාමල්ද දිව්‍යමය සඳුන් කුඩද බෝධීන් වහන්සේට පූජෝපහාර පිණිස වර්ෂා කරති. එසේම දෙවිවරු එම මල්වලින්ම බෝධිය පුදත්. එපමණක්ද නොව මෙසේ වැඩමවා ගෙනඑන ලබන්නාවූ බුදුරජාණන්වහන්සේට බුදුවීමට සෙවන දුන්නාවූ එම බෝධීන් වහන්සේට සපු; බක්මී; කොහොඹ; නා; ගොඩවැටකෝ; යන මල්වලින් දෙවියෝ පිදූහ.

---

1. මෙම පොත ලියන අවදිය වනවිට ආතත; විතත; විතතාතථ; ආදියෙන් සැදුම්ලත් ක්‍රමාණුකූල සංගීත ශාස්ත්‍රයක් පැවති බව පෙනේ.
2. බෝධි වංශයේ සඳහන් වන්නේ "බෝධීන්වහන්සේ ආරක්ෂා කරවයි කියා අටලොස් කුලෙකැ දෙවියන් කැඳවා" යනුවෙනි. මෙයින් ශ්‍රමදරිකයන් දෙවියන් වශයෙන් සැලකූබවක් පෙනේ. මෙම 18 කුල කාර්මිකයන්ගේ නම්ද මෙහිද දක්වා ඇත. (බෝ. වං. අලව් ඉසිසැබිහෙළ 224 වන පිට) මෙම පුවත පිළිබඳව සමන්ත පාසාදිකාවේද, සාරාත්‍ථදීපනීයෙහිද සඳහන්ය. දී. ව. හා මඃ ව. පුවත් සැමට ගැලපේ. නමුත් රාජවලියේ පුවත් නොගැලපේ. විමතිවිනෝදනියෙහිද මේ ගැන දැක්වේ. බෝ. ව. සඳහන් දේවවාදී අදහස් ක්ෂත්‍රියන් හැඳින්වීම සඳහා යොදගත් බව මහාචාර්ය ගෛගර් මහතා කියයි.

එසේම නාගරජවරු නාගකණ්‍යාවන් හා ඔවුන් දරුවන්ද සමග ඔවුන්ගේ නිවෙස්වලින් පැමිණ උතුම් වූ බෝධීන් වහන්සේලාට පූජා පවත්වති. නොයෙක් වර්ණවත් ඇඳුම් ආයිත්තම්වලින් සැරසී අලංකාරවූ නාගයෝද මෙසේ සාගරයේ වැඩම වන්නාවූ බෝධීන් වහන්සේට වඳිති. නිලුපුල්; උපුල්; කුමුදු; හා කහ්ළාර; මනාසේ සුවඳ ඇති අවිමුක්තාදී, මල්ද තක්කාරී; කොබෝලීල; පලොල්, බිඹුදැල්; අශෝක; සල්; මිස්සක; පුවඟු; මල්වර්ගද ගත් නාරජවරු හා නාග කන්‍යාවෝද මහත් සතුටින් යුක්තවූවාහු බෝධීන් වහන්සේ වඳිති. එය ඉතා අලංකාර බවින් යුක්තවිය. බෝධින් වහන්සේ සිත්සේ වැඳපුදා, ගැනීමට කැමතිව නාග භවනයටද වැඩමවා ගෙන යන ලදී. එය වැඩමවන ලද්දේ මෙසේය.[1]

සමීප දිවයිනට වැඩම වන්නාවූ බුදුරජාණන් වහන්සේගේ බෝධිශාඛාව පිරිවරා ගන්නා ලද නාගයෝ සතුටින් ප්‍රමුදිතවූයේ නොයෙක් ක්‍රීඩා පවත්වති. එම නාග භවනයෙහි බිම මැණික් අතුරා ඇති අතර එහි මුතුලැලි ද අතුරා ඇත. විවිධ ආරාමවලින් ගැවසීගත් එහි නොයෙක් මල්වලින් අලංකාරවූ පොකුණුද වූයේය. දෙවියන් සහිත මනුෂ්‍යයෝ එහි සත්දිනක් විසූහ.[2] එසේම දෙවිවරුද නාගයෝද නාගභවනින් නික්ම විවිධ මල්දම්වලින් බෝධින් වහන්සේලා පූජා කෙරෙති. දෙවියෝ බෝධීන් වහන්සේ වටා රෙදි අතුරා වට කොට මහත්සේ ක්‍රීඩා කරති. දිව්‍ය ලෝකයේ මදරා; පරසතු මල්ද සඳුන්කුඩද මල්වැසි වස්සවති. මේ ආකාරයෙන් දෙවියන් සහිත මනුෂ්‍යයෝද විවිධ භූතයන් හා යක්ෂයෝද නාගයෝද, සයුරෙහි වැඩමවන්නාවූ බෝධීන් වහන්සේ පිරිවැරුවාහුය. ඔවුහු වයමින්, ගයමින්, නටමින් සිනාසෙමින් මහත්සේ දෙගුණ තෙගුණකොට ගුණ ගායනා කරමින් අත්පොලසන් දෙති.

---

1. ම: ව: මේ පිළිබඳව මෙතරම් විස්තරයක් සඳහන් නොවුවද බෝධි වංශයේ සියළුම මූලාශ්‍රයන්ට වඩා විස්තර දක්වා ඇත. බෝධිවංශය ලියවී ඇත්තේ II පණ්ඩිත පරාක්‍රමබාහු රජුගේ අවදියේය. මහායානවාදී හා අධිදේවාදී අදහස් මේ තුළ ගැබ්ව ඇතිබව පෙනේ.
2. ම: ව: 19 පරි. නාගයන් මෙය බලහත් කාරයෙන් එහි තබාගැනීමට උත්සාහ කල බවත් සහමින් මෙහෙනිය ගුරුළුවෙසක් ගෙන ඔවුන් බිය ගැන්වූ බවත් දැක්වේ. බෝධිවංශයේද එය එයටද වඩා අති ශෝක්ති විස්තරයන්ගෙන් යුක්තව දක්වා ඇත. කෙසේ වෙතත් ක්‍රි. පූ. 307-267 අතර කාලයේදී ශ්‍රීමහා බෝධි ශාඛාව ලක්දිවට වැඩමවූ බව පෙනේ.

යක්ෂයෝද නාගයෝද විවිධ භූතයෝද මනුෂ්‍යයෝද දෙවියෝද බෝධීන් වහන්සේගේ කීර්තිය වර්ණනා කරමින් මංගලවාක්‍ය කියත්."

දෙවන පෑතිස් රජතුමා හා බිසෝවරුන්ද බොහෝ ජනයාද බෝධීන්වහන්සේ පිළිගැනීම පිණිස රම්‍යවූ අනුරපුරයෙන් නික්ම දඹකොලපටුනට පැමිණියාහුය.

ශ්‍රී ලංකාවේ උතුම්වූ බෝධීන් වහන්සේ පිහිටුවීමෙන් පසු මනරම් කාන්තියෙන් යුත් නිල්වන් කොඩිගත් නාගජනීහු බෝධීන් වහන්සේ පිහිටවීම පිළිබඳව වර්ණනා කරන්නට වූහ. එසේම ක්ෂත්‍රිය වංශිකයෝ බෝධීන්වහන්සේ පිරිවරා සිටියහ. සුවඳ මල්මාලාවන්ගෙන් හා උතුම් සුවඳ විලවුන් වර්ගවලින් බෝධීන් වහන්සේට පූජාපැවැත්වූහ. නගරවාසීහු නගරයේ වීථි මනාසේ පිරිසිදු කරන ලදහ. බෝධීන්වහන්සේ මෙහි පිහිටුවීමෙන් පසුවද මහපොළව කම්පාවිය. බෝධීන්වහන්සේගේ ආරක්ෂාව පිළිබඳව සලකාබැලූ දේවානම් පියතිස්ස රජතුමා බෝධිගුප්ත[1] නම් ඇමති වරයාගේ නායකත්වය යටතේ ක්ෂත්‍රියයන් අටදෙනා බැගින් අටතැනක ආරක්ෂක මධ්‍යස්ථාන පිහිටුවීය. එසේම නොයෙක් අලංකාරයෙන් යුත් බබලන බෝධිපරිහරණ උපකරණ ද[2] දුන්නේය. පොළවෙහි පිහිටියාවූ බෝධීන් වහන්සේ කෙරේ ගෞරවයෙන් මහාලේඛාවන්[3] දහසක් දුන්නේය. තවද මනාව පිළියෙල කරන ලද ඇතිරිලි ලේඛකස්ථානයේ ඇතිරීම පිණිස

1. මෙම බෝධිගුප්ත කුමාරයා, පිළිබඳ කතාව ම: ව: දක්නට නැති අතර බෝ: ව: දක්නට ලැබේ. එසේම ඔහු අශෝක විසින් එවන ලද 16 කුලයේ ප්‍රධාන කුමාරයා බවද දැක්වේ. මොවුන් බුදුන්වහන්සේගේ වංශයට අයත් ලම්භකරණ වංශිකයන් බව පසුකාලීන තොරතුරුවලින් පෙනේ. ඉලනාග මොවුන්ගේ කන් නාස කපා පහත් වැඩවල යොදවූ බවත්, පසුව වසභගේ සිටරජුන් මෙම වංශයේ බවත් පෙනේ.

2. මෙම බෝධි පරිහරණ උපකරණ පිළිබඳව ම: ව: හෝ බෝ: ව: හෝ ථූ. ව, හෝ වෙනත් වංශ කතාවක දක්නට නොමැත. මහාබෝධියේ පරිහරණය සඳහා සම්මත භාන්ඩ සමූහයක් තිබූ බව මෙයින් පෙනේ.

3. මෙම මහාලේඛාවන් පිළිබඳව ම: ව: හෝ ථූ. ව. හෝ බෝධිවංශයේ දක්නට නොලැබේ. දේවානම්පියතිස්ස අවදියේ සිට රාජ්‍ය ලේඛන කටයුතු කරගෙන යන ලද්දේ ලම්බකරණ වංශික ලේඛයන් විසිනි. මේ ඔවුන් දැයි විමසිය යුතුය.

වෙන්කර තැබීය. එසේම බෝධීන් වහන්සේගේ රැකවරණය සඳහා කුලදසයකින් ඥණවන්ත පාලකයින්[1] දහසක්ද පත්කෙරිණ.

දෙවන පෑතිස් රජතුමා රන්වන් බෙර අටක්ද අභිෂේකාදියේදී අවශ්‍යවන විවිධ මංගල වස්තූන්ද ජනපදයක්ද දී "චන්ද්‍රගුප්ත නම් ඇමතිවරයෙකු බෝධීන් වහන්සේගේ ආරක්ෂාව සඳහා පත්කළේය. "දේවගුප්ත" නම් ප්‍රාසාදයක්ද ඔහුට දුන්නේය. එසේම ඒ ඒ කුලයන්ට සුදුසු ආකාරයට ඔවුන්ගේ ප්‍රයෝජනය සඳහා වාසස්ථාන භූමිභාග හා අයබදු ගන්නා ගම්ද පරිත්‍යාග කළේය.[2]

සංඝමිත්තා මෙහෙණින් වහන්සේගේ සම්ප්‍රාප්තියෙන් පසු රජුගේ වංශවත් යස ඉසුරුමත් රාජකන්‍යාවෝ පන්සීයක් දෙනා පැවිදිවූහ. ඒ සියළුදෙනාම අරහත් භාවය ලැබුවාහුය. අනුලා දේවියගේ පිරිවර පන්සීයක් කුමාරිකාවෝද පැවිදිවූහ. එම කුමාරිකාවෝද අරහත් භාවය ලැබුවාහුය. අරිට්ඨ නම් ක්ෂත්‍රිය ඇමතිවරයාද සසර භයින් බියපත්ව පන්සීයක් දෙනා පිරිවරකොට ඇතිව ගිහිගෙයින් නික්මවුත් බුද්ධ ශාසනයෙහි පැවිදි බව ලැබීය. බුදු සසුනට අදල සියළු අංගයන් ගෙන් පරිපූර්ණවූ ඔවුහු සියල්ලෝ රහත් වූහ. මෙ පොළෝතලයේ මනාව මල් ඵල හටගන්නාවූ හේමන්ත ඍතුවේ පළමුවන මාසයේ මෙම ලක්දිවට වැඩමවූ මෙම මහබෝධීන් වහන්සේ ලංකාවේ අනුරාධ පුර නගරයේ පිහිටියේය.[3]

---

1. මෙහි දැක්වෙන්නේ "කෙතුජාදිනව" නම් පාලි වචනයයි. සමහරු මෙයට අර්ථදී ඇත්තේ කේතුවකින් වසන ලද යන අදහසයි. නමුත් මෙහිදී" ඥණවන්ත යන අදහස වඩාත් වැදගත්ය.
2. මෙහි බෝධි ගුප්ත නම් ප්‍රාසාදයක් ගැන සඳහන් වුවද බෝ. ව. ඇත්තේ එනම් කුමාරයෙකුගෙ නමකි.. එසේම බෝධිගුප්ත: සුමිත්ත: චන්ද්‍රගුප්ත: දේවගුප්ත: සූරියගුප්ත: ගෝතම: ජුතින්දර; යන කුමාරවරුන් අට දෙනෙකු පැමිණි බවත් ඔවුන් විවිධ ප්‍රාදේශීය පාලකයන් බවට පත්කල බවත් දක්වා තිබේ. තවද ගම්වර දීමද මෙකල සිට පැවති බව පෙනේ.
3. ම: ව: හා ථූ. ව. බෝධිවංශය ආදි වංශ කතාවන්හි තිවක්ක බමුණුගම පිළිගැනීම පිළිබඳවත් කාවරගාම; චන්දනගාම ක්ෂත්‍රියන් පිළිබඳව සඳහන් වෙතත් මෙහි එය දක්නට නැත.

# 17

හාත්පසින් මහසමුදුරින් වටවූ වටප්‍රමාණය යොදුන් සීයක් පමණවූ දිගින් යොදුන් තිස් දෙකක් හා පළලින් යොදුන් දහඅටක් වූ[1] මෙම උතුම් ලක්පොළවෙහි සෑම තන්හිම රත්නයන් ඇත. මෙය ගංගා, පොකුණු පර්වතාදියෙන් සැදුම් ලද්දේය. මෙම දිවයිනෙහි රජුද නගරයද වෙනත් උද්දේසික ධාතුහුද විද්‍යාමානවෙති. තවද මෙහි චෛත්‍යය පර්වත හා උයන්දවේ. බෝධීන් වහන්සේ හා භික්ෂූන් වහන්සේලාද භික්ෂුනීහුද සිටිති. එකම දේශයක පිහිටියාවූ මෙම වස්තූන් පිළිබඳ විස්තර මා සමීපයෙන් අසන්න.

මෙම අවදියේදී ලක්දිවට ඕජදීප; වරදීප; මණ්ඩදීප; තම්බපණ්ණි යනුවෙන් හඳුන්වනු ලැබීය. දැන් මෙය උතුම් වූ ලංකාදීපය නම්. එසේම මෙහි අභයපුරය; වර්ධමාන පුරය; විශාලාපුරය; අනුරාධපුරය; යන නගරයන් ඒ ඒ සිව්බුදුවරයන් වහන්සේලාගේ අවදීන්හි තිබූ නගරයන්ය. තවද මෙම බුදුවරයන් වහන්සේලා මෙම දිවයිනට වඩින කාලයන්හිදී අභය. සමිද්ධි; ජයන්ත; දෙවනපෑතිස් යන රජවරු රජකළාහුය. ජයන්ත රජුගේ කාලයේදී ස්වකීය කණිටු සොයුරා හා තිබූ භයානක යුද්ධය සංසිඳවීමට එකල විසූ බුදුවරයන් වහන්සේ වැඩි අතර අප තථාගත සම්මා සම්බුද්ධ රජාණන් වහන්සේගේ කාලයේදී යක්ෂයන් දමනය කිරීම යන මෙම උපද්‍රවයන් මෙම සිව් බුදුවරයන් වහන්සේලා පහකර දමන ලදහ. මෙහි ථූපයන්හි කකුසඳ බුදුරජාණන් වහන්සේගේ ධාතූන් පිහිටවී. කහධාණ චෛත්‍යයේ කෝණාගම බුදුරදුන්ගේ ධාතුවිය. ජලසාටික චෛත්‍යයේ කාශ්‍යප

1. ගව්වකට සැතපුම 4ක් තිබෙන බවත් යොදුනකට ගව් 4ක් තිබෙන බවත් බොහෝ දෙනා පවසති. එසේ වුවහොත් ලංකාවේ උතුරේ සිට දකුණට දුර ප්‍රමාණය සැතපුම් 512 හා පළල ප්‍රමාණය සැ. 288 කි. නූතන ලංකාවේ දුරප්‍රමාණය (දිග) සැ 270 කි. පළල 140 කි. එසේනම් ක්‍රි. පූ. 307 සිට මේ වනවිට ලංකාව විශාල ප්‍රමාණයන් කුඩා වී ඇති බව පෙනේ.

බුදුන්ගේ ධාතූන් වහන්සේ විය. එයින් පසු මෙහි පහළවූ අසිරිමත් ගෞතම බුදුරජාණන් වහන්සේගේ දේණියක්[1] පමණ ශාරීරික ධාතූන් මෙහි පිහිටියේය. එකල අභපුරයෙහි 'පාටියාරාම' නම් ආරාමයක් විය. කෝණාගම බුදුරජාණන් වහන්සේගේ කාලයේ වර්ධමාන නගරයේ 'උත්තර' නම් ආරාමයක්ද විය.

කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේදී මෙහි පිහිටි විශාල නුවර. 'පාචීනාරාම' නම් විහාරයක් විය. අප ගෞතම බුදුරජාණන් වහන්සේගේ කාලයෙහිදී අනුරාධපුර නගරයේ ථූපාරාම[2] නම් ආරාමයක් විය. මෙසේ සිව්බුදුවරයන් වහන්සේලාගේ කාලයන්හි අනුරාධපුර නගරයෙන් දකුණුපස චෛත්‍යය සතරක් විය. එසේම අතීතයේ කොළොම්හොය සමීපයෙහි අභයපුර නම් නගරය පිහිටියේය. වර්ධමානක චෛත්‍යය පිහිටා තිබුණේ තිසාවැව සමීපයෙහිය. විශාල නම් නගරයෙ ක්ෂේමතලාක විල අසල පිහිටියේය. මෙම කාලයේදී මෙහි පිහිටා ඇත්තේ අනුරාධපුර නගරයයි. මේ සිව්බුදුවරයාණණ් වහන්සේලාගේ කාලයන්හි නගර පිළිබඳ විස්තරයයි. දේවකූට, ශීලකූට, ශුභකූට, යන නම්වලින් ඒ ඒ අවධීන්හි හඳුන්වන ලද්දේ 'සුමණකූට' පර්වතයයි. ඒ සිව්බුදුවරුන්ගේ කාලයන්හි හඳුන්වන ලද නාමයන්ය.

මෙහි පිහිටියාවූ මහාතිත්ථ, මහානාම: සාගර; මහාමෙව්නා යන වනෝද්‍යානයන් සිව් ඉරියාපථයන් පැවැත්වීමට යෝග්‍යවේ. සිව් බුදුවරයන් වහන්සේලාගේ සෙනසුන් හතර පිහිටියේ මෙහිය. මෙයින් පළමු බුදුවරයාණන්වූ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ සිරීස නම් උතුම්වූ බෝධියක්ද විය. එවකට 'ඕජදීප' නම්වූ ලක්බිමෙහි එම බෝධීන් වහන්සේගේ දකුණු ශාඛාව මහත් බල ඇති රුචිනන්ද නම් භික්ෂුණිය මහාතිත්ථ ආරාමයෙහි පිහිටෙව්වාය. උතුම්වූ කෝණාගම බුදුරදුන් බුදුවූ දිඹුල්බෝධි වෘක්ෂයේ දක්ෂිණ ශාඛාව මහත් සෘද්ධිබල ඇති කන්ධනන්ද[3] භික්ෂුණිය. එය වඩමවා එකල වරදීප නම්වූ ලක්බිමෙහි මහානාම වනාරාමයෙහි පිහිටවිත.

---

1. මෙය 'ලාභ' යයි සමහරු කියන අතර සේරුව' යයි තවත් සමහරෙක් කියති.
2. මෙම ථූපාරාමය පිහිටුවන ලද්දේ බුදුන් වහන්සේ පිරිනිවීමෙන් අවුරුදු 307 කට පමණ පසු දෙවන පැතිස් අවදියේය.
3. ම: ව: කනකදත්තා නමින්' සඳහන්වේ.

උතුම්වූ කාශ්‍යප බුදුරජාණන් වහන්සේ බුදුවූයේ නුගරුක් බෝමුලය. එහි දක්ෂිණ ශාඛාව මහත් සෘද්ධිබල සම්පන්නවූ සුධර්මා නම් තෙරණිය මෙහි වඩම්වා සාගරවනාරාමයෙහි පිහිටවිත. එසේම ගෞතම බුදුරදුන්ගේ ඇසතුබෝධිවෘක්ෂයේ දක්ෂිණ ශාඛාව මහා සෘද්ධි බලසම්පන්නවූ සංඝමිත්තා මෙහෙණින් වහන්සේ මෙහි වඩමවා ඉතා මනරම්වූ මහමෙව්නා මහාවනෝද්‍යානයෙහි පිහිටවූ.

විචක්ෂණ වූ ෂඩ් අභිඥලාභි බහුශෘත වූ මහත් සෘද්ධි සම්පන්නවූ රුචිනන්ද[1] කනකනන්ද, සුධම්මා; සංඝමිත්තා යන තෙරණියෝ මෙම සියළු බෝධීන් ගෙනාවාහුය. එම බෝධීන් වහන්සේලාගෙන් සිරීස බෝධීන් වහන්සේ මහාතිත්‍ථ උයනෙහිද දිඹුල් බෝධීණ් වහන්සේ මහානාම උයනෙන්ද, නුගරුක් බෝධීන් වහන්සේ සාගර උයනෙහිද, ඇසතු බෝධීන් වහන්සේ මහමෙවුනා උයනෙහිද ඒ ස්ථිරවූ සිව් ආරාමයන්හි පිහිටියහ.

මෙම සිව්බුදුවරයන් වහන්සේලාගේ ශාසනයෙහි රමණීයවූ සෙනසුන් මෙහි පිහිටියේය. එසේම මෙම ලක්දිවිහි සළභිඥලාභී මහාදේව තෙරුන්ද, සිව්පිළිසිඹියාපත් සුමන තෙරුන් වහන්සේද මහාසෘද්ධිමත් බහුශෘතවූ සබ්බනන්ද තෙරුන් හා මිහිඳු මාහිමියන්ද යන මහාස්ථවිර පාදයන් වහන්සේලා ප්‍රසාද ජනක උත්තමයෝ වූහ. මෙම යුගයේ පහළවූ පළමුවන බුදුවරයන් වහන්සේ වූ ඉදිරිය දක්නාවූ කකුසඳ ලෝකනායකයන් වහන්සේ මුළු ලොව බලා වදරන්නාහු 'ඕජදීප' නම් වූ ලක්දිවට වැඩිසේක. එම අවදියෙහි ලංකාවේ පුණ්ණතරක නම් නපුරු උණ වසංගතයක් ඇතිවිය. මුළු ලක්දිව් වැසියෝ එම රෝගයෙන් පෙළුනාහ. මෙම රෝගය හටගත් මිනිස්සු ජලයෙන් ගොඩගන්නා ලද මසුන් මෙන් වෙව්ලන්නට වූහ. ඔවුහු දුකින් පරිපීඩිතව නොසතුටුව, භයින් තැතිගන්නාහු සැපයක් නොමැතිව ශෝක කළාහුය. එම කකුසඳ බුදුරජාණෝ රෝගයෙන් පෙළී දුක් විඳින්නාවූ එම සත්වයන් දුටහ. ලෝකනායකවූ කකුසඳ බුදුරජාණන් වහන්සේ භික්ෂූන් හතලිස් දහසක් පිරිවරාගෙන මෙහි සත්වයන් රෝගයෙන් මිදවීම පිණිස දඹදිව සිට මෙහි පැමිණියහ.

1. ම: ව: 'රූපනන්ද' යනුවෙන් දැක්වේ.

අහසෙහි තරුපිරිවරාගත් සඳ මෙන් කකුසඳ බුදුරජාණන් වහන්සේ භික්ෂූන් පිරිවරා වැඩියහ. එම ලෝකනායකයන්, වහන්සේ අහස බබලවමින් තම ශ්‍රාවක පිරිස සමග දේවකූඨ පර්වතයට වැඩිසේක. දේවකූඨය බබුලුවමින් සිටියාවූ උන්වහන්සේට ලක්වැසියන් පිදුම් කරන ලද්දේ දෙවියෙක් යයි සලකමිනි. ඔවුහු ඒ තථාගතයන් වහන්සේ යයි නොදත්හ. එම පුන්පොහෝ දිනයෙහි අරුණාලෝකය සහිත සඳමෙන් ඒ කකුසඳ ලෝකනාථයන් වහන්සේ වනය සහිත ඒ පර්වතය බැබලවූ සේක.

පර්වතය, සිව්දිගින් බැබලින. එය දුටු අභයපුරයෙහි රජු සහ ජනීජනයෝ ප්‍රීතියෙන් ප්‍රමුදිතවූහ. මෙම අවස්ථවේදී කකුසඳ බුදුරජාණන් වහන්සේ 'මිජදීප' වැසියන් මා හා මාගේ ශ්‍රාවකයන් දකීවායි අදිෂ්ඨාන කළසේක. මහජනයා බලාපොරොත්තු වූ එම පර්වතය එකල 'දෙවකුට' නම් විය. මෙම අවස්ථාවෙහි එම නපුරු රෝගය හටගත්තාවූ රජු හා ජනී ජනයෝ බලවාහන සහිතව අභය පුරයෙන් නික්මුණාහ. ඔවුහු එම පර්වතයට ගොස් සියළු මිනිසුන්ට නායකවූ කකුසඳ බුදුන් නැමැදියාහුය. ඔවුහු බුදුන් නැමද දෙවියෙකු යයි සිතා ආවාහුය.

එම බුදුරජාණන් වහන්සේ වෙත එළඹී රජතුමා මෙසේ කීය.

'භාග්‍යවතුන් වහන්ස; භික්ෂු සංඝයා සමග මාගේ ඉල්ලීම පිළිගන්න. අද දින මාවිසින් දනය කසුදනම්කර ඇත. එය ඉවසා වදරන්න. අපි නුවරට යන්නෙමු.'

බුදුරජාණන් වහන්සේ නිහඬතාවයෙන් රජුගේ ඉල්ලීම ඉවසාවදළ සේක. එම ඉල්ලීම පිළිගත් බව දැනගත් රටවාසීහු සහිත රාජසේනාවෝ ප්‍රත්‍ය සම්පාදනය පිණිස නුවරට පැමිණියහ. රජතුමා එම අවස්ථාවේදී මෙසේ කීවේය.

'මෙහි භික්ෂු සංඝයා හා බොහෝ ජනයාද වෙති. එනිසා මෙම මහා පිරිසට මෙම නගරය කරදර සහිතය. මෙයට අවශ්‍ය භූමියක් මා පිළියෙළ කර නැත. ඉතා රමණීය වූ මාගේ මහාතිත්ථ නම් වනෝද්නයක් වෙයි. එය නගරයට ආසන්නයේද පිහිටියේය. එය සම්බාධවලින්ද තොරය. විශේෂයෙන්ම එය

පැවිද්දන්ට යෝග්‍ය වූ විවේක සුවයෙන්ද යුක්තය. ඒ නිසා අප කකුසඳ බුදුරජාණන් වහන්සේට මෙය ඉතා සුදුසු වෙයි.'

බුදුරජාණන් වහන්සේ ප්‍රධාන සංඝයාට එහිදී දන්දෙන්නෙමියි සිතා රජතුමා ඒ උතුම්වූ සර්වඥයන් වහන්සේත් මහාසංඝයා වහන්සේත්, සියළු මහජනයා මනාසේ දකිතියි සිතීය.

එකල්හි කකුසඳ ලෝකනාථයන් වහන්සේ හතලිස් දහසක් භික්ෂු සංඝයා පිරිවර කොටගෙන මහාතිත්ථ වනෝද්‍යානයට වැඩිසේක. උන්වහන්සේ එහි වැඩි කල්හි අකල් මල්වලින් එහි ගස් පිරීගියේය. රජතුමා එම අවස්ථාවේදී දියපිරවූ රන්කෙණ්ඩිය ගෙන බුදුරජාණන් වහන්සේගේ දකුණු අතට පැන්වත්කොට එම උයන බුදුරජාණන් වහන්සේට පූජාකළේය. එසේ කළ රජතුමා

'ස්වාමීනි; මෙම උයන බුදුන්වහන්සේ ප්‍රධාන මහා සංඝයාට පූජාකරමි'යි කීවේය.

කකුසඳ බුදුරජාණන් වහන්සේ භික්ෂු සංඝයාගේ පහසුව පිණිස ඒ සෙනසුන සහිත රමණීයවූ වනෝද්‍යානය පිළිගත්සේක. මෙම පළමුවන සෙනසුන් පූජාවේදී පොළව මහත්සේ කම්පා විය. පොළෝකම්පනය දුටු ලෝකනාථයන් වහන්සේ මගේ සසුනෙහි ශ්‍රාවිකාවකවූ රුචිනන්ද තෙරණිය දක්ෂිණ බෝධි ශාඛාව ද රැගෙන මෙහි පැමිණෙන්නේ නම් මැනැවයි සිතුසේක. රුචින්ද භික්ෂුණිය කකුසඳ බුදුරජාණන් වහන්සේගේ සිතුවිලි සිතින් දැන සිරිස බෝධිමූලය වෙත එළඹ කකුසඳ බුදුරජාණන් වහන්සේ මෙහි දකුණු ශාඛාව ඕජදීපයෙහි පිහිටුවීමට කැමැතිවන සේකැයි සිතුවාය. මහජනයාද මේ ගැන සිතා බෝධීන් වහන්සේ වැඩම විමට පැමිණියේය. ශ්‍රේෂ්ඨවූ බුදුරජාණන් වහන්සේ සත්වයන් කෙරේ පතල මහා අනුකම්පාවෙන් එය අනුමත කළසේක. මෙය අවස්ථාවේ රුචිනන්දව

'මගේ තේජානුභාවයෙන් මෙහි දක්ෂිණ ශාඛාව මිදේවා.'

යන වදන් කියමින් ඇදිලි බැඳගෙන සිටියාය. මෙම අවස්ථාවේ දක්ෂිණ බෝධි ශාඛාව ඉන් මිදී රන්සැලියෙහි පිහිටියේය.

රුචිනන්ද තෙරණියෝ අනතුරුවරන්සැලියෙහි පිහිටි බෝධි ශාඛාවද රැගෙන පන්සියක් භික්ෂුනීන් වහන්සේද පිරිවරාගෙන මෙහි පැමිණි යාහ. මෙම අවස්ථාවේද පොළව මුහුද හා පර්වතයන්ද කම්පා විය. ඒ සමගම මහත් ආලෝකයක් ඇතිවිය. අත්භූත ජනකාකාරයෙන් සියළු දෙනාගේ ශරීරයන් ලොමුඩැහැගත්තේය. රාජසේනා ඇතුළු සියළු රට වැස්සෝ එය දැක සතුටු සිත් ඇත්තාහු ඇදිලි බැඳ බෝධීන් වහන්සේ නමස්කාර කළාහුය. මේ අවස්ථාවේ සියළු දෙවියෝද සතුටු වූවාහුය. උතුම් බෝධීන් වහන්සේ දැක සමහරු අත්පොළසන් දුන්හ. මහා යසස් ඇති ලෝක පාලක සිව්වරම් දෙවිවරුද අවශේෂ අනෙක් දෙවිවරුද, දෙව්මහ රජදරුවන් ද අවශේෂ දෙවිවරුන්ද මෙම ශ්‍රී මහාබෝධිය ආරක්ෂා කලාහුය. එපමණක් ද නොව වසවත් තව්තිසා දේවලෝකයන්හි දෙවිවරුන්ද, යාමය, සක්‍රය, සුයාමය, සන්තුසිතය, සුනිම්මිතය යන සියළු දිව්‍ය ලෝකයන්හි දෙවිවරුද මෙම බෝධින්වහන්සේ පිරිවැරූහ. මෙසේ සතුටට පත්වූ දේවසමූහයා හා රුචිනන්ද තෙරණියද ඇදිලි බැඳගෙන උතුම්වූ බොධීන් වහන්සේ පිදීමෙන් අනතුරුව භික්ෂුනීන් පිරිවර කොටගත් එම රුචිනන්ද භික්ෂුණිය එම සිරිසබෝධීන් වහන්සේ වැඩමවා ගෙන ඕජදීපයට පැමිණියාහුය.

මෙම බෝධීන් වහන්සේ ඕජදීපය නම්වූ ලක්දිවට වැඩමවන කල්හි බෝධීන් වහ්සේ පිරිවරාගත් දෙවිවරු සතුටට පත්ව නටත්, ගයත් දෙගුණ තෙගුණ වන ආකාරයෙන් අත්වරසන් දෙත් මෙසේ දෙවියන් විසින් පිරිවරන ලද බෝධිශාඛාව රැගත් ඍද්ධිමත් රුචිනන්ද තෙරණිය එම බුදුරජාණන් වහන්සේ වෙත පැමිණියාය. මහාවීර වූ කකුසඳ බුදුරජාණන් වහන්සේ මෙම අවස්ථාවේ එම බෝධීන් වහන්සේ මහාතිත්ථ වනෝද්‍යානයෙහි පිහිටවූ සේක. බබලන්නාවූ එම බෝධීන් වහන්සේ රුචිනන්ද තෙරණිය විසින් රෝපනය නොකරන ලදී. එයදුටු බුදුරජාණන් වහන්සේ දකුණු අත දිගුකල සේක. එම අවස්ථාවේ රුචිනන්ද තෙරණිය එම දක්ෂිණ බෝධි ශාඛාව බුදුරජාණන් වහන්සේගේ දකුණත තබා වැන්දය. උන්වහන්සේ එය පරාමර්ෂණය කොට එය පිහිටවිය යුතු ස්ථානය වදරා අභය රජු අත තැබූ සේක. බුදුරජාණන් වහන්සේ එය

රෝපනය කිරීමට යම් තැනක් අනුදැන වදාලසේක්ද, අභය රජතුමා එම ස්ථානයේම එය රෝපනය කළේය. මෙම මනරම් භූමිභාගයෙහි බෝධීන් වහන්සේ පිහිටි කල්හි චතුරාර්‍ය්‍ය සත්‍යය අරමුණු කරමින් බුදුරජාණන් වහන්සේ දහම්දෙසූසේක. මෙම ධර්‍මදේශනාව නිසා මෙම ශාසනයෙහි මනුෂ්‍යයන් එක්ලක්‍ෂ හතලිස් දහසක්ද දිව්‍ය බ්‍රහ්මාදීන් තිස්කෝටියක්ද මාර්‍ගඵල අවබෝධ කෙරින. මෙසේ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ සිරිස බෝධීන් වහන්සේද, කොණාගම බුදුරජාණන් වහන්සේගේ නුගරුක් බෝධදීන් වහන්සේද යන තුන්මහා බෝධීන් වහන්සේලා මෙහි වඩමවන ලද්දහ. අසමසමවූ ශාක්‍ය බුදුරජාණන් වහන්සේ ගේ ඇසතු බොධින් වහන්සේද එකල මෙහි වැඩමවා මහමෙවුනා උයනෙහි රෝපනය කරන ලදී.

මුටශිව[1] රජතුමාට ඔවුනොවුන්ට හිතවත්වූ සහෝදරත්වයක් ඇති පුත්‍රයෝ දස දෙනෙක් වූහ.[2] ඔවුහු නම් අභය: තිස්ස;[3] නාග: උත්තිය; මත්තාභය; මිත්ත; ශිව; අසේල; තිස්ස; කිර යනාදීහු වෙති. එසේම මුටශිව රජුට සීවලී; අනුලාවතී; නම් දූවරු දෙදෙනෙක්ද වූහ. මෙයින් පසු මුටශිවගේ පුත් දෙවනපෑතිස් ලක්දිව අභිෂේක කරන ලදී. මේවනවිට ගෞතම බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පා තිබුණි. දෙවන පෑතිස් රජු මෙකල අභිෂේක වූයේය. ඔහුට රාජ්‍ය ලැබෙනවාත් සමගම මහත් සැප සම්පත් පහළවිය. මෙම නිසා ලක්දිව නොයෙක් අයුරින් ඔහුගේ පුණ්‍ය මහිමය පැතිර ගියේය.

---

1. මහාමෙව්නා උයන මුටශිව රජු කරවූ බව මඃ ව. 11 පරි දැක්වේ. මෙම උයනට බිම් නියම කරන දිනයේ අකල් වැස්සක් ඇතිවූ හෙයින් මහාමේඝ වනෝද්‍යාන නමින් නම්කල බවද දැක්වේ. මුටශිවගේ රාජ්‍ය කාලය අවුඃ 60ක් බවද දැක්වේ. එහෙත් රාජාවලිය කියන්නේ පණ්ඩුකාභයට ගණතිස්ස නම් තවත් පුතෙකු සිටි බවත් ඔහු 13 වසක් රජකල බවත්ය. සමහර විට මෙම ගණතිස්ස-අභයට පසු සිටි තිස්සවිය හැකිය.
2. මඃ වඃ දැක්වෙන්නේ (පරි. 21) උත්තිය, මහාශිවඃ සූරතිස්සඃ අසේල යන 4 ගේ නම් පමණි. බෝධි වංශයේ 'මත්තාභය' කුමරු මහන වූ බව දක්වා ඇත.
3. මෙහි සඳහන් තිස්ස දෙවන පෑතිස්සය. ඔහු ක්‍රි.පූ. 301 රජවූ බව මඃවඃ සඳහන්වේ. දි. ව. සඳහන් වන්නේ එම වර්‍ෂයයි. එසේ වුවත් කොඩ්රිංටන් මහතා කියන්නේ දෙවනපෑතිස් ක්‍රි. පූ. 247 රජවූ බවයි. රාජාවලිය අනුව රජවී ඇත්තේ ක්‍රි. පූ. 251 දීය. සමහර විට කොඩ්රිංටන් රාජාවලිය හා පූජාවලිය ප්‍රකාශයන් පටලවා ගත්තාවිය හැකිය.

එකල මෙම දිවයින රුවන් ආකාරයක්[1] මෙන් විය. මෙම රත්නයන් පහළවූයේ දෙවනපෑතස් රජුගේ පින්මහිමයෙනි. රජතුමා ඒවා දැක මහත්සේ සතුටුවිය. ඒ සියළු රත්නයන් ස්වකීය මිත්‍රවූ ධර්මාශෝකයන් වෙත[2] පඬුරු වශයෙන් යැවීය. ධර්මාශෝක රජ මෙම පඬුරු ලැබ දෙවපෑතිස් රජතුමා දෙවන අභිෂේකයකට අවශ්‍යය විවිධ රත්නයන් පඬුරුකොට එවීය.

එම පඬුරු මෙසේය. වල්විදුනා; රන්වන් නලල්පට; සුදුකුඩය; මඟුල් කඩුව; රන්මිරිවැඩි සහල : අනවතප්ත විලේ ජලය; ස්වර්ණාභිංකාරය; හිස්වෙළුම; රන්හවඩිය; නන්ද්‍යාභිවෘතය; රන්සිවිකාව; දකුණට කැරකවුන හක්ගෙඩිය; කෝටිකවස්ත්‍රය; අනගි රත්තලිය; රන්හැන්ද, අත්පිස්නාව, කසාවත් පිළිකඩ; අනවතප්ත විලෙන් ගෙනා පැන් කළ දෙකක්. හරි පර්වතයේ හටගන්නා රත්සඳුන්; අරුණුවන් මැටි; නාගයන් ගෙනෙන ලද උතුම් දිව අඳුන්; හිමාලයේ හටගන්නා දිව්‍යමය අරළු; හා එම නෙල්ලි; මහත් අනගි අමාඔසු; ගිරවුන් හිමාලයෙන් ගෙනෙන ලද සුවඳ ඇල්හාල් ගැල්හැටක්; යන මේවාය. පෙර කරන ලද පින් මහිමයෙන් හටගන්නා ලද මෙම පුදපඬුරු ධර්මාශෝක රජු විසින් ලක්දිව රජුගේ දෙවන අභිෂේකය සඳහා එවන ලදී.

ලංකාවේ දෙවනපෑතිස් රජතුමා දෙවන වරට අභිෂේකකර මසක් ගිය කල්හි භික්ෂු සංඝයා සහිත මහින්ද තෙරනුවෝ ලක්දිවට වැඩිසේක.[3] මහින්ද තෙරුන් වහන්සේට වාසය කිරීමට රජු විසින් තිස්සාරාම නම් විහාරය කරවන ලදී. ශ්‍රීමහා බෝධීන් වහන්සේ

---

1. අතීත ලංකාවේ විදේශවලට යවන ලද ප්‍රධාන වෙළඳ භාණ්ඩයක් වශයෙන් මැණික් පැවතුනි. යක්ෂ ගෝත්‍රිකයන්ගේ ප්‍රධාන වෙළඳ භාන්ඩය මෙය වූ බව දේශීය හා විදේශීය වාර්තාවන්ගෙන් පෙනේ. නමුත් ම: ව: කියන්නේ මුදේ තිබූ රත්නයන්ද වෙරලට පාවී ආ බවය. එසේම ජාතපර්වත යෙහි පහළවූ ලතා යෂ්ටී කුසුම යෂ්ටී: සකුණ යෂ්ටී: තුනක් ගැනද දැක්වේ.
2. ම:ව: 11පරි. දෙවනපෑතිස් රජුට හමුවූ රත්නයන් නම් වශයෙන් දක්වා ඇත. එහි මුතුවර්ග 8ක් නම්කොට ඇති අතර මැණික් වර්ගද නම් කොට ඇත.
3. මිහිඳු මහරහතන් වහන්සේ ලක්දිවට වැඩීමට පෙර දෙවනපෑතිස් රජුගේ දෙවන අභිෂේකය සිදුවූ බව දී. වංෂයෙන් හා ම: ව: 11 වන පරි. පෙනේ. මේ අනුව සමහර ඉතිහාසඥයන් පෙන්වන පරිදි අශෝක ධර්මයෙන් රාජ්‍ය දිනූ ආකාරයක් දක්නට ලැබේ. දි. ව. අභිෂේකයෙන් මසක් ගිය කල්හි මිහිදුහිමි වැඩි බව සඳහන්වෙතත් ම: ව: 11 පරි. දැක්වෙන්නේ පස් මසක් ගියකල ආබවය.

මහමෙවුනා උයනේ පිහිටවන ලද්දේ මෙකලය. එසේම රජු විසින් අලංකාර චෛත්‍යයක්ද කරවන ලදී. තවද වෙනත් ආරාමයක්ද ථූපාරාමයද, චේතිය ගිරියෙහි මිස්සක නම් ආරාමයක්ද කරවන ලදී. තවද වෙස්සගිරියද චෝලකතිස්ස විහාරයද කරවීය. මේ හැරුණු විට යොදුනක් යොදුනක් පාසා ආරාම කරවීය. ඔහු කැමති පරිදි මෙම චෛත්‍යයන්හි ධාතූන් වහන්සේලාද පිහිටවන ලදී. මෙසේ නොයෙක් පින්දහම් කල දෙවපෑතිස්ස රජතුමා හතලිස් අවුරුද්දක් රාජ්‍ය කළේය.[1]

මුටසිව රජුගේ පුත්‍රයන් වූ දෙවන පෑතිස්ස රජුගේ වෙනත් සහෝදරයන් හතර දෙනෙක්[2] වූහ. ඔවුන් අතරින් උත්තිය රජතුමා දස අවුරුද්දක් රාජ්‍ය කළේය. උත්තිය රජතුමාගේ අටවන රාජ්‍යවර්ෂයේ දී ලක්දිව බැබලවූ මිහිඳු මහ රහතන්වහන්සේ පිරිනිවන්පෑහ. ඒ හිමියන්ගේ ආදහනෝත්වය තිස්සාරාමයෙන් නැගෙනහිර පස කරවන ලදී. දොළොස් වසක් පිරුණු කල්හි[3] මහින්ද තෙරුන් වහන්සේ මෙහි වැඩිසේක. සැටවයස් පිරුනු කල්හි උන්වහන්සේ සඳගිරි විහාරයෙහිදී පිරිනිවි සේක. මෙමලක්දිව බැබලවූ මහින්ද තෙරුන් වහන්සේ පිරිනිවි කල්හි මෙහි සියලු තැන් මල් සහිත තොරණ ආදියෙන් සරසවන ලදී. එසේම උත්තිය රජතුමා දල්වන ලද පහන් සහිත රන්සිවි ගෙයක්ද කරවීය. උත්තිය රජතුමා විසින් මනාසේ මහින්ද තෙරුන් වහන්සේ පුදන ලදී. එසේම මෙහිදී දෙවියන් විසින්ද මනුෂ්‍යයන් විසින්ද නාග හා ගාන්ධර්වයන සියල්ලන් විසින්ද සුවඳ මල් දුම් ආදියෙන් රහතුන් වහන්සේ පිදූහ. සත්දිනක් මෙසේ චේතියගිරි විහාරයේ පූජා පැවැත්වීමෙන් අනතුරුව අනුරාධපුර නගරයට ගෙන යමු යයි සමහරෙක් කීවාහුය. ඒ පූජා පවත්වන අවස්ථාවේ දී මෙසේ කී

---

1. දෙවනපෑතිස් රජතුමාගේ සොහොයුරෙකු වූ මහානාග රුහුණට පලාගොස් මාගම රාජ්‍ය පිහිටුවීම පිළිබඳව මඃ වඃ ඇතුළු වංශකතා කීපයක සඳහන් වෙතත් මෙහි දක්නට නොලැබේ. මෙම පලායාම මහින්දාගමනයට පෙර සිදුවූ බව පෙනේ.
2. මෙහිම මෙයට පළමු ඡේදයකදී දෙවනපෑතිස් ඇතුළු සහෝදරයන් දසදෙනෙකු ගැන දක්වා තිබේ. මේ අනුව මෙයින් පැහැදිලි වන්නේ වඩාත් ක්‍රියාශීලිවූයේ සහෝදරයන් 4 දෙනෙකු බවයි.
3. මෙහිදී දෙළොවසක් යන්නෙන් අදහස් වන්නේ අවුරු 32 දී මහින්දතෙරුන් මෙහි පැමිණි බවයි.

කල්හි මහින්ද තෙරුන් වහන්සේ මෙම ස්ථානයේම දවන්නෙමුයි මහත් භයානක ශබ්ද හට ගැනින. දේවානම් පියතිස්ස රජතුමා ජනතා වචනය ශ්‍රවනය කර තිස්සාරාම විහාරයෙන් නැගෙනහිර පසෙහි මහාචිතකයක් කරවීය. එයින් අනතුරුව රජතුමා හා ජනතාව රන්සිවිගෙය ඔසවා ගෙන නැගෙනහිර දෙරටුවෙන් නගරයට පිවිසියහ. ඔවුහු ඒ මැදින් නගරයට ගොස් නැවතත් දකුණුපසින් නික්ම සත්දිනක් මහාවිහාරයේ තබා පූජා පැවැත්වූවාහුය. එසේම මෙම දෙව්මිනිස් දෙපිරිස සුවඳවත්වූ චිතකය වෙත පැමිණ තෙරුන් වහන්සේගේ දේහය රාජෝද්‍යානයෙහි පූජා පිණිස තබා පසුව දේහය සහිත රන්සිවිගෙය රැගෙන චෛත්‍යය වටා පැදකුණු කොට රැස්ව සිටි සියල්ලෝම උතුම්වූ නරෝත්තමයන් වහන්සේගේ දේහය වැන්දහ. නැගෙනහිර දෙරටුවෙන් එම අවස්ථාවේ මහජනයා නික්මුණි. එසේ නික්මුණාවූ ඔවුහු එ මනරම්වූ භූමිභාගයෙහි ආදහනෝත්සවය කළාහුය. සියල්ලෝම අඬමින් චිතකය වටා සිට චිතකයට ඇඳලි බැඳ නමස්කාර කොට ගිණිදැල්වූහ. උත්තිය රජතුමා එයින් පසු පණ්ඩිතවූ මහින්දතෙරුන් වහන්සේගේ ධාතුගෙන තමා කරවන ලද ආරාමයන්හි චෛත්‍යන් හා සමාන බොහෝ සොහොන් කොත් කරවන ලදී. මෙම මහින්ද තෙරුන් වහන්සේගේ ශරීරිය ආදහනය කළ ස්ථානයට "ඉසිභූමි"[1] යන නාමය පළමුව ව්‍යවහාරවිය.

* මෙය අද මිහින්තලේ ඉදිකටුසෑය යන නමින් හැඳින්වෙන ස්ථානය යයි කියනු ලැබේ.

# 18

මෙම අවදිය වනවිට විනයෙහි දක්‍ෂ වූ බෙදී නොගියාවූ මිහිඳු මහරහතුන් වහන්සේගේ පුදපූජා පැවත එන සම්බුද්ධ ශාසනය පාලනය කරන්නාවූ මධ්‍යස්ථ හා නවක භික්‍ෂූහු ද වූහ. බහුශ්‍රැත හා සිල්වත් වූ එම භික්‍ෂූහු මෙම දිවයින බැබලවූහ. ධුතාංගයන්ගෙන් පරිපූර්ණවූ ඔවුහු ශිෂ්ඨභාවින් යුක්තවූවාහුය. මේ අයුරින් මෙම ලක්දිවෙහි ශ්‍රී සද්ධර්මයෙහි දක්‍ෂවූ බෝහෝ ශාක්‍ය පුත්‍රයෝ විද්‍යාමානවූහ. මෙසේ ලෝකයේ බුදුරජාණන් වහන්සේලා පහළදවූයේ බොහෝ දෙනාගේ හිතසුව පිණිසමය.

බුදුරජාණන් වහන්සේ අන්ධකාරය පහකොට ආලෝකය පෙන්වූ සේක. තථාගතයන් වහන්සේ කෙරෙහි යමෙක් ආඪ්‍යවූ ශ්‍රධාවෙහි පිහිටියේ නම් ඔවුහු සියළු දුගතීන්ගෙන් මිදී සුගතියේ උපදිත්. යමෙක් එසේම ඉන්ද්‍රිය බලය සහිත බොජ්ඣඩගයන්[1] වඩත් නම් සතර සෘද්ධිපාදයන් හා යහපත් සිහියද; ආයර්‍ෂ්ඨාංගික මාර්‍ගයද යන මේ සියළු ගුණයන්ද වඩත් නම් ඔවුහු කෙලෙස් සිඳ දැමූ උතුමෝවෙති. ඔවුහු මාරසෙනග පහකොට ලෝකය ජයගත්තාහු පුදග්ලයෝ වෙති. තවද මහාමායා දේවියගේ මව්තුමියගේ කුසයෙන් එකට උපන් යම් දේවීන් කෙනෙකුන් වීද, ඇය ස්වකීය මැණියන් මෙන් අනුකම්පාවෙන් යුතුව සිදුහත් කුමාරයාණන්ට කිරිපෙවීද? එසේ වූවාවූ ඇයද සඩභිඥලාභී මහත් සෘද්ධිබල ඇත්තියකි. ඇය මහා ප්‍රජාපතීගෝතමී නම් වන්නීය. සියළු භික්‍ෂූනීන් වහන්සේලාට අග්‍රස්ථානය ගන්නේද වේ. මේ හැරුණු විට ඛේමා උප්පලවන්නා යන මෙහෙණීන් වහන්සේලා දෙදෙනාද බුදුරජාණන් වහන්සේ ගේ අග්‍රශ්‍රාවිකාවෝය.

---

1. බොජ්ඣංග පළමුව 7කට බෙදී එය 37 ක්වේ.
සතරසතිපට්ඨානය -4- සතර සම්‍යක්ප්‍රධානය -4- සතර ඉද්ධිපාදය -4- පංච ඉන්ද්‍රිය -5- පංචබලය -5- සත්ත බොජ්ඣංගය -7- ආයර්‍ය අෂ්ටාංගි මාර්‍ගය -8- යනුවෙති.

පටාචාරා; ධම්ම දින්නා; සොභිතා; විශාඛා; සෝණා; සුබලා; සංඝදසී; යන තෙරණියෝද විචක්ෂණ වූහ. තවද නන්ද; ධම්මපාලා; යන මෙහෙණිහු දෙදෙනද විනයෙහි විසාරදවූහ. මේ හැරණු විට දඹදිව මාගීඵලලාභී ඤානවත් තෙරණියෝ වද වූහ. සංඝමිත්තා ස්ථවිර තෙරණියන් වහන්සේ, උත්තරා ස්ථවිර තෙරණියන් බුද්ධිමත් තෙරණියෝය. මෙම තෙරණියන්ගෙන් උත්තරා; හේමා; මසාරගල්ලා; අග්ගිමිත්තා; දසිකා; පෙග්ගු; පබ්බතා; මත්තා; මල්ලා; ධම්මදසී; යන තෙරණිහු දඹදිවින් ලක්දිවට පැමිණියාහුය. මෙම සියළු තෙරණීන් වහන්සේලා[1] ධර්මය අවබෝධකරවීමෙහි සමත්වූහ. මොවුහු අනුරාධපුර මහා විහාරයෙහි වෙසෙමින් විනය ග්‍රන්ථ පසද; අභිධර්මය ඇතුළත් සප්ත ප්‍රකරණයන්ද ඉගැන්වූහ.

ලංකාවේදී මෙහෙණි සසුනේ උපසම්පදව ලැබූ සද්ධම්මනන්දි; සාමා; ගිරිද්ධි; දසිකා; ධම්මා; ධම්මපාලා; යන තෙරණිහු විනයෙහි විසාරද බුද්ධිමත් තෙරණියෝ වූහ. එසේම මහිලා; සෝභනා; ධම්මතාපසා ධුතංගවාදී භික්ෂුනීහු අතර ප්‍රමුඛවූහ. එසේම නරමිත්තා භික්ෂුණිය මහාඤානවත්වූ අතර විනය විශාරදත්වයටද පත්ව සිටියාය. මේ අතර සාතා; කාලිය; උත්තරා යන තෙරණියො ථෙරවාදී දහමෙහි දක්ෂවූවාහුය. සුමණා භික්ෂුණිය ධර්මදේශනා කිරීමෙහි අති දක්ෂවූවාය. මෙසේ තෙරණීන් වහන්සේ ලා එකල ලංකාවේම උපසම්පදව ලැබූ තෙරණියෝ වූහ. සමාධිගතවූ පහකරන ලද රාගාදී චෛතසිකයන් ගෙන් විනිර්මුක්තවූ පාරිශුද්ධ සංකල්පයන්ගෙන් හෙබියාවූ ධර්මවිනයෙහි සම්ප්‍රයුක්ත මෙම තෙරණීන් වහන්සේ ලාද උත්තරා භික්ෂුණිය සහිත තවත් භික්ෂුනීහු විසිදහසක් මෙම මෙහෙණි සස්නට ඇතුලත්ව අනුරාපුරයෙහි සියලුතන්හි විසූහ.

ලක්දිව රාජ්‍ය මෙකල ඉසුලූ උසස් වංශයෙහි උපන් මහත් යසස් ඇති අභය රජුගෙන්[2] උපස්ථාන ලබමින් මොවුහු

1. මෙම මෙහෙණීන් වහන්සේලා පිළිබඳ විස්තර මඃ වංශයේ හෝ ථූඃ වංශයේ හෝ බෝඃ වංශයේ හෝ වෙනත් වංශකථාවක සඳහන් නොවේ. මෙය දි. ව. ඓතිහාසිකත්වය වැඩිවීමට හේතුවක් බව බොහෝ ඉතිහාසඥයෝ පවසති.

2. මෙහි අභය නමින් සඳහන් කර ඇත්තේ අසේල රජුවියහැකිය. අභය කෙනෙකු සිටින්නේ දේවානම් පියතිස්සට පෙරය. මේ දරුනුවිට සියළු රජුන්ටම අභය නාමය භාවිතා කල බව පෙනේ. මේ හැරුණුවිට විට රුහුණු රාජ්‍යයෙහි අභයරාජ්‍ය හෙවත් ගොඨාභය නම් රජෙක් සිටි බව පෙනේ. මඃ වඃ (මඃවඃ පරි 12) දුටුගැමුණුද අභය විය.

පළමුවෙන්ම අනුරාධපුරයෙහි සිට විනය පිටකය සහ පස්මහසඟීන්ද අභිධර්මයද සප් ප්‍රකරණයන්ද[1] ඉගැන්වූහ.

කාවන්තිස්ස රජුගේ[2] මනාසේ ධර්මයේ දක්ෂවූ සියළු දියණියෝ[3] මේ වනවිට භික්ෂුණියෝ වී සිටියහ. එම භික්ෂුනීන් හා පෙරෙවි බමුණාගේ දියණිය වූ බොහෝ දේ දන්නා ගිරිකාලී භික්ෂුණියද ධූක්ත ඇමතිවරයාගේ දියණියන් වූ දසි හා කාලී තෙරණියන්ද සුබ්බා: පාපිකා: හා සබ්බපාලී යන ළඟානොවිය හැකි ආකාරයට තේජාන්විත වූ විනයකාමීත්වයෙන් යුක්තවූ පිරිසිදුවූත් භික්ෂුණියෝ වූහ.

රෝහණ නමින් ප්‍රසිද්ධවූ භික්ෂුණියක් මෙම අවදියේදී භික්ෂුණින් විසිදහසක් පිරිවරනු ලදුව ලක්දිවට පැමිණියාය. මේ අවස්ථාවේ රාජ්‍ය මෙහෙයවූ අභය රජතුමා ඔවුන්ටද උපස්ථාන කළේය. මහාදේවී: හේමා: පදුමා: යන තෙරණියෝ මහත් යසස් කීර්තියෙන් හෙබි අයවූහ. මොවුහු අනුරාධ පුරයෙහි සිට ශිෂ්‍ය භික්ෂුණීන්ට විනය පෙළ ඉගැන්වූහ. රජු විසින්ද පුද සත්කාර හා උපස්ථානද කරන ලදී.

අනුරාධපුර නගරයෙහි විනය පිටකය ඉගැන්වූ භික්ෂුනීන් අතර විචක්ෂණ හා බුද්ධිමත් මහාසෝණ නම් භික්ෂුණියත් දත්තා හා සීවලී යන භික්ෂුණී වරුනුත් වූහ. මේ හැරුණු විට නාගා නාගමිත්තා: ධම්මගුත්තා: දසිකා: යන මනාසුන්දරත්වයෙන් යුත්

---

1. භික්ෂුණීන් වහන්සේලා ඉගැන්වීමේ කටයුතුවල නිරතවූ බව මෙයින් පෙනේ. මෙකල උසස් අධ්‍යාපන පීඨයක් වශයෙන් පැවති මහාවිහාර අධ්‍යාපන පීඨයේ මෙම අධ්‍යයන කටයුතු කරන්නට ඇත. අරහත් භාවය ලැබූ භික්ෂුවකට හෝ භික්ෂුනියකට මිනිස්බව මිස ස්ත්‍රීපුරුෂ ලිංග භේදයක් නොපෙනෙන බව ත්‍රිපිටකයේ දැක්වේ.
2. මෙම සටහන කාවන්තිස්ස අවදියේ විසූවකු ලියා තබා තිබියදීම කතුවරයාට ලැබෙන්නට ඇත.
3. කාවන්තිස්ස රජුගේ දියණියන් සිටි බවක් වෙනත් වංශකතාවක හෝ සාහිත්‍යමූලාශ්‍රයක සඳහන් නොවේ. එසේම මුල්කාලයේ සිටම රජ පවුලේ හා ප්‍රභුවංශයේ ස්ත්‍රීන් පැවිදිවීමට පිවිසි බවද පෙනේ. මේ යුගයේදී ඉංදියාවේ තක්ෂිලාව ග්‍රීකයන් විසින් පාලනය කල බව පෙනී යයි. මෞර්‍ය අධිරාජ්‍ය පිරිහීගොස් තිබුණි. ක්‍රි. පූ. 146 පමණ කාලයේදී රෝමය විසින් ග්‍රීසියද යටත් කෙරින. එහෙත් කතුවරයා මෙහිදී කියන්නේ උත්තිය රජුගේ අවසන් කාලය බව පෙනේ. (ක්‍රි. පූ. 295-7)

නොපමාවූදෙවි මිනිසුන්ගේ පූද සත්කාරයට ලක්වූ භික්ෂුණීහු ද වූහ. අයසී මාර්ගඥණ අවබෝධ කලාහුය. එපමණක් ද නොව ධර්මදේශනා කිරීමෙහි මහත්සේ දක්ෂ වූ යහපත් භාවය නිසා ජනයාගේ ගෞරවාදරයට ලක්වූ සපත්තා; චන්නා; භික්ෂුණීහුද උපාලි, රේවතා යන භික්ෂුණීහුද වූහ. මේ හැරුණු විට බොහෝ දඹදිව ජනයා බුදුසසුනෙහි පහදවන ලද විසිදහසක් භික්ෂුණීහු දඹදිවින්ද මෙහි පැමිණියාහුය. අභය රජුගේ ආරාධනයෙන් පැමිණියාවූ එම භික්ෂුණීහු අනුරාධපුරයෙහි විනය පිටකය ඉගැන්වූහ[1]

මෙයින් සමුද්ධා; නාවා; දේවී; සීවලී; යන තෙරණීහු රාජදියණියෝ වූහ. මෙම භික්ෂුණීහුද නිකාය පහට අයත් ග්‍රන්ථයන් හා අභිධර්ම පිටකයට අයත් සප්තප්‍රකරණයන්ද ඉගැන්වූහ. මෙම භික්ෂුණීහු හැරුණු විට විනයෙහි විසාරද වූ තවත් භික්ෂුණීයන් නාගමිත්තා, මහිලා, භික්ෂුණීපාලා; යන භික්ෂුණීහුය. චූල්ලනාගා චූල්ලනාගමිත්තා යන භික්ෂුණීහු ලක්දිව ධර්මය උගත් භික්ෂුණීයෝ වූහ. මෙම වංශවත්වූ භික්ෂුණීහු එම අවදියෙහි භික්ෂුනී ශාසනයෙහි මහත්සේ ප්‍රකට වූහ. එම භික්ෂුණීන් දහසය දහස[2] අතුරෙන් උසස් තනතුරු දැරූ භික්ෂුනීයෝද වූහ. මෙ තෙරණියන් හටද කුටිකණ්ණ අභය[3] රජු[4] විසින් මහත්සේ පුදසත්කාර කරන ලදී. මෙම තෙරණියෝද අනුරාධපුරයෙහි විනය පිටකය ඉගැන්වූහ. තවද මනා වැටහීම් සහිත අභිඥලාභී යහපත්වූ චූල්ලනාගා; දත්තා යන ස්ථවිරවරියෝද ධර්මයෙහි ඉතා දක්ෂවූහ.

මෙම භික්ෂුණීන් වහන්සේලා හැරණු විට නැණවත් භාවයෙන් අගතැන්පත් විසාරදවූ භික්ෂුණීන් අතර ගටිකධිතා, තෙරණිය හා මහාතිස්සාවන් වූ අතර අභිඥනා තෙරණියත්, සණ්හා තෙරණියත් ධර්මයෙහි ඉතා දක්ෂ වූහ. මෙම තෙරණීහුද උසස් වංශවලට අයත් වූහ. එසේම මොවුහු අරහත් මාර්ගඵල

1. මෙයින් පැහැදිලි වන්නේ දුටුගැමුණු අවදිය වනවිට (ක්‍රි. පූ. 161-119) භික්ෂුනීන් පමණක් කාන්තාවන් සඳහා ද උසස් අධ්‍යාපන ආයතන පැවති බවය.
2. මෙසේ භික්ෂුණීන් පිළිබඳ තොරතුරු බොහෝ සෙයින් සඳහන් වන නිසා මෙම කෘතිය භික්ෂුනියක් විසින් කරන ලදැයි සමහර ඉතිහාසඥයෝ තර්ක කරති.
3. මොහු භාතිකාභය විය හැකිය.
4. කුටිකන්න අභය යනුවෙන්ද සඳහන් වන්නේ මොහුය.

ලාභීහුය. එසේම මෙ තෙරණීහු රෝහණයෙහි හා මුළු ලක්දිව ප්‍රසිද්ධවූ අතර යහපත් අය විසින් පිළිගත් තැනැත්තියෝ වූහ. මොවුහු සියල්ලෝ ශිලාදී ඥණයෙන් හෙබි මහාණැණ වන්තියෝය. සමුද්ධා භික්ෂුණිය ෂඩ් අභිඥලාභීවූ අතර ධර්මයෙහි දක්ෂවූවාය. මෙම සියළු භික්ෂුණීහු විභජ්ජවාදීනොවූ විනයධර භික්ෂුණියෝ වූහ. මොවුහු භික්ෂුණී සසුන බලවන්තියෝ වූහ. ධර්මවිනයෙහි ඇළුනාවූ, මනසින් පිරිසිදු වූ මෙම සියළු භික්ෂුණීහු ලක්දිව උපසපන් බව ලැබුවාහුය. බොහෝ ඇසූ පිරූතැන් ඇති පාපයෙන් මිදුනු යසසසින් හා තේජසින් පිරිපුන් මෙම භික්ෂුණීහු ලෝසසුන් වැඩවඩා පිරිවිසියාහුය.

බුද්ධ ශාසනය මනාසේ රකිමින් විනය පෙළධාරණය කර ගත්තාවූ විභජ්ජවාදයෙන් තොර බොහෝ දේ දත් සිල්වත් මෙහෙණි ස්ථවිර වරියෝද නවක හා මධ්‍යම භික්ෂුණීහුද මෙකල[1] විද්‍යාමාණවූ අතර මෙම තෙරණීහු ලක් පොළව බැබලවූහ.

මෙයින් පසු "ශිව"[2] නම් ක්ෂත්‍රිය කුමරු රජ විය. මොහු දසවසක් රාජ්‍ය කළේය. මෙම රජතුමා විසින් ඉතා සිත් ඇදගන්නාවූ "නගරංගන" නම් ආරාමයක් කරවීය. මෙයින් පසු සුරතිස්ස රජවූයේය. මොහුද දසවසක් රාජ්‍ය කළේය. බොහෝ සේ පින්දම් කළ මෙම රජතුමා ආරාමයන් පන්සීයක්ද කරවීය. අනතුරුව සේන-ගුත්තික නම් ද්‍රවිඩයන් දෙදෙනා සුරතිස්සගෙන් රාජ්‍ය ගෙන දෙළොස් අවුරුද්දක්[3] ධර්මයෙන් රාජ්‍ය කළාහුය. මුටශිවගේ පුත් අසේලකුමරු[4] සේනගුත්තික දෙදෙන මරා දසවසක්

1. මෙහි මෙකල යනුවෙන් සඳහන් කර ඇත්තේ දී. ව. රචනා කරන ලද අවදිය වියහැකිය. ක්‍රි. ව. 4 සියවස වනවිටද භික්ෂුනී ශාසනයේ දියුණුව තිබූ බව පෙනේ.
2. මඃ වඃ ආදී විවිධ වංශකථාවල මහාශිව නමින් සඳහන් වන්නේ මොහුය. මොහුගේ රාජ්‍ය කාලය ක්‍රි. පූ. 247 වේ. ඉංග්‍රීසි ග්‍රන්ථවල මෙම රාජ්‍ය නිර්ණ කාලයත් අවුඃ 25 පමණ වෙනසක් දන්ට ලැබේ. මෙකල රුහුණේ ගොඨාභය රජවී සිටියේය. කතරගම ක්ෂත්‍රියන්ද හඳුන්ගමුව, ක්ෂත්‍රියන්දඃ ස්වාධීන රාජ්‍ය පිහිටුවා ගෙන සිටි අතර සේරුනුවරඃ ගිරිනුවරඃ සෝමනුවර හා ලෝණනුවර ආදී තන්හි ස්වාධීන රාජ්‍ය තිබූ බව දක්නට ලැබේ. මලය රට රාජ්‍යක් ද විය.
3. මඃ වඃ අවුරුදු 22ක් ලෙස දැක්වේ. දි. ව. එන අවුරුදු 12 ඉතිහාසඥයන්ගේ පිළිගැනීමට ලක්ව ඇත. පූ. ව. අස්නැව් පුතුන් ලෙස දක්වා ඇති අතර පූජාවලියේ අශ්වාචාරීන්ලෙසත් රාජවලියේ අසරුදෙබෑ දෙනෙක් වශයෙන්ද දැක්වේ.
4. මේ වනවිට රුහුණේ කාවන්තිස්ස රජවිය. මෙය ක්‍රි. පූ. 216 පමණ යැයි සැලකේ. මොහු රාජ්‍ය එක්සේසත් කිරීමට මහත් කායඝීක් කළ බව මඃ වඃ පූඃ වඃ හා අනෙක් වංශ කථාවල දැක්වේ.

රාජ්‍ය කළේය. අසේල රජු මැරූ එළාර නැමැත්තා මෙයින් පසු රාජ්‍ය ලබාගත්තේය. මෙම රජතුමා ඡන්ද; ද්වේෂ; භය; මෝහ ආදියෙන් විනිර්මුක්තවූයේ අගතියට නොගොස් හතළිස් හතර අවුරුද්දක් ධර්මයෙන් රාජ්‍ය මෙහෙයවීය.[1] ඔහු තරාදියේ තුලා සමකයසේ දැහැමෙන් සෙමෙන් සමබරව රාජ්‍යානුශාසනා කළේය. මෙම රජුගේ රාජ්‍යනු ශාසනා කාලයෙහි ග්‍රීෂ්ම; හේමන්ත වස්සාන යන කලත්‍රයෙහිම දිවාකල්හි වැසි නොවැස්සේය. මෙයින් පසු කඩොලැතු සහිත දසමහා යෝධයන් පිරිවරන ලද්දවූ කාවන්තිස්ස රජතුමාගේ අභය නම් පුත්‍රයා සටන් මෙහෙයවා එළාර රජු මරා රාජ්‍ය එක්සේසත් කොට අවුරුදු විසිහතරක් රාජ්‍ය කළේය.[2]

1. එළාරගේ ධාර්මික ක්‍රියා පිළිබඳව ම: ව: විශේෂ හැඳින්වීමක් කර ඇති අතර ඔහුට බෞද්ධ ඇමතිවරු සිටි බවද දක්වා ඇත.
2. ම: ව: කතුවරයා එම කෘතියේ 22 පරිච්ඡේදය සම්පූර්ණයෙන්ම දුටු ගැමුණු කුමාරයාගේ උප්පත්ති කතාව වෙනුවෙන් යොදා ඇත.

# 19

දුටුගැමුණු රජතුමා විසින් තිස්කෝටියක් ධනය වියදම් කොට දෙරටු සතරකින් යුත් ඉතා උස් වූ නවමහල් පහයක්[1] කරවන ලදී. එයින් පසු මහාසෑය පිහිටුවන බිම ස්ථරවීම සඳහා ක්‍රමාණුකූලව පොළව මතුපිට ගල්අතුරුවා එහි වෙඩරුමැටි ආලේප කරන ලදී. එයට පසු එම බිම බොරළුයොද දැඩි ලෙස තදකොට නැවතත් ඒ මතුපිට වෙඩරු මැටි ආලේප කරන ලදී. එයින් පසු ඒ මතුපිට වටිනා ගඩොලින් බිම පිරිසිදු කෙරිනි. අනතුරුව ඒ මතුයෙහි යකඩ දැලක් දැමූ අතර ඒ මතුයෙහි කුරුවින්ද නම් පාෂාණ වර්ගයද අතුරුවන ලදී. අනතුරුව මෙ රජතුමා වර්ග අටක කැටගල්ද ඇතිරවීය. රජතුමා මේ ආකාරයෙන් බිම පිළියෙළ කරවා භික්‍ෂු සංඝයා රැස්කරවීය. එසේ භික්‍ෂූන් වහන්සේ රැස් කොට චෛත්‍යය කරවන ස්ථානයේ බිම හාත්පස මැන්නේය. මෙහිදී මෙම කාර්‍ය්‍ය සඳහා මෙම තෙරවරු සහභාගිවූහ.

ඉන්ද්‍රගුප්ත තෙරුන් වහන්සේ මෙයට සහභාගිවූ අතර ධම්සේන තෙරුන්වහන්සේ; මහාකපි තෙරුන් වහන්සේ හා පියදස්සී; බුද්ධ රක්ඛිත; ස්ථවිරයන් වහන්සේලාද බුද්ධිමත් හා විසාරදභාවයෙන් යුත් මින්තින්න තෙරුන් වහන්සේද උත්තින්න; මහාදේව; මූලධම්මරක්ඛිත; උත්තර; චිත්තගුප්ත; චන්ද්‍රගුප්ත යන ස්ථවිර වරුන්ද වූහ. මෙම තෙරුන් වහන්සේලා මහා පාණ්ඩිත්‍යයෙන්

1. ම: ව: දුටුගැමුණු කුමාරයාගේ උපත ගැන කීමට 22 පරිසම්පූර්ණයෙන්ම යොදගෙන ඇත. එහි රුහුණු රජ පරපුරේ ආරම්භයද දක්වා තිබේ. එසේම මෙහි සඳහන් නවමහල් ප්‍රසාදය ලෝවාමහාපායයි. මෙය ඉතා දර්ශනීය ආකාරයෙන් නිමකල බව ම: ව: දක්වා තිබේ. මෙය රියන් දහසක් උස්වූ බව දක්වා ඇති අතර දිග පලලද රියන් දහසක් බව දක්වා ඇති අතර මෙහි මහල් 9ක් බවද දක්වා ඇත. මෙහි විවිධ වටිනා දේ තිබූ අතර ඇත්දතින් කළ විජිනි පතක් ගැනද දක්වා ඇත. මෙය පිළිබඳව හියුංසියැන්ගේ වාර්තාවේද ඇත. මෙහි පියස්ස තඹ ලෝහයෙන් කරන ලද උළුවලින් වසන ලද බවද ම: ව: 27 පරි දක්වා ඇත. මහාථූපය (රුවන්වැලිය) කරවීමට පෙර මෙය කැරවූ බව පෙනේ.

හෙබියාහුය. සියල්ල දැරීමේ විශේෂ හැකියාවක් ඇත්තාහුය. මෙම තෙරවරු දහහතර දෙනා වහන්සේ මෙම චෛත්‍ය කර්මාන්තයට සහභාගිවීම කසඳහා දඹදිව සිට ලක්දිවට වැඩියාහ[1] තවද සිද්ධන්ත මංගල; සුමන යන තෙරවරුන්ද, පදුම; සීවලී; චන්‍ද්‍රගුප්ත; සූරියගුප්ත තෙරුන් වහන්සේලා හා ඉන්‍ද්‍රගුප්ත; සාගර; මිත්තසේන; ජයසේන; අචල ආදී තෙරවරුද ඉන්දියාවේ සිට මෙහි වැඩියාහුය. මෙම උත්සවය පිණිස සුප්පතිට්ඨික නම් බ්‍රාහ්මණයාද සුමනා නම් ඔහුගේ බිරිඳද; නන්දසේන නම් ඔහුගේ පුත්‍රයාද යන මව්පිය පුත්හු උතුම් වූ මහා විහාරයේ ස්ථූපයක් කරවූහ[2] ඔවුන් විසින් අගනා මුතුමැණික් විස්සක්ද පරිත්‍යාග කරන ලදී.

එක්දිනක් ආගන්තුක භික්ෂූන්ගේ වත් පිළිවෙත් පිළිබඳව අසා දැනගත් මෙයට පසුකාලයක රජවූ වලගම්බා රජතුමා[3] මෙහි භික්ෂූන් වහන්සේලාගේ සැපවිහරණය උදෙසා අවශ්‍යය බෙහෙත් වර්ග භික්ෂූන් සඳහා පූජා කළේය. භික්ෂුනීන්ගේ යහපත් වචන ශ්‍රවණය කල මෙම රජතුමා භික්ෂුනීන්ටද අවශ්‍ය අවස්ථාවන්හිදී ප්‍රයෝජනය ගැනීම සඳහා කැමැති පරිදි පරිහරණය කිරීමට බෙහෙත් ආදී නොයෙක් ප්‍රත්‍යය සම්පාදනය කර දුන්නේය. මෙම රජතුමා රාමචේතිය පර්වතයෙහි ශෛලමය චෛත්‍යක්ද කරවීය.

---

1. ම: ව: දැක්වෙන්නේ මෙම තෙරුන්වහන්සේලාගේ නායකත්වය යටතේ රහතුන් වහන්සේලා අනූහය කෝටියක් වැඩි බවය. එය අතිශෝක්තියක් වන අතර ඓතිහාසිකත්වයෙන් තොරය. ක්‍රි. පූ. 161 දුටුගැමුණු රාජ්‍ය කාලය වන අතර මේවනවිට ඉංදියාව පුෂ්‍යමිත්‍ර සුංගයින්ගේ පාලනයට යටත්ව පැවති බව පෙනේ. බ්‍රාහ්මණ බලය මෙහි දැඩි ලෙස පැවති අතර බෞද්ධාරාම වැනසූ බවද පෙනේ. එම නිසා ඉංදියාවේ විසූ බොහෝ භික්ෂූන් වහන්සේ එහි බෞද්ධාරාම වැනසූ බවද පෙනේ. එම නිසා ඉංදියාවේ විසූ බොහෝ භික්ෂූන් වහන්සේ මෙහි බෞද්ධයන් නැන්වීම සඳහා පැමිණෙන්ට ඇතැයි සිතිය හැකිය. රොමිලා තපර්මහතා ක්‍රි. පූ. 180-28 සුංග පාලකයේ දක්වන අතර සමහර ඉතිහාසඥ එම පාලනකාලය ක්‍රි. පූ. 187-151 දක්වන අතර සමහරු ක්‍රි. පූ. 187-75 දක්වති. මෙකල බමුණන් පොල්ල බිම තබා කඩුව අතටගත් යුගය සේද සලකති.
2. මොවුන්ද ඉන්දියාවේ සිට පැමිණි බව පෙනේ. මොවුන් පිළිබඳව ම: ව: කිසිදු සටහනක් නැත. ථූපවංශයේ දක්නට ලැබෙන මෙම සැදැහවතුන් උළුසෙවිලිකල බවකි. ම: ව: කතුවරයා මහාථූප කතාව ගැනකීමට 28; 29; 30; 31 යන පරිච්ඡේද සම්පූර්ණයෙන්ම වැය කොට ඇත.
3. මොහු පළමුවර ක්‍රි. පූ. 104 රජවූ බව දැක්වෙන අතර දෙවන වර ක්‍රි. පූ. 89 සිට 77 දක්වා රජකල බව කියයි. ම: ව: දෙවන වර රාජ්‍යකාලය දක්වන්නේ ක්‍රි. පූ. 88-76 වශයෙනි. මේ අනුව ඔහු මහා විහාරයට සැලකූ බවද පෙනේ.

තවද ජලක නම් උතුම් වූ ආශන ශාලාවක්ද කරවීය.[1] මෙම වලගම්බා රජතුමා විසින් ගිරිනිගණ්ඨයා විසූ ස්ථානයේ ස්තූපයක්ද කරවන ලදී. එම ස්තූපය අභයගිරි නමින් සඳහන්වේ.

මේ කාලයේ ලක්දිව බලය ලබාගත් පුලහත්ථ බාහිය: පනයමාර: පිළයමාර: දාඨිය: යන ද්‍රවිඩයන් පස් දෙනා අවුරුදු දහතරකුත් මාස හතරක් රාජ්‍ය කළහ.[2] මෙයින් පසු සද්ධාතිස්ස රජුගේ පුතෙකු වූ අභය නැමැත්තා[3] දඨිය නම් ද්‍රවිඩයා මරා හොඳින් රාජ්‍ය කළේය. මෙම රජතුමා රුවන්වැලිසෑය අසල අභයගිරි විහාරය පිහිටුවීය. එසේම ඔහු අවුරුදු දෙළහකුත් මාස පහක් රාජ්‍ය කළේය. මෙම අවදියේ වලගම්බා රජතුමාගේ යෝධයෝ හත් දෙනෙකු ආරාම පහක්[4] කරවූහ. උත්තිය: සාලිය: මූල: තිස්ස: පබ්බත: දේව: උත්තර යන සත්දෙනා මොවුහු වෙති. මෙයින් උත්තිය නැමැත්තා දක්ඛිණගිරි විහාරය කරවීය. සාලිය, සාලිය ආරාමය ද: මූල, මූලාසය නම් විහාරයද: පර්වතයෝධ තෙම පර්වත ආරාමයද, තිස්ස: තිස්ස ආරාමයද දේව උත්තර: යන මොවුහු දේවවිහාරය ද යන මෙම විහාරයන් කරවූහ.

කාවන්තිස්ස රජතුමාගේ පුත් මහාතිස්ස රජතුමා මිනිසුන් ලවා ඉතා අලංකාරවූ හැල්කෙතක් කරවා ධ්‍යානලාභී ශාන්තවූ සුම්ම තෙරුන්ට පූජා කළේය. එසේම භික්ෂු සංඝයා සමග කථිකා

---

1. ම: ව: භික්ෂුනීන් පිළිබඳව සඳහන් නොවන අතර වලගම්බා රජු විසින් කරන ලද මෙම බෞද්ධ කටයුතු පිළිබඳවද සඳහන් නොවේ. එහෙත් බෞද්ධස්ථානවලට සැලකූ බව සඳහන්වේ.
2. ම: ව: දැක්වෙන්නේ අවු: 14 මාස 7ක් මොවුන් රජකල බවයි. ද්‍රවිඩයන් 7 පැමිණිබවද ම: ව: දක්වා ඇත. නිකාය සංග්‍රහයෙහි ඉතිරි දෙදෙනා සෝමා දේවිය හා පාත්‍රාධාතුව ගෙනයන ලදී. තවද මෙය යුරෝපයේ ජූලියස් සීසර් ගේ යුගයයි.
3. මෙහි අභය යනුවෙන් දැක්වෙන්නේ වලගම්බාය.
4. එකිනෙකා විහාරය බැගින් කරවූ බව ම: ව: දැක්වෙන අතර එහි එන්නේ අමාත්‍යන් වශයෙනි. එසේම 6 දෙනෙකුගේ නම් පමණක් එහි දැක්වේ. දෙව: උත්තර, දෙදෙනාගේ නම ම:ව: දක්නට නොමැති අතර දී: ව: මූලව ගේ නම සඳහන් නොවේ. එසේම ම: ව: එම විහාරය 'තිස්ස' හිමියන්ට පූජාකල බව දක්වා ඇත. මෙසේ දි. ව. මුලදී විහාර 5ක් යැයි සඳහන් කලත් විහාර කල යෝධයන් කරවන ලද විහාර සඳහන් කිරීමේදී 6ක් කරවා ඇතිබව පෙනේ. ම: ව: එම විහාර නම් දක්වා නැත.

කරගෙන පූර්ණ තෙමසක් දහස් ගණන් භික්ෂු සංඝයා වෙනුවෙන් මහ දන් දෙවීය. මෙසේ මහා ඥානවත්වූ පුණ්‍යලාභී වූ දුට්ඨගාමිණී අභය රජතුමා මරණින් මතු මහත් දිව්‍ය සමූහයා ඇති තුසිත දෙව්ලොව උන්නේය.[1]

1. මෙම පරිච්ඡේදය සැකසීමේදී දි. වං කතුවරයා ව්‍යාකුලත්වයකට පත්ව ඇතිබව පෙනේ. එසේ වුවත් මං වං කතුවරයා එය ක්‍රමානුකූලව සකසා ඇත.

# 20

කාවන්තිස්ස රජුගේ පුත් 'තිස්ස' නමින් ප්‍රසිද්ධව සිටි කුමාරයා මහාථූපයෙහි චත්‍ර කර්මාන්තාදී සෙසු සියලු කටයුතු කරවීය. ඔහු විසින් දක්ඛිණගිරි විහාරයද කල්ලක ලෙන ද කරවන ලදී. මේ හැරණු විට සද්ධාතිස්ස රජු බොහෝ විහාරද කරවීය.[1] අසූහාර දහසක් ධර්මස්ඛන්ධයන් සිහිකරවූ මෙම රජතුමා ඒ ඒ, දහම් කොටස් වෙනුවෙන් එක් එක් පූජාව බැගින් පැවැත්වීය. එම සද්ධාතිස් රජතුමා ලෝවාමහාපාය නැවත සිත් ඇදගන්නා අයුරින් සත්මහල් කොට[2] සැකසීය. මෙයට සෙවිලි කරවන ලද්දේ ලෝහයෙන් කරවන ලද උළුය. එම නිසා මුල් අවදියේ සිටම එයට 'ලෝහප්‍රාසාදය' යැයි කියන ලදී. එසේම මෙ රජතුමා මහාසෑය හාත්පස වැසී යන ආකාරයට තිරයක්ද සෑදවීය. චෛත්‍යය වට ඇත්පවුරක් දකරවීය. සද්ධාතිස් රජතුමා විසින් මෙහි තාවකාලික හතරැස් පොකුණක් කරවන ලදී. සද්ධාතිස් රජු මේ අයුරින් අවුරුදු දහඅටක් රාජ්‍ය කළේය. අනල්පව දන්දී බොහෝ පුණ්‍ය කර්මයන්හි නිරතව මෙම රජතුමා[3] මරණින් මතු තුසිත දෙව්ලොව දෙවියන් සමීපයට ගියේය.

සද්ධාතිස් රජුගේ පුත් ථූලත්ථන[4] මෙයින් පසු රජවිය. ඉතා අලංකාර ලෙස අලකන්දර විහාරය කරවන ලද්දේ මොහුය. මොහු මසකුත් දින දහයක්[5] රාජ්‍ය කළේය. මෙයට පසු සද්ධාතිස්ස රජුගේ

---

1. ම: ව: ඔහු විසින් කරවන ලද විහාර රාශියක් පිළිබඳව දක්වා ඇත.
2. මෙය පහණක් ගිනි ගැනීම නිසා 9 හා 8 වන මහල් විනාශ වූයෙන් සද්ධාතිස්ස රජු එය සත්මහල් කරවා සැකසූ බව ම: ව: 38 පරි. දැක්වේ.
3. ම: ව: සද්ධාතිස්ස පුවත කීමට පෙර සාලිය කුමරු ගැන තොරතුරු දක්වා ඇත.
4. ක්‍රි. පූ. 119 මොහු රජවූ බව දක්වා ඇත.
5. ම: ව: අනුව දුටුගැමුණු රජුට අසනීපවූ විට ථූලත්ථන අනුරපුර රජගෙදරට කැඳවාගෙන යන ලද බවත් වැඩි මහල්කුමරු ලජ්ජිතිස්ස දීගාවැව නවතා ගිය බවත් මෙයින් පසු ථූලත්ථන රජගෙදරම සිටි බවත් සද්ධාතිස්ස මිය යාමෙන් පසු ඇමතිවරුන් එක්ව ථූලත්ථන රජකරවූ බවත් රාජ්‍ය හිමි ලජ්ජිතිස්ස පැමිණ රාජ්‍යගත් බවත් දැක්වේ.

තවත් පුතෙකු වන ලජ්ජිතිස්ස නැමැත්තා රජවූයේය. මොහුගේ රාජ්‍යානුශාසනා කාලය නව අවුරුදු හයමසකි.[1] උතුම් වූ රුවන්වැලිසෑයට ඕහුමල් ආසන තුනක්ද කරවීය.[2] මේ හැරුණුවිට ඔහු විසින් ගිරිකුම්බල නම් විහාරයද කරවන ලදී. ථූපාරාම විහාරයේ නැගෙනහිර පසින් 'දීඝථූප' නම් ස්ථූපයද කරවූ මොහු ථූපාරාම විහාරයට ගල් ආවරණයක් ද සෑදවීය. ලජ්ජිතිස්ස රජතුමාගේ මරණයෙන් පසු ඔහුගේ කණිටු සොහොයුරු බල්ලාටනාග රජවිය. ඔහු හයවසක් රාජ්‍ය මෙහෙයවීය.

අකෘතඥවූ මහාරත්ථක නම් සෙනෙවියා ඔහු මරණයට පත්කොට එක් දිනක් රාජ්‍ය කළේය. බල්ලාටනාගගේ බාල සොහොයුරු වට්ටගාමිණී අභය[3] කුමරා එම නපුරු සෙනෙවියා මරණයට පත්කොට රාජ්‍යගෙන පස්මසක් රාජ්‍ය කළේය.

පුලහත්ථ[4] නම් ද්‍රවිඩයෙකු ඔහු නෙරපා දමා රාජ්‍යය ගෙන ගියේය. ඔහු මැරූ බාහිය අවුරුදු දෙකක් රජකළ අතර පනයමාර ඔහු මරා හත්වසරක් රාජ්‍ය මෙහෙයවීය. එයින් පසු පිළයමාර ඔහු මරා සත්මසක් රාජ්‍යානු ශාසනා කළේය. එයින් අනතුරුව ඔහු මැරූ ධාඨිය නැමැත්තා අවුරුදු දෙකක් රාජ්‍ය ගෙනගියේය. ද්‍රවිඩ ජාතිකයන් වූ මෙම අතුරු රජුන් පස්දෙනා අවුරුදු දහහතරකුත් සත් මසක් රජකම් කළහ.

මහායසස් ඇති වට්ටගාමිණී අභය රජතුමා එම ධාඨිය නම් ද්‍රවිඩයා මරාදමා තමාම රාජ්‍ය විචාළේය. වලගම්බා රජු පළමුවෙන් මෙසේ පස් මසක්ද අවුරුදු දෙළහක් දෙවනුවද

1. මඃ වඃ අවුරුදු 9 කුත් මාස 8 බව දක්වා ඇත.
2. මඃවඃ දක්වන්නේ මුලදී සංඝයාට පරිභව කළ වරදට දඬුවමක් වශයෙන් මෙය කළ බවය. මෙයින් සංඝයාගේ අවශ්‍යතාවය සඳහා ථූලත්ථන රජකරවූ හෙයින් ලජ්ජිතිස්ස කෝපයෙන් සිටි බව පෙනේ. මොහුගේ රාජ්‍ය යුගය ක්‍රි. පූ. 119-110 වේ.
3. මොහු බල්ලාට නාගගේ දේවිය වන අනුලා පාවාගත් බවත් ඔහුගේ පුත්‍රයා වන මහාචූලික කුමරා පුත්‍රස්ථානයේ තබා ඇතිදැඩි කල බවත් එම නිසා ඔහු පිතුරාජ නමින් සඳහන්වූ බවත් මඃ වඃ පවසයි (පරි. 33) මෙකල රුහුණු ජනපදයෙහි තිස්ස නම් බමුණෙක් රජකම ගැනීමට සැහැසිකම් කරමින් සිටි බවද මඃ වඃ 33 පරි දක්වයි.
4. ද්‍රවිඩයන් 7ක් පැමිණිබව මඃ ව දැක්වේ. එයින් 5කගේ නම් පමණක් දැක්වේ.

රාජ්‍යගෙන ගියේය. මහාඥානවත් භික්ෂූන් වහන්සේලා මෙ රජුගේ කාලයට බොහෝ පෙර සිටම ත්‍රිපිටක පාලිය හා එහි අර්ථකථාවද මුඛපරම්පරාවෙන් රැගෙන ආවාහුය. මෙම කරුණ පිළිබඳව එකල්හි රැස්වූ භික්ෂු සමූහයා අනාගතයෙහි වන්නාවූ හානිය දැක ධර්මය බොහෝ කලක් ප්‍රතිෂ්ඨාපනය කරවීම පිණිස පොත්වල ලියා තැබූහ.[1] වලගම්බාගෙන් පසු මහාචූලිමහාතිස්ස රජතුමා අවුරුදු දහහතරක් දැහැමෙන් සෙමෙන් රාජ්‍ය කළේය.[2] සද්ධාසම්පන්න එම රජුද විවිධ ආකාරයේ පින්කම් කොට දහහතර වසක් රාජ්‍ය මෙහෙවීමෙන් පසු දෙව්ලොව ගියේය.

වට්ටගාමිණී අභය රජුගේ පුතෙකු වන චෝරනාග නමින් පතලවූ තැනැත්තෙකු දෙළොස්මසක්[3] හොරෙකු වශයෙන් රජකම කළේය.

මහාචූලි මහාතිස්ස රජුගේ "තිස්ස"[4] නමින් ප්‍රකටව සිටි පුත්‍රයා මෙයින් පසු වසර තුනක් රාජ්‍ය මෙහෙවීය. අනතුරුව අවුරුද්දකුත් මාස දෙකක් ශිව නැමැත්තා සමග අනුලා රාජ්‍යානුශාසනා කළාය. එයින් පසු අනුලා බිසොව තවද අවුරුද්දකුත් මාස දෙකක් වෙනත් දේශයකින් පැමිණි වටුක නම් ද්‍රවිඪ රජෙකු හා රාජ්‍ය මෙහෙයවීය. දරුභාතිකතිස්ස නැමැත්තා අනුරාධපුර රාජ්‍ය

1. මේ පිළිබඳ - ධර්මසංඝායනාව මාතලේ අළුවිහාරයේදී කළ බව ම: ව: 33 දක්වා ඇත. මෙම යුගයේ වලගම්බා රජු විසින් කරන ලද වැඩ රාශියක් පිළිබඳව ම: ව: දක්වා ඇත. එසේම නිකාය සංග්‍රහයේ හා පූජාවලියේද දක්වා ඇත. දී. ව. 19 පරි. මේ පිළිබඳ කෙටි විස්තරයක් පමණක් ඇත.
2. ක්‍රි. පූ. 76 සිට 62 මොහුගේ රාජ්‍ය කාලයයි. මෙකල කාන්ව වංශයේ වාසුදේව ඉංදියාවේ පාලනය ගත් බව පෙනී යයි. රාජ්‍යකාලය අවු: 45 කි. මෙම කාලයේ කුජුලකැඩ්පයි සෙස් කාබුල් හා කාශ්මීරය අල්ලාගත්තා ලදී. ම: ව: අනුව මොහු මහාචූලි වෙස්වලා ගෙන ගොස් කුලීකොට ලද මුදලින් දන්දුන් බවද සඳහන්වේ.
3. සමහර තැනක "රජ්ජං කාරෙසිදීම්හි තීනි වස්සානි බත්තියො" යනුවෙන් තෙවසක් රජකල බවක් පෙන්වයි. ම: ව: කියන්නේ මහාචූලි මහාතිස්සරජුගේ කාලයේ සිට දමරික කම් කොට රාජ්‍ය ලද පසු විහාර 18ක් කඩා අපාගතවූ බවයි.
4. ම: ව: කුඩඩ තිස්ස (කුඩාතිස්ස) නමින් දැක්වේ. චෝරනාගගේ බිසොව වන අනුලා මොහු බිසොව වශයෙන් තබාසිටි බව පෙනේ. අනුලා මොහුට වසදී මරවා ශිව නැමැත්තෙකු සැමිකමට තබා රජය දුන් බව දැක්වේ. මේ අයුරින් ඇය පුරුෂයන් 32 තබාගෙන සිටි බවද ම: ව: 34 පරි. දක්වයි.

මධ්‍යස්ථානයේ තබාගෙන අවුරුද්දකුත් මාසයක් රජ කරන ලද්දේ මෙයින් පසුවය. බ්‍රාහ්මණ නිලිය නැමැත්තා මෙයින් පසු රාජ්‍යානුශාසනාවෙහි තබාගත්තාය. නිලිය මාසහයක් රජකරවීය. නිලියද මරා දැමූ අනුලා තවත් හාරමාසයක් ලක්දිව රාජ්‍යානුශාසනා කළාය. මේ කාලයේදී මහාචූලි මහාතිස්ස රජුගේ පුත් 'කුඨකණ්ණතිස්ස'[1] නැමැත්තා අනුලා දේවියට බියෙන් පැනගොස් පැවිදිවිය. එසේ පැවිදිව සිට සුදුසු කාලයෙහි බලසෙනග පිරිවරා ගත්තාවූ ඔහු අනුරාධපුරයට පැමිණ පව්ටු අනුලාව මරා රාජ්‍යබලය ලබා ගත්තේය. එසේ රාජ්‍ය බලය ලබාගෙන සඳගිරියෙහි උපොසථාගාරයක්ද කරවීය. මෙනයින් ඔහු ලක්දිව රාජ්‍ය ගෙන දැහැමින් රාජ්‍ය කළේය. එම රජතුමා උපෝසථාගාරය ඉදිරියෙහි ගලින් නිමකරන ලද අලංකාර චෛත්‍යක්ද කරවන ලදී. තවද බෝ රුකක්ද රෝපණය කළේය. මෙපමණක්ද නොව මල් පල ලතා ආදියෙන් හෙබි උයනක්ද කරවීය. මෙම රජතුමා භික්ෂුණීන් පිළිබඳවද මනස මෙහෙයවා භික්ෂුණී අවශ්‍යතාවය සඳහා ගිණිහල් ගෙයක්ද[2] කරවීය. එසේම වනෝද්‍යානය සඳහා පදුමස්සර නම් පවුරක්ද කරවීය. නගරයේ ආරක්ෂාව උදෙසා දිය අගලක් කරවූ ඔහු සත්රියන් උස් පවුරක්ද බැන්දවීය. මෙ රජතුමා විසින් ඉතා අලංකාරවූ බෙමදුර්ගා[3] නම් මහවැවක්ද කරවන ලදී. ස්වේත-උත්පල ආදී වැව්ද[4] වර්ණක නම් මහ ඇලක්ද කරවන ලදී. මේ ආකාරයෙන් ඔහු අවුරුදු විසිදෙකක් රාජ්‍ය කළේය.

---

1. ම: ව: මකලන්තිස්ස නමින් දැක්වේ. මොහුගේ රාජ්‍ය කාලය ක්‍රි. පූ. 42-20වේ. ජිනකලමාලනියේ 'කණ්ණතිස්ස' නමින්ද දැක්වේ.
2. ම: ව:දැක්වෙන්නේ දන්ත ගෙහ නම් මෙහෙණවරක් කරවූ බවය. මේ හැරුණුවිට ඔහු විසින් කරවන ද තවත් බෞද්ධ ගොඩනැගිලි රාශියක් දක්වා තිබේ. ඒවා දි. ව. තොරතුරුවලට වඩා වෙනස්ය.
3. ම: ව: මෙය දැක්වෙන්නේ 'ආමදුර්ග' නමිනි.
4. ම: ව: හයොලුප්පල නමින් දැක්වේ.

# 21

කුට්කණ්ණ රජුගේ පුත්වූ අභය[1] රජතුමා දිනක් රමණීයවූ රුවන්වැලි මහාසෑය වැඳීමට පැමිණියේය. එම අවස්ථාවේ මහාසෑයේ ධාතුගර්භය තුළ නිර්මලවූ පිරිසිදු මනසින් හෙබියාවූ ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා නමස්කාර ගීතිකා කියමින් බුදුරදුන් පුදති. රජතුමා ඒ රමණීය වූ ධාතුගර්භය තුළින් නික්මුණාවූ ගායනා ශබ්දය අසා එය දැකීම සඳහා ථූපය වටා පැදකුණු කළද ශබ්දය නිකුත් කරන්නා වූ කිසි කෙනෙකුන් නොදැක්කේය. රජතුමා ඒ මහාසෑය වටාගොස් වැඳ උතුම්වූ එම සජ්ඣායනා ශබ්දය අසා මෙසේ සිතුවේය.

> 'මෙම ධාතුගර්භය තුළ යම් කෙනෙකු මෙසේ ගායනා කෙරෙයි. එසේ වුවද උන්වහන්සේලා මෙම දෙරටු හතර අසලද නැත්තාහ. ඉන් පිටතද නොවෙති. ඒ සුපේශ ශික්ෂාකාමී භික්ෂූහු මෙම ධාතුගර්භය තුළම ගායනා කෙරෙති. මේ උතුම් වූ ධාතු ගර්භය දැකීමට මමද කැමැත්තෙමි. එසේම එම භික්ෂූන් දිකින්ටද කැමැත්තෙමි. ගායනා කරන්නාවූ පූජනීය ගීතිකා ඇසීමටද කැමැත්තෙමි.[2]'

යනුවෙනි. භාතිකාභය රජුගේ මෙම අදහස සක්දෙව් රජු දැන ධාතුගර්භයෙහි පහළව ඒ තෙරවරුණට මෙසේ කීවේය.

---

1. මඃ වඃ මොහු භාති කාභය' යනුවෙන් දක්වා ඇත. මොහුගේ රාජ්‍ය කාලය ක්‍රි. පූ. 20 සිට ක්‍රි. ව. 9 දක්වාය. මෙමයුගයේ ඉංදියාවේ වයඹ හා බටහිරදිග ප්‍රදේශ ශකවරුන් යටතේ පැවති බව පෙනේ. කාලිංගයේ චේතවරුබලයේ සිටි බව පෙනේ. යුරෝපයේ ක්‍රිස්තුස් වහන්සේගේ උපත මෙම අවදියේදී සිදුවිය.
2. මොහු ඉතා භක්තිමත් රජකු බව මඃවඃ 34 පරි. දක්වා ඇත. පබළුවලින් දැලක් කරවා සෑය වැසූ බවක්ද දක්වා ඇත. එහෙත් භාතිකාභය පිළිබඳ දී. ව. විස්තර වඩා වැදගත්ය.

"ස්වාමීන් වහන්ස: ධාතුගර්භයේ ඇතුලත දකිනු රිසියෙන් රජතුමා සිටී." යනුවෙනි.

තෙරුන් වහන්සේලා එකෙණෙහිම එම අභය රජුගේ ශ්‍රද්ධාව රැකීම පිණිස ඔහුව ධාතුගර්භය තුළට පැමිණවූහ. ධාතුගර්භය දුටුවාවූ රජතුමා ඉන් හටගත් සතුටින් සත්දිනක් ඇදිලි බැඳගෙන ධාතුන වහන්සේලාට පූජාසත්කාර පැවැත්වීය. එසේම ඒ සත්දින තුළ සුදුසු පරිදි මධුභණ්ඩ නම් ඉතා රමණීය වූ පූජාවක්ද කළේය. එසේම තවද සත්දිනක් ඉතා අගනා පූජා භාණ්ඩ පිදීය. තමාට කැමති පරිදි සත්දිනක් අන්‍ය විවිධ පූජාද පැවැත්වීය. සත්වරක් නැවත නැවත උතුම් පහන් පූජාවක්ද පැවැත්වීය. එවැනිම මනරම්වූ මල්පූජාවක්ද සත්වරක් පැවැත්වී. තවද පූරිත ජනපූජා[1] නම් පූජාවක්ද එහිම සත්දිනක් පැවැත්වීය. මහාථූපය වැසෙන පරිදි රජතුමා විසින් දැලක්ද කරවන ලදී. එය මහාසෑයට පොරවන ලද සිවුරක් මෙන් විය. මහාසෑ පදනමෙහි ශක්තිමත් පහන් කණු කෙරවූ මෙම රජතුමා ඒවා ගිතෙල් වලින්[2] පූරවන ලදී. මේ ආදී වශයෙන් සත් ආකාරයකින් පහන් දැල්විය. මහාසෑය පාදයෙහි අවට තලතෙල් හා මීතෙල් පූරවා යවමින් දහසය වරක් තෙල්පහන් දැල්වීය. මෙම භාතිකාභය රජතුමා මහාසෑ මලුව සුවඳ පැණින් පූරවා එය පිරිසිදු කරවා ඒ මත කලාල අතුරුවා අත්හි උපුල්මල් පූරවා විසුරුවමින් සත්වරක් පූජා පැවැත්වීය. තවද ජලයන්ත්‍ර[3] උපයෝගී කොට ගෙන මෙම ථූපයෙහි බටහිරින් තිබූ තිසාවැවින් ජලය ගෙන්වා ගෙන උතුම් ජලපූජාවක්ද පැවැත්වීය. තවද උතුම්වූ මහාසෑය අවට යොදුනක් පමණ ප්‍රමාණයේ නොයෙක් වර්ගයේ මල්ද සිටවීය.[4] මහාසෑයේ ප්‍රමාණයට මල් රැස්කරවූ රජතුමා මහාමල් පූජාවක්ද පැවැත්වීය.[5] තවද බොහෝ

---

1. ම: ව: මේ පිළිබඳව සඳහන් නොවේ. අබාවැවින් යන්ත්‍රයක් මාර්ගයෙන් ජලය ගෙන ජලපූජාවක් පැවැත්වූ බව දක්වා ඇත. නමුත් දී. ව. දක්වා ඇත්තේ තිසා වැවින් ජලය ගෙන පූජා පැවැත්වූ බවයි. මෙහි සඳහන් පූරිතජල පූජාව විවිධ ආකාරයේ සුවඳ කැවූ ජලය ගෙන එයින් සෑය තෙමමින් කල පූජාවක් වියහැකිය.
2. නූතන ගෑස්තල ආකාරයෙන් මේවා සැදූ බව පෙනේ.
3. ක්‍රි. පූ. අවදියේදීම ලංකාවේ නූතන යන්ත්‍ර වලට සමාන යම් යන්ත්‍ර සූත්‍රතිබූ බව පෙනී යයි.
4. මේ ගැන ම: ව: දක්නට නැත.
5. මේ පිළිබඳව ථූ. ව. දීර්ඝ විස්තරයක් ඇත.

මල්කැකුළු ගෙන්වා ගෙන දහසය දිනක් මල්පූජාවක් පැවැත්වීය. සැමළුයෙහි නොයෙක් මල් එක්රැස්කොට ආලින්දයක් සේ මල්වලින් ස්ථම්භයක් කරවා සත්වර බැගින් නැවත නැවතත් පූජා පැවැත්වීය. මහාසෑය වැදීම පිණිස නොයෙක් නොයෙක් රූපයන්ද මල්වලින් කරවීය. මහාසෑයේ හුණුපිරියම් කරවා ප්‍රතිසංස්කරණයද කළේය. එම රජතුමා මහාසෑයට රාජ්‍යද පූජාකොට අභිෂේකයක්ද පැවැත්වීය.

යම් ඇසතු බෝධියක් සමීපයෙහි ශාක්‍ය පුත්‍ර වූ ගෞතම බුදුරජාණන් වහන්සේ ස්වකීය ධර්මය අවබෝධ කළ සේක්ද? එහි මනරම් වූ දක්ෂිණ බෝධි ශාඛාවක් මහමෙව්නා උයන්හි පිහිටියේද? භාතිය රජතුමා එම බෝධියටද රාජ්‍ය පුද රාජ්‍යාභිෂේකය කළේය. භික්ෂු සංඝයාගේ සුඛවිහරණය පිණිස වස් පවාරණය කල කල්හි වස්පවාරණානුග්‍රහය පිණිස 'පවාරණදන' නම් මහාදනයක්ද දුන්නේය. එපමණක්ද නොව භික්ෂු සංඝයා වෙනුවෙන් තෙල් පැන් වස්ත්‍ර ආදියෙන් නිතිපතා පිරිකර සහිත දන්දීමද කළේය. පංචතූර්‍ය නාදයෙන් උදේ සවස මහාසෑයට පූජා පැවැත්වීමට අණකලා පමණක් නොව ලක්දිව සිටි උසස්ම පෙළේ නළුවන් යොද[1] නෘත්‍ය, ගීත, දන ආදියද පැවැත්වීය. තවද මහාසෑය ප්‍රතිසංස්කරණයට ධනය වෙන්කලා පමණක් නොව අප සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළවූ වෙසක්පුන් පොහෝදිනය ඇති මාසය පිදීමක් වශයෙන් වෙසක් පූජා විසි අටක් ද පැවැත්වීය. රමණීය වූ මහ මෙවුනා උයනෙහි මහාවිහාරයද, ථූපාරාමයද යන උභය විහාරයන් අතර උපොසථාගාරයක්ද කරවීය. මෙ රජතුමා මෙපමණක්ද නොව වෙනත් බොහෝ පින්ද කළේය. මේ ආකාරයෙන් බොහෝ දන්දෙමින් විවිධ ලෝසසුන් ක්‍රියාවන්හි නිරතවෙමින් අවුරුදු විසිඅටක් රාජ්‍ය කළේය.

භාතිකාභය රජු ඇවෑමෙන් කුටකණ්ණතිස්ස රජගේ නාග[2] නැමැත්තා මෙයින් පසු රජවිය. මෙම රජතුමා රන්මය ගඩොලින්

1. මෙරට මුල් අවදිවල සිටම චිත්‍ර මූර්ති වැනි කලා සම්ප්‍රදයන් පමණක් නොව රංගනතා ගීත කලාවද ක්‍රමානුකූලව පැවති බව මෙයින් පෙනේ. මේ වනවිට උසස් සරසවි අධ්‍යාපන පීඨ මහාවිහාරය හා අභයගිරිය පදනම් කරගෙන පැවති බව පෙනේ.
2. මඃ වඃ දැක්වෙන්නේ 'මහදැලියාමාන' යනුවෙනි. මොහු මහාධාඨිකමහානාගය ක්‍රි. ව. 9 සිට 21 දක්වාවේ.

මහාසෑය ප්‍රතිසංස්කරණය කළේය. එසේම උතුම්වූ අම්බස්ථල[1] විහාරයෙහි හා අනෙකුත් සියළු විහාරයන්හි ධර්මාසන පූජාවක්ද කරවූ අතර "ගිරිභණ්ඩගහන"[2] නම් මහාපූජාවක්ද කරවීය. සුපේශල ශික්ෂාකාමී භික්ෂූන් ලක්දිව යම්තාක්වේද රජතුමා ගෞරව පුරස්සරව ඒ සියළු භික්ෂු සංඝයා වහන්සේ වෙනුවෙන් සිවුරු පූජා කළේය. දෙළොස් වසක් ඔහුද රාජ්‍ය පදවිය දැරීය.[3]

මහාධාඨික මහානාග රජුට පසුව ඔහුගේ පුත් ආමණ්ඩගාමිණී අභය[4] ලක්දිව රජුවිය. අමණ්ඩ ගාමිණී රජු විසින්ද ළිදක් හා ගාමෙණ්ඩි නම් විලක්ද කරවනලදී. තවද මහාසෑය උදෙසා රජතලෙන නම් ලෙනක් ද රිදියෙන් කරවන ලදී. එසේම ඔහු ථූපාරාම චෛත්‍යයේ ඡත්‍රය මත නව ඡත්‍රයක්ද කරවීය.[5] මහා විහාරයේ හා ථූපාරාමයෙහිද ප්‍රසාද දෙකක් කරවීය. මෙම උභය විහාරයන්හි භාණ්ඩ තැන්පත් කිරීම පිණිස ලෙනක් ද ගෙයක් ද කරවන ලදී. ලක්දිව සතුන්මැරීම සම්පූර්නයෙන්ම තහනම් කළ මෙම රජතුමා අවුරුදු නවයකුත් මාස අටක් රජය මෙහෙයවීය.

ආමණ්ඩ ගාමිණී අභය රජුගේ බාල සොයොහුරු කණිරජාණුතිස්ස[6] නමින් ප්‍රසිද්ධව සිටි මොහු මෙයින් පසු රජවිය.

---

1. අම්බස්ථල විහාරය නැවත ගොඩ නන්වා කරවූ බව මː වː දක්වා තිබේ.
2. 1. සෑගිරිය අවට යොදුනක් සැරසවීම 2. මහාවීථි ඇති දොරටු 4ක් කරවීම 3. වීථිවල සල්පිල් පිහිටුවා තොරන් බැඳීම හා සැරසවීම 4. වීථිපහන් මාලාවන්ගෙන් ආලෝක කරවීම. 5. නැටුම්ගැයුම් පැවැත්වීම. 6. මල්වතුඔයේ සිට සෑගිරිය දක්වා පය දෙවා පිරිසිදුව යාමට පාවඩ දැමීම 7. නුවර සතර දෙරටුවලත් ලක්දිව සෑමතැනත් මහදන්දීම. 8. ලක්දිව සෑමතැන පහන්පූජා පැවැත්වීම 9. මුහුදේ යොදුනක් දුර හාත්පසද පහන් දැල්වීම 10. සෑය අවට පෙළහර දැක්වීම යන මේවා ගිරි භණ්ඩ පූජා නමින් මː වː 54 දැක්වේ.
3. මේ කාලයේ පාණ්ඩ්‍ය දේශයේ සිටි රජෙකු රෝමයට දූත පිරිසක් යැවූ බව ස්ට්‍රැබොකියයි. මෙකල පාණ්ඩ්‍ය දේශයේ අගනුවර මධූරාව වූ අතර නෙඩුම් චෙලියම් රජකල බව පෙනේ.
4. ක්‍රි. ව. 21 සිට 30 දක්වා පාලනය කල බව පෙනේ. භික්ෂූන්ට පලවැල දුන් නිසා ඔහුට මෙම නම දැමූ බව මː වː කියයි.
5. මː වː දැක්වෙන්නේ මහසෑයේ ඡත්‍රය මත ඡත්‍රයක් කලබවයි. ඡත්‍රසාද ඇත්තේ කුඩා චෛත්‍යවල හෙයින් මː වː පුවත පිළිගත නොහැකිය.
6. සෑගිරි විහාරයේ පෝය ගෙයිදී දුශ්ශීල භික්ෂූන් 60 නමක් රජු මැරීමට තැත්තකල නිසා ඔවුන් කණිරනම් ප්‍රපාතයෙන් හෙලා මැරූ බව මː වː 35 පරි. දැක්වේ. මොහු සහෝදරයා මරුබව ද සඳහන්ය.

සම්පූර්ණයෙන්ම අවුරුදු තුනක් ඔහු රාජ්‍ය කළේය. ආමණ්ඩගාමිණී රජුගේ පුත් චූලාභය මෙයින් පසු රජවිය ඔහුද උතුම්වූ ගග්ගරාරාම[1] විහාරය කරවීය. ඔහු රාජ්‍ය ගෙනගියේ අවුරුද්දකි. ආමණ්ඩගාමිණී අභය රජුගේ දුවනිය වූ රේවතී නමින් ප්‍රසිද්ධව සිටි සීවලී රැජින මෙයින් පසු සිව්මසක් රාජ්‍ය කළාය. එකල සිටි ආමණ්ඩගාමිණී අභය රජුගේ බෑනා කෙනෙකුවූ ඉලනාග[2] නමින් ප්‍රසිද්ධව සිටි කුමාරයා සීවලී රැජින පහකොට රාජ්‍ය මෙහෙයවීය. සතුරන් මර්ධනය කළාවූ ඉලනාග රජතුමා කපිජාතකය අසා තිස්සවූර[3] නම් විලකරවීය. ඔහු ලක්දිව අවුරුදු හයක් රාජ්‍ය කළේය.

ශිව නමින් සඳහන් තැනැත්තා මෙයින් පසු චන්ද්‍රමුඛශිව[4] නමින් රජවිය. මෙම රජතුමා ඉසුරුමුණි විහාරයෙහි මණිකාරාම නම් ආරාමයක් කරවීය. දෙමළ දේවිය නමින් ප්‍රසිද්ධව සිටි ඒ රජුගේ දේවිය එම ගමින් අයකල බදු ද ඉසුරුමුණි විහාරයට දුන්නීය. මෙම රජු අවුරුදු අටකුත් මාස හතක් පාලනය කරන ලදී. යසලාලකතිස්ස[5] එයින් පසු රජවිය. ඔහු අවුරුදු හතකුත් අටමසායක් රාජ්‍ය කළේය. එයින් පසු දෙරටුපාලයාගේ පුත්‍ර සුභ[6] නැමැත්තා රජවිය. ඔහු සුභාරාමයත් විල්ලවිහාරයත් කරවීය. තම නමින් ඔහු පිරිවෙණක්ද කරවීය. ඔහුද සයාවුරුද්දක් ලක් රජය කරවීය.

---

1. ම: ව: දැක්වෙන්නේ හුළුගල් විහාරය කරවූ බවය.
2. ඉලනාග ක්‍රි. ව. 37 සිට 43 දක්වා රජකල බව දැක්වේ. ලම්බකරණයන් මොහුට විරුද්ධවූ බවත් ඔවුන්ට දඬුවම් කලවිට ඔවුන් කිපී රජු රජගෙදර හිරකොට ඔවුන් පාලනය ගත්බවත් රජුගේ මගුල් ඇතා ඔහු මුදගෙන මහතොටට ඇරලූ බවත් එයින් පසු ඉංදියාවෙන් හමුදාවක් ගෙනවිත් නැවත රාජ්‍ය ගත් බවත් ම: ව: 35 පරි. දැක්වේ.
3. ම: ව: දැක්වෙන්නේ කපි ජාතකය අසා පැහැදී නාගමහා විහාරය බන්ධනමුක්ත දුණු 100ක් කොට කරවූ බවය.
4. ක්‍රි. ව. 43 සිට 52 දක්වා මොහු රජ කරන ලදී. ශකවරුන් මෙකල ඉන්දියාවේ වයඹ හා උතුරේ වැඩි කොටසක් පාලනය කල බව පෙනේ. මෙම ශකවරු බෞද්ධයන් වූ බවද දැක්වේ.
5. යසලාලක තිස්ස සහෝදරයා තිසා වැවේ දිය කෙලියේදී මරා රජවූ බව ම: ව: 35 දැක්වේ.
6. සුභ කවට කමට ගොස් යසලාලක තිස් මැරූ බව ම: ව: දැක්වේ. එසේම වසභ නැමැත්තෙක් රජ වන බව ඇසූ ඔහු එම නම ඇසූ සියලු දෙනා මැරවූ බවද ම: ව: 35 පරි. දැක්වේ.

# 22

වසභ[1] කුමරු එයින් පසු ලක්දිව රාජ්‍ය ලබාගත්තේය. ඔහු සිතුල්පව්ව ආරාමයෙහි චෛත්‍යයක් කරවූ අතර එයට නොයෙක් පූජාවන්ද පැවැත්වීය. එසේම මෙ රජතුමා විසින් ඉතා මනරම් ලෙස රමණීයාකාරයෙන් ඉසුරුමුණියෙහි ආරාමයක් හා විහාරයක්ද සිත් ඇදගන්නා ආකාරයේ උපෝසථාගාරයක්ද කරවන ලදී. එම උතුම් ආරාමයට පූජා පිණිස පංචතූර්‍යනාදයන් උදේ සවස පැවැත්වීමටද අණ කරන ලදී. එසේම භික්ෂූන් වහන්සේට බොහෝ සිව්රු පිරිකර පූජාකල අතර සියළු ජරාවාසවූ ආරාමයන් පිළිසකර කරවා ඒ ඒ, සියළු ආරාමයන්හි මහා ධර්‍මපූජාවන්ද පැවැත්වීය. තවද මෙම රජතුමා උතුම් වූ ථූපාරාම චෛත්‍යය සඳහා චේතියඝරයක්[2]ද කරවීය. මෙම රජතුමා මේ සඳහාම පූජා හතලිස් හතරක් පැවැත්වීය. තවද මහාවිහාරයේද ථූපාරාමයේද චේතියගිරියේද දහස බැගින් තෙල්පහන් දැල්වීය. මයන්තිවැව හා රාජුප්පලික වැවද කොළම්වැව හා මහානික්ඛවට්ටි වැවද මහාගාම වැව් දෙකද කේහාල හා කාම වැවද ජම්බුට්ඨි මංගන අභිවඩ්ඪමානක යන වැව් ඇතුලත් වැව් එකොලහක්ද, තවත් ඇලවල් දෙළහක් ද රට සුරක්ෂිත කිරීම පිණිස මෙම රජතුමා විසින්

---

1. ක්‍රි. ව. 65 - 109 ඉංදියාවේ වයඹදිග කොටස මේවනවිට පාතියන්වරු පාලනය කල බව පෙනේ. ගොන්ඩොපර්න්ස් මොවුන්ගේ වැදගත් රජෙකි. ක්‍රි. ව. 47 මොහුගේ ඛරෝස්ට්ලිපිය ඉතා වැදග්තය. මධ්‍යම ආසියාවේ රජෙකු වශයෙන් සැලකෙන කණිස්කද මෙකල පාතියන්වරු අරද බලය ගත්බව පෙනේ. ක්‍රි. ව. 78-144මොහුගේ රාජ්‍ය කාලය ලෙස ගැනේ. ශකවර්ෂය ගණන් ගැනෙන්නේ මොවුන්ගේ කාලයෙහිය. මොහු බෞද්ධ ධර්මදූතයන් මධ්‍යම ආසියාවටද චීනයටද යවා තිබේ.

   වසභ ලම්බකරණ වංශික රජෙකු වශයෙන් සලකන අතර මෙම රජ පරපුර දිගුකලක් ඉතා ක්‍රියාශීලී ආකාරයෙන් රාජ්‍ය කල බව පෙනේ.
2. ලක්දිව චේතියඝර ආරම්භ වූ යේ මෙම යුගයේ යයි බොහෝ ඉතිහාසඥයන් කියයි.

කරවන ලදී.[1] එසේම මෙම රජතුමා නොයෙක් ආකාරයේ පුණ්‍ය කර්මයන්හි නිරතවූ අතර අනුරාධපුර නගරය වටකොට දිය අගලක් හා ප්‍රාකාරයක්ද කරවීය. ඔහු විසින් දෙරටු අට්ටාලයක්[2] හා දර්ශනීය වූ වනෝද්‍යානයක්ද කරවූ අතර නගරයේ අවශ්‍යතන්හි මලින් ගැවසීගත් පොකුණු[3] ඉදිකරවන ලදී. තවද නගරයට ජලය ලබාදීම සඳහා ජලනල ක්‍රමයක්ද සම්පාදනය කෙරීන. මෙසේ විවිධ කාර්‍යයන්හි නිරතවූ මෙම රජතුමා හතලිස් හතර වසරක් රජසුව විඳීය.[4]

වසභ රජතුමාගේ පුත් වංකනාසිකතිස්ස කුමරු මෙයිනනතුරුව රජවිය. මෙම රජතුමා රාජ්‍ය ලබා ගැන්මෙන් පසු මංගල නම් ආරාමයක් කරවූ අතර අභය ගිරියෙහි රමණීයවූ මහාසෑයක්ද[5] කරවීය. මේ අවදියේදී ඔහු තම මව්තුමිය සිහිවීම පිණිස ගාමිණී විලද කරවීය. මෙම රජතුමා විසින් රම්මක නම් ආරාමයක්ද කරවන ලද අතර මෙසේ ලෝසසුන් වැඩූ ඔහු අවුරුදු විසිදෙකක් ලක්දිව රාජ්‍ය කළේය.[6]

ලක්දිව මෙයින් පසු රජවූයේ මහල්ලක නාගය. මෙම රජු විසින්ද සපීලකාදක ආරාමයක් ගොඨපබ්බත නම් අනුරාධපුර

---

1. ම: ව: අනුව මෙම සමහර වැව්වල නම් වෙනස්ව දක්වා ඇත. තවද ම: ව: දී: ව: අනුව ඇලවල් ප්‍රමාණය 12ක් වුවත් රා. ව. 11ක් දක්වා ඇත. ම: ව: ජනප්‍රවාදකථාද කීපයක් දක්වා ඇත.
2. මෙම අට්ටාලය පිළිබඳව ම: ව: දක්වා නැත. දෙරටු තොරණ ආදී විශාල වැඩ කොටසක් කළ බව දැක්වේ. එසේම නගරාරක්‍ෂක බැම්ම රියන් 18ක් වූ බවද දැක්වේ.
3. මෙම පොකුණුවල හංසයන් ඇතිකල බව ම: ව: දැක්වේ. (ම: ව: 35 පරි.)
4. වසභරජු ලක්දිව සෑම තන්හිම විහාර රාශියක් කළ බවද ම: ව: දක්වා ඇති අතර අධ්‍යාපන මධ්‍යස්ථානද ඉදිකල බව දක්වා ඇත. සෙල්ලිපි මගින්ද මේ බව තහවුරු වී ඇත. එසේම සියපුත් වංකනාසික තිස්සට උළුවඩුවකුගේ දියණියක් සරණපාවා දුන් බවද දක්වා තිබේ.
5. මේ ගැන ම: ව: දක්වා නැත. ගාමිණී විල, රම්ම ආරාමයද දක්වා ඇත.
6. ම: ව: හා රා: ව: දක්වා ඇත්තේ මොහු අවුරුදු 3ක් රජකල බවයි. මොහුගෙන් පසු ගජබා රජවූ බව දැක්වෙතත් මෙහි ගජබා ගැන සඳහන් නොවේ. මෙහි දක්වා ඇත්තේ මහල්ලකනාග රජවූ බවය. එසේවුවත් මෙහිම පසු රාජනාමාවලී සාරාංශපෙළ දිස්වීමේදී ගජබා අවුරුදු 22ක් රජකල බව දක්වා ඇති අතර වංකනාසිකතිස්ස තෙමසක් රජකල බව දැක්වේ. මෙය පසු සංස්කරණයකදී සිදුවූ ප්‍රමාද දෝෂයක් විය හැකිය.

නගරයට දකුණින් ආරාමයකුත්, උදකපාෂාණ නම් ආරාමයකුත්, කරවූ අතර සොලීයපබ්බත හා තේනවෙලි විහාරයන් කරවන ලදී. තවද රෝහණ දේශයෙහි නාගපර්වත විහාරයද එහිම හිරිහැල් නම් විහාරයද කරවීන. මෙසේ පුණ්‍ය කර්මයන්හි නිරතවූ ඔහු අවුරුදු හයක් රාජ්‍ය ගෙන ගියේය.

එයින් පසුව මහල්ලක නාග රජුගේ පුත්‍ර භාතිය තිස්ස කුමරු රජවූයේය. මහමෙව්නා උයනේ ආරක්ෂාව සඳහා මෙමරජු ප්‍රාකාරයක් කරවූයේය. දෙරටු බන්ධනයක්ද ස්වකීය නාමයෙන් ආරාමයක්ද කරවූ අතර මහාගාමිණී වැවද සාරවා භික්ෂු සංඝයාට පූජාකළේය. මොහු ථූපාරාම විහාරය සඳහා මනරම් වූ උපොසථාගාරයක් කරවූ අතර රත්නකරණ්ඩක නම් විලක්ද කරවීය. මහා සංඝයා වහන්සේ උදෙසා මහා දනයක්ද පැවැත්වූ මෙම රජතුමා අවුරුදු විසිහතරක් ලංකාවේ රාජ්‍ය කළේය.[1]

මෙයින් පසු රජවූයේ කණිෂ්ඨතිස්ස කුමරුය[2] ඔහු අභයගිරි විහාරයට මනරම්වූ උපොසථාගාරයක්ද මහාවිහාරයට ප්‍රාසාද දෙළහක්ද දක්ෂිණාරාම විහාරය වෙනුවෙන් සෑගෙයක්ද යන මේවා කරවීය. බුද්ධශාසනය වෙනුවෙන් බොහෝ පින්කම් කළ මෙම රජතුමා අවුරුදු විසි අටක් ලක්රජය ගෙන ගියේය.

කණිෂ්ඨතිස්ස රජුගේ අභාවයෙන් පසු ඔහුගේ පුත්‍රයන් වූ රාජ්‍යට සුදුසුකම් ඇති සහෝදරයන් දෙදෙනා ලක්දිව අවුරුදු තුනක් රාජ්‍ය කළේය. වංකනාසික තිස්ස රජු අනුරාධපුර නගරයෙහි සිට නොයෙක් පින්කම් ආදිය කරමින් තෙමසක් ලක්රජය කරවීය.

---

1. ම: ව: මෙ රජු දෙවන භාතියතිස්ස යනුවෙන් දක්වා තිබේ. මෙම කාලය ක්‍රි. ව. 140 සිට 164 දක්වාවේ. මෙකල ද ඉංදියාවේ වාෂිෂ්ඨ පුලමායී රජවූ අතර චෝලමන්ඩල වෙරළ තෙක්ද මධ්‍යදේශයට අයත් ඇතැම් කොටස් තෙක්ද විහිදතිබූ බව දැක්වේ. මෙකල විවිධ දේවවාදී අදහස් ලංකාවට බලපෑ බව පෙනේ. මධ්‍යආසියාවේ තිබූ කණිෂ්කගේ රාජ්‍ය මෙකල අවසන්වූ බවද පෙනේ.
2. මොහුගේ නම රාජාවලියේ සඳහන් නොවේ. එහෙත් එහි භාතිස්සරජුට පසු 'කුඩා නාරජ' නැමැත්තෙක් රජවූ බව කියයි. මොහු මා: ව: සඳහන් කුඩ්ඩනාග බව පෙනේ. නමුත් ම: ව: අනුව හා දී. ව. අනුව මෙයට පසු රජවන්නේ කණිෂ්ඨතිස්සය. මොහුගේ රාජ්‍ය කාලය ක්‍රි. ව. 164 සිට 192 දක්වා වේ. ම: ව: 36 පරි. 6 ගාථාව මොහුගැන දැක්වේ.

ගජබාහු ගාමිණී[1] නැමැති වංකනාසිකතිස්ස රජතුමාගේ පුත්‍රයා මෙයින් පසු රජවිය.[2] ඔහු අවුරුදු විසිදෙකක් රාජ්‍ය කලේය. පසුව මහල්ලකනාග අවුරුදු හයක් රජ කළේය. භාතිකතිස්ස නම්වූ මහල්ලක නාගරජුගේ පුත්‍රයා මෙයින් පසු රජවිය. මෙම රජතුමාද විසිහතර වසක් රජ කරවීය. පසුව මහල්ලකනාගරජු අවුරුදු හයක් රාජ්‍ය ගෙන ගියේය. භාතිකතිස්ස නම් මහල්ලක නාගරජුගේ පුත්‍රයා මෙයින් පසු රජවිය. විසිහතර වසරක් ඔහුද රාජ්‍ය ගෙන ගියේය. කණිෂ්ඨතිස්ස රජතුමා මෙයින් පසු රාජ්‍යට පැමිණියේය. මොහුගේ රාජ්‍යකාලයද අවරුදු විස්සක් විය.

කණිෂ්ඨතිස්ස රජතුමා මියයාමෙන් ඔහුගේ පුත්‍ර බුජ්ජනාග[3] රාජ්‍ය ලබාගත්තේය. මොහු රාජ්‍ය ගෙනගියේ අවුරුදු දෙකකි. බුජ් ජනාගරජුගේ බාල සොහොයුරු කුඤ්චනාග තම සහෝදරයා මරා වසරක් ලක් රජය මෙහෙයවීය. උතුම් වූ අනුරාධපුරය මෙයින් පසු සිරිනාග රජු දිනා ගත්තේය[4] ඔහු අවුරුදු දහනවයක් ලක්රජය කරවීය. නාමයට අර්ථාන්විතව ක්‍රියා කළ මෙම රජතුමා රුවන්මය මල්දමින් රුවන්වැලිමහා සෑය පිදීය. එම සෑයෙහි නවතම ඡත්‍රයක්ද කරවීය. ඔහු විසින් මේ හැරුණුවිට ලෝවාමහාපාය උදෙසා උපොසථාසාරයක්ද කරවන ලදී. මෙයින් පසු රජ වූයේ සිරිනාගගේ පුත්‍රයාවූ අභයනාගය[5] කහවණු දෙලක්ෂයක් වටිනා

---

1. ම: වං අනුව වසභගෙන් පසු ඔහුගේ පුත් වංකනාසික තිස්ස රජවන අතර ඔහු පුත් ගජබා ගැමුණුත් ගජබා පුත් මහල්ලක නාගත්: ඔහුපුත් භාතිය තිස්සත් ඔහුගේ පුත් කණිෂ්ඨතිස්සත් රජවූ බව දක්වා තිබේ. ඉතිහාසඥයන් පිළිගත් ක්‍රමාණුකූලත්වය ලෙස මෙය පිළිගනී.
2. මෙම යුගයේ මහායානවාදය ඉතා දියුනුව පැවති බවත් පත්තිනි සලඹ පූජා භාන්ඩයක් වශයෙන් ඉංදියාවේ චේරරජුගෙන් ලද බවත් නිකාය සංග්‍රණයේ දක්වා ඇත. ම: වං ඔහු පිළිබඳව එතරම් විස්තරයක් නැත. මොහු ගේ රාජ්‍ය යුගය ක්‍රි. ව. 112 සිට 134 වේ.
3. ම: වං චූලනාග යනුවෙන් දැක්වේ. මොහු සහෝදරයා මරා රජවූ බවත් රාජ්‍යකාලය අවුරුද්දක් සඳහන්ය. ක්‍රි. ව. 194-195 වේ.
4. රා. වං අනුව මොහුගේ රාජ්‍ය කාලය අවරුදු දෙකකි. ම: වං අනුව අවරුදු 19කි. එනම් ක්‍රි. ව. 194-214 දක්වාවේ.
5. ම: වං දැක්වෙන්නේ වෝහාරතිස්සට පසු අභයනාග රජවූ බවය. ම: වං අනුව වෝහාර තිස්ස ගේ රාජ්‍ය කාලය ක්‍රි. ව. 214 සිට 236 දක්වාවේ. අභයනාගගේ රාජ්‍ය කාලය ක්‍රි. ව. 236 සිට 244 දක්වාවේ. පිළිගත් ක්‍රමාණුකූලත්වය මෙම වඕ නිසා මෙසේ දක්වා ඇත.

විවිධවස්ත්‍රගෙන්වූ මෙම රජතුමා භික්‍ෂු සංඝයා වෙනුවෙන් වස්ත්‍රමය මහා සාංඝිකදානයක් දුන්නේය. මහාබෝධීන් වහන්සේ වටකොට ශෛලමය වේදිකාවක්ද කරවීය. ඔහු අනුරාධපුර නගරයේ අවුරුදු අටක් රාජ්‍ය කළේය. ඔහුගේ බාල සොහොයුරු වෝහාරතිස්ස[1] මෙයින් පසු රජවිය. මෙ රජතුමා විසින්ද අභයගිරි විහාර මහාසෑයෙහි උතුම්වූ ඡත්‍රයක් කරවන ලදී. අත්‍යාලංකාර වූ මහමෙවුනා උයනෙහිද අභයාරාමයද යන උභය විහාරයන්හි මෙම රජතුමා චෛත්‍ය දෙකක් කරවීය. එසේම මොහු දේවස්ථවිරයන් වහන්සේ විසින් දේශනා කරන ලද ගිලානසූත්‍රාන්ත දේශනාව අසා ගිලන් භික්ෂූන් උදෙසා බෙහෙත් වග් පිළියෙල කරවා දුන් අතර ආවාස පහක්ද තනවා දුන්නේය. එසේම මහා බෝධීන් වහන්සේ අසල පහන් ගෘසක්ද පිළියෙල කෙරෙව්වේය. එකල අධර්මාවාදී භික්ෂූහු අකැපදේ කැපයයි පවසා පරිහරණය කරති. ඔවුහු විතණ්ඩවාදය දේශනාකොට පිරිසිදු බුද්ධශාසනය දූෂණය කළහ. කපිල නම් ඇමතිවරයෙකු සහාය කොටගත් එම රජතුමා ඒ පවිටු භික්ෂූන්ට නිග්‍රහ කළේය.

රජතුමා මෙම පාපතර භික්ෂූන් ජිනේන්ද්‍රයන් වහන්සේගේ ශාසනය විනාශකරනු දැක කපිල[2] අමාත්‍යවරයා ගෙන්වා එම භික්ෂූන්ට නිග්‍රහකොට එම විතණ්ඩවාදය මර්ධනය කරවා බුද්ධ ශාසනය බබලවීය. මෙම රජතුමා මහමෙව්නා උයනෙහි සාත්ති පණ්හිත[3] නම් ප්‍රාසාදයද කරවීය. මෙසේ මෙම රජතුමා අවුරුදු විසිදෙකක් රාජ්‍ය කළේය.

---

1. මෙම රජ හිංසාවෙන් තොරවූ නීතික්‍රමයක් ඇතිකළ හෙයින් වෝහාරතිස්ස වූ බව ම: ව: 36 පරි. දක්වා ඇත. එසේම කපිල ඇමතිවරයා ලවා වෛතුල්‍යවාදීන් දමනය කල බවද රටේ විවිධ තන්හි විහාරවලට කළ සේවා වන්ද දක්වා තිබේ.
2. මෙම කපිල අමාත්‍යවරාය ත්‍රිපිටක ධර්‍මය පිළිබඳ මනා දැනුමක් ඇති අයෙකි. මොහු එකල සිටි බුද්ධශාසන අමාත්‍යවරයායි. ශාසන කටයුතු පිළිබඳ සියළු තීරන ගන්නා රාජ්‍ය විධායක නිලධාරියා මෙම ඇමතිවරයාය. අනුරාධපුර යුගයේ පසු සෑම රජෙකුම බුද්ධ ශාසන ඇමති වශයෙන් පත්කොට ඇත්තේ ත්‍රිපිටකය පිළිබඳ මනා දැනුමක් ඇති අයය. ම: ව: මේ පිළිබඳව මෙතරම් කරුනු දක්වා නැත. නිකාය සංග්‍රහයේ අභගිරිවාසී ධර්‍මරුචිකයන් මෙම වාදය ගත්බව දක්වා ඇත.
3. ම: ව: මෙය දක්වා ඇත්තේ 'සත්තපත්ත' විහාරය නමිනි.

වෝහාර තිස් රජුට පසුව රජවූයේ ඔහුගේ පුතු වූ සිරිනාගය[1] මෙම රජතුමා සම්පූර්ණයෙන්ම අවුරුදු දෙකක් රාජ්‍ය කළේය. ඔහු මහාබෝධීන් වහන්සේ වටකොට සිත් අලවන්නාවූ මණ්ඩපයක් ඉදිකරවීය.

සංඝතිස්ස[2] නම් අය එයින් පසු රජවිය. ඔහු රුවන්වැලිසෑ කොත් මුදුන්හි උතුම්වූ රන්මය ඡත්‍රයක් කරවීය. එසේම එම සෑය මුදුනෙහි ඔහු විසින් මැණිකක් උපයෝගී කොට ගණිමින් මැණික්මය කුඩා ස්ථූපයක්ද කරවන ලදී. තවද එම පින් බලයෙන් තවත් මහා පූජාවන්ද කළේය. එසේම මෙම රජතුමා සතුරන්ද මැඩලීය. දේවතෙරුන් විසින් දේශනා කරන ලද අන්ධකවින්ද සූත්‍රාන්තය ඇසූ මෙම රජතුමා මහාවිහාරයේ දෙරටු හතරෙහි කැඳ පිළියෙල කරවා තැබ්බවීය.

සිරිනාග රජුගේ පුත් විජයකුමාර නැමැත්තා[3] මෙයින් පසු රජවිය. පියාගේ මියයාමෙන් පසු ඔහුද අවුරුද්දක් රාජ්‍ය මෙහෙයවීය. අනතුරුව රජවූ සංඝතිස්ස අවුරුදු හතරක් රජ කළේය. මෙම රජතුමා විසින් මහාථූපයේ ඡත්‍රයක් සවිකල අතර රන් කර්මාන්ත යද කරවීය. මෙම රජුගෙන් පසු

---

1 මෙම රජු පිළිබඳව මෙයට පෙරද සඳහන් කර තිබිණ. දි. ව. පුනරුත්දෝෂ බහුල ග්‍රන්ථයක් නිසා මෙයටද එය සිදුවූ බව පෙනේ. ඒ අනුව ම: ව: දින වකවානු හා මෙහි දිනවකවානු ගැලපේ.

2. ම: ව: අනුව මෙයට පෙර '2 සිරිනාග' 'විජයිඳු' නම්රජවරු දෙදෙනෙකු සිටි බව පෙනේ. මෙයින් සිරිනාග ක්‍රි. ව. 244 සිට 246 දක්වාද ක්‍රි. ව. 246-247 දක්වා විජයිඳු විජයකුමාර නමින් රජවූ බ්වද පෙනී යයි. දි. ව. කතුවරයා මොවුන් රජුන් වශයෙන් නොසැලකුවා විය හැකිය. විජය කුමාර් අවුරුද්දක් රජකල බව ම: ව: කියතත් රා: ව: කියන්නේ අවරුදු 6ක් රජ කල බවයි. ම: ව: පෙන්නාදෙන්නේ සංඝතිස්ස, සංඝබෝධි: ගොඨාභය: තිදෙනා මහියංගන විහාරය අසල සිටි ලම්භකරණවංශිකයන් තිදෙනෙකු බවයි. මොවුන් විජය කුමරුට රාජ්‍යසේවය කිරීමට ගොස් ටික දිනකින් විජය කුමරා මරා රාජ්‍ය ගෙන වැඩිමහල් පිළිවලින් රාජ්‍ය කළ බවයි. මොවුන් යන ගමනේදී තිසාවැව අසලදී අන්ධ බමුනෙකු කී කථාවක් පිළිබඳවද දක්වා ඇත. සංඝතිස්සගේ රාජ්‍ය කාලය ක්‍රි. ව. 247-251 වේ.

3. විජයකුමාර පිළිබඳව මෙහිදී සඳහන් වන්නේ මෙම ඡේදයේ එන අවුල් බව නිසා විය හැකිය.

සංඝබෝධි[1] නම් වූ ශීල සමාහිතවූ අය රජවිය. ඔහු අනුරාධ පුරයේ වසර දෙකක් රාජ්‍ය මෙහෙයවීය. මෙම රජතුමා නිතිපතා කැඳබතක් පිළියෙළ කරවා අලංකාරවූ මහමෙව්නා උයනේදී ප්‍රදානය කරවූ අතර සලාක බතක්ද පිළියෙල කරවා මහාවිහාරයෙහි තැබ්බවීය.

මෙම රජුගෙන් පසු මේඝවණ්ණ නමින් ප්‍රසිද්ධව සිටි අභය[2] නම් තැනැත්තා රජවූයේය. මහාවිහාරයෙහි මොහු විසින් මණ්ඩපයක් කරවන ලද අතර මහාවිහාරයට බටහිර දෙසින් යෝගී භාවනාවට උපයෝගී කරගන්නා ගෙයක් ද (පධානඝර) ශ්‍රී මහාබෝධීන් වහන්සේ වටකොට ගල්වේදිකාවක්ද කරවී. එහිම ඉතා අගනා තොරණක් හා අලංකාරවූ දිය අගලක් ගලින්ම කරවන ලද අතර ගල් ආසනයක් ද කරවන ලදී. එසේම දක්ඛිණාරාමය තුළ උපෝසථාඝාරයක් කරවූ අතර භික්ෂූන් වහන්සේ වෙනුවෙන් මහාදනද පැවැත්වීය. අලංකාර රජමාළිගාවක් කරවූ මෙම රජතුමා එහිම මහා උයනක්ද කරවා පළමුව ශාසනය උදෙසා භික්ෂූන් වහන්සේට පූජාකොට පසුව තමා පරිහරණය කළේය. එම අවදියේ මහමෙවුනා උයනේදී වෙසක් පූජාවක්ද පැවැත්වීය. මේ ආකාරයෙන් නොයෙක් පින්දහම් කළ මෙම රජතුමා අවුරුදු දහතුනක් රාජ්‍ය විචාළේය.[3]

---

1. ක්‍රි. ව. 251 සිට 253 දක්වා රාජ්‍ය කරන ලදී. මඃ වඃ මෙරජුගේ ශීලගුණය පිළිබඳව දීර්ඝ වශයෙන් කරුනුදක්වා ඇත. මෙකල රක්තාක්ෂි නම් යක්ෂයෙකු මිනිසුන් විනාශ කල බවද රජුගේ ශීලගුණයෙන් ඔහු පලවා හැරී බවද මඃ වඃ දක්වා ඇත. අත්තනගලු වංශය සම්පූර්නයෙන්ම ලියවී ඇත්තේ මොහු පිළිබඳව කීමටය. තවද මෙම යුගයේ ඉංදියාව මුල්කොට ගෙන වෙළඳ ආධිපත්‍ය පැතිරගිය බවත් ඉංදුඃ ග්‍රීකඃ සකඃ කුෂාණඃ චේර චෝලඃ චීන ආදී පාලකයන් මෙම තරගයට සහභාගී වී තිබූ බව රොමිලාතපර් පවසයි. මෙකල ජෛනාගම ඉන්දියාව පුරා පැතිර ගිය බවද පෙනීයයි.
2. මඃ වඃ මොහු ගොඨාභය නමින් සඳහන් කරන අතර මොහු සංඝබෝධි හා යුද්ධයට ගියබවද යුද්ධයෙන් මිනිසුන් විනාශ වෙතියි සැලකූ ඔහු දකුණු දිග දෙරින් තපසට ගිය බවත් එයින් පසු මොහු රාජ්‍ය ගත් බවත් දැක්වේ.
3. මොහුගේ රාජ්‍ය කාලය ක්‍රි. ව. 253 සිට 266 දක්වාවේ. මඃ වඃ යෙහි මහාවිහාරයටද ශෛලමණ්ඩපයක් කරවූ බවත්, ලෝවාමහා පායෙහි ගල්ටැම්තැබ්බවූ වූ බවත් දොරටු තුනෙහි ගල්පිළිම 3ක් තැනූබවත් මෙයට අමතර විශේෂ කාර්‍යයන් කරලූ බව දැක්වේ. එසේම මෙම අවදියේ යකැදුරුකම් දන්නා සොළී භික්ෂුවක් පැමිණි බවද මඃ වඃ දක්වා තිබේ. සංඝමිත්‍ර නම්වූ මෙම භික්ෂුව ථූපාරාම වාසී සංඝපාල හිමියන්ගේ දුර්වලතාවයක් බලා රජු දිනා දරුවන්ගේ ඉගෙනීම් කටයුතු බාරගත් බව දැක්වේ.

මෙයින් අනතුරුව මේඝවණ්ණතිස්ස රජතුමාගේ පුත්‍ර වූ ජෙට්ඨතිස්ස තෙමේ රජවිය.[1] මෙම රජතුමා උතුම් වූ මහාථූපයට ඉතා වටිනා මැණිකක් පූජා කළේය. මෙම රජතුමා ලෝවාමහා ප්‍රාසාදය ප්‍රතිසංස්කරණය කරවා එයටද ඉතා වටිනා මැණික් පූජා කොට එයට ද එතැන් පටන් "මණිප්‍රාසාද" යන නාමය ව්‍යවහාර කරවීය. එම දෙටුතිස් රජතුමා ප්‍රාචීනතිස්ස පර්වතයෙහි ආරාමයක් කරවා මහාසංඝයා උදෙසා පූජා කරවීය. අඹලගම වැව ද ඔහු විසින් කරවන ලදී. මෙම රජතුමා අවුරුදු අටක්ම තෙරුවන් වෙනුවෙන් මහාපූජාවන්ද පැවැත්වීය. මොහු දසවසක් රාජ්‍ය මෙහෙයවීය.

දෙටුතිස් රජතුමාට පසුව ඔහුගේ බාල සොහොයුරු මහසෙන් කුමාරයා රජවිය. විසිහත් වසරක්[2] ඔහු විසින් රාජ්‍ය විචාරණ ලදී. මෙකල භික්ෂු ශාසනයෙහි භික්ෂූන් අතර කවර භික්ෂූන් වහන්සේ නමක් ධර්මවාදීන්ද කවරෙක් අධර්මවාදීන් දැයි රජතුමා කල්පනා කළේය. මෙම කරුණ රජු පරීක්ෂාකර බැලීමේදී භික්ෂු ශාසනය දූෂණය කරන්නාවූ අලජ්ජී පාපභික්ෂූන් කොටසක් සිටින බව දිටීය. මෙකල මිත්‍ර-සෝණ හා අනෙක් අලජ්ජී පුද්ගලයෝද යහපත් භික්ෂූන් නොමග යැවීමට රහසිගතව මන්ත්‍රණය කරමින් සිටියහ. දුසිරිතෙන් දුගඳවූ; පිළිකුල් සහගතවූ පාපයෙහි නිරත වූ නොසන්සුන් ගති ඇති කුණු ගොඩවල් හා සමාන වූ ඒ ශ්‍රමණ බවක් නැත්තවුන් රජු දුටුවේය. පාප ක්‍රියාවන්හි නිරතවූ මිත්‍ර හා සෝණ[3] ප්‍රධාන කොට ඇති අනෙකුත් අලජ්ජී

---

1. මෙ රජ ක්‍රි. ව. 266 සිට 276 දක්වා රජව සිටියේය. මොහු පියරජුගේ මරණයට සහබාගි නොවූ ඇමතිවරුන් කීප දෙනෙක් මරා උලහිඳුවූ බවද දෙටුතිස් රජ වූ පසු සංඝමිත්‍ර මහසෙන්ද රැගෙන ඉංදියාවට පලා ගිය බවද මං වං 36 පරි. දැක්වේ.
2. රා.ව. අනුව අවුරුදු 24කි. මොහු ක්‍රි. ව. 276 සිට 304 දක්වා රාජ්‍ය කොට ඇත.
3. මං වං සංඝමිත්තගේ නම සඳහන් වුවත් මෙහි එය දක්නට නැත. එසේම සංඝමිත්‍ර විසින් සෝණ නම් ඇමතියෙකු ලවා මහාවිහාරය විනාශකරවූ බවද සත්මහල් ලෝහ ප්‍රාසාදයද බිඳදැමූ බවද දැක්වේ. අවුරුදු 9ක්ම භික්ෂූන් ගෙන් තොරවූ බවද එහි දක්වා ඇත. මේ ආදී විස්තර රාශියක් මං වං 37 පරි. දක්වා ඇත.

පුද්ගලයන් වෙත පැමිණි රජතුමා ඔවුන්ගෙන් අර්ථයද ධර්මයද විචාළේය.[1]

මෙම අලජ්ජිභික්ෂුහු ෂඩ්වර්ගීය භික්ෂූන් ප්‍රකාශිත නීතිරීතින්හි දක්නට ලැබෙන දුන්නිවත්‍ථාදී කරුණු මෙම අලජ්ජි භික්ෂූන් විසින් පිළිගන්නා ලදැයි පෙන්වූහ. බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද නොයෙක් ධර්ම කොටස් ද අධර්මයම යයි මෙම අලජ් ජි භික්ෂුහු පෙන්නුවෝය. එකල්හි එම ධර්මය ඇසුවාවූ දෙපස සිටි ජාතීහු එක්ව මහා විහාර වාසීන්ට බුදුන් සතු දෙය අකැපයයි දැන්වූහ. මේ ආදී වශයෙන් අසත්පුරුෂයන් ඇසුරුකිරීම නිසා නොයෙක් යහපත් හා අයහපත් දේ කොට මහසෙන් රජු කම්වූ පරිදි මිය පරලොව ගියේය. එහෙයින් අසත්පුරුෂයන් හා එක්වීම විෂ ඇති නයින් ළඟතබා ගන්නා වැනියයි සලකා බුද්ධි වන්තයිනි; ඔවුන් දුරුකොට මෙලෝ පරලෝ වැඩ සිදුකර ගනිත්වා.

දීපවංශය නිමියේ ය.

1. කිපිල නම් ඇමැතිවයෙකු ලවා ධර්ම විනිශ්චයක් කරවූ බව නිකාය සංග්‍රහයෙහි දැක්වේ.

## දීපවංශයේ එන මගධ පූර්වකාලීන මහාසම්මත රාජ නාමාවලිය. වංශය හා රාජධානි.

රජුගේ නම

පුතින්දර > වංශය ක්‍ෂත්‍රිය වංශය වන අතර කුසාවතී හා රජගහ නුවර විසීය
රෝජ
රෝජ
කල්‍යාණ
වරකල්‍යාණ
උපොසථ
මන්ධාතු
චර
උපචර
චේතිය
මුචල
මහාමුචල
මුචලින්ද
සගර — ක්‍ෂත්‍රීය වංශය
සගරදේව — මිථිලා නුවර
භරත
අංගීස
රුචි
මහාරුචි
ප්‍රතාප
මහාප්‍රතාප
පනාද
මහාපනාද
සුදස්සන
මහාසුදස්සන
නේරු
මහානේරු
අච්චිමන්තු

| | | | | |
|---|---|---|---|---|
| අච්චිම | > | වංශය- ක්ෂත්‍රිය | පුරය | - කපිලවස්තු |
| අරින්දම | > | ,, | ,, | - අයෝධ්‍ය |
| දුප්පසහ | > | ,, | ,, | - බරණැස |
| අභිතිත්ත | > | ,, | ,, | - කපිලවස්තු |
| බ්‍රහ්මදත්ත | > | ,, | ,, | - හත්ථිපුර |
| කම්බලවසභ | > | ,, | ,, | - ඒකචකඛු |
| පුරින්දද | > | ,, | ,, | - වජිරා |
| සාධිත | > | ,, | ,, | - මධුරා |
| ධම්ගුප්ත | > | ,, | ,, | - අරිට්ඨ |
| සිට්ටි | > | ,, | ,, | - ඉඳිපත්නුවර |
| බ්‍රහ්මදේව | > | ,, | ,, | - ඒකචක්ඛු |
| බලදත්ත | > | ,, | ,, | - කොසඹෑ |
| හද්ධදේව | > | ,, | ,, | - කර්ණගෝත්‍ර |
| නරදේව | > | ,, | ,, | - රෝජ |
| මහින්ද | > | ,, | ,, | - චම්පා |
| නාගදේව | > | ,, | ,, | - මිථිලා |
| බුද්ධදත්ත | > | ,, | ,, | - රජගහනුවර |
| දීපංකර | > | ,, | ,, | - තක්ෂිලා |
| තාලිස්සර | > | ,, | ,, | - කුසිනාරා |
| සුදින්න | > | ,, | ,, | - තාමුලිප්ති |
| සාගරදේව | > | ,, | ,, | - මිථිලා |
| මඛාදේව | > | ,, | ,, | - බරණැස |
| නේමිය | >,, | ,, | ,, | - එම |
| කාලාරණක | > | ,, | ,, | - එම |
| සමංකර | > | ,, | ,, | - එම |
| අසෝච | > | ,, | ,, | - එම |
| විජය | > | ,, | ,, | - එම |
| විජිතසේන | > | ,, | ,, - | එම |

ධම්සේන
නාගසේන
සමත
දිසම්පති
රේණු
කුස
මහාකුස
නවරථ
දසරථ
රාම
විළාරථ
චිත්තදස්සි
අත්ථ දස්සි
සුජාත
ඔක්කාක
ඔක්කාක මුඛ
නිපුර
චන්දිම
චන්දිමුඛ
සිවිරාජ
සංජය
වෙස්සන්තර
ජනපති
ජාලි
සිහවාහන
සීහස්සර
ජයසේන
සිහහනු
සුද්ධෝදන
ධෝතෝදන
සුක්කෝධන
සක්කෝධන
අමිතෝධන

ක්ෂත්‍රිය වංශය

කපිලවත්පුරය

බෝධිස
බිම්බිසාර
අජාතසත්තු
උදය
කාලාසෝක
නාගදස
සුසුනාග
චන්‍ද්‍රගුප්ත
බිංදුසාර
ධර්මාශෝක

ක්ෂත්‍රිය වංශය

රජපරපුර

ගෞතම බුදුරජාණන් වහන්සේ මෙම ක්ෂත්‍රිය වංශයේ මහාසම්මත රජපරපුරට අයත් කෙනෙකු වශයෙන් මහාවංශයේ දෙවන පරිච්ඡේදයේ දක්ණා ලැබේ. ම: ව: අනුව සීහහනු හා කච්චායනාට උපන් දරුවන් වන සුද්ධෝදන; ධෝතෝදන; සුක්කෝදන; සක්කෝදන; අමිතෝදන; මෙසේ පුත්‍රයන් පස් දෙනෙකුද අමිතා; ප්‍රමිතා; නම් දුවරුන් දෙදෙනකුද සිටි බව දක්වා ඇත. මෙම පරපුරට සිද්ධාර්ථ දේවදත්ත හා යසෝදරා අයත්වන ආකාරයද පෙන්වාදී ඇත.